සකල දේශවාසී කම්කරුවෙනි, එක්වව්!

# වී. අයි. ලෙනින්

# ජාතික ප්‍රතිපත්තිය සහ නිර්ධන පංතික ජාත්‍යන්තරවාදය



ප්‍රගති ප්‍රකාශක මන්දිරය
මොස්කව්
1980

සෝවියට් සංගමයේ මුද්‍රණයකරන ලදී

Л $\frac{10102—254}{016(01)—80}$ 805—80 0101020000



පටුන

# රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ ජාතික වැඩ පිළිවෙළ

මධ්‍යම කාරක සභාවේ සාකච්ඡා වාරය "ඉස්වෙශේනියෙ"හි මුද්‍රණය කරන ලද ජාතික ප්‍රශ්නය පිළිබඳ යෝජනාව[1] සම්මත කළාය. එමෙන්ම එය පක්ෂ සමුළුවේ න්‍යාය පත්‍රයට ජාතික වැඩ පිළිවෙල පිළිබඳ ප්‍රශ්නය ඇතුළු කළාය.

ප්‍රතිවිප්ලවයේ මුළු මහත් ප්‍රතිපත්තිය තුළත්, ධනපති පංතියේ, පංති විඥානය තුළ සහ නිර්ධන පංතික රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය තුළත්, වත්මන් කාලයේදී ජාතික ප්‍රශ්නය පැන නැංගේ කුමක් නිසාද සහ කෙසේද යන්න පිළිබඳව යෝජනාවෙන් ඉතා සවිස්තර ලෙස පෙන්වා දී ඇත. තත්ත්වය ඉතා පැහැදිලි බැවින් මේ ගැන විස්තර කිරීමට අවශ්‍යතාවයක් නැති තරම්ය. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ජාතික වැඩ පිළිවෙලෙහි මේ අවස්ථාව සහ එහි මූලික තත්ත්වයන් පිළිබඳව මාක්ස්වාදී න්‍යායික සාහිත්‍යයෙහි විස්තර කර ඇත (මේ තැනදී ඉතා ප්‍රධාන තැන ගෙන තිබෙන්නේ ස්ටාලින්ගේ ලිපියය [2]). එබැවින්, හුදු පාක්ෂික ස්ථාවරයකින් මේ ප්‍රශ්නය ඉදිරිපත් කිරීමක් සහ දැනටමත් ස්තලිපින්-මක්ලාකව්ගේ මර්දනය විසින් පාගාදමා ඇති පුවත්පත් මගින් කළ නොහැකි විස්තර කිරීමකට අපි සීමා වන්නෙමු නම් එය උචිත යැයි අපි කල්පනා කරමු.

රුසියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය හැඩ ගැසෙමින් පවතින්නේ විශේෂයෙන්ම ජ්‍යෙෂ්ඨ රටවල්වල එනම්, යුරෝපයේ අත්දැකීම් මත සහ එම අත්දැකීමේ න්‍යායික ප්‍රකාශනය මතය. එනම් මාක්ස්වාදය මතය. අප රටේ විශේෂ ලක්ෂණ සහ අප රටේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය ස්ථාපිත කිරීමේ ඓතිහාසික වකවානුවේ විශේෂ ලක්ෂණ මෙසේය: ප්‍රථමයෙන්ම, යුරෝපයට වඩා වෙනස් ලෙස, අප රටේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය ධනපති විප්ලවයට පෙර හැඩ ගැසීම සහ එම විප්ලවය සිදුවෙමින් පවතින කාල

තුළදී එය දිගටම හැඩ ගැසීමය. දෙවනුව, පොදු ධනපති සහ සුළු ධනපති ප්‍රජාතන්ත්‍රවාදයෙන් නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදය වෙන්කර ලීමේ අනිවාර්ය අරගලය — සියලු රටවල් විසින් අත්දකිනලද අරගලවලට මේ අරගලය මූලික වශයෙන් සමානය — බටහිර සහ අප රට තුළ මාක්ස්වාදය න්‍යායික වශයෙන් පූර්ණ ජයග්‍රහණයක් ලබා ඇති තත්ත්වයකදී කරගෙනයාම. එබැවින් මේ අරගලයේ ආකාරය මාක්ස්වාදය සඳහා කරන අරගලයකට වඩා, "මාක්ස්වාදයට ආසන්න" පාඨවලින් වසා තිබෙන සුළු ධනවාදී න්‍යායයන්ට විරුද්ධව කරන අරගලයක් වන්නේය.

"ආර්ථිකවාදයෙන්"[3] (1895-1901) සහ "නීත්‍යානුකූල මාක්ස්වාදයෙන්"[4] (1895-1901, 1902) පටන්ගන්නා එහි තත්ත්වය එසේය. මෙම ප්‍රවණතාවයන් සහ මෙන්ෂෙවික්වාදය[5] (1903-1907) සහ ලික්විඩේටර් වාදයත්[6] (1908-1913) අතර ඇති ඉතා කිට්ටු සම්බන්ධතාවය සහ සබැඳියාව අමතක කළ හැක්කේ ඓතිහාසික සත්‍යයෙන් බියවී ගුළි ගැසෙන අයට පමණකි.

1901-1903 කාලයේදී රු. ස. ප්‍ර. ක.* පක්ෂයට සම්පූර්ණ වැඩ පිළිවෙලක් ඉදිරිපත් කළ, එමෙන්ම රුසියන් කම්කරු පංතික ව්‍යාපාරයට ප්‍රථම වැඩ පිළිවෙල සහ මාක්ස්වාදී න්‍යායික හා ව්‍යවහාරික මූලික පදනමක් දැමූ පැරණි "ඉස්ක්‍රාව"ට [7] ජාතික ප්‍රශ්නයේදී, අනිත් ප්‍රශ්න වලදී මෙන්ම මෙම ප්‍රශ්නයේදී ද සුළු ධනවාදී අවස්ථාවාදයට විරුද්ධව සටන් කරන්නට සිදු විය. ප්‍රථමයෙන් සහ ප්‍රධාන වශයෙන් බුන්ඩ්[8] සංවිධානයේ ජාතික ප්‍රවණතාවලදී සහ අස්ථිර ලෙස වැනීමේදී මෙය ප්‍රකාශ විය. පැරණි ඉස්ක්‍රාව බුන්ඩ් සංවිධානයේ ජාතිවාදයට විරුද්ධව ඉතා දැඩි අරගලයක් ගෙනගියේය. මෙම සටන අමතක කිරීම, නැවතත්, සියල්ල අමතක කරන ඉවාන් කෙනෙකු බවට පත්වීමක් වැන්න. එමෙන්ම එය රුසියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු ව්‍යාපාරයේ ඓතිහාසික සහ දෘෂ්ටිමය පදනමින් සම්පූර්ණයෙන්ම වෙන්වීමකි.

අනිත් අතින්, 1903 අගෝස්තු මස රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුව විසින් අවසානයේදී පක්ෂයේ වැඩ පිළිවෙල සම්මත කැරුගත් විට, සමුළු වාර්තාවේ ලියැවී නැති අරගලයක් පැවතිණ. මන්දයත්, මුළු මහත් පක්ෂ සමුළුව විසින්ම සහභාගිවන ලද වැඩපිළිවෙළ පිළිබඳ කමිසුම තුළ එම අරගලය හටගත් බැවිනි. පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් කීපදෙනෙකු විසින් "ජාතීන්ගේ ස්වයං නිර්ණයනය" පිළිබඳව අයිතිය ගැන සැක කිරීමට, එනම් සම්පූර්ණයෙන්ම වෙනත් කෝණයකින්

---

* රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂය. — අනුවාදක



අවස්ථාවාදය සහ ජාතිවාදය වෙත අපගමනය වීමට දරන ලද අදක්ෂ ප්‍රයත්නයන්ට විරුද්ධව අරගලයක් ගෙනයන ලදී.

අද, ඊට වසර දහයකට ඉක්බිතිව, අරගලය එම මූලික මාර්ග දෙක ඔස්සේ කෙරීගෙන යයි. මේ අරගලය සහ රුසියාවේ ජාතික ප්‍රශ්නයට බලපාන සියලු වාස්තවික තත්ත්වයන් අතර ගැඹුරු සම්බන්ධකමක් තිබෙන බව, එය සමාන ලෙස පෙන්වාදෙයි.

ඕස්ත්‍රියාවේ බ්‍රියුන් සමුළුවේදී (1899) "සංස්කෘතික ජාතික ස්වෛරීත්වයේ"[9] (ක්‍රිස්ටන් සහ එලෙන් බොගෙන් සහ අනිත් අය විසින් ආරක්ෂා කරන ලද සහ දකුණුදිග ස්ලාව් ජාතිකයින්ගේ කෙටුම්පත් වැඩ පිළිවෙළින් ප්‍රකාශිත) වැඩ හිළිවෙළ ප්‍රතික්ෂේප කරන ලදී. භෞමික ජාතික ස්වෛරීත්වය පිළිගැනිණි. එමෙන්ම සියලු ජාතික ප්‍රදේශවල අනිවාර්ය සංගමය සඳහා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය ගෙනගිය ප්‍රචාරය, "ජාතික-සංස්කෘතික ස්වෛරීත්වයේ" සංකල්පය සමග සම්මුතියක් ඇතිවීම පමණක් විය. මෙම අවාසනාවත් සංකල්පයේ ප්‍රධාන න්‍යායාචාර්යවරු එය යුදෙව් ජාතියට ව්‍යවහාරික ලෙස යෙදවිය නොහැකිබව විශේෂයෙන්ම අවධාරනය කරති.

රුසියාවේ — හැමදම මෙන්ම — කුඩා අවස්ථාවාදී සාවද්‍යතාවයක් විශාල කිරීම සහ එය අවස්ථාවාදී ප්‍රතිපත්ති මූලක ක්‍රමයක් දක්වා වර්ධනය කිරීම තම කාර්යය බවට හරවාගත් මිනිසුන් ඇත. ජර්මනියේ බර්න්ස්ටයින්, රුසියාවේ දක්ෂිණාංශික කැඩෙට්වරුන්[10] — ස්ත්‍රුවේ, බුල්ගාකව් සහ තුගාන් කල්ලිය විසින් බිහිකළාක් මෙන්ම ඔටෝ බවර්ගේ, ජාත්‍යන්තරවාදය අමතකවීම (අධි ප්‍රවේසම්කාරී කෞට්ස්කි එපරිද්දෙන් එය හඳුන්වයි!) මගින්, රුසියාවේ සියලු ධනවාදී යුදෙව් පක්ෂ සහ සුළු ධනවාදී ප්‍රවණතා විශාල සංඛ්‍යාවක් (1907 දී බුන්ඩ් සහ එස්ඒර්[11] පක්ෂවල සාකච්ඡා සභාව) රුසියාවේ "සංස්කෘතික ජාතික ස්වෛරීත්වය" සම්පූර්ණයෙන් පිළිගැනීමක්, බිහිකරන ලදී. කෙනෙකුට කිව හැකි පරිදි, බටහිර යුරෝපයේ අවස්ථාවාදය නැමැති ක්ෂුද්‍ර ප්‍රාණීන් නොදියුණු රුසියාවේ අපේ මිලේච්ඡ භූමියේ එහෙම පිටින්ම වසංගත රෝග බෝ කරන බව නිදසුනක් වශයෙන් පෙන්විය හැකිය.

යුරෝපයේ බර්න්ෂ්ටයින්ව "ඉවසති" යි කීමට අපේ රටේ මිනිස්සු කැමැත්තක් දක්වති. එහෙත් "පරිශුද්ධ" මාතෘ රුසියාවේ හැරුණු විට, අන් කිසිම රටක බර්න්ෂ්ටයින්වාදය[12] විසින් ස්ත්‍රුවේවාදය ජනිතකර නැති බවත්, නැතිනම් යුදෙව් ධනපති පංතියේ ශෝධිත ජාතිවාදය සමාජ ප්‍රජාතන්ත්‍රවාදීන් විසින් සාධාරණකරණයට භාජනය කිරීමට "බවර්වාදය" තුඩුදී නැති බවත් එයට එකතු කිරීමට ඔවුහු අමතක කරති.

"සංස්කෘතික-ජාතික ස්වෛරීත්වය" ඉතා පැහැදිලි ලෙසම අති

ශෝධිත සහ එම හේතුව නිසාම අති දරුණු ජාතිවාදයක් අඟවයි, එය ජාතික සංස්කෘතිය නැමැති උද්යෝග පාඨයේ මාධ්‍යයෙන් සහ ජාතිය අනුව වෙන්වූ පාසල් ඇති කිරීමේ අති හානිදයක සහ ප්‍රජාතන්ත්‍ර විරෝධී ප්‍රචාරයද මගින් කම්කරුවන් දූෂණය කිරීමක් අඟවයි. කෙටියෙන් කියතොත් මේ වැඩ පිළිවෙල නිසැක ලෙසම නිර්ධන පංතික ජාත්‍යන්තරවාදයට පරස්පර විරෝධයක් දක්වයි. එය ජාතිවාදී සුළු ධනපති පංතියේ පරමාදර්ශවලට පමණක් ගැළපෙයි. එහෙත්, ප්‍රජාතන්ත්‍රවාදය සහ නිර්ධන පංතිය පාවා දීමට මාක්ස්වාදීන්ට වුවමනා නැතිනම්, ජාතික ප්‍රශ්නයේදී එක් විශේෂ ඉල්ලීමක් සඳහා සටන් කිරීම තම යුතු කම හැටියට ඉදිරිපත් වන එක් අවස්ථාවක් ඔවුන්ට ඇත. එය නම්, ස්වයං නිර්ණයනය සඳහා ජාතීන්ට ඇති අයිතිය (රු. ස. ප්‍ර. ක. පක්ෂයේ වැඩ පිළිවෙලෙහි නව වැනි ඡේදය) එනම්, දේශපාලනමය ලෙස ඉවත්වීමේ අයිතිය ය. සාකච්ඡාවාරය විසින් සම්මත කරන ලද යෝජනාව කෙතරම් සවිස්තරාත්මකව මේ ඉල්ලීම පැහැදිලි කොට, අභිප්‍රේරණය කරන්නේදයත්, වැරදි වැටහීමක් ඇති කැරැ ගැනීමට කොහෙත්ම ඉඩක් නැත.

එබැවින් අපි වැඩ පිළිවෙලේ මේ කොටසට විරුද්ධව, ඉදිරිපත් කර ඇති පුදුම එළවන සුලු මුග්ධ සහ අවස්ථාවාදී විරුද්ධත්වයන් පිළිබඳව කෙටි විස්තරයක් පමණක් ඉදිරිපත් කරමු. වැඩ පිළිවෙළ ඉදිරිපත් කොට අවුරුදු දහයක් තුළදී, රු. ස. ප්‍ර. ක. පක්ෂයේ එක් ශාඛාවක්වත්, එකද ජාතික සංවිධානයක්වත්, එකද ප්‍රාදේශීය සාකච්ඡා සභාවක්වත්, එකද ප්‍රාදේශීය කමිටුවක්වත්, සමුළුවකට හෝ සාකච්ඡාවකට හෝ සහභාගිවුණු එකද නියෝජිතයෙක්වත් නව වැනි ඡේදය වෙනස් කරලීමේ හෝ අහෝසි කැරැලීමේ හෝ ප්‍රශ්නය මතු කිරීමට උත්සාහයක් නොගත් බව මේ සම්බන්ධයෙන් අපි මතක් කරමු.

එය මතක තබා ගැනීම අවශ්‍යය. මේ ප්‍රශ්නය අරභයා විරුද්ධත්වය ප්‍රකාශ කිරීමේදී ඉතා සුළු ප්‍රමාණයක බැරෑරුම් කමක් හෝ පාක්ෂික ආස්වාදයක් හෝ, තිබේද යන්න අපට එකවර එය පෙන්වා දෙයි.

ලික්විඩේටර්වරුන්ගේ පුවත්පතේ සෙම්කොව්ස්කි මහත්මයා ගෙන බලමු. පක්ෂයක් විසුරුවා හැරිය මිනිහකු සේ ලෙහෙසියෙන් ඔහු මෙසේ ප්‍රකාශ කරයි: ''වැඩ පිළිවෙලේ නව වැනි ඡේදය ඉවත්කරලීම සඳහා රෝසා ලුක්සම්බර්ග් ඉදිරිපත් කළ යෝජනාවට සමහර හේතූන් නිසා අපි එකඟ නොවමු (නෝවය රබෝචය ගසේත, අංක 71).[13]

එසේනම් මේ සමහර හේතූන් වූකලී රහසකි! එහෙත් අපේ වැඩ පිළිවෙලෙහි ඉතිහාසය නො දන සිටීම නැමති මුග්ධභාවය ඉදිරියේ රහස්‍යතාවය ඉවත්කර ලන්නේ කෙසේද? නැතිනම් අසමාන්‍ය ලෙස සැහැල්ලු ගතියකින් (පක්ෂයේ සහ වැඩ පිළිවෙලේ ඇති තේරුම කුමක්ද!)



ඒ සෙම්කොව්ස්කි මහත්මයාම පින්ලන්තයට විශේෂයක් කරන විට රහස්‍යතාවය ඉවත්කරන්නේ කෙසේද?

''අප කුමක් කරන්ටද... පෝලන්තයේ නිර්ධන පංතියට රුසියාවේ මුළු මහත් නිර්ධන පංතිය සමග එකතුව, එකම රාජ්‍යයක රාමුවක් තුළ ඒකාබද්ධ අරගලයක් ගෙනයාමට වුවමනා නම්, එයට විරුද්ධව, පෝලන්ත සමාජයේ ප්‍රතිගාමී පංති රුසියාවෙන් පෝලන්තය වෙන්කර ගැනීමට යන්නේ නම්, ඒ සඳහා ජනමත විමසුමක් මගින් වෙන්වීමට පක්ෂව බහුතර ඡන්දයක් ලබාගැනීමට යන්නේ නම්, රුසියන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වන අප පෝලන්ත සහෝදරවරුන් සමග එකතුව මධ්‍යම පාර්ලිමේන්තුවේදී එම වෙන්වීමට විරුද්ධව ඡන්දය දෙනවාද නැතිනම් ''ස්වයං නිර්ණයනයේ අයිතිය'' උල්ලංඝණය නොකිරීම පිණිස වෙන්වීමට පක්ෂව ඡන්දය දෙනවාද?

මෙතරම් බොළඳ සහ මෙතරම් පැටළිලි සහගත ප්‍රශ්න ඉදිරිපත් කරන විට ඇත්ත වශයෙන්ම කුමක් කරන්ටද?

මා හිතවත් ලික්විඩේටර් මහත්මයා, ස්වයං නිර්ණයනයේ අයිතියම, මධ්‍යම පාර්ලිමේන්තුවකින් ප්‍රශ්නය විසඳාලීමක් කොහෙත්ම නොඅඟවයි. එහෙත් එය තීරණය කරන්නේ වෙන්වයන අල්පතරයේ පාර්ලිමේන්තුවක්, රාජ්‍ය මන්ත්‍රණ සභාවක් හෝ ජනමත විමැසුමක් මගිනි. නෝර්වේය ස්වීඩනයෙන් වෙන්වූ විට (1905 දී) එය තීරණය කළේ නෝර්වේය විසින් පමණකි (නෝර්වේය, ස්වීඩනයට වඩා දෙගුණයක් කුඩාය).

සෙම්කොව්ස්කි මහත්මයා කාරණය සෑහෙන්නට පටලවා ගෙන තිබෙන බව ළමයකුට වුවද පෙණේ.

''ස්වයං නිර්ණයනය පිළිබඳ ජාතීන් සතු අයිතිය'' පොදුවේ ප්‍රජාතන්ත්‍රික ආකාරයක් පමණක් නොව, විශේෂයෙන්ම වෙන්වීම පිළිබඳ ප්‍රශ්නයේදී ප්‍රජාතන්ත්‍රික නොවන පිළියමක් ඉදිරිපත් නොකරන ප්‍රජාතන්ත්‍රවාදී ක්‍රමයක් අදහස් කරයි. පොදුවේ කතාකරන විට, ප්‍රජාතන්ත්‍රවාදය කලහකාරී සහ ප්‍රජාපීඩක ජාතිවාදය සමග එකට ගැළපෙයි. රාජ්‍යයක සීමාවක් තුළ කිසිදු ජාතියක් බලාත්කාරයෙන් තබා ගැනීම අවලංගු කරන ප්‍රජාතන්ත්‍රවාදයක් නිර්ධන පංතිය ඉල්ලා සිටී. ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය උල්ලංඝණය නොකරනු වස්, එමනිසා කපටි සෙම්කොව්ස්කි මහත්මයා අදහස් කරන පරිදි, ''වෙන්වී යාමට'' පක්ෂව ඡන්දය පාවිච්චි කිරීම නොව වෙන්වීයන ප්‍රදේශය විසින් ඒ ප්‍රශ්නය පිළිබඳව තීරණයක් ගැනීමට ඇති අයිතියට පක්ෂව ඡන්දය දීම අපේ යුතුකම වන්නේය.

''දික්කසාදවීමේ අයිතිය'' සඳහා කෙනෙකු දික්කසාදවීමට පක්ෂව ඡන්දය දීමක් අවශ්‍ය නොවන බව, සෙම්කොව්ස්කි මහත්මයාගේ බුද්ධිමය

දක්ෂතාවයන් අනුව වුවද, වටහා ගැනීමට අමාරු නොවිය යුතුය! නවවැනි ඡේදය විවේචනය කරන පුද්ගලයින්ගේ දෛවය එසේය. ඔවුහු තර්ක ශාස්ත්‍රයේ මූලික පාඩම් අමතක කරති.

නෝර්වේය ස්වීඩනයෙන් වෙන්වී යාමේදී ස්වීඩන් නිර්ධන පංතිය, සිය ජාතිවාදී සුළු ධනපති පංතිය පසුපස යාමට සූදානම්ව නොසිටියේ නම්, ස්වීඩනයේ පූජක පෙළැන්තියට සහ ඉඩම් හිමි පංතියට අවශ්‍ය වූ පරිදි, නෝර්වේය බලාත්කාරයෙන් ඈඳාගැනීමට විරුද්ධව ඡන්දය පාවිච්චි කොට, උද්ඝෝෂණය කළ යුතු විය. මෙය පැහැදිලිය, එමෙන්ම වටහා ගැනීමට අමාරු කරුණක් නොවේ. පාලනය කරන පීඩක ජාතීන්ගේ නිර්ධන පංතියෙන් ස්වයං නිර්ණයනයේ අයිතිය නැමති මූලධර්මය ඉල්ලා සිටින ආකාරයේ උද්ඝෝෂණයකින් වැළකී සිටීමට ස්වීඩනයේ ජාතික ප්‍රජාතන්ත්‍රවාදීන්ට පුළුවන් විය යුතය.

ප්‍රතිගාමීන් බහුතර කොටසක් සිටිත් නම් අප කුමක් කළ යුතුදැයි සෙම්කොව්ස්කි මහතා ප්‍රශ්න කරයි. මෙය විදූහලක තෙවැනි පංතියේ සිසුවකුගේ ප්‍රශ්නයකි. ප්‍රජාතන්ත්‍රවාදී ඡන්දයක් විසින් ප්‍රතිගාමීන්ට බහුතරයක් ලබා දෙන්නේ නම්, රුසියන් ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථාවට කුමක් කරමුද? දැනට අප ඉදිරියේ ඇති කාර්යයන්ට කොහෙත්ම අදාළ නොවන තේරුම් විරහිත පුහු ප්‍රශ්න සෙම්කොව්ස්කි මහතා ඉදිරිපත් කරයි. බුද්ධිමතුන් හත්තෑ දෙනෙකුට පිළිතුරු නොදිය හැකි ප්‍රශ්න මෝඩයින් හත්දෙනෙකුට ඇසිය හැකිය යන කතාවට මේ ප්‍රශ්න සමාන වෙයි.

ප්‍රජාතන්ත්‍රික ඡන්දයකදී, ප්‍රතිගාමීන් බහුතරයක් සිටින විට, කරුණු දෙකකින් එකක් සිදුවිය හැකි අතර සාමාන්‍යයෙන් එලෙස සිදුවෙයි: එක්කෝ ප්‍රතිගාමීන්ගේ තීරණය ක්‍රියාවට යෙදවීම සහ එහි හානිදයක විපාකයන් විසින් ජනතාව ප්‍රතිගාමීන්ට විරුද්ධව ප්‍රජාතන්ත්‍රවාදයේ පැත්තට අඩුවැඩි වශයෙන් වේගයෙන් යැවෙයි; නැතිනම්, ප්‍රජාතන්ත්‍රවාදය සහ ප්‍රතිගාමීත්වය අතර සට්ටනය රටවැසි යුද්ධයක් හෝ වෙනත් යුද්ධයක් මගින් හෝ තීරණය වෙයි. මෙය ප්‍රජාතන්ත්‍රවාදය යටතේදීද සිදුවිය හැකිය (සෙම්කොව්ස්කිලා පවා මෙය අසා නැතිවාට සැක නැත).

සෙම්කොව්ස්කි මහතා අපට තිරකොට කියන පරිදි, ස්වයං නිර්ණයනයේ අයිතිය පිළිගැනීම වූකලී ධනපති ජාතිවාදයේ අරටුවලට ආධාර දීමකි. මෙය ළාමක නන් දෙඩවීමකි. මන්දයත්, අයිතිය පිළිගැනීම නිසා, වෙන්වීයාමට විරුද්ධව ප්‍රචාරය සහ උද්ඝෝෂණය කිරීමද, නැතිනම් ධනපති ජාතිවාදය හෙළි දරවු කිරීමද අවළංගු නොවන බැවිනි. එහෙත් වෙන්වීයාමට ඇති අයිතිය ප්‍රතික්ෂේප කිරීමෙන්, මහා රුසියානු ජාතිවාදයේ අන්ත ප්‍රතිගාමී අරටුවලට ඍජු ලෙසම "ආධාර දෙන" බව නිරපේක්ෂ ලෙස විවාද රහිතය!



මීට බොහෝ කලකට පෙර ජර්මන් හා රුසියන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් (1903) සිනහවට භාජනය කරනලද, රෝසා ලුක්සම්බුර්ග්ගේ හාස්‍ය ජනක වරදෙහි හරය එසේය: පැගෙන ජාතීන්ගේ ධනවාදී ජාතිවාදයට ආධාර දීමට බියවන මිනිස්සු ධනපතීන්ට පමණක් නොව, පාගන ජාතීන්ගේ ප්‍රතිගාමී කළු ශතකයේ[14] ජාතිවාදයටද ආධාර දෙති.

පක්ෂයේ ඉතිහාසය සහ පක්ෂයේ වැඩ පිළිවෙල ගැන සෙම්කොව්ස්කි මහතා මෙතරම් පිරිසුදු ලෙස නිර්දෝෂී නොවෙති නම්, ප්ලෙහානොව් නිෂ්ප්‍රභ කිරීම ඔහුගේ යුතු කම බව ඔහු විසින් වටහාගත යුතුව තිබිණි. මීට වසර එකොළහකට පෙර රු. ස. ප්‍ර. ක. පක්ෂයේ කෙටුම්පත් වැඩ පිළිවෙලට පක්ෂව (1903 දී මෙය පක්ෂයේ වැඩ පිළිවෙල බවට පත් විය) සර්යා[15] පත්‍රයට ලිපියක් ලියූ ප්ලෙහානව් ස්වයං නිර්ණයනයේ අයිතිය පිළිගැනීම පිළිබඳව විශේෂ කරුණක් (38 පිටුව) ඉදිරිපත් කරමින්, ඒ ගැන මෙසේ විස්තර කළේය:

"න්‍යායික ලෙස පවා ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන්ට අනිවාර්ය නොවන මෙම ඉල්ලීම, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වන අපට අනිවාර්ය වන්නේය. අප මේ ගැන අමතක කරන්නේ නම්, නැතිනම් මහා රුසියානු ප්‍රභවයට අයත් අපේ සහෝදර රට වැසියන්ගේ අගතිගාමීත්වයට හානි වෙතියි යන බියෙන්, අප එය ඉදිරිපත් නොකරන්නේ නම්, ජගත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ කාහල නාදය වන, "සකල දේශවාසී නිර්ධනයිනි එක්වව්" යන පාඨය අපේ මුවින් පිටවන ලජ්ජා සහගත අසත්‍යයක් වනු ඇත!"

සාකච්ඡාවේ යෝජනාව විසින් සවිස්තරාත්මක ලෙස වර්ධනය කරන ලද මේ මූලික තර්කය ඈත කාලයකදී ප්ලෙහානව්ගේ "සර්යා" සඟරාව මගින් ඉදිරිපත් කැරිණි. සෙම්කොව්ස්කිලා වසර එකොළහක් තිස්සේ මේ තර්කය ගැන සිය සැලකිල්ල යොමු කිරීමට වෑයම් නොකළහ. රුසියාවේ මහා රුසියානුන්ගේ සංඛ්‍යාව සියයට 43 කි. එහෙත් මහා රුසියානු ජාතිවාදය සියයට 57 ක්වූ අනික් මිනිසුන් පාලනය කරමින් අනිකුත් සියලු ජාතීන් පාගා දමයි. ජාතික ලිබරල් වාදීහු (ස්ත්‍රුවේ සහ සමාගම, ප්‍රගතිවාදීන්[16] ආදීහු) අපේ ජාතික ප්‍රතිගාමීන් සමග දැනටමත් එක්වී සිටිති. ජාතික ප්‍රජාතන්ත්‍රවාදයේ "කෝඩුකාර වැහිලිහිණියෝ" දැනටමත් පෙනී සිටිති (මුෂිකයාගේ ජාතික අගතිගාමී හැඟීම් කෙරෙහි ප්‍රවේසම්කාරී ආකල්පයක් දක්වන ලෙස 1906 අගෝස්තු මාසයේදී පෙෂෙහෝනව් මහතා කළ ආයාචනය මතක් කරන්න).

රුසියාවේ ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය අවසන් බව සිතන්නේ ලික්විඩේටර් වරුන් පමණකි. ලෝකයේ හැමතැනම එවැනි විප්ලවයකට සහභාගී වූයේත්, වනුයේත් ජාතික ව්‍යාපාරයන්ය. රුසියාවේ දේශ සීමා අසල විශේෂයෙන් පෑගීමට හසුවූ ජාතීහු සිටිත්. එහෙත් මොවුහු අසල්

වැසි රටවල වඩාත් වැඩි නිදහසක් භුක්ති විඳිති. සාර්වාදය අසල්වැසි රාජ්‍යයන්ට වඩා ප්‍රතිගාමීය. එය නිදහස් ආර්ථික වර්ධනයට අති විශාල බාධාවකි. එය හැම අතින්ම මහා රුසියානු ජාතිවාදය ඇවිලවීමට ක්‍රියා කරයි. සියලු තත්ත්වයන් සමානවන විට සත්තකින්ම මාක්ස්වාදියෙක් කුඩා රාජ්‍යයන්ට වඩා විශාල රාජ්‍යයන්ට කැමැත්තක් දක්වයි. සියලු යුරෝපීය රටවල සහ ආසියාවේ බහුතර රටවල තත්ත්වයන් සාර්වාදී රාජාණ්ඩුවේ තත්ත්වයන්ට සමාන යැයි සිතීම හාස්‍යජනක මෙන්ම ප්‍රතිගාමීය.

එබැවින්, වත්මන් රුසියාවේ ජාතීන්ට ස්වයං නිර්ණයනයේ අයිතිය ප්‍රතික්ෂේප කිරීම, සැක රහිතවම අවස්ථාවාදයක් සහ තවමත් සර්ව බලධාරී වන ප්‍රතිගාමී මහා රුසියානු ජාතිවාදයට විරුද්ධව සටන් කිරීමට ප්‍රතික්ෂේප කිරීමක්ද වන්නේය.

''සොත්සියාල්-ඩෙමොක්‍රාත්'', අංක 32. 1913 දෙසැම්බර් 15 (28) දු

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, 24 වෙළුම, පිටු 223-229

# ජාතික ප්‍රශ්නය පිළිබඳ විවේචනාත්මක සටහන්[17]

රුසියන් සමාජමය ජීවිතයේ ප්‍රශ්න අතර ජාතික ප්‍රශ්නය ප්‍රධාන තැනක් ගෙන තිබෙන බව පැහැදිලිය. ප්‍රතිගාමීන්ගේ ආක්‍රමණකාරී ජාතිවාදයද, ප්‍රතිවිප්ලවවාදී ධනපති ලිබරල්වාදයද, ජාතිකවාදය දක්වා පරිවර්තනයවීමද (විශේෂයෙන් මහා රුසියානුන්ද, අනතුරුව පෝලන්ත, යුදෙව් සහ උක්රයීන ආදි), අවසාන වශයෙන්, පක්ෂයේ ව්‍යවස්ථාව උල්ලංඝනය කිරීමට තරම් ඇත ගිය විවිධ ''ජාතික'' (එනම් මහා රුසියානුන් නොවන) සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතර ජාතිකවාදී අස්ථිරගති වැඩිවීමද යන මේ සියල්ල විසින් ජාතික ප්‍රශ්නය ගැන පෙරට වඩා වැඩි සැලකිල්ලක් අප දක්විය යුතු බව ඉල්ලා සිටී.

මෙම ලිපියට විශේෂ අරමුණක් ඇත, එනම් ජාතික ප්‍රශ්නය පිළිබඳව මාක්ස්වාදීන්ගේ සහ මාක්ස්වාදීන් වැනි අයගේ ක්‍රියා පිළිවෙළෙහි ඇති අස්ථිර වැනෙන සුලු භාවය පොදු සම්බන්ධකම් අනුව පිරික්සුමට භාජන කිරීමය. ''සේවෙර්නය ප්‍රාව්දා''[18] අංක 29 කලාපය (1913 සැප්තැම්බර් 5. 'ජාතික ප්‍රශ්නය පිළිබඳව ලිබරල්වරු සහ ප්‍රජාතන්ත්‍රවාදියෝ') මගින් ජාතික ප්‍රශ්නය පිළිබඳව ලිබරල්වරුන්ගේ අවස්ථාවාදය ගැන කතා කිරීමට මට අවස්ථාවක් ලැබිණි. අවස්ථාවාදී යුදෙව් පුවත්පතක් වන සෙයිට්[19] එෆ්. ලිබ්මන් මහතාගේ ලිපියක් මගින් මගේ ලිපියට පහර ගැසීය. අනිත් පැත්තෙන් ජාතික ප්‍රශ්නය ගැන රුසියන් මාක්ස්වාදීන්ගේ වැඩ පිළිවෙල උක්රේනියානු අවස්ථාවාදියකු වන ලෙව් යුර්කේවිච් විසින් (''ද්ස්වින්''[20], 1913. 7-8 කලාප) විවේචනය කරන ලදී. මේ ලේඛකයන් දෙදෙනා කෙතරම් ප්‍රශ්න ගැන කතා කළේදයත්, ඔවුනට පිළිතුරු දීම සඳහා එම විෂයේ ඇති විවිධ පැති ඇලලීමට සිදු වී ඇත. ''සේවෙර්නය ප්‍රාව්දා''හි ලිපිය යළිත් මුද්‍රණය කරමින් ආරම්භ කිරීම ඉතාම පහසු ක්‍රමය ලෙස මම සිතමි.

## 1. භාෂා ප්‍රශ්නය ගැන ලිබරල්වරු සහ ප්‍රජාතන්ත්‍රවාදියෝ

පුවත්පත් විසින් කීපවරක්ම කොකේසියාවේ ආණ්ඩුකාරයාගේ වාර්තාව ගැන සඳහන් කර ඇත. මේ වාර්තාව කැපී පෙනෙන්නේ එහි ඇති කළු ශතක ආස්වාදය නිසා නොව, බියසුලු "ලිබරල්වාදය" නිසාය. අනිකුත් දේ අතර රුසියානු නොවන ජාතීන් කෘත්‍රිම ලෙස රුසියානු කරණයට භාජනය කිරීමට ආණ්ඩුකාරයා විරුද්ධ වෙයි. කොකේසියාවේ රුසියන් නොවන ජාතීන්ගේ නියෝජිතවරු තම ළමයින්ට රුසියන් බස උගැන්වීමට තමන්ම උත්සාහ ගනිති; මෙයට නිදසුනක් නම්, රුසියන් බස උගැන්වීම අනිවාර්ය නොවන ආර්මේනියානු පල්ලියට අයත් පාසල්ය.

රුසියාවේ ඉතා පුළුල් ලෙස පැතිර තිබෙන පුවත්පතක් වන "රුස්කය ස්ලෝවො"[21] (අංක 198) මේ කරුණ ගැන පෙන්වා දෙන අතර රුසියාවේ රුසියන් බසට විරුද්ධව සතුරු ආකල්ප ඇතිවන්නේ, එය කෘත්‍රිම ලෙස (බලහත් කාරයෙනැයි කිව යුතුව තිබිණි) අධිරෝපණය කිරීමේ "විශේෂ හේතුව" නිසාය යන නිවැරදි නිගමනය කරයි.

රුසියන් භාෂාවේ දෛවය ගැන කලබල වීමට හේතුවක් නොමැත. එය රුසියාව තුළ පිළිගැනීමක් ලබාගනු ඇතැයි පුවත්පත ලියයි. මෙය සම්පූර්ණ සත්‍යයකි. මන්දයත්, එක් රජයක් තුළ ජීවත්වන ජාතීන්ට (ඔවුන් එකට එක්වී ජීවත් වීමට කැමති වන තාක්කල්) ආර්ථික හුවමාරුවේ අවශ්‍යතාවයන් විසින් බහුතරයේ භාෂාව ඉගෙන ගැනීමට බලකරන බැවිනි. රුසියාවේ දේශපාලන ක්‍රමය ප්‍රජාතන්ත්‍රික වන තරමට, ධනපති ක්‍රමය වඩාත් බලගතු ලෙසත්, ක්ෂණික සහ විස්තීර්ණ ලෙසත් වර්ධනය වෙයි, එවිට ආර්ථික හුවමාරුවේ අවශ්‍යතාවයන් විසින්, පොදු වාණිජ සබඳතාවයන් සඳහා ඉතා පහසු භාෂාව ඉගෙන ගැනීමට විවිධ ජාතීන්ට බල කෙරෙනු ඇත.

ලිබරල් පුවත්පත කෙසේ හෝ තම කම්මුලට පහරක් ගසා ගැනීමට ඉක්මන් වෙමින් සිය ලිබරල්වාදී චපල ගති විදහා පෙන්වයි.

එය මෙසේ ලියයි: "රුසියාව වැනි විශාල රටක එක් නිල භාෂාවක් තිබිය යුතු අතර, එලෙස විය හැක්කේ රුසියන් භාෂාවට පමණක් බව නොපිළිගන්නා අය රුසියානුකරණයට විරුද්ධ වූවත් අතර වුවද සිටිති යැයි සිතීම පවා උගහටය."

තර්කය කණපිට පෙරළී ඇත! කුඩා ස්විට්සර්ලන්තය එක් නිල භාෂාවක් නොව ජර්මන්, ප්‍රංශ සහ ඉතාලි යන භාෂා තුනක්ම තබාගනිමින් කිසිවක් නැති නොකර ගත් අතර වාසිද ලබාගෙන ඇත. ස්විට්සර්ලන්තයේ ජනගහණයෙන් සියයට 70 ක් ජර්මනුන්ය, (රුසියාවේ සියයට 43 මහා රුසියානුන්ය) සියයට 22 ක් ප්‍රංශ ජාතිකයින්ය, (රුසියාවේ සියයට



17 ක් උක්රේනියානුන්ය) සියයට 7 ක් ඉතාලියානුන්ය, (රුසියාවේ සියයට 6 ක් පෝලන්ත ජාතිකයින්ය, සියයට 4. 5 ක් බෙලොරුසියානුන්ය). ස්විට්සර්ලන්තයේ ඉතාලි ජාතිකයින් පොදු පාර්ලිමේන්තුවේ ප්‍රංශ භාෂාවෙන් නිතර කතා කරති නම්, ඔවුන් එසේ කරන්නේ කිසියම් ම්ලේච්ඡ පොලිස් නීතියකින් (එවැනි නීති ස්විට්සර්ලන්තයේ නැත) පීඩා විඳින නිසා නොව, ප්‍රජාතන්ත්‍රවාදී රාජ්‍යයක සභ්‍ය රට වැසියන් හැටියට බහුතරයට තේරුම් ගත හැකි භාෂාවක් ඔවුනටද රිසි බැවිනි. ප්‍රංශ භාෂාව ඉතාලියානුන් තුළ ද්වේෂයක් ඇති නොකරයි. මන්දයත්, එය නිදහස් සභ්‍ය ජාතියකගේ භාෂාවක් වන බැවිනි. එය ජුගුප්සාජනක පොලිස් පියවරයන් විසින් බලෙන් පටවන ලද භාෂාවක් නොවන බැවිනි.

අති "විශාල", අති මහත් විවිධාකාර, බිහිසුණු ලෙස නොදියුණු රුසියාව එක් භාෂාවකට පමණක් වරප්‍රසාද රැක දෙමින් සිය වර්ධනයට තිරිංග දමාගත යුත්තේ කුමන කරුණක් නිසාද? ලිබරල්වාදී මහත්වරුනි, කළ යුත්තේ මෙහි අනික් පැත්ත නොවේද? රුසියාවට යුරෝපය අභිබවා යාමට වුවමනා නම්, ඇය විසින් හැකිතරම් ඉක්මණින් සහ හැකිතරම් සම්පූර්ණ ලෙසත්, හැකි තරම් තීරණාත්මක ලෙසත් සෑම වර්ගයකම වරප්‍රසාද නවත්වාලිය යුතු නොවේද?

සියලු වරප්‍රසාද අහෝසි වන්නේ නම්, එක් භාෂාවක් බලාත්කාරයෙන් පැටවීම නවත්වාලන්නේ නම්, සියලු ජාතිකයෝ ඉතා ලෙහෙසියෙන් සහ ඉක්මණින් එකිනෙකා වටහා ගැනීමට ඉගෙනගනු ඇත්තාහ. පොදු පාර්ලිමේන්තුවක විවිධ භාෂාවලින් කතා ඇසීම පිළිබඳව "බිහිසුණු" අදහස නිසා බිය නොවනු ඇත. වාණිජමය සබඳතාවයන්ගේ වුවමනා සඳහා, යම්කිසි රටක වැඩි වාසි ලැබෙනුයේ කිනම් භාෂාවක් විසින්ද යන්න ආර්ථික හුවමාරුවේ අවශ්‍යතාවයන් විසින්ම තීරණය කෙරෙනු ඇත. මේ තීරණය වඩාත් ස්ථිර වන්නේ මන්දයත්, විවිධ ජාතීන්ට අයත් ජනතාව විසින් එය ස්වේච්ඡානුගතව සම්මත කරගත් බැවිනි. ප්‍රජාතන්ත්‍රවාදය ස්ථිර වන තරමට, එහි ප්‍රතිඵලයක් වශයෙන් ධනපති ක්‍රමයේ වර්ධනය වේගවත් වන තරමට, එය සම්මත කැර ගැනීම වඩාත් ක්ෂණික හා විස්තීර්ණ වන්නේය.

ලිබරල් වාදීන් භාෂා ප්‍රශ්නය වෙත එළැඹෙන්නේ, ඔවුන් සියලු දේශපාලන ප්‍රශ්න වෙත එළැඹෙන ආකාරයෙනි, එනම් එක් අතක් (එළිපිට ප්‍රජාතන්ත්‍රවාදය දෙසට දිගු කරන ගමන් අනික් අත (පිටි කොන්දට පසු පසින්) රදළයින් සහ පොලීසිය වෙත දිගු කරන කූට පොට්ටනි කාරයින් මෙනි. අපි වරප්‍රසාදවලට විරුද්ධ වෙමුයි ලිබරල්වරු කෑගසති, ඒ අතර හොර රහසේම රදළයින්ගෙන් පළමුව එක් වරප්‍රසාදයක්ද, අනතුරුව තවත් වරප්‍රසාදයක්ද ලබා ගනිති.

සියලු ලිබරල් ධනපති ජාතිවාදයේ ස්වභාවය එසේය, මහා රුසියානු පමණක් නොවේ (මෙය ලිබරල් ධනපති ජාතිවාද අතුරෙන් ඉතාම බියජනකය, මන්දයත් එහි ප්‍රචණ්ඩකාරී ස්වභාවය සහ පුරිෂ්කේවිච්ලා සමග එයට ඇති සම්බන්ධකම නිසාය), එහෙත් පෝලන්ත, යුදෙව්, උක්රයීන, ජෝජියානු සහ අනිකුත් වෙනත් ජාතිවාදද එසේය. ''ජාතික සංස්කෘතිය'' නැමැති උද්යෝග පාඨය යටතේ සියලු ජාතීන්ට අයත් ධනපතිහු ඔස්ත්‍රියාවේ සහ රුසියාවේ යන රටවල් දෙකෙහිම, ඇත්ත වශයෙන්ම කම්කරුවන් භේද බින්න කිරීමේත්, ප්‍රජාතන්ත්‍රවාදය බෙලහීන කිරීමේත්, ජනතාවගේ අයිතිය සහ ජනතාවගේ නිදහස වෙළඳාම් කිරීමට රදළයින් සමග හෙට්ටු කිරීමේත් ප්‍රතිපත්තියක් ක්‍රියාවෙන් අනුගමනය කරති.

කම්කරු පංතික ප්‍රජාතන්ත්‍රවාදයේ උද්යෝග පාඨය ''ජාතික සංස්කෘතිය'' නොව, ප්‍රජාතන්ත්‍රවාදයේ ජාත්‍යන්තර සංස්කෘතියක් සහ ලෝක ව්‍යාප්ත කම්කරු පංතික ව්‍යාපාරයකි. ජාතික ප්‍රශ්නයට ඇත්තේ එකම පිළියමක් බවත්, (ධනපති ලෝකයේ, ලාභය, පොරකෑම සහ සූරාකෑම රජකරන ලෝකයේ පොදුවේ එය විසඳාලීමට හැකියාව තිබෙන නිසා එම පිළියම ස්ථිර ප්‍රජාතන්ත්‍රවාදය බවත් කියමින් පංති විඥාන කම්කරුවා ධනපති පංතියට පිළිතුරු දෙනු ඇත.

එයට සාක්ෂ්‍යය මෙසේය: බටහිර යුරෝපයේ පැරණි සංස්කෘතියක් ඇති ස්විට්සර්ලන්තය සහ නැගෙනහිර යුරෝපයේ යෞවන සංස්කෘතියක් ඇති පින්ලන්තයය.

කම්කරු පංතික ප්‍රජාතන්ත්‍රවාදයේ ජාතික වැඩ පිළිවෙල මෙසේය: කිසිදු ජාතියකට හෝ කිසිදු භාෂාවකට හෝ අනිවාර්ය ලෙසම කිසිම වරප්‍රසාදයක් නොදීම; ජාතීන්ගේ දේශපාලන ස්වයං නිර්ණයනයේ ගැටළුවට පිළියම, එනම් සම්පූර්ණ නිදහස්, ප්‍රජාතන්ත්‍රික ක්‍රම අනුව රාජ්‍යයන් හැටියට ඒවා වෙන්වීම; කිසිදු ජාතියකට කිසියම් ආකාරයකින් හෝ වරප්‍රසාද ලබාදීමේ පියවරයන් ගැනීමේ (සෙම්ස්ත්[22], නාගරික හෝ සාමූහික ආදිය) සහ ජාතීන්ගේ සමානතාවය හෝ සුළු ජාතීන්ගේ අයිතීන් උල්ලංඝණය කිරීම හෝ නීතිවිරෝධී කිරීම සහ අවලංගු කිරීම; එවැනි පියවරයක් ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථාවට පටහැණි ලෙස නම්කොට එය අවලංගු කිරීම ඉල්ලා සිටීමේ අයිතියක් රාජ්‍යයේ සෑම රටවැසියකුටම තිබීම, එවැන්නක් ක්‍රියාවේ යෙදවීමට ඉදිරිපත් වන අයට දඬුවම් කිරීම සඳහා මුළු මහත් රාජ්‍යයටම බලපාන නීති පැනවීම.

භාෂා පිළිබඳ ප්‍රශ්න ආදියෙහිදී විවිධ ධනපති පක්ෂ වල ජාතිවාදී කුලල් කා ගැනීම් වලට විරුද්ධව, කම්කරු පංති ප්‍රජාතන්ත්‍රවාදය, සියලු ජාතීන්ට අයත් කම්කරුවන්ගේද, වෘත්තීය සමිති, පරිභෝජකයින්ගේ සමුපකාර



සමිති, අනිකුත් සියලු සංවිධානවල කොන්දේසි විරහිත සමගියක් සහ සම්පූර්ණ ඒකාබද්ධ වීමක්, ධනපති ජාතිවාදයේ සියලු පරස්පර විරෝධීතාවයන්ට පටහැණිව, පරාස්ථාපනය කරයි. ප්‍රජාතන්ත්‍රවාදය ආරක්ෂා කර ගත හැක්කේත්, දැනටමත් ජාත්‍යන්තර වී තිබෙන, තව තවත් ජාත්‍යන්තර වෙමින් පවතින, ප්‍රාග්ධනයට විරුද්ධව කම්කරු පංතියේ අයිතිවාසිකම් ආරක්ෂා කළ හැක්කේත්, සියලු වරප්‍රසාදවලට සහ සියලු සූරාකෑම් වලට විරුද්ධව, නව ජීවන ක්‍රමයක් සඳහා මිනිස් සංහතියේ වර්ධනය යොමුකළ හැක්කේත් මෙවැනි වර්ගයක සමගියක් සහ ඒකාබද්ධවීමක් මගින් පමණකි.

## 2. ''ජාතික සංස්කෘතිය''

පාඨකයාට පෙනෙන පරිදි, ''සෙවෙර්නයා ප්‍රාව්ද''හි ලිපිය එක් විශේෂ නිදසුනක් ප්‍රයෝජනයට ගෙන ඇත, එනම්, ජාතික ප්‍රශ්නයේදී එක අතක් රදළයින් සහ පොලීසිය වෙත දිගු කරන, ලිබරල් ධනවාදීන්ගේ චපලත්වය සහ අවස්ථාවාදය පෙන්වා දෙන පොදු රාජ්‍ය භාෂාව පිළිබඳ ප්‍රශ්නයය. ලිබරල්වාදී ධනපති පංතිය රාජ්‍ය භාෂාව පිළිබඳ ප්‍රශ්නය හැරුණු විට, එයට සම්බන්ධ තවත් ප්‍රශ්න ගණනාවකදීම ද්‍රෝහී ලෙසත්, කපටි ලෙසත්, මුග්ධ ලෙසත් (ලිබරල්වාදයේ වුවමනාවන් අනුව බැලූ විටදී පවා) හැසිරී තිබෙන බව හැම කෙනෙකුටම වැටහෙනු ඇත.

මෙයින් එළැඹිය යුතු නිගමනය කුමක්ද? සියලු ලිබරල්-ධනපති ජාතිවාදය කම්කරුවන් අතර අති විශාල දූෂණයන් රෝපණය කරන අතර නිර්ධනීන්ගේ පංති අරගලයට සහ නිදහස් සටනට ඉමහත් හානියක් කරන බව එම නිගමනය වේ. මේ ධනවාදී (සහ ධනපති-රදළවාදී) ප්‍රවණතාවය වඩාත් අවදානම් වන්නේ, එය ''ජාතික සංස්කෘතිය'' නැමැති උද්යෝග පාඨය යටතේ සඟවා ඇති බැවිනි. කළු ශතකයින් සහ පූජකයින්ද, එමෙන්ම සියලු රටවල ධනපතීන්ද — මහා රුසියානු, පෝලන්ත, යුදෙව්, උක්රයීන ආදීන් — සිය නීච සහ ප්‍රතිගාමී ක්‍රියා කරන්නේ ජාතික සංස්කෘතිය නැමැති වෙස් මුහුණ පැළඳගෙනය.

මාක්ස්වාදී දෘෂ්ටි කෝණයකින් එනම්, පංති සටන් වල ස්ථාවරයෙන් සහ තේරුම් රහිත ''පොදු මූලධර්ම'', ප්‍රකාශන, සහ වාග් පාඨ රහිතව, පංතීන්ගේ වුවමනාවන් සහ ප්‍රතිපත්ති සමග උද්යෝගපාඨ සන්සන්දනය කර බලමු නම්, අද ජාතික ජීවිතයේ සත්‍ය සිද්ධීන් එසේය.

ජාතික සංස්කෘතිය නැමැති උද්යෝග පාඨය ධනපති (නිතර පාහේ කළු ශතක හා පූජක) වංචාවකි. ප්‍රජාතන්ත්‍රවාදයේ සහ ලෝක කම්කරු පංතික ව්‍යාපාරයේ ජාත්‍යන්තර සංස්කෘතිය අපේ සටන් පාඨයය.

මෙතැනදී බුන්ඩ්වාදී ලිබ්මන් මහතා මා සමග බීහිසුණු සටනකට ඉදිරිපත් වෙමින්, පහත සටහන් මාරාන්තික වාග් ප්‍රහාරය මවෙත එල්ල කරයි:

‘‘ජාතික ප්‍රශ්නය ගැන යම්තම්න් හෝ හැදිනගත් කෙනෙක් ජාත්‍යන්තර සංස්කෘතිය ජාතික නොවන සංස්කෘතියක් (ජාතික රූපයකින් තොරවූ සංස්කෘතියක්) නොවන බව දනී. ජාතික නොවන සංස්කෘතිය, රුසියන්, යුදෙව් හෝ පෝලන්ත නොවිය යුතු අතර පිරිසුදු සංස්කෘතියක් පමණක් විය යුතු යැයි කීම විකාරයෙකි. ජාත්‍යන්තර සංකල්ප කම්කරුවාට සමීප දෙයක් වන්නේ, කම්කරුවා කතාකරන බසින් එය ප්‍රකාශ කළ විටය, ඔහු ජීවත්වන මූර්ත ජාතික තත්ත්වයන්ට එය අනුරූපණය කළ විටය. තම ජාතික සංස්කෘතික තත්ත්වය සහ වර්ධනය ගැන කම්කරුවා උදසීන නොවිය යුතුය, මන්දයත්, ඔහුට ‘‘ප්‍රජාතන්ත්‍රවාදයේ සහ ලෝක කම්කරු පංතික ව්‍යාපාරයේ ජාත්‍යන්තර සංස්කෘතියට’’ සහභාගි විය හැක්කේ ජාතික සංස්කෘතිය මගින් පමණක් වන බැවිනි. මෙය හොඳ හැටි ප්‍රසිද්ධ කරුණකි. එහෙත් වි. අයි. එය පිළි ගැනීමට කැමත්තක් නොදක්වයි...’’

මවිසින් ඉදිරිපත් කරන ලද මාක්ස්වාදී තීසිසය විනාශ කිරීම සඳහා ඉදිරිපත් කර තිබෙන නියම ලෙසම බුන්ඩ්වාදී තර්ක ගැන ඔබ කැමති නම්, කල්පනා කර බලන්න. ‘ජාතික ප්‍රශ්නය’ ගැන දන්නා කෙනෙකු සේ ආත්ම විශ්වාසයකින් යුතුව මේ බුන්ඩ් වාදියා සාමාන්‍ය ධනවාදී මත ඉතා ‘‘හොඳින් ප්‍රසිද්ධ’’ සිද්ධාන්ත හැටියට ඉදිරිපත් කරයි.

බුන්ඩ්වාදියාණෙනි, ජාත්‍යන්තර සංස්කෘතිය ජාතික නොවන දෙයක් නොවන බව සත්‍යයකි. එය ජාතික නොවන බව කිසිවකු කියා නැත. පෝලන්ත, යුදෙව් හෝ රුසියානු ආදි වෙවා පිරිසුදු සංස්කෘතියක් කිසිවකු ප්‍රකාශ කර නැත. ඔබ පුහු වචන රාශියක් එකට ගළපා ඇද බාන්නේ, පාඨකයාගේ අවධානය අන් අතකට යොමු කිරීමට පරිශ්‍රම දැරීමට සහ ශබ්ද ධවනිතවන වචන යොදා ප්‍රශ්නය ව්‍යාකූල කිරීමටය.

සෑම ජාතික සංස්කෘතියකම, ආකෘතික රූපයකින් පමණක් වුවද, ප්‍රජාතන්ත්‍රික සහ සමාජවාදී සංස්කෘතියේ මූලිකාංග දක්නට ලැබේ. මන්දයත් ජීවන තත්ත්වය විසින් නොවැළැක්විය හැකි සේ ප්‍රජාතන්ත්‍රවාදයේ සහ සමාජවාදයේ සංකල්පය නිර්මාණය කෙරෙන සෑම ජාතියකම වැඩකරන සහ සූරාකනු ලබන බහු ජනතාවක් සිටින නිසාය. එහෙත් හැම ජාතියකටම, හුදු ‘‘මූලිකාංග’’ වශයෙන් නොව, බලය පතුරුවාලන සංස්කෘතියක් වශයෙන් ධනපති සංස්කෘතියක් (බොහෝ ජාතීන්ට ප්‍රතිගාමී සහ පූජක සංස්කෘතියක්ද එමෙන්ම) ඇත්තේය. මාක්ස්වාදියකුට අක්ෂර හෝඩිය බඳු වූ මෙම මූලික සත්‍යය, පසුතලයට ඇද දමන බුන්ඩ්වාදියා එය තමාගේ වචන මාලාවේ ‘‘ගිල්වා’’ දමයි. පාඨකයාගේ පංති පරතරය හෙළිකොට එය පැහැදිලි කරනවා වෙනුවට, ඔහු එය ව්‍යාකූල කරයි. පංතිමය නොවන ජාතික සංස්කෘතියක් පිළිබඳ



විශ්වාසය පතුරුවාලීම සිය වුවමනාවන් විසින් ඉල්ලා සිටින ධනපතියකු සේ ඇත්ත වශයෙන්ම බුන්ඩ්වාදියා ක්‍රියා කළේය.

‘‘ප්‍රජාතන්ත්‍රවාදයේ සහ ලෝක කම්කරු පංති ව්‍යාපාරයේ ජාත්‍ය-න්තර සංස්කෘතිය’’ නැමැති උද්යෝග පාඨය ඉදිරිපත් කරමින්, සෑම ජාතික සංස්කෘතියකින්ම අපි සැබෑ ප්‍රජාතන්ත්‍රවාදී සහ සමාජවාදී මූලිකාංග පමණක් ලබා ගනිමු. අප ඒවා ගන්නේ හැම ජාතියකම ධනවාදී සංස්කෘතියට සහ ධනපති ජාතිවාදයට විරුද්ධව සහ නිරපේක්ෂ ලෙස පමණකි. සියලු භාෂාවන්ට සමාන තත්ත්වයන් තිබීමද නැතිනම් කෙනෙක් තම ‘‘ස්වදේශීය’’ ධනපති පංතිය සමග, ස්වදේශීය භාෂාවෙන් විවාද කිරීම සහ තම ‘‘ස්වදේශීය’’ ගොවීන් සහ සුළු ධනපති පංතිය අතර පූජක විරෝධී නැතිනම් ධනපති විරෝධී අදහස් ප්‍රචාරය කිරීම කිසිදු ප්‍රජාතන්ත්‍ර වාදියෙක් සහ සත්තකින්ම මාක්ස්වාදියෙක් ප්‍රතික්ෂේප නොකරනු ඇත්තාහ. මෙය කිව යුතු දෙයක් නොවේ. එහෙත් විවාදයට භාජනය වී ඇති කරුණ එනම් සැබෑ ප්‍රශ්නය යටපත් කර දැමීම සඳහා මේ විවාද රහිත සත්‍යයන් බුන්ඩ්වාදියා පාවිච්චියට ගනී.

ප්‍රශ්නය නම් මාක්ස්වාදියකුට සෘජුව හෝ වක්‍ව හෝ ජාතික සංස්කෘතිය නැමැති උද්යෝග පාඨය ඉදිරිපත් කළ හැකිද නැතිනම්, ප්‍රාදේශීය සහ ජාතික ලක්ෂණ අනුව ‘‘හැඩගැසෙන’’ අතර කම්කරුවන්ගේ ජාත්‍යන්තරවාදය නැමැති උද්යෝග පාඨය සියලු භාෂාවලින් ඉදිරිපත් කරමින්,මුලින් කී උද්යෝග පාඨයට විරුද්ධ වීමට අවසර තිබේද යන්නය.

‘‘ජාතික සංස්කෘතිය’’ නැමැති උද්යෝග පාඨයේ වැදගත් කම, කිසියම් කුඩා බුද්ධිමතකුගේ පොරොන්දුවකින් හෝ එම උදයෝගපාඨය විග්‍රහ කිරීමට ජාත්‍යන්තර සංස්කෘතියක් ඇති කිරීමේ යහපත් චේතනාවක් ප්‍රකාශ කිරීමකින් හෝ නිර්ණය නොවේ. මේ ප්‍රශ්නය ගැන එලෙස බැලීම බොළඳ මනෝමූල වාදයක් වනු වැත. ජාතික සංස්කෘතිය නැමැති උද්යෝග පාඨයේ වැදගත්කම තීරණය වන්නේ එක් නියමිත රටක සහ ලෝකයේ සියලු රටවල්වල සියලු පංතීන්ගේ වාස්තවික සමානුපාතය අනුවය. ධනපති පංතියේ ජාතික සංස්කෘතිය සත්‍ය කරුණකි (ධනපති පංතිය හැම තැනම ඉඩම් හිමියන් සහ පූජකයින් සමග ගිවිසුම් වලට බැඳෙන බව මම යළිත් වරක් පවසමි). කම්කරුවන්ගේ චින්තන ශක්තිය මුළා කරන, ඔවුන් අඥනයින් බවට පත් කරන, සහ ඔවුන් භේද කරන ආක්‍රමණකාරී ධනවාදී ජාතිකවාදය, ඔවුන් ධනපති පංතියේ කණ වැල දිගේ ඇදගෙන යනු පිණිස එසේ කරයි. සමකාලීන මූලික සත්‍ය කරුණු එසේය.

නිර්ධන පංතියට සේවය කිරීමට කැමති අය ලෝකයේ සියලු ජාතීන්ගේ කම්කරුවන් එක්සත් කළ යුත්තාහ. ස්වදේශීය සහ දේශීය ධනපති ජාතිවාදයට විරුද්ධව නොසැලී සටන් කළ යුත්තාහ. ජාතික සංස්කෘතිය

නැමැති උද්යෝග පාඨය ඉදිරිපත් කරන පුද්ගලයින් සතු ස්ථානය ජාතිවාදී සුළු ධනපති පංතිය අතර මිස මාක්ස්වාදීන් අතර නොවේ.

ස්ථිර නිදසුනක් ගෙන බලමු. මහා රුසියානු මාක්ස් වාදියකුට මහා රුසියානු සංස්කෘතිය නැමැති උද්යෝග පාඨය පිළිගත හැකිද? නැත. ඔහුට එය පිළිගත නොහැකිය. මෙවැන්නක් පිළිගන්නා පුද්ගලයා සිය ස්ථානය ගත යුත්තේ ජාතිවාදීන් අතර මිස මාක්ස්වාදීන් අතර නොවේ. අපේ කාර්යය ආධිපත්‍යය උසුලන කළු ශතකයට සහ මහා රුසියානුන්ගේ ධනපති ජාතිවාදී සංස්කෘතියට විරුද්ධව සටන් කිරීමය, අපේ ප්‍රජාතන්ත්‍රික සහ කම්කරු පංතික ව්‍යාපාරයේ මූලිකාංග අනිකුත් රටවල කම්කරුවන් අතර ජාත්‍යන්තර ආස්වාදයක් සහ ඉතා කිට්ටු මිත්‍ර සන්ධානයක් විශේෂයෙන්ම වර්ධනය කරලීමය. ඔබ, ඔබගේම මහා රුසියානු ඉඩම් හිමියන්ට සහ ධනපති පංතියට විරුද්ධව සටන් කළ යුතුය, ජාත්‍යන්තරවාදයේ නාමයෙන් ධනපති ''සංස්කෘතියට'' විරුද්ධව සටන් කරන්න, එලෙස සටන් කරමින් පුරිෂ්කේවිච්ලාගේ සහ ස්ත්රුවේලාගේ විශේෂ ලක්ෂණවලට විරුද්ධව ''හැඩ ගැසෙන්න'' — ඔබේ කාර්යය එය මිස ජාතික සංස්කෘතිය නැමැති උද්යෝග පාඨය දේශනා කිරීම හෝ එය ඉවසා සිටීම හෝ නොවේ.

ඉමහත් පෑගීමට සහ වධහිංසා වලට භාජනය වී සිටින ජාතිය වන යුදෙව් ජාතියටද එය එලෙසම බලපායි. යුදෙව් ජාතික සංස්කෘතිය නැමැති උද්යෝග පාඨය යුදෙව් පූජකයින්ගේ සහ ධනපති පංතියේ සටන් පාඨයය. එය අපේ හතුරන්ගේ උද්යෝග පාඨයය. යුදෙව් සංස්කෘතියේත් සමස්තයක් වශයෙන් යුදෙව් ඉතිහාසයේත් වෙනත් මූලික ලක්ෂණ ඇත්තේය. ලෝකයේ වාසය කරන එක්කෝටි පන් ලක්ෂයක් වන යුදෙව්වන්ගෙන් හරි අඩකටත් වඩා වැඩි සංඛ්‍යාවක් නොදියුණු සහ අර්ධ ම්ලේච්ඡ රටවල් වන ගැලීසියාවේ සහ රුසියාවේ ජීවත් වෙති. මේ රටවල යුදෙව්වන් බලාත්කාරයෙන් හීන කුලයක තත්ත්වයෙක තබා සිටිනු ලැබේ. යුදෙව්වන්ගේ ඉතිරි කොටස සභ්‍ය රටවල ජීවත් වෙයි. ඒ රටවල ඔවුන් කුලයක් ලෙස වෙන් කොට තබා නැත. ඒ රටවල යුදෙව් සංස්කෘතියේ ශ්‍රේෂ්ඨ ජගත් ප්‍රගතිශීලිත්වයේ ලක්ෂණ වන ජාත්‍යන්තරවාදය සහ යුගයේ පුරෝගාමී ව්‍යාපාර සමග අනන්‍යවීම පැහැදිලි ලෙස හෙළිවී තිබේ (ලෝකයේ හැම තැනම ප්‍රජාතන්ත්‍රික සහ නිර්ධන පංතික ව්‍යාපාරයට සහභාගි වන යුදෙව්වන්ගේ ප්‍රතිශතය, ලෝක ජනගහණයේ යුදෙව්වන්ගේ ප්‍රතිශතයට වඩා වැඩිය).

යුදෙව් ''ජාතික සංස්කෘතිය'' නැමැති උදයෝග පාඨය ඍජුව හෝ වක්‍රව හෝ කෙනෙකුත් ඉදිරිපත් කරතිද ඔහු (ඔහුගේ සද්ගුණවත් ප්‍රාර්ථනා කුමක් වුවද) නිර්ධන පංතියේ සතුරෙකි, යල්පැනගිය සියලු දේවලට



සහ යුදෙව්වන් අතර කුලයක් ඇති කිරීමට ආධාර කරන්නෙකි. යුදෙව් පූජකයින්ගේ සහ ධනපතීන්ගේ හවුල් කරුවෙකි. අනිත් අතින්, රුසියන්, ලිතුවේනියන්, උක්රේනියන් සහ ජාත්‍යන්තර මාක්ස්වාදී සංවිධානවල අනිකුත් කම්කරුවන් සමග මිශ්‍රවන සහ කම්කරු පංති ව්‍යාපාරයේ ජාත්‍යන්තර සංස්කෘතියක් බිහි කිරීම සඳහා (රුසියන් හා යුදෙව් බසින්) සිය සේවය ඉටුකරන යුදෙව්ජාතික මාක්ස්වාදියෝද — බුන්ඩ් සංවිධානයේ විභේදනවාදය නොතකා—'ජාතික සංස්කෘතිය' නැමැති උද්යෝග පාඨයට විරුද්ධව සටන් කරන යුදෙව්වෝද, යුදෙව් වර්ගයාගේ උතුම් සම්ප්‍රදයයන් ආරක්ෂා කරති.

ධනපති ජාතිවාදය සහ නිර්ධන පංතික ජාත්‍යන්තරවාදය මුළු මහත් ධනපති ලෝකයේ මහා පංතිමය කඳවුරු දෙකට ගැළපෙන එකිනෙකට පරස්පර විරෝධී සතුරු උද්යෝග පාඨ වන්නේය. ඒවා ජාතික ප්‍රශ්නයේදී ප්‍රතිපත්ති දෙකක් (එපමණක් නොව, එය ජගත් දර්ශන දෙකකි) ප්‍රකාශ කරයි. ජාතික සංස්කෘතිය නැමැති උද්යෝග පාඨය ඉදිරිපත් කිරීමේදී සහ එය මත ඔවුන් විසින් හඳුන්වනු ලබන ''සංස්කෘතික ජාතික ස්වෛරීත්වය'' නැමැති සම්පූර්ණ සැලැස්මක් සහ ප්‍රායෝගික වැඩ පිළිවෙලක් ඉදිකිරීමෙන් බුන්ඩ්වරු ඇත්ත වශයෙන්ම කම්කරුවන් අතර ධනපති ජාතිවාදයේ ඉත්තන් බවට පත් වී සිටිති.

## 3. ''ස්වීකරණයේ'' ජාතික අවතාරය

ස්වීකරණය පිළිබඳ ප්‍රශ්නය, එනම්, ජාතික ලක්ෂණ අහෝසිවීම, තවත් ජාතියකට සංක්‍රමණය වීම බුන්ඩ්වාදීන්ගේ සහ ඔවුන්ගේ චින්තක සගයින්ගේ ජාතිවාදී පාවීමේ විපාකය ඉතා හොඳින් ඔප්නගා පෙන්වයි.

බුන්ඩ්වාදීන්ගේ පුරුදු තර්ක නැතිනම් විජ්ජාවන් ඉදිරිපත් කරමින් ඒවා පුන පුනා කියන-කරන ලිබ්මන් මහතා නියමිත රටක සියලු ජාතීන්ට අයත් කම්කරුවන් එක්සත් කම්කරු සංවිධාන තුළ එක්සත්වීමේ සහ ඒකාබද්ධ වීමේ ඉල්ලීම ''පැරණි ස්වීකරණ කතාව'' හැටියට නම් කරයි (''සේවෙර්නය ප්‍රාව්ද'' හි අවසාන කොටස කියවන්න).

''සේවෙර්නය ප්‍රාව්ද''හි ලිපියේ අවසන් කොටස ගැන විමර්ශනයක් කරන ලිබ්මන් මහතා මෙසේ පවසයි: ''ඔබ කිනම් ජාතියකට අයත්දැයි ඇසූ විට, ''මා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි''යි කම්කරුවකු පිළිතුරු දිය යුතුය.

අපේ බුන්ඩ්වාදියා මෙය තියුණු බුද්ධියේ අග්‍ර කූටය හැටියට කල්පනා කරයි. ඇත්ත වශයෙන්ම සෑහෙන තරම් ප්‍රජාතන්ත්‍රික හා මාක්ස්වාදී

උද්යෝග පාඨයකට විරුද්ධව එල්ල වී ඇති "ස්වීකරණයක්" පිළිබඳව එවැනි නර්මාලාප සහ කෑගැසීම් නිසා ඔහු සම්පූර්ණ ලෙස හෙළිදරව් වෙයි.

වර්ධනය වන ධනපති ක්‍රමය ජාතික ප්‍රශ්නයේදී ඓතිහාසික ප්‍රවණතාවයන් දෙකක් දකී. පළමුවැන්න ජාතික ජීවිතයේ සහ ජාතික ව්‍යාපාරයේ පිබිදීමක් සහ සියලු ජාතික පෑගීමට විරුද්ධ අරගලයකි, එමෙන්ම ජාතික රාජ්‍යයන් බිහිවීමකි. දෙවැන්න, සියලු අන්දමේ ජාත්‍යන්තර සම්බන්ධකම් වර්ධනයවීම සහ වැඩීම වේගවත් වීමය, ජාතික බාධාවන් බිඳ වැටීමය, ප්‍රාග්ධනයේ, පොදු ආර්ථික ජීවිතයේ, දේශපාලනයේ, විද්‍යාවේ ආදියේ ජාත්‍යන්තර සමගිය බිහිකිරීමය.

මේ ප්‍රවණතා දෙකම ධනපති ක්‍රමයේ විශ්වීය නියමය වේ. මුලින් කී ප්‍රවණතාවය වර්ධනයේ මුලදී බලපායි. පසුකී ප්‍රවණතාවය සමාජවාදී සමාජයක් කරා පරිවර්තනය වෙමින් පවතින මුහුකුරා වැඩුණු ධනවාදයක ලක්ෂණ වේ. මාක්ස්වාදීන්ගේ ජාතික වැඩ පිළිවෙල මේ ප්‍රවණතා දෙකම සැලකිල්ලට ගනී; ප්‍රථමයෙන්ම සියලු ජාතීන්ගේ හා භාෂාවල සමානතාවය සහ මේ සම්බන්ධයෙන් ඇති සියලු වරප්‍රසාද තහනම් කිරීමක්ද (එමෙන්ම අප විසින් පසුව විස්තර කරනු ලබන ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතියද) පිළිගනී. දෙවනුව ජාත්‍යන්තරවාදයේ මූලධර්මය පිළිගැනීම සහ අතිශයින්ම සියුම් වර්ගයේ වුවද, ධනපති ජාතිවාදයෙන් නිර්ධන පංතිය අපවිත්‍ර කිරීමට විරුද්ධව, නොසැලී ස්ථිර ලෙස සටන් කිරීමය.

එවිට මෙවැනි ප්‍රශ්නයක් පැන නගී: අපේ බුන්ඩ්වාදියා "ස්වීකරණයට" විරුද්ධව අහස උසට කෑගසන විට ඔහු අදහස් කළේ කුමක්ද? ජාතීන්ට විරුද්ධව ප්‍රචණ්ඩකාරිත්වය යෙදීම හෝ විශේෂ එක් ජාතියක් විසින් භුක්ති විඳිනු ලබන වරප්‍රසාද ගැන හෝ ඔහු අදහස් නොකළා විය යුතුය, මන්දයත්, මෙතැනදී "ස්වීකරණය" නැමැති වචනය කොහෙත්ම නොගැළපෙන බැවිනි, සියලු මාක්ස්වාදීන් පෞද්ගලිකව සහ නිල වශයෙන් සමස්තයක් හැටියට ඉතා ස්ථිර ලෙස සහ අනේකාර්ථයෙන් තොරව ජාතීන්ගේ පෑගීම සහ ජාතීන්ගේ අසමානත්වයද ජාතීන්ට විරුද්ධව යොදවන ප්‍රචණ්ඩ කාරීත්වයද හෙළාදක තිබෙන බැවිනි. අවසාන වශයෙන් බුන්ඩ්වාදියාගේ ප්‍රහාරයට එල්ල වී ඇති, "සේවෙර්නය ප්‍රාව්ද"හි මෙම පොදු මාක්ස්වාදී සංකල්පය, කොන්දේසි විරහිතව, දෘඩ අධිෂ්ඨානයකින් යුතුව ප්‍රකාශ කර තිබෙන බැවිනි.

නැත. මෙතැනදී මග හැරීමක් කළ නොහැකිය. "ස්වීකරණය" හෙළාදැකීමේදී ලිබ්මන් මහතා අදහස් කළේ ප්‍රචණ්ඩකාරීත්වය නොවේ, අසමානතාවය නොවේ, වරප්‍රසාද නොවේ. සියලු ප්‍රචණ්ඩකාරීත්වය සහ



සියලු අසමානතාවය ඉවත්කළ පසු ස්වීකරණය නැමැති සංකල්පනයේ කිසිවක් ඉතිරිවී තිබේද?

නිසැක ලෙසම ඉතිරි වී තිබේ. ඉතිරි වී තිබෙනුයේ ජාතික බාධකයක් කඩා බිඳ දැමීමේත්, ජාතික විශේෂතාවයන් මකා දැමීමේත් ජාතීන් ස්වීකරණයට භාජනය කිරීමේත් ධනපති ක්‍රමයේ ජගත් ඓතිහාසික ප්‍රවණතාවයය. ගෙවීයන හැම දසකයක් පාසාම වඩ වඩාත් බලගතු ලෙස මෙම ප්‍රවණතාවය ප්‍රකාශ වෙයි. එමෙන්ම මෙය ධනවාදය සමාජවාදය දක්වා පරිවර්තනය කර ලීමේ එක් මහා ගාමක බලවේගයකි.

ජාතීන්ගේ සහ භාෂාවල සමානතාවය පිළිගෙන ඒ සඳහා සටන් නොකරන්නේ කවරෙක්ද, සියලු ජාතික පෑගීම්වලට නැතිනම් ජාතික අසමානතාවයන්ට විරුද්ධව සටන් නොකරන්නේ කවරෙක්ද, ඔහු මාක්ස් වාදියෙක් නොවේ; ඔහු ප්‍රජාතන්ත්‍රවාදියකු පවා නොවේ. මෙය සැක රහිත කරුණකි. වෙනත් ජාතියකට අයත් මාක්ස්වාදියකු "ස්වීකරණ කාරයෙකැ"යි ඔහුට චෝදනා මුඛයෙන් බැණ වදෙන ව්‍යාජ මාක්ස් වාදියා හුදු ජාතිකවාදී අවරසිකයෙකි යි යන්න ගැනද කොහෙත්ම සැක නැත. මෙම හීන ගරුත්වය ඇති මිනිස් ගණයට සියලු බුන්ඩ්වාදීන් සහ (අප දුන් දකින පරිදි) එල්. යුර්කේවිච්, දන්ත්සොව් සහ සමාගම වැනි උක්රේනියානු ජාතික සමාජවාදීන්ද අයත් වේ.

මේ ජාතිවාදී අවරසිකයින්ගේ මත කෙතරම් ප්‍රතිගාමීද යන්න ස්ථිර ලෙස පෙන්වාදීම සඳහා වර්ග තුනකට අයත් කරුණු අපි සටහන් කරමු.

රුසියානු සමාජයක් ව්‍යවහාරික මාක්ස් වාදීන් "ස්වීකරණ කාරයින්" යැයි වැඩියෙන්ම කෑගසන්නේ පොදුවේ රුසියාවේ යුදෙව් ජාතිවාදීන් සහ විශේෂයෙන් බුන්ඩ්වාදීන් විසිනි. එහෙත් ඉහත සටහන් කළ දසකෝටි පන් ලක්ෂයක් වූ ලෝකවාසී යුදෙව්වන් අතුරෙන් හරි අඩක් පමණ ස්වීකරණයට සඳහා බලවත් හිතකර තත්ත්වයන් සහිත සභ්‍ය ලෝකයේ ජීවත්වෙති. ඒ අතර අවාසනාවන්, දුගී දුප්පත් චන්ද බලයක් නැති රුසියාවේ හා ගැලීසියාවේ යුදෙව්වෝ, පුරිෂ්කේවිච්ලාගේ (රුසියානු සහ පෝලන්ත) යකඩ සපත්තු වලට පෑගී අල්ප "ස්වීකරණ" තත්ත්වයන් යටතේ ජීවත් වෙති. මෙහි බලවත් විසංගමනයක් ඇති අතර පුරිෂ්කේවිච් පාලනයේ චමත්කාර ලක්ෂණ වන "විශේෂ ජනපද"[23] සහ "ප්‍රතිශත ප්‍රතිමානය"[24] පවා ඇත්තේය.

සභ්‍ය ලෝකයේ වාසය කරන යුදෙව්වන් ජාතියක් නොවන බවත්, ඔවුන් ප්‍රධාන වශයෙන් ස්වීකරණයට භාජනය වූ බවත් කාල් කෞට්ස්කි සහ ඔටෝ බවර් පවසති. ගැලීසියාවේ සහ රුසියාවේ වාසය කරන යුදෙව්වෝද ජාතියක් නොවෙති. අවාසනාවකට මෙන් (ඔවුන්ගේ වරද නිසා නොව පුරිෂ්කේවිච්ලාගේ වරද නිසා) ඔවුන් මෙහි තවමත් කුලයක්

මෙනි. යුදෙව් ජනතාවගේ ඉතිහාසය නිසැක ලෙසම දන්නා, ඉහත සටහන් කරුණු ගැන සැළකිල්ල යොමුකරන මිනිසුන්ගේ විවාද රහිත විනිශ්චය එසේය.

මේ කරුණු ඔප්පු කරන්නේ මොනවාද? ඉතිහාසයේ රෝදය ආපසු කරකැවීමට වුවමනා කර තිබෙන්නේත්, රුසියාවේ සහ ගැලීසියාවේ පවතින තත්ත්වයන්ගේ සිට පැරිසියේ හා නිව් යෝක්හි පවතින තත්ත්වයන් දක්වා නොව එය ප්‍රත්‍යාවර්තනය කිරීම සඳහා ක්‍රියා කරන්නේත්, ප්‍රතිගාමී යුදෙව් අවරසිකයින්ය. ස්වීකරණයට විරුද්ධව කෑ ගසන්නේ ඔවුන්ය.

ඉතා හොඳ යුදෙව් ජන කොටස් ලෝක ඉතිහාසයේ කීර්තිය දිනාගෙන තිබෙන අතර ප්‍රජාතන්ත්‍රවාදයේ සහ සමාජවාදයේ පුරෝගාමී නායකයින් ලෝකයට දී ඇත්තාහ. මොවුන් කිසි කලෙක ස්වීකරණයට විරුද්ධව කෑ ගසන්නේ නැත. ස්වීකරණයට විරුද්ධව කෑ ගසන්නේ යුදෙව් ජාතිකයින්ගේ හක්තිමත් අශෝභන ''පසුපස කොටසය''.

නිදසුනක් වශයෙන් ඇමෙරිකා එක්සත් ජනපදයේ ආගමන සංඛ්‍යාන, දියුණු ධනපති ක්‍රමයේ වත්මන් තත්ත්වයන් යටතේ ජාතීන්ගේ ස්වීකරණයේ පොදු ක්‍රියා දමයේ පරිමාණය පිළිබඳව අසම්පූර්ණ අදහසක් අපට දෙයි. 1891-1900 දක්වා කාලය තුළදී යුරෝපයේ සිට එහි ගිය ජන සංඛ්‍යාව 37,00,000 කි. 1901 සිට 1909 දක්වා කාලය තුළදී ඇමෙරිකා එක්සත් ජනපදයට සංක්‍රමණය වූවන්ගේ සංඛ්‍යාව 72,00,000 කි. 1900 දී ඇමෙරිකා එක්සත් ජනපදයේ සංගණනය විසින් නිව්යෝක් ජනපදයේ විදේශිකයින් කෝටියක් සිටින බව වාර්තා කැරිණි. එය ජාතීන් අනුව මෙසේය: මෙයින් 78,000 අධික සංඛ්‍යාවක් ඕස්ත්‍රියානුවන්ය, 1, 36, 000 ක් ඉංග්‍රීසින්ය, 20,000 ක් ප්‍රංශයින්ය, 4,80,000 ක් ජර්මනුන්ය, 37,000 හන්ගේරියානුන්ය, 4,25,000 ක් අයිරිෂ් ජාතිකයින්ය, 1,82,000 ඉතාලියානුන්ය, 70,000 ක් පෝලන්ත ජාතිකයින්ය, 1,66,000 රුසියාවේ අය (වැඩි වශයෙන් යුදෙව්වෝ)ය, 43,000 ස්වීඩන් ජාතිකයෝ ආදීහු වෙති. නිව් යෝක්හි අති මහත් ජාත්‍යන්තර පරිමාණයකින් සිදුවන දෙය, සෑම විශාල නගරයක හා කර්මාන්ත ජනපදයකම දක්නට ඇත.

ජාතීන් මෙ ලෙස ස්වීකරණයට භාජනය කිරීමේ ධනපති ක්‍රියාදමය මහා ඓතිහාසික ප්‍රගමනයක් බවත්, විශේෂයෙන් නොදියුණු රුසියාව වැනි රටවල්වල නොයෙකුත් අහුමුලු වල ඇති ජාතික ගතානුගතිකත්වය විනාශ වී යාමක් බවත්, ජාතික අගතිගාමීත්වයෙන් කිලිටි වී නැති අයට නොපෙනී යා නොහැකිය.

රුසියාව සහ මහා රුසියානුන් උක්රයිනයන් කෙරෙහි දක්වන ආකල්පය ගෙන බලමු. මාක්ස්වාදීන් පමණක් නොව, හැම ප්‍රජාතන්ත්‍රවාදියෙක්ම, උක්රේනියානුන්ට විඳින්නට වී තිබෙන අතිමහත් නින්දවට විරුද්ධව තීරණාත්මක ලෙස සටන් කරන අතර ඔවුන්ට පූර්ණ සමානත්වය ඉල්ලා සිටිති. එහෙත් දනට එකම රාජ්‍යයක සීමාවන් තුළ පවතින උක්රයීන සහ මහා රුසියානු නිර්ධන පංතික මිත්‍ර සන්ධානය සහ සම්බන්ධකම් දුර්වල කරලීම සමාජවාදය එක එල්ලේ පාවාදීමක් පමණක් නොව, උක්රයීන ධනපති ''ජාතික අරමුණු'' නැමති දෘෂ්ටි කෝණය අනුව පවා එය මුග්ධ ප්‍රතිපත්තියක් වනු ඇත.

''මාක්ස්වාදියෙකැ''යි කියා ගන්නා ලෙව් යූර්කෝවිච් මහතා (අහෝ දුප්පත් මාක්ස්!) එම මුග්ධ ප්‍රතිපත්තියේ එක් නිදසුනකි. උක්රේනියානු නිර්ධන පංතිය පූර්ණ රුසියන් කරණයකට භාජනය වී ඇති බැවින් ඔවුනට වෙනත් සංවිධානයක් අවශ්‍ය නැතැයි 1906 දී සකලොව්ස්කි (බාසොක්) සහ ලූකෂේවිච් (තුවාජ්ස්කි) කී බව යූර්කෝවිච් මහතා ලියයි. ප්‍රශ්නයට කෙළින්ම බලපාන එකද කරුණක් වත් ඉදිරිපත් නොකර යූර්කෝවිච් මහතා හිස්ටීරියා රෝගියකු සේ මේ දෙදෙනා මත කඩා පනී. මේ දෙදෙන ''උක්රයීන මාක්ස්වාදීන් භේද කළැයි'' (!!) කියමින් සහ මෙය ''ජාතික නිෂ්ක්‍රියත්වයැ'' යිද, ''ජාතික අයිතිය ප්‍රතික්ෂේප කිරීමකැ'' යිද ආදිය කියමින් ඉතා නීච හා මුග්ධ අන්ත ප්‍රතිගාමී ජාතිවාදී හැඟීමකින් ඔහු පහර ගසයි. අද, ''කම්කරුවන් අතර උක්රයීන ජාතික හැඟීම වර්ධනය වී තිබීම'' නොතකා කම්කරුවන්ගේ අල්පතරය ජාතික හැඟීමකින් යුක්ත බවත්, ''බහුතරය තවමත් රුසියන් සංස්කෘතියට යට වී සිටින'' බවත් යූර්කෝවිච් මහතා අපට තිරකොට කියයි. මෙ ජාතිවාදී අවරසිකයා මෙසේද ප්‍රකාශ කරයි: අපේ කාර්යය වී ඇත්තේ ''ජනතාව පසුපසින් යාම නොව, ඔවුනට නායකත්වය දී ඔවුන්ගේ ජාතික අරමුණු (නට්සියොනාල්නා ස්ප්රාවා)'' විස්තර කිරීමය (''ද්ස්වින්'', 89 පිටුව).

යූර්කෝවිච් මහතාගේ තර්කය සම්පූර්ණයෙන්ම ධනපති ජාතිවාදීය. සමහර ධනපතීන් උක්රයිනයට පූර්ණ සමනාතාවය සහ ස්වෛරීත්වය ඉල්ලා සිටින අතර අන් සමහරු ස්වාධීන උක්රයීන රාජ්‍යයක් ඉල්ලා සිටිති. එහෙත් මේ ධනපති ජාතිකවාදීන්ගේ දෘෂ්ටිකෝණය අනුව වුවද, මෙම තර්කය නොගැළපෙයි. විමුක්තිය සඳහා ක්‍රියා කරන උක්රයීන ජාතිකයින්ට විරුද්ධව, මහා රුසියානු සහ පෝලන්ත ඉඩම් හිමි පංතියද, මේ ජාතීන් දෙකේ ධනපති පංතියද නැගී සිටිති. මේ පංතීන් වලට විරුද්ධව නැගී සිටිය හැක්කේ කිනම් සමාජමය පංතීන් වලටද? විසිවැනි සිය වසරේ පළමුවැනි දශකය මේ ප්‍රශ්නයට නිසි පිළිතුරක් සැපයීය: මෙම බලවේගය අන් කිසිවක් නොව, ප්‍රජාතාන්ත්‍රික ගොවිජනතාව තමන් වටා ඒකරාශී කැරැ ගන්නා කම්කරු පංතියයි. ජාතික ප්‍රචණ්ඩතාවය කොහෙත්ම කළ නොහැකි වන්නේ සැබැවින්ම ප්‍රජාතන්ත්‍රික බලවේගයන් ජයග්‍රහණය

කිරීමෙනි. මේ බලවේග බෙදා වෙන්කොට, එමගින් එය දුර්වල කිරීමට පරිශ්‍රමයක් දරන යුර්කේවිච් මහතා පොදුවේ ප්‍රජාතන්ත්‍රවාදී අයිතිවාසිකම් පමණක් නොව, තමාගේ නිජබිම වන උක්රයිනයේද අයිතියද පාවා දෙයි. මහා රුසියානු සහ උක්රයින නිර්ධන පංතියේ එක්සත් ක්‍රියාකාරීත්වයක් ඇතිව, නිදහස් උක්රයිනයක් බිහිකළ හැකිය. එවැනි සමගියකින් තොරව, එය ගැන කථා කිරීම පවා තේරුම් රහිතය.

එහෙත් මාක්ස්වාදීහු ධනවාදී ජාතික ස්ථාවරයට කොහෙත්ම සීමා නොවෙති. දසක කීපයක් තිස්සේ දකුණේ එනම් උක්රයිනයේ ත්වරණීක ආර්ථික සංවර්ධනයක ඉතා පැහැදිලි ක්‍රියාදාමයක් විසින් ධනපති ගොවිපොළවලට, ආකරවලට සහ නගරවලට මහා රුසියාවෙන් ලක්ෂ සංඛ්‍යාත ගොවීන් හා කම්කරුවන් ඇදගනිමින් පවතී. මහා රුසියානු සහ උක්රේනියානු නිර්ධන පංතියේ සීමාවන් තුළ ''ස්වීකරණයක්'' තිබීම විවාද රහිත සත්‍යයකි. එමෙන්ම මෙම සත්‍ය නිසැකවම ප්‍රගාමීය. ධනවාදය මහා රුසියානු සහ උක්රයින පිටිසර බද මුග්ධ, ගතානුගතික, තැන්පත් මුෂිකයා ජංගමශීලි නිර්ධනිකයකු බවට පත්කර මින් සිටී. මේ නිර්ධනයාගේ ජීවන තත්ත්වයන් විසින් මහා රුසියානු සහ උක්රයින විශේෂිත ජාතික පටු බුද්ධිය බිඳිනු ලැබේ. යථා කාලයේදී මහා රුසියාව සහ උක්රයිනය අතර රාජ්‍යමය දේශසීමා ඇති වෙතැයි අප නිගමනය කළද, ඇමෙරිකාවේ ජාතීන් එකට සංකලනය කිරීමේ ප්‍රගතිශීලි ස්වරූපය මෙන්ම මහා රුසියානු සහ උක්රයින කම්කරුවන්ගේ ''ස්වීකරණයේ'' ඓතිහාසික ප්‍රගතිශීලි ස්වභාවයද ස්ථිරය. උක්රයිනය සහ මහා රුසියාව කොතරම් දුරට නිදහස් වන්නේද, එතරම් දුරට ධනවාදී සංවර්ධනය වඩාත් විස්තීර්ණ වී වඩාත් වේගවත් වනු ඇත. මෙය වඩාත් බලවත් ලෙස කම්කරුවන්ද සියලු ජාතීන්ට සහ රාජ්‍යයේ සියලු ප්‍රදේශවලට අයත් වැඩකරන ජනතාවද, අසල්වැසි රාජ්‍යයන්ගේ වැඩ කරන ජනතාවද (උක්රයිනය සම්බන්ධයෙන් රුසියාව අසල්වැසි රාජ්‍යයක් වන්නේ නම්) නගරවලට, ආකරවලට සහ කම්හල් වලට ඇදගනු ඇත.

උක්රයින ජාතික (ස්ප්‍රාවා) ව්‍යාපාරයේ තාවකාලික ජයග්‍රහණය තකා ජාතීන් දෙකට අයත් නිර්ධන පංතියේ සමගිය, සම්බන්ධනය, සහ ස්වීකරණය විසින් ලබාදෙන වාසි ලෙව යුර්කේවිච් මහතා බැහැර කරන විට, ඔහු නියම ධනපතියකු ලෙසත්, අදූර දර්ශී, පටු බුද්ධියක් ඇති මොට්ටයකු එනම් අවරසිකයකු ලෙසත් ක්‍රියා කරයි. යුර්කේවිච්ලා සමග ධනපති ජාතිවාදීහු ජාතික කාර්යය (ස්ප්‍රාවා) ප්‍රථමයෙනුත්, නිර්ධන පංතික කාර්යය දෙවනුවත් ඇති විය යුතු බව පවසත්. දන්ත්සොව්ලා සහ අනිකුත් ව්‍යාජ මාක්ස්වාදීහු ඔවුන් අනුකරණය කරති. නිර්ධන පංතික කාර්යය ප්‍රධාන විය යුතු බව අපි කියා සිටිමු, මන්දයත්, එය ශ්‍රමයේ හා



මනුෂ්‍යත්වයේ දීර්ඝ කාලීන හා මූලික වුවමනාවන් පමණක් නොව ප්‍රජාතන්ත්‍රවාදයද ආරක්ෂා කරන බැවිනි. ප්‍රජාතන්ත්‍රවාදය නැතිව උක්රයිනයට ස්වෛරීභාවය හෝ නිදහස හෝ ලබාගැනීම සිතා ගැනීමට පවා නොහැකිය.

''ජාතික මැණික්'' වලින් අති බහුල යුර්කේවිච් මහතාගේ තර්කයේ තවත් කරුණක් නම් මෙසේය: උක්රයින කම්කරුවන්ගේ අල්පතරය ජාතික හැඟීමකින් යුක්ත බව ඔහු පවසයි: ''බහුතරය තවමත් රුසියන් සංස්කෘතියේ බලපෑමට යටවී සිටී.''

නිර්ධන පංතිය ගැන කතා කරන විට, සමස්තයක් වශයෙන් මහා රුසියානු සංස්කෘතියට පරස්පරව සමස්තයක් වශයෙන් උක්රයින සංස්කෘතිය ඉදිරිපත් කිරීම ධනපති ජාතිවාදයේ වාසිය පිණිස නිර්ධන පංතියේ වුවමනාවන් එහෙම පිටින්ම ලජ්ජා රහිතව පාවාදීමක් වන්නේය.

හැම සමකාලීන ජාතියකම ජාතීන් දෙකක් සිටින බව සියලු ජාතික-සමාජවාදීන්ට අපි කියා සිටිමු. සෑම ජාතික සංස්කෘතියකම ජාතික සංස්කෘති දෙකක් බැගින් ඇත. පුරිෂ්කේවිච්ලාගේ, ගුච්කොව්ලාගේ සහ ස්ත්‍රුවේලාගේ මහා රුසියානු සංස්කෘතියක් ඇත, එනමුදු චෙර්නිෂෙව්ස්කි සහ ප්ලෙහානව්ගේ නම්වලින් පෙනීසිටින මහා රුසියානු සංස්කෘතියක්ද ඇත්තේය. ජර්මනියේ, ප්‍රංශයේ, එංගලන්තයේ මෙන්ම, යුදෙව් ජාතිකයින් අතර මෙන්ම උක්රයිනයේද සංස්කෘති දෙකක් පවතී. උක්රයින කම්කරුවන්ගේ බහුතරය මහා රුසියානු සංස්කෘතියේ බලපෑමට හසුවී සිටිත් නම්, මහා රුසියානු පූජක සහ ධනපති සංස්කෘතියට සමාන්තරව මහා රුසියානු ප්‍රජාතන්ත්‍රවාදී සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංකල්ප ක්‍රියාකාරී වෙමින් පවතින බව අපි ස්ථිරලෙසම දනිමු. මුලින් කී සංස්කෘතියට විරුද්ධව සටන් කිරීමේදී පසුව කී සංස්කෘතිය ගෙනහැර දක්වමින් උක්රයින මාක්ස්වාදීහු මෙසේ පවසති: ''මහා රුසියානු පංති විඥත කම්කරුවන් සමගත්, ඔවුන්ගේ සාහිත්‍යය සහ ඔවුන්ගේ අදහස් මාලාව සමගත් සම්බන්ධකම් ඇති කැරගැනීමට ඇති හැම හැකියාවක්ම තදකොට අල්ලා ගත යුතුය, එය ප්‍රයෝජනයට ගත යුතුය, වර්ධනය කළ යුතුය. උක්රයින සහ මහා රුසියානු කම්කරු පංති ව්‍යාපාර දෙකේම වුවමනාවන් විසින් එය ඉල්ලා සිටිනු ලැබේ.''

උක්රයින මාක්ස්වාදියෙක් මහා රුසියානු පාගන්නන් කෙරෙහි ඇති පූර්ණ ඖරසික සහ ස්වාභාවික වෛරය නිසා අත්‍යන්තයෙන් එයට යටවීමට ඉඩදෙන්නේ නම්, එම වෛරයෙන් අංශු මාත්‍රයක් හෝ, එය මිත්‍ර භේදයකට පමණක් සීමා වුණද, මහා රුසියානු නිර්ධන පංතික සංස්කෘතියට හෝ නිර්ධන පංතික කාර්යයට හෝ විරුද්ධව යොදවන්නේ නම්, අන්න එවිට එවැනි මාක්ස්වාදියෙක් ධනපති ජාතිවාදය නැමැති මඩ

ගොහොරුවෙහි ගිලෙනු ඇත. එලෙසම මහා රුසියානු මාක්ස්වාදියෙක්, උක්රයින ජාතිකයින්ගේ පූර්ණ සමානත්වය පිළිබඳ ඉල්ලීම හෝ ස්වාධීන රාජ්‍යයක් පිහිටුවා ගැනීමට ඔවුනට ඇති අයිතිය හෝ මොහොතකටවත් අමතක කරන්නේ නම්, ඔහු ධනපති පංතියෙහි පමණක් නොව, කළු ශතකය නැමැති මඩ ගොහොරුවෙහි පවා එරෙනු ඇත.

මහා රුසියානු සහ උක්‍රයින කම්කරුවෝ එකට ක්‍රියා කළ යුත්තාහ. එමෙන්ම ඔවුන් එකම රාජ්‍යයක ජීවත් වන තුරු, ඉතා සමීප සංවිධානාත්මක සමගියකින් යුතුව ක්‍රියා කළ යුතුය, ප්‍රචාරය කරන භාෂාව පිළිබඳ ප්‍රශ්නයේදී සහ එම ප්‍රචාරයේ හුදු ප්‍රාදේශීය නැතිනම් හුදු ජාතික කරුණු පිළිබඳවද නිරපේක්ෂ ඉවසීමකින් යුතුව නිර්ධන පංතියේ පොදු නැතිනම් ජාත්‍යන්තර සංස්කෘතියක් කරා සංගතික ලෙස ක්‍රියා කළ යුතුය. මාක්ස්වාදයේ කොන්දේසි විරහිත ඉල්ලීම මෙයයි. එක් ජාතියක කම්කරුවන් තවත් ජාතියක කම්කරුවන් ගෙන් වෙන්කර තැබීමට දේශනා කිරීමද, මාක්ස්වාදී ස්වීකරණයට විරුද්ධව පහර ගැසීමද, නිර්ධන පංතිය අරබයා, සමස්තයක් වශයෙන් එක් ජාතික සංස්කෘතියක්, අනුකලනයැයි කියන තවත් ජාතික සංස්කෘතියකට විරුද්ධව ඉදිරිපත් කිරීම ආදියද ධනපති ජාතිවාදය වන අතර ඒවාට විරුද්ධව අනුකම්පා විරහිත අරගලයක් කිරීම අනිවාර්ය වන්නේය.

## 4. ''සංස්කෘතික-ජාතික ස්වෛරීත්වය

''ජාතික සංස්කෘතිය'' නැමැති උද්යෝග පාඨය මාක්ස්වාදීන්ට ඉමහත් සේ වැදගත් වන්නේ, ධනපති ප්‍රචාරයට වඩා වෙනස්ව, ජාතික ප්‍රශ්නය පිළිබඳව අපේ ප්‍රචාරයෙහි දෘෂ්ටිමය හරය එය නිර්ණය කරන නිසා පමණක් නොව, බොහෝසෙයින් සාකච්ඡාවට භාජනය කර තිබෙන සංස්කෘතික-ජාතික ස්වෛරීත්වය මුළු මහත් වැඩ පිළිවෙළම මෙම උද්යෝග පාඨය මත පදනම් කැරැ තිබෙන නිසාද බැවිනි.

මේ වැඩපිළිවෙළෙහි ප්‍රධාන සහ මූලික අඩුපාඩුව නම්, අති ශෝධිත, අති නිරපේක්ෂ, අති අන්තගාමී ජාතිවාදය ක්‍රියාවේ යෙදවීම එහි අරමුණ වීමය. මෙම වැඩපිළිවෙළේ හරය මෙසේ ය: හැම රටවැසියකුම යම්කිසි ජාතියකට අයත් බව ලියා පදිංචි කිරීම සහ හැම ජාතියක්ම නෛතික වශයෙන් සමස්තයක් ලෙස පිළිගෙන, තම ජාතියට අයත් සාමාජිකයින්ගෙන් අයබදු අයකිරීමට අයිතියක් පැනවීමය, ජාතීන්ගේ පාර්ලිමේන්තු (මන්ත්‍රණ සභා) සහ රාජ්‍ය ජාතික ලේකම් වරුන් (ඇමතිවරුන්) පත්කිරීමය.



මෙවැනි අදහසක් ව්‍යවහාරික වශයෙන් ජාතික ප්‍රශ්නයට යෙදවීම, ප්රූදොන්ගේ අදහස ධනපති ක්‍රමයට ව්‍යවහාරික ලෙස යෙදවීමට සමාන වේ. ප්රූදොන්ගේ සංකල්පය වූයේ ධනපති ක්‍රමය සහ එහි පදනම වන භාණ්ඩ නිෂ්පාදනය අහෝසි නොකර, එම පදනමෙහි ඇති අක්‍රමිකතාවයන් සහ එහි පිළිකා ආදිය පමණක් නැති කර දැමීමය; හුවමාරුව සහ හුවමාරු වටිනාකම අහෝසි නොකර එයට ප්‍රතිලෝම්ව, එය ව්‍යවස්ථානුකූල, විශ්වමය, නිරපේක්ෂ, ''සාධාරණ'' බවට පත්කරලීම සහ එය උච්චාවචන වලින්, අර්බුද වලින් සහ අක්‍රමිකතා වලින් නිදහස් කරලීමය.

ප්රූදොන් සුළු ධනවාදියකු වූවා සේම, එමෙන්ම ඔහුගේ න්‍යායය, හුවමාරුව සහ භාණ්ඩ නිෂ්පාදනය නිරපේක්ෂ ප්‍රවර්ගයකට පෙරළා එය සම්පූර්ණත්වයේ මුදුන් මල්කඩ හැටියට හුවා දැක්වීය. සුළු ධනපති පංතියේ ''සංස්කෘතික-ජාතික ස්වෛරීත්වයේ'' න්‍යායය සහ වැඩ පිළිවෙලද එසේය. මන්දයත් එය ධනපති ජාතිවාදය නිරපේක්ෂ ප්‍රවර්ගයක් දක්වා පෙරළා, එය සර්ව සම්පූර්ණත්වයේ මුදුන් මල්කඩ හැටියට හුවා දක්වමින්, එහි ප්‍රචණ්ඩකාරිත්වය, අසාධාරණත්වය ආදියෙන් එය ශුද්ධ කරන බැවිනි.

ජාතිකවාදය ''අති සාධාරණ'', ''අති පිරිසුදු'', අති ශෝධිත සහ සභ්‍ය වර්ගයකට අයත් වුවද, මාක්ස්වාදයට එයත් සමග සමාදන වීමට කොහෙත්ම නොපුළුවන. සියලු අන්දමේ ජාතිකවාදය වෙනුවට, මාක් මාක්ස්වාදය ජාත්‍යතරවාදයක්, උසස් සමගියක් ඇතිකරන ඒකරාශී වීමක් ඉදිරිපත් කරයි. දුම්රිය මාර්ගයක ඉදිකරන සෑම හැතැප්මයක් පාසාද, සෑම ජාත්‍යන්තර සංගතියක් මගින්ද, සංවිධානය කරනු ලබන සෑම (සිය ආර්ථික ක්‍රියාකාරිත්වය අනුව අන්තර්ජාතික වූ ද, අනතුරුව සිය දෘෂ්ටිය සහ අරමුණු අනුවද) කම්කරු සංගමයක් මගින්ද අපේ නෙත් ඉදිරියේ වැඩෙමින් පවතින සමගියක් ඉදිරිපත් කරයි.

ධනපති සමාජය තුළ ජාතිකත්වයේ මූලධර්මය වැලැක්විය නොහැකිය. මෙය සැලකිල්ලට ගන්නා මාක්ස්වාදියා ජාතික ව්‍යාපාරවල ඓතිහාසික ඖරස භාවය සම්පූර්ණයෙන්ම පිළිගනී.එහෙත් එසේ කළ යුත්තේ මෙම පිළිගැනීම ජාතිකවාදයේ සමාවට කරුණක් වීම වළක්වාලනු පිණිසත්, නිර්ධන පංතික හැඟීම ඇඳිරි කරන ධනවාදී සංකල්පය දක්වා මෙම පිළිගැනීම යොමු නොවනු පිණිසය.

රදළවාදී නින්දෙන් ජනතාව ප්‍රගමනික ලෙස අවදි වීමත්, ජනතාවගේ සහ ජාතියේ ස්වාධීනත්වය සඳහා ජාතික පෑගීමට විරුද්ධව සටන් කිරීමත් ප්‍රගතිශීලිය. එමනිසා මාක්ස්වාදියාගේ අනිවාර්ය යුතුකම වන්නේ ජාතික ප්‍රශ්නයේ සියලු අංශ වලදී ඉතා දැඩිලෙසත් සහ ස්ථිර ලෙසත් ප්‍රජාතන්ත්‍රවාදයට පක්ෂව නැගී සිටීමය. මෙය විශාල වශයෙන් ප්‍රතිෂේධක

කාර්යයකි. එහෙත් ජාතිකවාදයට ආධාර දීමේදී නිර්ධන පංතියට යා හැකි සීමාව මෙයය. මන්දයත්, මෙම සීමාවෙන් ඔබ්බට යාමේදී ධනපති පන්තිය ජාතිකවාදය ශක්තිමත් කිරීමට පරිශ්‍රම දැරීමේ යථානුභූත ක්‍රියාකාරීත්වය ආරම්භ වන බැවිනි.

රදළවාදී වියගහද, සියලු ජාතික පෑගීම්ද, එක් විශේෂ ජාතියක් හෝ භාෂාවක් භුක්ති විඳින සියලු වරප්‍රසාද ද අහෝසි කර දැමීම ප්‍රජාතාන්ත්‍රික බලවේගයක් වන නිර්ධන පංතියේ අනිවාර්ය යුතුකම වන්නේය. ජාතික ප්‍රශ්නය ගැන කුලල් කාගැනීම ඇඳිරි කරන සහ පමාකරන නිර්ධන පංතියේ පංති සටන් වල වුවමනාවන් සමග එය සත්තකින්ම ගැළපෙයි. එහෙත් ධනවාදී ජාතිකවාදයට උදව් දීමේදී මේ ඉතා දැඩි සීමාසහිත සහ නියත ඓතිහාසික සීමාවලින් ඔබ්බට යාමේ තේරුම නම් නිර්ධන පංතිය පාවාදීම සහ ධනපති පංතියේ පැත්ත ගැනීමය. මෙහි ඇති සීමාවන් නිතර පාහේ ඉතා සූළුය. මේවා බූන්ඩ් වාදීහු සහ උක්රයීන ජාතික සමාජවාදීහු සම්පූර්ණයෙන්ම අමතක කර දමති.

සියලු ජාතික පෑගීම්වලට විරුද්ධව සටන් කරමුද? සත්තකින්ම එසේය. ඕනෑම වර්ගයක ජාතික සංවර්ධනයක්, පොදුවේ ජාතික සංස්කෘතිය සඳහා සටන් කරමුද? සත්තකින්ම නැත. ලෝකය පුරා නොමේරූ ජාතික ව්‍යාපාරයන් පිළිබඳ නිදසුන්ද, කුඩා ජාතීන් කීපයකින් එක් විශාල ජාතියක් ඇතිවීමද, නැතිනම් සමහර සුළු ජාතීන්ට හානි ඇතිකිරීම පිළිබඳ නිදසුන්ද එමෙන්ම ජාතීන් ස්වීකරණයට භාජනය කිරීමේ නිදසුන්ද ධනපති සමාජයේ ආර්ථික වර්ධනය විසින් ඉදිරිපත් කරනු ලැබේ. ධනපති ජාතිකවාදයේ පොදු ප්‍රතිපත්තිය ජාතිකත්වය පොදුවේ වර්ධනය කිරීමය. එනිසා ධනපති ජාතිකවාදයේ විශේෂතාවයක් ඇතිවෙයි, එනිසා සීමාරහිත ජාතික කුලල් කා ගැනීම් ඇතිවෙයි. නිර්ධන පංතිය එක්, එක් ජාතියකගේ ජාතික සංවර්ධනය සඳහා සටන් කිරීමට ඉදිරිපත් නොවනවා පමණක් නොව, එවැනි මායාමතයන්ට විරුද්ධව ජනතාවට අනතුරු අඟවයි. ධනවාදී අන්තර් සම්බන්ධතාවයේ පූර්ණ නිදහසට පක්ෂපාත වෙයි. බලාත්කාරය හෝ වරප්‍රසාද හෝ පදනම් කැරගත් ඒවා හැර, ජාතීන්ගේ අන් සියලු අන්දමේ ස්වීකරණයන්ට පක්ෂපාත වෙයි.

ජාතිකවාදය එක්තරා "සාධාරණ" සීමා නිර්ණය ක්ෂේත්‍රයක් තුළ තහවුරු කරලීම, ජාතිකවාදය "ව්‍යවස්ථා ගත කිරීම," විශේෂ රාජ්‍ය ආයතනයක් මගින් එක්, එක් ජාතියක් අනිත් ජාතීන්ගෙන් වෙන්කරලීම — සංස්කෘතික ජාතික ස්වෛරීත්වයේ දෘෂ්ටිමය පදනම සහ හරය එයයි. මෙම අදහස සම්පූර්ණයෙන්ම ධනවාදී මෙන්ම සම්පූර්ණ ව්‍යාජයක්ද වන්නේය. කිසිම අන්දමේ ජාතිකවාදී කැපකිරීම් වලට නිර්ධන පංතියට



ආධාර දීමට නොහැකි අතර එයට විලෝම වශයෙන් ජාතික විශේෂතාවයන් මැකීයන හැම දේටමත්, ජාතික බාධාවන් ඉවත් කරලීමටත් එය ආධාර දෙයි. ජාතීන් අතර වඩ වඩාත් සමීප සම්බන්ධකම් ඇති කරන නැතිනම් ජාතීන් ඒකරාශී කිරීමට තුඩුදෙන හැම දෙයටම එය ආධාර කරයි. මෙයට වඩා වෙනස් විධියකට ක්‍රියා කිරීම යනු ප්‍රතිගාමී ජාතිකවාදී අවරසිකයින්ට පක්ෂපාත වීමය.

ඕස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු බ්‍රියුන්හි (1899 දී) පවත්වන ලද සිය සමුළුවේදී සංස්කෘතික ජාතික-ස්වෛරීතාවය සඳහා සැලැස්මක් සාකච්ඡා කළ විට, එම සැලැස්මේ න්‍යායික වැදගත්කම ගැන සෑහෙන සැලකිල්ල යොමු නොකළහ. කෙසේවුවද, මෙම වැඩ පිළිවෙලට විරුද්ධව පහත සටහන් තර්ක දෙක ඉදිරිපත් කළ බව පෙන්වාදීම වැදගත්ය: 1) මෙය පූජකවාදය ශක්තිමත් කිරීමට යොමුවී තිබීම; 2) "මෙහි ප්‍රතිඵලය වනුයේ ෂෝවින්වාදය (ජාත්‍යෝන්මාදවාදය) සදාකාලික කිරීමත්, එය කුඩා සෑම ජන සමූහයකටමත්, සෑම කුඩා කණ්ඩායමකටමත් ඉදිරිපත් කිරීම". (ජර්මන් බසින් නිකුත්කරන ලද බ්‍රියුන් සමුළුවේ නිලවාර්තාව, 92 පිටුව. මෙහි රුසියන් පරිවර්තනයක් යූදෙව් ජාතික පක්ෂය "සේර්ප්"[25] විසින් ප්‍රසිද්ධ කරනලදී.

වචනයේ සාමාන්‍ය අර්ථය අනුව "ජාතික සංස්කෘතිය," එනම් පාසල් ආදිය, ලෝකයේ සියලු රටවල පූජක පන්තියේ සහ ධනපති ෂෝවිනිස්ට වාදීන්ගේ ප්‍රධාන බලපෑමට යටවී තිබෙන බවට සැකයක් නැත. "ජාතික සංස්කෘතික" ස්වෛරීත්වය ආරක්ෂා කරමින් බූන්ඩ් වාදීන්, ව්‍යවස්ථාගත කරන ලද ජාතීන්ට බාහිර බලපෑම් වලින් තොරව අභ්‍යන්තරව පිරිසුදු පන්ති අරගලයක් ගෙන යා හැකියැයි කියන විට, ඉන් අමන විතණ්ඩ වාදයක් ප්‍රකාශ වෙයි. ඕනෑම ධනපති සමාජයක බැරෑරුම් පන්ති සටනක් ඇතිවන්නේ ප්‍රධාන වශයෙන් ආර්ථික හා දේශපාලනමය ක්ෂේත්‍රවලය. මෙයින් අධ්‍යාපන ක්ෂේත්‍රය වෙන් කිරීම, ප්‍රථමයෙන්ම මුග්ධ මනෝරාජික ක්‍රියාවකි. මන්දයත්, පාසල් (පොදුවේ "ජාතික සංස්කෘතිය" මෙන්ම) ආර්ථිකයෙන් සහ දේශපාලනයෙන් වෙන් කළ නොහැකි බැවිනි. දෙවනුව, අමන සහ යල්පැන ගිය ජාතික බාධාවන් සහ අගතිගාමී හැඟීම් විනාශකර ලිය යුතුයැයි ඉල්ලා සිටින්නේ ධනවාදී රටේ ආර්ථික හා දේශපාලන ජීවිතය විසිනි. අනිත් අතට පාසල් ක්‍රමය ආදිය වෙන්කිරීම නිසා "පිරිසුදු" පූජකවාදය සහ "පිරිසුදු" ධනපති ෂෝවින්වාදය සදාකාලික කරනවා පමණක් නොව, එය උග්‍ර කොට ශක්තිමත් කරයි.

බද්ධ ව්‍යාපාර වස්තු වෙළඳ සමාගම් වල අධ්‍යක්ෂක මණ්ඩලවල විවිධ ජාතීන්ට අයත් ධනපතීන් පූර්ණ සංගතියකින් යුතුව වැඩ කරන සැටි අපි දකිමු. කම්හල්වල විවිධ ජාතීන්ට අයත් කම්කරුවෝ උරෙනුර ගැටී වැඩ

කරති. ඕනෑම, සැබවින්ම බැරෑරුම් සහ ගැඹුරු දේශපාලන ප්‍රශ්නවලදී කාණ්ඩ ගැසෙන්නේ පංති අනුව මිස ජාතීන් අනුව නොවේ. පාසල් අධ්‍යාපනය ආදී දේ ''රාජ්‍ය පාලනයෙන් ඉවත්කරලීම'' සහ එය ජාතීන්ගේ පාලනය යටතට ගැනීම, ජාතීන් එක්සත් කරන ආර්ථිකයෙන් සමාජ ජීවිතයේ ඉතා උසස් දෘෂ්ටිමය ක්ෂේත්‍රය වෙන්කිරීමට ආයාස දැරීමක් වැන්න. මෙම ක්ෂේත්‍රය ''හුදු'' ජාතික සංස්කෘතිය නැතිනම් පූජක වාදයේ ජාතික වශාවේ සහ ෂෝවින්වාදයේ නිදහස් ක්‍රියාකාරීත්වයට පහසුවක් ගෙන දෙන ක්ෂේත්‍රයක්ද වන්නේය.

ව්‍යවහාරික ලෙස ''බහිර්-භෞමික (භූමියෙන් පරිබාහිරව, එක් හෝ තවත් ජාතියක් ජීවත්වන ප්‍රදේශ සමග සම්බන්ධ නැති) නැතිනම් ''සංස්කෘතික ජාතික'' ස්වෛරීත්වයේ සැළැස්ම එක් දෙයක් පමණක් තේරුම් කරයි: අධ්‍යාපනික කටයුතු ජාතීන් අනුව බෙදීමය, එනම් පාසල් කටයුතු වලදී ජාතික අධිකාරීන් පත්කිරීමය. සුප්‍රසිද්ධ බුන්ඩ් සැළැස්මේ සැබෑ වැදගත්කම ගැන නිසි ලෙස කල්පනා කිරීමෙන්, සමාජවාදය සඳහා නිර්ධන පංතිය කරන පංති අරගලයේ ස්ථාවරය අනුව කෙසේවෙතත්, ප්‍රජාතන්ත්‍රික ස්ථාවරයකින් වුවද, එය කෙතරම් ප්‍රතිගාමීද යන්න කෙනෙකුට වටහා ගැනීමට හැකිවනු ඇත.

පාසල් ක්‍රමය ජනසතු කිරීමේ එක් නිදසුනකින් සහ එක් පරිපාටියකින් මෙහි හරය ඉතා හොඳින් පැහැදිලි කළ හැකිය. ඇමරිකා එක්සත් ජනපදයේ රාජ්‍යයන් ජීවිතයේ සියලු අංශ අනුව අද දක්වාත් උතුර සහ දකුණ යනුවෙන් දෙකට බෙදී සිටී. උතුරු රාජ්‍යයන් නිදහස සහ වහල් හිමියන්ට විරුද්ධව සටන් කිරීමේ ශ්‍රෙෂ්ඨතම සම්ප්‍රදයයන්ගෙන් යුක්තය. දකුණේ රාජ්‍යයන් වහල් අයිතිය, ආර්ථික වශයෙන් පෑගී සිටින හා සංස්කෘතික වශයෙන් නොදියුණු නීග්‍රෝවරුන්ට වධ හිංසා (නීග්‍රෝ වරුන්ගෙන් සියයට 44 ක්ද, සුද්දන්ගෙන් සියයට 6 ක්ද නූගත්තුය) සහ එවැනි දේ කිරීමේ විශාල සම්ප්‍රදයයන්ගෙන් යුක්තය. උතුරේ රාජ්‍යයන්වල එකම පාඨශාලාවල සුදු සහ නීග්‍රෝ ළමයි එකට ඉගෙන ගනිති. දකුණේ රාජ්‍යයන් වල ''ජාතික'' නැතිනම් වර්ගවාදී පාසල් — ඔබට රුචි නමක් යොදගන්න — නීග්‍රෝ ළමයින් සඳහා ඇත්තේය. සැබවින්ම පාසල් ''ජනසතු කිරීමේ'' එකම නිදසුන මෙය බව මගේ හැඟීමය.

නැගෙනහිර යුරෝපයේ බෙයිලිස් සිද්ධිය[26] වැනි දේ තවම සිදුවිය හැකි රටක් තිබේ. නීග්‍රෝවරුන්ගේ තත්ත්වයට වඩා නරක තත්ත්වයකට පුරිෂ්කේවිච්ලා යුදෙව්වන් ඇද දමා ඇත්තාහ. යුදෙව් පාසල් ජනසතු කිරීමේ සැලැස්මක් මේ නොබෝද අමාත්‍යාංශය විසින් ඉදිරිපත් කැරිණි. වාසනාවකට මෙන් ඕස්ත්‍රියානු සුළු ධනපති පංතියේ මනඃකල්පිතය මෙන්ම මේ ප්‍රතිගාමී මනඃකල්පිතයද ක්‍රියාවට යෙදවිය නොහැකිය. සසංගත



ප්‍රජාතන්ත්‍රවාදයක් ලබාගැනීම නැතිනම් ජාතික කුලල් කා ගැනීම අවසන් කිරීම පිළිබඳව සිය බලාපොරොත්තු නැති කරගත් ඕස්ත්‍රියානු සුළු ධනපති පංතිය, පාසල් බෙද ගැනීමේදී ජාතීන්ගේ කුලල් කා ගැනීම නවත්වාලීම සඳහා පාසල් අධ්‍යාපනික ඛණ්ඩ ඇති කළේය... එහෙත් ඔවුහු ''එක් ජාතික සංස්කෘතියක්'' තවත් එකකට විරුද්ධව සදකාලික කුලල් කා ගැනීමක් සඳහා තමන්ම ''ව්‍යවස්ථාගත වූහ.''

ඕස්ත්‍රියාවේ ජාතික-සංස්කෘතික ස්වෛරීත්වය සෑහෙන දුරකට සාහිත්‍යමය මවා පෑමකට සීමාවිය. ඕස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් මේ ගැන සෑහෙන සැලකිල්ලක් දක්වා නැත. කෙසේවුවද, රුසියාවේ මෙය සියලු යුදෙව් ධනපති පක්ෂවල වැඩ පිළිවෙල විසින් ද, එමෙන්ම, නිදසුනක් වශයෙන් බුන්ඩ්වාදීන්, කොකේසියාවේ ලික්විඩේටර්වරුන්, වාමාංශික නරෝද්නික්වාදී ප්‍රවණතාවයේ රුසියානු ජාතික පක්ෂවල සාකච්ඡාවේදිද ආදී වශයෙන් විවිධ ජාතීන් වලට අයත් සුළු ධනපති අවස්ථාවාදී කොටස් විසින්ද පිළිගන්නා ලදී. (අප විසින් වරහන් තුළ සටහන් කරන මෙම සාකච්ඡාව 1907 පැවැත්විණි. එහිදී තීරණ සම්මත කර ගනු ලැබුවේ රුසියන් සමාජවාදී-විප්ලවවාදීන් (එස්ආර් වරුන්) සහ පෝලන්ත සමාජ දේශප්‍රේමීන් P.P.S.[27] මධ්‍යස්ථව සිටියදීය. එස්ආර් වරු සහ P.P.S. වරු ජාතික වැඩ පිළිවෙල පිළිබඳ ක්ෂේත්‍රයේ මූලධර්මය පිළිබඳ ඉතා වැදගත් ප්‍රශ්නයකදී තම ආකල්පය දැක්වීමට වුවමනා වූ විට, චන්දය දීමෙන් වැළකී සිටීම පුදුමාකාර ලෙස එස්ආර්වරුන්ට හා P.P.S. වරුන්ට ආවේනික වූ විධියකි.)

ඕස්ත්‍රියාවේ සංස්කෘතික-ජාතික ස්වෛරීත්වය පිළිබඳව ප්‍රධාන න්‍යායාචාර්යාවූ ඔටෝ බවර්, යුදෙව්වන් සඳහා එවැනි වැඩ පිළිවෙලක් යෝජනා නොකළ හැකි බව, ඔප්පු කරමින් සිය පොතෙහි පරිච්ඡේදයක් ඒ සඳහා වෙන් කළේය. රුසියාවේ විශේෂයෙන්ම යුදෙව්වන්ගේ සියලු ධනපති පක්ෂත්, — ඒවායේ දෝංකාරය වන බුන්ඩ් සංවිධානයත් — මෙම වැඩ පිළිවෙල* පිළිගෙන සිටිති. මෙය කුමක් පෙන්වයිද? රුසියානු

*සියලු යුදෙව් ධනපති පක්ෂ ''සංස්කෘතික-ජාතික ස්වෛරීත්වය'' පිළිගත් බව, බුන්ඩ්වාදියෝ නිතර පාහේ ඉතා බලවත් ලෙස ප්‍රතික්ෂේප කරති. මෙය තේරුම් ගත හැකිය. බුන්ඩ් සංවිධානයේ සැබෑ ක්‍රියා කලාපය කුමක්ද යන්න මෙම සත්‍ය සිද්ධිය හොඳහැටි හෙළිදරවු කරයි. බුන්ඩ්වාදියකු වන මානින් මහත්මයා 'ලුච්'[28] පුවත්පත මගින් මෙම ප්‍රතික්ෂේපය ඉදිරිපත් කළද, එන්. ස්කොප් ඔහු සම්පූර්ණයෙන්ම හෙළිදරවු කළේය. (''ප්‍රොස්විෂේනියෙ'' සඟරාවේ 3 කලාපය බලන්න). එහෙත් ලෙව් යුර්කේවිච් මහතා ''ද්ස්වින්'' පුවත්පතෙහි (1913, අංක 7-8, 92 වැනි පිටුව) එන් ස්කොප්ගේ ප්‍රකාශනය වන ''බුන්ඩ්වාදියෝ සියලු

බර්න්ෂ්ටයින්ලා (ස්ත්‍රුවේ, තුගාන්-බරනොව්ස්කි, බෙර්ද්යායෙව් සහ සමාගම) මාක්ස්වාදයේ සිට ලිබරල් වාදය දක්වා ක්ෂණිකව පරිවර්තනය වෙමින් ජර්මන් බර්න්ෂ්ටයින්වාදයේ[29] සැබෑ දෘෂ්ටිමය හරය හෙළිදරවු කළේ යම්සේද, එසේම ඉතිහාසය, වෙනත් රාජ්‍යයක දේශපාලනමය ප්‍රායෝගිකත්වය මගින් බවර්ගේ සොයාගැනීමේ හාස්‍යජනක භාවය, හෙළිදරව් කළ බව පෙන්වා දෙයි.

ඕස්ත්‍රියානු හෝ රුසියානු හෝ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සිය වැඩ පිළිවෙලෙහි ''සංස්කෘතික-ජාතික ස්වෛරීත්වය'' සංයුක්ත කර නැත. එසේවුවද, ඉතා නොදියුණු රටක, යුදෙව් ධනපති පක්ෂ සහ සමාජවාදීන් යැයි කියා ගන්නා සුළු ධනවාදී, කණ්ඩායම් කීපයක් කම්කරු පංතිය අතර සියුම් ආකාරයකින් ධනපති ජාතිවාදී අදහස් පතුරුවාලීම පිණිස මෙය උපයෝගී කැරැ ගත්හ. මේ සත්‍යය සුපැහැදිලි ලෙස පෙණේ.

---

ජාතික ප්‍රශ්නය පිළිබඳ ඕස්ත්‍රියානු වැඩ පිළිවෙල ගැන මතක් කිරීමට සිදු වූ නිසා බුන්ඩවාදීන් විසින් නිතර විකෘති කරන සත්‍යයක් අප විසින් යළි පුනඃස්ථාපනයට පත් කළ යුතුය. බ්‍රියුයින් සමුළුවේදී ''සංස්කෘතික ජාතික ස්වෛරීත්වය'' පිළිබඳව පිරිසුදු වැඩ පිළිවෙලක් ඉදිරිපත් කැරිණි. මෙය දකුණු දිග ස්ලාව් ජාතික සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ වැඩ පිළිවෙල වූ අතර එහි දෙවැනි ඡේදයෙන් මෙසේ කියැවෙයි: ''ඕස්ත්‍රියාවේ වාසය කරන සෑම ජාතියක්ම එහි සාමාජිකයින් වාසය කරන භූමි ප්‍රදේශය නොතකා, තම තමන්ගේ ජාතික (භාෂාව සහ සංස්කෘතික) කටයුතු පූර්ණ ස්වාධීන ලෙස පාලනය කරන ස්වෛරී කණ්ඩායම් වලින් යුක්ත වෙයි.'' මෙම වැඩ පිළිවෙලට ක්‍රිස්ටන් පමණක් නොව, බලගතු එලෙන්බොගෙන්ද පක්ෂපාත විය. එහෙත් එය ඉල්ලා අස්කැරැ ගන්නා ලදී. එයට පක්ෂව

---

යුදෙව් ධනවාදී දේශපාලන පක්ෂ හා කාණ්ඩ සමග එකතු වී බොහෝ කලක් තිස්සේ සංස්කෘතික-ජාතික ස්වෛරීත්වය දේශනා කළෝය'' නැමති පාඨය උපුටා ගනිමින් බුන්ඩවාදියෝ නැමැති වචනය අතහැර දමා සංස්කෘතික-ජාතික ස්වෛරීත්වය වෙනුවට ''ජාතික අයිතිවාසිකම්'' නැමැති වචනය ආදේශ කරන විට කෙනෙක් ඉමහත් පුදුමයට පත්වෙයි! ලෙව් යුර්කේවිච් මහතා ජාතිවාදියකු සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සහ ඔවුන්ගේ වැඩ පිළිවෙල පිළිබඳ ඉතිහාසය නොදත් මුග්ධයකු පමණක් නොව, බුන්ඩ සංවිධා ් වාසිය තකා උද්ධෘතයන් වුවමනාවෙන්ම බොරු කරන්නෙකි. බුන්ඩ සංවිධානයේ සහ යුර්කේවිච්ලාගේ වැඩ කටයුතු නරක තත්ත්වයක පවතිනවා විය යුතුය.



එකද ඡන්දයක්වත් නොලැබිණ. ඒ වෙනුවට භෞමික මූල ධර්මයකින් යුත් වැඩ පිළිවෙලක්, එනම් ''සෑම ජාතියක්ම එහි සාමාජිකයින් වාසය කරන භූමිය නොතකා'' ජාතික කණ්ඩායම් බිහි නොකරන වැඩ පිළිවෙලක් සම්මත කැරැගන්නා ලදී.

පිළිගත් වැඩ පිළිවෙලේ තුන්වැනි ඡේදයෙන් මෙසේ කියැවෙයි: එකම ජාතියකගේ ස්වයං පාලක ප්‍රදේශ, තමන්ගේ ජාතික කටයුතු නිරපේක්ෂ වශයෙන්ම ස්වෛරී පදනමක් මත පාලනය කරන ජාතික එක්සත් සමාගමයක් සාමූහිකව සංවිධානය කළ යුතුය.'' (''ප්‍රොස්විෂේනියෙ'', 1913 අංක 4. 28 පිටුව)[30]. පැහැදිලි ලෙස මේ සම්මුතිවාදී වැඩපිළිවෙලද සම්පූර්ණයෙන්ම සාවද්‍යය. නිදසුනකින් එය පැහැදිලි වෙයි: සරාතව් ගුබෙර්නියාවේ ජර්මන් ජනපද සමූහයද, රීගාවේ නැතිනම් ලොඩස්හි ජර්මන් කම්කරු පංතික තදසන්න පෙදෙස්ද, පිටර්ස්-බර්ගය අසල ජර්මන් නිවාස ජනපදයද ආදිය එකතුව රුසියාවේ වාසය කරන ජර්මනුන්ගේ ජාතික එක්සත් සමාගමයක් සංයුක්ත කරයි. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ඕනෑම රාජ්‍යයක ඕනෑම ජාතියකගේ සමූහයන්ගේ සමාගමයන් ඇතුළු කිසිම සමාගමයක නිදහස කිසිසේක්ම ප්‍රතික්ෂේප නොකරන අතර එවැන්නක් ශක්තිමක් කිරීමටද ඉදිරිපත් නොවන නමුත් පැහැදිලි ලෙසම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට මෙවැනි ඉල්ලීමක් ඉදිරිපත් කළ නොහැකිය, රුසියාවේ විවිධ ප්‍රදේශවල වාසය කරන, විවිධ පංති වලට අයත්, ජර්මනුන් ආදීන් රාජ්‍යමය නීතියක් මගින් විසංගමනය කිරීම පූජකයින්ට, ධනපතීන්ට හෝ අවරසිකයින්ට හෝ වෙනත් ඕනෑම කෙනෙකුට කළ හැකිය. එහෙත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට එවැන්නක් කොහෙත්ම කළ නොහැකිය.

## 5. ජාතීන්ගේ සමානත්වය සහ සුළු ජාතීන්ගේ අයිතිය

රුසියාවේ අවස්ථාවාදීන් ජාතික ප්‍රශ්නය සාකච්ඡා කරන විට, ඔවුන් ඉදිරිපත් කිරීමට කැමති හොඳම නිදසුන ඕස්ත්‍රියාවය. අවස්ථාවාදීන් විසින් පහර ගසන ලද (''නෝවය රබෝචයා ගසේතා'' හි සෙම්කොව්ස්කි මහතා සහ සෙයිට්[31] හි ලීබ්මන් මහතා) 'සේවර්නයා ප්‍රාව්ද' (ප්‍රස්විශේනිය නො. 10) පුවත්පතට මා ලියූ ලිපිය මගින් මා පෙන්වා දුන්නේ, ධනපති ක්‍රමය යටතේ මේවා සියල්ල කළ හැකි නම්, ජාතික ප්‍රශ්නය විසඳීමට ඇත්තේ එකම පිළියමකි, එනම් සංගත ප්‍රජාතන්ත්‍රවාදය මගින් පමණකි. මෙය ඔප්පු කිරීම සඳහා අනිකුත් දේ අතර මම ස්විට්සර්ලන්තය ගෙනහැර දැක්වීමි.

මෙහි වැදගත්කම ප්‍රතික්ෂේප කිරීමට හෝ අඩුකොට තැකීමට හෝ තතනන ඉහත කී අවස්ථාවාදීන් දෙදෙනාට මෙය නොරිසි විය. ස්විට්සර්ලන්තය විශේෂිතයක් ලෙස කෞට්ස්කි ප්‍රකාශ කළ බව අපට කියති, ස්විට්සර්ලන්තය විශේෂ විකේන්ද්‍රකරණයකි, එයට විශේෂ ඉතිහාසයක්, විශේෂ භූගෝලීය තත්ත්වයන් විවිධ භාෂා කතා කරන ජනගහනයකගේ විශේෂ ව්‍යාප්තියක් ආදිය ඇත්තේය.

මේවා සියල්ල ප්‍රශ්නය මග හැරීමට කරන ප්‍රයත්න හැර අන් කිසිවක් නොවේ. ස්ථිර වශයෙන්ම ස්විට්සර්ලන්තය විශේෂිතයක් වන්නේ එය ඒක ජාතික රාජ්‍යයක් නොවන නිසාය. එහෙත් ඔස්ත්‍රියාව සහ රුසියාව විශේෂිතයන්ය (නැතිනම් කෞට්ස්කි කියන හැටියට නොදියුණුය). අසල්වැසි යුරෝපීය රාජ්‍යයන්ට වඩා වැඩි ප්‍රජාතන්ත්‍රවාදයක් ස්විට්සර්ලන්තයට ලැබුණේ ඇගේ විශේෂ, අනුපම ඓතිහාසික හා සමාජයීය තත්ත්වයන් නිසාය.

අප විසින් පිළිගත යුතු ආකෘතිය ගැන කතා කරන්නේ නම්, මේවා කොහෙන් ගත හැකිද? මුළු මහත් ලෝකයේම වත්මන් තත්ත්වයන් යටතේ සසංගත ප්‍රජාතන්ත්‍රවාදී මූලධර්මයක් මත පිහිටුවන ලද ප්‍රජාතන්ත්‍රික ආයතන ඇති රටවල් වූකලී විශේෂිතයකි. අපේ වැඩ පිළිවෙලෙහි සියලු ආයතනවල සසංගත ප්‍රජාතන්ත්‍රවාදයක් පිළිගැනීමට මෙය බාධාවක්ද?

ස්විට්සර්ලන්තයේ විශේෂ ලක්ෂණය ඇත්තේ ඇගේ ඉතිහාසයෙහිය, ඇගේ භූගෝලීය සහ වෙනත් තත්ත්වයන් වලය. රුසියාවේ විශේෂ ලක්ෂණය පිහිටා ඇත්තේ ධනපති විප්ලවීය යුගයේ අසමසම නිර්ධන පංතිය මතය, සියලු අන්දමේ අවාසි සහ ප්‍රත්‍යාවර්තනවල තර්ජනය යටතේ වාස්තවික වශයෙන් සුවිශේෂ සීඝ්‍ර සහ දෘඪතර ඉදිරිගමනක් ඉල්ලා සිටින ඇගේ දුක්ඛිත පොදු නොදියුණුතාවය මතය.

නිර්ධන පංතික ස්ථාවරය යටතේ අපි ජාතික වැඩ පිළිවෙලක් නිර්මාණය කරමින් සිටිමු. ඉතා හොඳ නිදසුන් වෙනුවට, නරක නිදසුන් ආදර්ශයක් හැටියට ගැනීමට රෙකමදරු කර ඇත්තේ කවදු සිටද?

ධනපති ක්‍රමය යටතේ ජාතික සමාදනය මුදුන් පමුණුවා ගෙන තිබෙන්නේ (පොදුවේ එය මුදුන් පමුණුවා ගැනීමට හැකිතාක් දුරට) විශේෂයෙන්ම සසංගත ප්‍රජාතන්ත්‍රවාදයක් පවතින රටවල නොවේද යන්න ගැන කිනම් අවස්ථාවලදී වුවද, විවාද රහිත සහ අවිවාදිත සත්‍යයක් නොවේද?

මෙය අවිවාදිත සත්‍යයක් නිසා අවස්ථාවාදීන් මුරණ්ඩු ලෙසම ස්විට්සර්ලන්තය වෙනුවට ඔස්ත්‍රියාව ගෙනහැර දක්වීම නියම කැඩෙට්වාදී ප්‍රයෝගයකි. මන්දයත්, කැඩෙට්වරුන්[32] නිතරම බටහිර යුරෝපයේ



ඉතා හොඳ ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථා වෙනුවට ඉතාම නරක ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථා කොපි කරන බැවිනි.

ස්විට්සර්ලන්තයේ රාජ්‍ය භාෂා තුනකි. එහෙත් ජනමතය විමසුම සඳහා ඉදිරිපත් කරන පනත් භාෂා පහකින් මුද්‍රණය කරනු ලැබේ. එනම් රාජ්‍ය භාෂා තුනට අමතරව රෝමානු උපභාෂා දෙකකිනි. 1900 සංගණනය අනුව ස්විට්සර්ලන්තයේ 33,15,443 කින් මේ උප භාෂා දෙක කතාකළ අයගේ සංඛ්‍යාව 38,651 කි. එනම් මුළු ජනගහණයෙන් සියයට එකකට යම්තමින් වැඩි ප්‍රමාණයක් පමණකි. යුද්ධ හමුදාවේ උසස් සහ පහත් නිලධාරීන්ට, ''සෙබළුන්ගේ මවු බසින් ඇමතීමට පූර්ණ නිදහස දී ඇත''. ග්‍රාවුබියුන්ඩේන් සහ වාලිස් කැන්ටන්වල (මෙහි ජනගහණය ලක්ෂයක් බැගින්ය) මේ උප භාෂා දෙකම පූර්ණ සමානතාවය ලබා ඇත.*

එවිට පැන නගින ප්‍රශ්නය මෙසේය: දියුණු රටෙක ජීවමාන අත් දැකීම අප විසින් පිළිගෙන එම සංකල්පවලට ආධාර දිය යුතුද, නැතිනම් මෙතෙක් ලෝකයේ කිසි තැනෙක ක්‍රියාවට යොදවා නැති (ඔස්ත්‍රියානුන් විසින් පවා තවම පිළිගෙන නැති) ''බහිර්-භෞමික ස්වෛරීත්වය'' වැනි ඔස්ත්‍රියානු මනඃකල්පිතය ණයට ගනිමුද?

මෙම මනඃකල්පිතය පිළිගැනීම යනු ජාතිය අනුව පාඨශාලා අධ්‍යපනය බෙදලීමය, මෙය ඉමහත් හානිදයක සංකල්පයකි. කෙසේවුවද ව්‍යවහාරික ලෙස උපරිමය (සාපේක්ෂ ලෙස) ජාතික සමගිය ලබාගත හැක්කේත්, ලබාගෙන තිබෙන්නේත්, ක්‍රියාවට යොදවා තිබෙන්නේත්, රාජ්‍යය පූරාම සසංගත (යළිත් සාපේක්ෂ ලෙස) ප්‍රජාතන්ත්‍රවාදය පවතින රටක බව ස්විට්සර්ලන්තයේ අත්දැකීම අපට පෙන්වා දෙයි.

මේ ප්‍රශ්නය අධ්‍යයනය කළ මිනිස්සු මෙසේ පවසති: ''නැගෙනහිර යුරෝපීය අවබෝධය අනුව ස්විට්සර්ලන්තයේ ජාතික ප්‍රශ්නයක් නැත. එම වාග් පාඨය (ජාතික ප්‍රශ්නය) එහි අප්‍රසිද්ධය... ස්විට්සර්ලන්තය ජාතීන් අතර අරගලය බොහෝ කලකට පෙර 1797-1803 වසර වලදී අතහැර දැමීය.''*

මෙහි තේරුම වන්නේ, රදළ වාදයේ සිට ධනවාදය දක්වා පරිවර්තනය වීමේදී තත්කාලීන ගැටළුවලට අති ප්‍රජාතන්ත්‍රික පිළියම් ඉදිරිපත් කළ

*René Henry: “La Suisse et la question des langues,” Bern, 1907 — සංස්කාරක

*Ed. Blocher: “Die Nationalitäten in der Schweiz,” Brl., 1910 — සංස්කාරක

මහා ප්‍රංශ විප්ලවීය යුගය, ජාතික ප්‍රශ්නය ආනුෂංගිකව, මඟ හැර යමින් විසඳදලීමට සමත් වූ බවය.

උයෙස්ද් එකක හෝ උයෙස්ද් එකකින් කොටසක හෝ වාසය කරන දෙලක්ෂයක් ජනගහනයෙන් 40,000 ක් උපභාෂා කතා කරන අතර ඔවුන් එම ප්‍රදේශයේ සම්පූර්ණ භාෂා සමානත්වයක් ඉල්ලා සිටින රුසියාවේ මේ උයෙස්ද් එකක හෝ උයෙස්ද් එකකින් කොටසක හෝ ව්‍යවහාරික ලෙස මේ ''විශේෂ ස්විට්සර්ලන්ත'' පිළියම යෙදවිය නොහැකි බව, සෙම්කොව්ස්කිලා සහ ලීබ්මන්ලාද අනිකුත් අවස්ථාවාදීහුද කීමට උත්සාහ ගනිත්වා!

ජාතීන්ගේ සහ භාෂාවන්ගේ පූර්ණ සමානත්වය ඉල්ලා සිටින්නේ හැම ජාතියකටම අයත් සසංගත ප්‍රජාතන්ත්‍රික කොටස් විසිනි (එනම් නිර්ධන පංතිය පමණකි). මේ කොටස් ජාතිය අනුව නොව, මුළු මහත් රාජ්‍ය පද්ධතියම දියුණු කරලීමේ ගැඹුරු සහ අවංක අභිප්‍රායකින් එක්සත් වෙති. අනිත් අතට, එක් එක් පුද්ගලයින්ගේ හා කණ්ඩායම්වල භක්තිමත් ප්‍රාර්ථනය නොතකා ''සංස්කෘතික-ජාතික ස්වෛරීත්වය'' ජාතීන් විභේදනය කරයි, එමෙන්ම ඇත්ත වශයෙන් හැම ජාතියකම කම්කරුවන් සහ ධනපතීන් එකිනෙකට සමීප කරයි. (සියලු යුදෙව් ධනපති පක්ෂ විසින් මෙම සංස්කෘතික ජාතික ස්වෛරීත්වය පිළිගෙන ඇත.)

සුළු ජාතීන්ගේ අයිතිවාසිකම් සහතික කිරීම පූර්ණ සමානත්වයේ මූලධර්මය සමග අඛණ්ඩ ලෙස වෙළී පවතී. සේවෙර්නය ප්‍රාව්ද හි මගේ ලිපියෙන් මා මේ මූලධර්මය පැහැදිලි කළේ මාක්ස් වාදීන්ගේ සාකච්ඡාව මගින් පසුව නිලවශයෙන් සහ වඩාත් නිවැරදි ලෙස ගත් තීරණයට බෙහෙවින්ම අනුකූලවය. එම තීරණය, ''එක් ජාතියක් විසින් භුක්ති විඳිනු ලබන සියලු වරප්‍රසාද සහ සුළු ජාතීන්ගේ අයිතිවාසිකම් උල්ලංඝණය කිරීම, නිෂ්ප්‍රභ කර දැමීම ප්‍රකාශ කරන මූලික නීතියක්, ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථාවට ඇතුළු කිරීම'' ඉල්ලා සිටී.

මෙම සූත්‍රයට පරිභව කිරීමට උත්සාහ කරන ලීබ්මන් මහතා මෙසේ ප්‍රශ්න කරයි: ''සුළු ජාතියක අයිතිවාසිකම් කුමක්දැයි දන්නේ කවුද?'' ඔහුට දැනගැනීමට වුවමනා වී තිබෙන අයිතීන් අතර ජාතික පාසල්වලට ''තමන්ගේම වැඩ පිළිවෙලක්'' ඉදිරිපත් කිරීමේ සුළු ජාතීන් සතු අයිතියත් අයත් වන්නේද? තමන්ගේම විනිශ්චය කරුවන්, නිලධාරීන්, සහ තම මවු බසින් උගන්වන පාසල් ඇති කිරීමේ අයිතිය ලබා ගැනීමට යම්කිසි සුළු ජාතියක් කෙතරම් විශාල විය යුතුද? ''සක්‍රීය'' ජාතික වැඩ පිළිවෙලක අවශ්‍යතාවය මෙම ප්‍රශ්නවලින් ඉවත්කර ලීමට ලීබ්මන් මහතාට අවශ්‍ය වී ඇත.

කුඩා විස්තර සහ විශේෂයන් යැයි අභවමින් විවාදයක කඩතුරාවට මුවා වී, අපේ බුන්ඩ්වාදීන් හොර රහසේ ඇදගෙන යාමට දඟලන ප්‍රතිගාමී අදහස් මොනවාද යන්න මේ ප්‍රශ්න පැහැදිලි ලෙස පෙන්වා දෙයි.

ස්වකීය ජාතික පාඨශාලාවලට, ''ස්වකීය ''ජාතික වැඩ සටහනක්''... හිතවත් ජාතික-සමාජවාදීය, මාක්ස්වාදීහු නිදසුනක් වශයෙන්, ආගමික නොවන පාසල් ඉල්ලා සිටින පොදු පාඨශාලීය වැඩ පිළිවෙලක් ඉදිරිපත් කරති. මාක්ස්වාදීන්ගේ ස්ථාවරය අනුව නම්, ප්‍රජාතන්ත්‍රවාදී රාජ්‍යයක මෙම පොදු වැඩ පිළිවෙලින්, කොතැනකදී හෝ කිනම් වේලාවකදී හෝ ඈත්වීම සපුරා තහනම්ය (''ප්‍රාදේශීය'' විෂයයන්, භාෂාවන් ආදිය ඉදිරිපත් කිරීමේ ප්‍රශ්නය ප්‍රාදේශීය ජනතාව විසින් තීරණය කළ යුතුය). කෙසේවුවද, ''රාජ්‍යයේ හස්තයෙන් පාඨශාලීය කටයුතු උදුරාගැනීම'' සහ එය ජාතීන්ගේ පාලනයට භාරදීමේ මූලධර්මයෙන් සිදුවන්නේ, අපේ ප්‍රජාතන්ත්‍රික රාජ්‍යයේ පොදු ජනතාවගේ මුදල් පූජක පාඨශාලා සඳහා වියදම් කිරීමට කම්කරුවන් ''ජාතීන්ට'' ඉඩ දිය යුතු බවය! සත්‍යය ගැන සැක නොකරම, ලීබ්මන් මහතා ''සංස්කෘතික — ජාතික ස්වෛරීත්වයේ'' ප්‍රතිගාමී ස්වරූපය පැහැදිලි ලෙස විදහා පෙන්වීය.

''සුළු ජාතියක් කෙතරම් විශාල විය යුතුද?'' බුන්ඩ් වාදීන්ගේ ආදරයට පාත්‍ර වී ඇති ඕස්ත්‍රියානු වැඩපිළිවෙල පවා මේ ගැන අර්ථ කථනයක් කර නැත. ඉන් මෙසේ කියැවෙයි: (අපේ වැඩපිළිවෙලට වඩා සංක්ෂිප්තය, එමෙන්ම පැහැදිලි බවෙන් අල්පය): රාජකීය පාර්ලිමේන්තුව විසින් සම්මත කළ යුතු විශේෂ නීතියක් මගින් සුළු ජාතීන්ගේ අයිතිවාසිකම් ආරක්ෂා කෙරේ'' (§4 බ්‍රියුන් වැඩපිළිවෙල).

මේ නීතියේ නියම තේරුම කුමක්ද, කිනම් සුළු ජාතියකගේ කිනම් අයිතිවාසිකම් එය ආරක්ෂා කෙරේද? යන ප්‍රශ්නය ඕස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගෙන් කිසිවකු ප්‍රශ්න නොකළේ මන්ද.

මන්දයත්, වැඩ පිළිවෙලක විශේෂ කරුණුවල අර්ථ නිරූපනයක් දැක්වීම අනුචිත සහ නොකළැකි බව සියලු ප්‍රබුද්ධ මිනිසුන් වටහාගෙන ඇති බැවිනි. වැඩපිළිවෙලකින් ඉදිරිපත් වන්නේ මූලික මූලධර්ම පමණකි. මෙම ප්‍රශ්නයේදී මූලික මූලධර්ම ඕස්ත්‍රියානුගෙන් තේරුම් යන අතර රුසියන් මාක්ස් වාදීන්ගේ මෑත සාකච්ඡාවේ තීරණ වලින් ඍජු ලෙසම ප්‍රකාශ වී ඇත. එම මූලධර්මය මෙසේය: ජාතික වරප්‍රසාද සහ ජාතික අසමානතාවයන් තහනම්ය.

බුන්ඩ්වාදියාට මෙය පැහැදිලි කිරීම පිණිස අපි සංයුක්ත නිදසුනක් ගනිමු: 1911 ජනවාරි මස 18 ද ගන්නා ලද පාසල් සංගණනය අනුව, ප්‍රසිද්ධ ''අධ්‍යාපන'' අමාත්‍යාංශය යටතේ පාලනය වන සාන්ත් පිටර්බුර්ග් හි මූලික පාසල් වල සිසුන්ගේ සංඛ්‍යාව 40,076 කි. මින් 396 දෙනෙක් එනම් සියයට 1 ටත් අඩු සංඛ්‍යාවක් යුදෙව් ළමයින්ය. අනික් සංඛ්‍යා මෙසේය: රුමේනියානු සිසුන් 2 යි, ජෝජියානු 1 යි ආමේනියානු 3 යි.

ආදී වශයෙනි. සබඳතාවයන්ගේ සහ තත්ත්වයන්ගේ මෙම, විවිධත්වය ආරක්ෂා කෙරෙන ''සක්‍රීය'' ජාතික වැඩ පිළිවෙලක් ඉදිරිපත් කිරීමට පුළුවන්ද? (රුසියාවේ වැඩිම මිශ්‍ර ජනගහනය ඇති නගරය සත්තකින්ම සාන්ත් පිටර්බුර්ගය නොවේ.) ජාතික ''සියුම්තාවයේ'' විශේෂඥයින් වන බුන්ඩ්වාදීන්ට පවා එවැනි වැඩ පිළිවෙලක් ඉදිරිපත් කිරීමට නොහැකි තරම්ය.

එසේවතුදු, සුළු ජාතීන්ගේ අයිතිය උල්ලංඝනය කරන ඕනෑම පියවරක් නිෂ්ප්‍රභ කර දැමිය හැකි මූලික නීතියක් සහිත ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථාවක්, රටේ පවතින්නේ නම්, — නිදසුනක් වශයෙන් යුදෙව් භාෂාව, යුදෙව් ඉතිහාසය සහ එවැනි දේ උගැන්වීම සඳහා රජයේ වියදමින් විශේෂ ගුරුවරුන් ලබාගැනීමද, නැතිනම් යුදෙව් සහ ආර්මේනියන් රුමේනියන් ළමයින්ට, එසේත් නැතිනම් එකම ජෝජියානු ළමයාට වුවද, දේශන පැවැත්වීම සඳහා, රජයට අයත් දේශන ශාලා ලබාගැනීම ප්‍රතික්ෂේප කරන නීති අවලංගු කළ යුතුයැයි ඕනෑම රටවැසියකුට ඉල්ලා සිටිය හැකිය. මේ සියලු තත්ත්වයන් යටතේ සමානත්වය නැමැති පදනම අනුව, සුළු ජාතීන්ගේ සියලු හේතු සහිත සහ සාධාරණ අභිප්‍රායයන් සපුරාලීම නොකළ හැකි නොවේ. සමානත්වය දේශනා කිරීම හානිදායකැයි කිසිකෙනෙකු නොකියනු ඇත. අනිත් අතට, ජාතිය අනුව පාසල් විභේදනය කිරීමද නිදසුනක් වශයෙන් පිටර්බුර්ග්හි යුදෙව් ළමයින්ට විශේෂ පාසල් ඉල්ලා සිටීමද සත්තකින්ම හානිදායක වනු ඇත. සෑම සුළු ජාතියකම ළමයින් එක් කෙනෙකුට දෙන්නකුට හෝ තුන්දෙනකුට ජාතික පාසලක් බැගින් පිහිටුවාලීමද කොහෙත්ම කළ නොහැකි දෙයකි.

තවදුරටත්, විශේෂ පාසල් ලබාගැනීම සඳහාත්, නැතිනම් අතිරේක විෂයයන් ආදිය සඳහා විශේෂ ගුරුවරුන් ලබාගැනීම සඳහාත්, යම් කිසි සුළු ජාතියකගේ ප්‍රමාණය කොතරම් විය යුතුද යන්න අරභයා මුළු මහත් රටටම බලපාන නීතියක් මගින් අර්ථ කථනයක් කිරීම නොකළැකි දෙයකි.

අනිත් අතින්, සමානත්වය තහවුරු කරන දේශ ව්‍යාප්ත නීතියක් සවිස්තර ලෙස සකස් කොට, විශේෂ නියෝග මගින්ද, ප්‍රාදේශීය මන්ත්‍රණ සභා, නගර සභාව සේම්ස්ත්වො, ගම් සභා සහ අනිකුත් අධිකාරීන්ගේ තීරණ මගින්ද වර්ධනය කළ හැකිය.

## 6. සංකේන්ද්‍රණය සහ ස්වෛරීත්වය

ලිබ්මන් මහතා සිය ප්‍රතිඋත්තරයේ මෙසේ ලියයි:

''අපේ ලිතුවේනියාව, බෝල්ටික් ප්‍රදේශය, පෝලන්තය, වොල්හීනියාව, දකුණු රුසියාව ආදිය ගෙන බලමු. මෙහි හැම තැනම



මිශ්‍ර ජනගහනයක් සිටින බව ඔබට පෙනේ. විශාල සුළු ජාතියක් නැති එකද නගරයක්වත් නැති තරම්ය. විකේන්ද්‍රනය කෙතරම් දුරට ගෙනගියත්, විවිධ ස්ථානවල, විවිධ, ජාතීන් එකට වාසය කරන බව නිතර සොයාගත හැකිය (විශේෂයෙන්ම නාගරික සමූහවලය), විශේෂයෙන්ම සුළු ජාතීන් මහ ජාතියට පවරා දෙනු ලබන්නේ ප්‍රජාතන්ත්‍රවාදය විසිනි. එහෙත් අප දන්නා පරිදි ස්විට්සර්ලන්ත පෙඩරල් රාජ්‍යයේ පවතින සීමාරහිත විකේන්ද්‍රනයට සහ පෙඩරල් රාජ්‍යය ව්‍යුහයට වි. අයි. විරුද්ධය. එවිට ඇසිය යුතු ප්‍රශ්නය මෙසේය: ස්විට්සර්ලන්තයේ නිදසුන ගෙනහැර පෑමේ ඔහුගේ අරමුණ කුමක්ද?

ස්විට්සර්ලන්තය උපුටා දැක්වීමේ මගේ අරමුණ මම ඉහත විස්තර කළෙමි. සුළු ජාතීන්ගේ අයිතිය ආරක්ෂා කිරීමේ ප්‍රශ්නය විසඳාලිය හැක්කේ, සමානත්වය නැමැති මූලධර්මයෙන් ඈත් නොවන, සසංගත ප්‍රජාතන්ත්‍රවාදී රාජ්‍යයක දේශ ව්‍යාප්ත නීතියක් මගින් පමණක් බව එමෙන්ම මවිසින් විස්තර කැරිණි. එහෙත් ඉහත සටහන් කොටසින් ලිබ්මන් මහතා තවත් ඉතා බැහැවර (එමෙන්ම ඉතා ව්‍යාජ) තර්කයක් (නැතිනම් සංශයවාදී සටහන්) කරයි. මේවා නිතර මාක්ස්වාදී ජාතික වැඩ පිළිවෙලට විරුද්ධව එල්ල වී ඇති බැවින් පිරික්සා බැලීම වටනේය.

මාක්ස්වාදීන් සත්තකින්ම, පෙඩරල් ආණ්ඩු ක්‍රමයට සහ විකේන්ද්‍රනයට විරුද්ධ වීමේ සරළ හේතුව වන්නේ, සිය වර්ධය සඳහා විශාලතම සහ අති සංකේන්ද්‍රණගත රාජයන් ධනපති ක්‍රමයට අවශ්‍ය බැවිනි. අනිකුත් සමාන තත්ත්වයන් යටතේ, පංති විඥාන නිර්ධන පංතිය නිතරම වඩාත් විශාල රාජ්‍යයකට පක්ෂපාත වනු ඇත. එය නිතරම මධ්‍යකාලීන වෛශේෂිකත්වයට විරුද්ධව සටන් කරනු ඇත. ධනපති පංතියට විරුද්ධව නිර්ධන පංතික අරගලය පුළුල් පදනමක් මත වර්ධනය කළ හැකි විශාල භූමි ප්‍රදේශ ආර්ථික වශයෙන් ඉතා සමීප ලෙස සම්බන්ධ වීම නිර්ධන පංතිය සාදරයෙන් පිළිගනී.

ධනපති ක්‍රමයේ නිෂ්පාදන බලවේගයන්ගේ පුළුල් සහ ක්ෂණික වර්ධනය විශාල, දේශපාලනමය වශයෙන් සුසංහිත සහ එක්සත් භූමි ප්‍රදේශ ඉල්ලා සිටිනු ලබන්නේ, මන්දයත් මෙතැන පමණක් ධනපති පංතියට — එහි නොවැළැක්විය හැකි ප්‍රතිවිරුද්ධය වන නිර්ධන පංතිය සමග එක්වී — සියලු පැරණි, මධ්‍යකාලීන, කුලභේදවාදී, කට්ටලීය, සුළු ජාතිවාදී, ලබ්ධික සහ අනිකුත් බාධාවන්ට විරුද්ධව එක්සත් වී ඒවා අතුගා දැමිය හැකි බැවිනි.

ස්වයං නිර්ණයනය සඳහා ජාතීන්ට ඇති අයිතිය, එනම් ස්වාධීන ජාතික රාජ්‍යයන්ගෙන් වෙන්වී යාමේ අයිතිය වෙනත් තැනක විශේෂයෙන් සටහන් කරමු.* එහෙත් විවිධ ජාතීන් එකම රාජ්‍යයක් තුළ සංයුක්ත වී

*මේ පොතේ 48-114 පිටු බලන්න.

සිටින තාක් කල් මාක්ස්වාදීහු මොනයම් තත්ත්වයක් යටතේදී වුවද, පෙඩරල් මූලධර්මය හෝ විකේන්ද්‍ර කරණය හෝ දේශනා නොකරනු ඇත්තාහ. සංකේන්ද්‍රණ ගතවුණු මහා රාජ්‍යය වූකලී මධ්‍යකාලීන අසමගියේ සිට, මුළු මහත් ලෝකයේම අනාගත සමාජවාදී එක්සත්භාවය දක්වා වූ අතිමහත් ඓතිහාසික පියවරකි. සමාජවාදයට යම්කිසි මාවතක් ලබාගත හැක්කේ එවැනි රාජ්‍යයක් (අඛණ්ඩ ලෙස ධනවාදය සමග සම්බන්ධ) මගින් පමණකි.

සංකේන්ද්‍රකරණයට පක්ෂපාත වන අප විශේෂයෙන්ම ප්‍රජාතන්ත්‍රික සංකේන්ද්‍රකරණයට (මධ්‍යගතවාදය) පක්ෂ පාත බව අමතක කිරීම කෙසේ හෝ සමාව නොදිය හැකි කරුණක් වන්නේය. මේ ප්‍රශ්නය ගැන පොදුවේ සියලු අවරසිකයෝද, විශේෂයෙන් ජාතිවාදී අවරසිකයෝද (මීයගීය ද්‍රගොමානොව්ද ඇතුළුව) එය පටලවා ගෙන සිටිති. මේ නිසා යළි, යළිත් එය විස්තර කරනු පිණිස කාලය නාස්ති කිරීමට අපට සිදුවී ඇත.

විශේෂ ආර්ථික සහ සමාජ තත්ත්වයන් සහිත, ජනගහනයේ විශේෂ ජාතික සංයෝගයක් ආදිය ඇති, ප්‍රදේශවල ස්වෛරීත්වය සමග ස්වයං පාලනය නිවාරණය නොකරනවා පමණක් නොව, ප්‍රජාතන්ත්‍රික මධ්‍යගත වාදය විසින් මේ දෙකම අවශ්‍යයෙන්ම ඉල්ලා සිටී. රුසියාවේ මධ්‍යගතවාදය සමග ස්ථාවර ලෙසම ප්‍රජාපීඩනය සහ නිලධාරිවාදය පටලවා ගෙන තිබේ. මෙම ව්‍යාකූලත්වය පැන නැගී ඇත්තේ, රුසියාවේ ඉතිහාසයෙනි. එහෙත් එය එසේ වුවද, එයට මාක්ස්වාදීන් අවනතවීම සමාව නොදිය හැකි කරුණකි.

මෙය සංයුක්ත නිදසුනකින් විස්තර කළ හැකිය. රෝසා ලුක්සම්බුර්ග් විසින් ලියනලද ''ජාතික ප්‍රශ්නය සහ ස්වෛරීත්වය''* නැමැති දිගු ලිපියේ වෙනත් අපූර්ව සාවද්‍යතාවයන් අතර (අපි මේ ගැන පසුව විස්තර කරමු) ස්වෛරීත්වය නැමැති ඉල්ලීම පෝලන්තයට පමණක් සීමා කිරීමට වෑයම් කරමින් විශේෂ අපූර්ව වරදක් කරයි.

එහෙත් ප්‍රථමයෙන්ම ඇය ස්වෛරීත්වය විග්‍රහ කරන සැටි අපි බලමු.

රෝසා ලුක්සම්බුර්ග් මාක්ස්වාදියක වන බැවින්, ධනපති ක්‍රමය තුළ ආර්ථිකය හා දේශපාලනය පිළිබඳ සියලු ප්‍රධාන සහ වැදගත් ප්‍රශ්න එක්, එක් ප්‍රදේශ පාලනය කරන මන්ත්‍රණ සභා මගින් නොව, මුළු මහත් රටටම බලපාන මධ්‍යම පාර්ලිමේන්තුවක් මගින් විශේෂයෙන්ම තීරණය කළ යුතු යැයි පිළිගැනීමට, බැඳී සිටී. මේ ප්‍රශ්නවලට, තීරු බදු ප්‍රතිපත්ති, වාණිජය සහ කර්මාන්තයද, ප්‍රවාහණ සහ පණිවුඩ මාධ්‍යයන්ද (දුම්රිය

*"Przegląd Socjaldemokratyczny",[33] Kraków, 1908 — 1909



මාර්ග, තැපැල්, විදුලි සන්දේශ, ටෙලිපෝන් ආදියද), යුද්ධ හමුදාවද, අයබදු ක්‍රමයද, සිවිල්* සහ අපරාධ නීතියද, අධ්‍යාපනයේ පොදු ප්‍රතිපත්තියද (නිදසුනක් වශයෙන්, හුදු ලෞකික පාසල් ගැන, විශ්වීය අධ්‍යාපනය ගැන, අවමය වැඩ පිළිවෙල ගැන, ප්‍රජාතන්ත්‍රික පාසල් කළමණාකරණය ගැන, නීති ආදිය කම්කරු ආරක්ෂක නීති සහ දේශපාලන නිදහසද (රැස්වීමේ අයිතිය) ආදී දේ අයත්වේ.

ස්වෛරී ඩයට් සභා හෙවත් මන්ත්‍රණ සභා — රටේ පොදු නීති පදනම් කර ගනිමින් — හුදු ප්‍රාදේශීය, පළාත්බද නැතිනම් ජාතික වැදගත් කමක් ඇති ප්‍රශ්න ගැන කටයුතු කළ යුතුය. මෙම අදහස විශාල ලෙස — වුවමනාවට වැඩියෙන් යැයි නොකියමින් — වර්ධනය කරන රෝසා ලුක්සම්බුර්ග් නිදසුනක් වශයෙන් ප්‍රාදේශීය දුම්රිය (අංක 12, පිටුව 149) සහ ප්‍රාදේශීය මහා මාර්ග (අංක 14-15. පිටුව 376) ඉදිකිරීම ආදිය ගැන මතක් කරයි.

ප්‍රමාණවත් තරමින් විශේෂ ආර්ථික සහ සමාජයික ලක්ෂණද, විශේෂ ජාතික සංයෝජනයක් සහිත ජනගහනයද ඇති හැම ප්‍රදේශයකටම එවැනි ස්වෛරීත්වයක් නොදෙන සමකාලීන සැබවින්ම ප්‍රජාතන්ත්‍රික රාජ්‍යයක් පැහැදිලි ලෙසම සිතාගැනීමට පවා නොහැකිය. ධනවාදයේ වර්ධනයට අවශ්‍ය මධ්‍යගතවාදයේ මූලධර්ම මෙම (ප්‍රාදේශීය හා පළාත්බද) ස්වෛරීත්වය විසින් උල්ලංඝනය නොකරනවා පමණක් නොව එයට විලෝම වශයෙන් නිලධාරිවාදී ලෙස නොව එය ප්‍රජාතන්ත්‍රවාදී ලෙස ව්‍යවහාරයට යොදවා ඇත. ප්‍රාග්ධනයේ සංකේන්ද්‍රණයත්, නිෂ්පාදන බලවේගයන්ගේ වර්ධනයත්, ධනපති පංතියේ සමගිය සහ දේශව්‍යාප්ත පරිණාමයකින් නිර්ධන පංතියේ සමගියත් ලෙහෙසි කරන එවැනි ස්වෛරීත්වයකින් තොරව ධනවාදයේ පුළුල්, නිදහස් සහ ක්ෂණික වර්ධනය, ඇතිවිය නොහැකිය, නැතිනම් යටත් පිරිසෙයින් විශාල වශයෙන් පමාවනු ඇත. මන්දයත්, හුදු පළාත් බද (ප්‍රාදේශීය, ජාතික සහ අනිකුත්) ප්‍රශ්නවලදී නිලධාරීවාදී අවහිර කිරීම, පොදුවේ ආර්ථික සහ දේශපාලන වර්ධනයට අති විශාල බාධාවක් වන අතර විශේෂයෙන් බැරෑරුම්, වැදගත් සහ මූලික කරුණු වලදී සංකේන්ද්‍රකරණයටද බාධාවක් වන බැවිනි.

ස්වෛරීත්වය පිළිබඳ ඉල්ලීම පෝලන්තයට පමණක් ව්‍යවහාරික බවත්, එය වුවද විශේෂිතයක් හැටියට පමණක් බවත්, ඉතා බැරෑරුම් බවක් පාමින් සහ පිරිසුදු ''මාක්ස්වාදී'' පාඨ යොදමින් ඔප්පු කිරීමට අපේ

*නිදසුනක් වශයෙන් සම්පූර්ණ නිවැරදි ලෙස දික්කසාද නීති පවා විස්තර කරමින් රෝසා ලුක්සම්බුර්ග් සිය අදහස් වැඩිදුරටත් විස්තර කරයි (ඉහත සඳහන් සඟරාවේ 12 කලාපය. 162 පිටුව)

අනර්ඝ රෝසා ලුක්සම්බුර්ග් වැයම් කරන සැටි අප කියවන විට, අපට සිනහ නොවී සිටීමට බැරිය! සත්තකින්ම මෙහි "කට්ටලීය" දේශප්‍රේමීත්වයක අංශුවක් පවා නොමැත. මෙහි ඇත්තේ ප්‍රායෝගික අදහස් පමණකි. ලිතුවේනියාව හා සම්බන්ධ ප්‍රශ්නය නිදසුනක් වශයෙන් මෙය ගත හැක.

රෝසා ලුක්සම්බුර්ග් ගුබේර්නිය හතරක් ගනිමින් — විල්නා, කොව්නෝ, ග්‍රොද්නො, සුවල්කි — මේවායේ "ප්‍රධාන වශයෙන්" ලිතුවේනියානුන් වාසය කරන බව පාඨකයින්ට පවසයි. මේ ගුබෙර්නියා වල වාසය කරන ජනගහනය එකතු කරමින් ඒවායේ ලිතුවේනියානුන්ගේ සංඛ්‍යාව සියයට 23 ක් බවත්, ස්මුද්ස් වරුන් ද, එයට එකතු කළ හොත් එය මුළු ජනගහනයෙන් සියයට 31, තුනෙන් පංගුවකටත් අඩු බවත් කියා සිටී. ලිතුවේනියාවට ස්වෛරීත්වය පිළිබඳ අදහස "අභිමතානුකූල සහ කෘත්‍රිම" යනු මෙහි ස්වාභාවික නිගමනය වන්නේය. (අංක 10, 807 පිටුව).

අපේ රුසියන් නිල සංඛ්‍යානවල පොදුවේ ප්‍රසිද්ධ සාවද්‍යතාවයන් ගැන දන්නා පාඨකයා රෝසා ලුක්සම්බුර්ග්ගේ වරද හනිකට දකී. ජනගහනයෙන් සියයට 0.2 හෙවත් සියයට එකකින් පහෙන් කොටසක් ලිතුවේනියානුත් වාසය කරන ග්‍රොද්නෝ ගුබෙර්නියාව ගන්නේ කුමක් නිසාද? ලිතුවේනියානුන් ජනගහනයේ බහුතරය වන ටරෝකි උයෙස්දය පමණක් නොගෙන විල්නා ගුබෙර්නියාව ගන්නේ කුමක් නිසාද? මුළු ජනගහනයෙන් ලිතුවේනියානුන් සියයට 52 ක් බව පෙන්වමින් සුවාල්කි ගුබෙර්නියාව එහෙම පිටින්ම ගන්නවා වෙනුවට එම ගුබෙර්නියාවේ උයෙස්ද් 7 න් උයෙස්ද, 5ක මුළු ජනගහනයෙන් සියයට 72 ලිතුවේනියානුන් වන ලිතුවේනියානු උයෙස්ද් පමණක් නොගත්තේ මන්ද?

"සමකාලීන", "ධනවාදය" වෙනුවට මධ්‍යකාලීන, රදළ, සහ නිල මක්කාර-නිලධාරිවාදී රුසියානු පරිපාලනයේ බෙදීම්, එපමණක් නොව ඒවායේ ඉතා රළු ආකාරයන් බෙදීමක් (උයෙස්ද් වෙනුවට ගුබෙර්නියා) ඉදිරිපත් කරමින් සමකාලීන ධනවාදයේ තත්ත්වයන් සහ ඉල්ලීම් ගැන කතා කිරීම හාස්‍ය ජනකය. මේ බෙදීම් අහෝසි කර දමා ඒවා වෙනුවට, භාණ්ඩාගාරයේ නොව, නිලධාරි. පැළැන්තියේ නොව, චර්යා ක්‍රමයේ නොව, ඉඩම් හිමියන්ගේ නොව, පූජකයින්ගේ නොව, එනමුදු ධනපති ක්‍රමයේ සැබෑ අවශ්‍යතාවයන් සපුරාලිය හැකි සැබෑ "සමකාලීන" බෙදීමක් ඇතිවන තුරු රුසියාවේ ප්‍රාදේශීය ප්‍රතිසංස්කරණයක් ගැන බැරෑරුම් ලෙස කතා නොකළ හැකි බව පැහැදිලිය. ධනපති ක්‍රමයේ එක් සමකාලීන අවශ්‍යතාවයක් නම්, නිසැක ලෙසම ජනතාවගේ උපරිමය ජාතික ඒකීයතාවයක් ලබාගැනීමය; මන්දයත් දේශීය වෙළඳ පොළ



සම්පූර්ණයෙන්ම අල්ලා ගැනීම සහ ආර්ථික ක්‍රියාකාරීත්වයට පූර්ණ නිදහස ලබා ගැනීම සඳහා ජාතික සහ භාෂාමය අනන්‍යතාවය ඉතා වැදගත් සාධකයක් වන බැවිනි.

විහිළුවෙක මහත! රෝසා ලුක්සම්බුර්ග් විසින් කරන ලද මේ වරදම බුන්ඩ්වාදී මෙදෙම්ද නැවතත් කරයි. ඔහු ඔප්පු කිරීමට ඉදිරිපත් වන්නේ පෝලන්තයේ විශිෂ්ට ලක්ෂණ "ව්‍යතිරේකයක්" හැටියට නොව, ජාතීය-භෞමික ස්වෛරීත්වයේ මූලධර්මය නුසුදුසු දෙයක් හැටියටය (බුන්ඩ්වාදීහු ජාතික බාහිර-භෞමික ස්වෛරීත්වය සඳහා සටන් කරති!) අපේ බුන්ඩ්වාදියෝ සහ ලික්විඩේටර්වරු විවිධ රටවල විවිධ ජාතීන්ට අයත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සියලු වැරදි සහ චපල ගති එකතු කර ජගත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ඉතාම නරක කොටස තමන් සතු කර ගනිති. බුන්ඩ්වාදීන්ගේ සහ ලික්විඩේටර්වරුන්ගේ ලිපි සහිත පොත් එකට එකතු කළ විට, එය අයහපත් රුචියේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කෞතුකාගාරයක ආදර්ශයක් මෙන් සේවය කරනු ඇත.

ප්‍රාදේශීය ස්වෛරීත්වය ප්‍රදේශයකට හෝ "දිශාවකට" හෝ උචිත නමුදු ලැට්වියානු, එස්තෝනියානු හෝ වෙනත් පළාත් (ඕක්රුග්) වලට සුදුසු නැතැයි උපදේශාත්මක ලෙස මේදෙම් අපට කියයි. මේ ඕක්රුග් වල ජනගහණය ලක්ෂ පහේ සිට ලක්ෂ විස්ස දක්වා වන අතර ඒවායේ භූමි ප්‍රමාණය ගුබෙර්නියාවට සමාන වේ. "මෙය ස්වෛරීත්වය නොව නිකම්ම සේම්ස්ත්වො වර්ගයකි... මෙම සේම්ස්ත්වො මත සැබෑ ස්වෛරීත්වයක් ස්ථාපිත කිරීම අවශ්‍යය"... පැරණි ගුබෙර්නියා සහ උයෙස්ද්* "කඩාබිඳ දැමීම" හෙළාදැකීමට කතුවරයා ඉදිරිපත් වෙයි.

ඇත්ත වශයෙන්ම, මධ්‍ය කාලීන, රදළ, නිලමක්කාර පරිපාලන බෙදීම් ආරක්ෂා කිරීම වූකලී සමකාලීන ධනවාදයේ තත්ත්වයන් "කඩා බිඳ දැමීම" සහ අංග විකල කිරීමක් වන්නේය. මෙවැනි ප්‍රභේදන නිසා ආස්වාදයකින් පිරි ඉතිරී සිටින අයට පමණකි, "විශේෂඥ විලාසයක් මවා පාමින්," විශාල ප්‍රදේශවලට ස්වෛරීත්වයද, කුඩා ප්‍රදේශවලට "සේම්ස්ත්වෝ" ද ඒකායත ලෙස යෙදිය යුතුයැයි ඉල්ලා සිටිමින් "සෙම්ස්ත්වෝ" සහ "ස්වෛරීත්වය" යන දෙක එකිනෙකට විරුද්ධව ඉදිරිපත් කරමින් ව්‍යාජත්වයක යෙදිය හැක්කේ. සමකාලීන ධනවාදය මෙවැනි නිලධාරිවාදී ඒකායතයන් කොහෙත්ම ඉල්ලා නොසිටී. පන්ලක්ෂයක ජනගහනයක් පමණක් නොව, 50,000 ක ජනගහනයක් වාසය කරන ප්‍රදේශයක වුවද, ජනතාවට ස්වෛරීත්වය භුක්ති විඳීමට, නොහැකි මන්ද, ආර්ථික අන්තර් ක්‍රියාකාරීත්වය සඳහා පහසු නැති නම්

* වි. මේදෙම්.[34]

අවශ්‍ය වන්නේ නම්, මේ ප්‍රදේශ නානා විධ ක්‍රම මගින් නොයෙකුත් පරිමාණ සහිත අසල්වැසි ප්‍රදේශ සමග සම්බන්ධ කොටැ, ඒවා ඒකීය ස්වෛරී ''ප්‍රදේශ'' ලෙස එක්සත් නොකරන්නේ මන්ද — බුන්ඩවාදී මේදෙම්ගේ රහස් ලෙස මේවා ඉතිරිව පවතී.

සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ බ්‍රියුන් ජාතික වැඩ පිළිවෙල සම්පූර්ණයෙන්ම ජාතික භෞමික ස්වෛරීත්වය මත පදනම් වී තිබෙන බව අපි මතක් කරමු. ''ඓතිහාසික කිරීට ඉඩම්'' වෙනුවට, ''ජාතික ප්‍රදේශ'' හැටියට ඔස්ත්‍රියාව බෙද වෙන් කළ යුතුයැයි එය යෝජනා කරයි (බ්‍රියුන් වැඩ පිළිවෙල, 2 ඡේදය). අපට එතරම් දුරට යානොහැක. නිදහස් පුළුල් සහ සැබවින්ම සමකාලීන වාණිජ අන්තර් ක්‍රියා කාරීත්වයක් සඳහා ඒකාකාර ජාතික ජනගහනයක් නිසැක ලෙසම ඉතා විශ්වාසදායක සාධකයක් වන්නේය. එකද මාක්ස්වාදියකු හෝ එපමණක් නොව, එකද ස්ථිර ප්‍රජාතන්ත්‍රවාදියකු හෝ ඔස්ත්‍රියානු කිරීට ඉඩම් සහ රුසියානු ගුබේර්නියා සහ උයෙස්ද් වලට පක්ෂ නොවන බවටද, (පසු කී ඉඩම් බෙදීම ඔස්ත්‍රියානු කිරීට ඉඩම් තරම් අයහපත් නොවූවද, සෑහෙන තරම් අයහපත්ය) නැතිනම් මේ යල්පැන ගිය ප්‍රභේදනයන් වෙනුවට, හැකි තරම් දුරට ජනගහනයේ ජාතික සංයුතියට ගැළපෙන පරිදි ප්‍රභේදනයන් ඉල්ලා සිටීමට විරුද්ධව අභියෝග නොකරන බවටද සැකයක් නැත. අවසාන වශයෙන්, සියලු ජාතික පෑගීම් අහෝසි කර දැමීම සඳහා කෙතරම් කුඩා වුවද, පූර්ණ සජාතීය ජනගහනයෙන් යුත් ස්වෛරී ප්‍රදේශ බිහිකිරීම ඉතා වැදගත්ය. මේවා වටා රට පුරා විසිරී සිටින නැතිනම් මුළු මහත් ලෝකය පුරා විසිරී සිටින ඒ ඒ ජාතීන්ටද ගුරුත්වා කර්ෂණ විය හැකිය. ඔවුනට මේවා සමග සබඳතාවයන් සහ සෑම වර්ගයකටම අයත් ස්වාධීන සමාගමයන් ඇති කැරැ ගත හැකිය. මේවා සියල්ල විවාද රහිතය, එමෙන්ම මේවාට විරුද්ධව තර්ක කළ හැක්කේ ආධානග්‍රාහී නිලධාරිවාදී දෘෂ්ටි කෝණයෙන් පමණකි.

කෙසේවුවද, ජනගහනයේ ජාතික සංයුතිය ඉතා වැදගත් ආර්ථික සාධකයකි, එහෙත් එය එකම සහ ඉතා වැදගත් සාධකය නොවේ. නිදසුනක් වශයෙන් ධනපති ක්‍රමය යටතේ නගර අති වැදගත් ක්‍රියා කලාපයක් ඉටු කරයි. එමෙන්ම පොලන්තයේත්, ලිතුවේනියාවේත්, උක්‍රයිනයේත්, මහ රුසියාවේ හැම තැනමත්, සහ වෙනත් තැන්වලත් නගරවල මිශ්‍ර ජනගහන සටහන් වී ඇත. ජාතික සාධකයේ නාමයෙන් නගර වලින් ගම් සහ ආර්ථික වශයෙන් නගර වෙතට ගුරුත්වාකර්ෂණය වන පෙදෙස් කපා හැරීම මුග්ධ ක්‍රියාවක් මෙන්ම කළ නොහැකි දෙයක්ද වන්නේය. මාක්ස්වාදීන් ''ජාතික භෞමික'' ප්‍රතිපත්තියට පූර්ණ ලෙස සහ විශේෂ ලෙස සිය ස්ථාවරය වශයෙන් නොගත යුත්තේ ඒ නිසාය.



මේ ගැටළුව විසඳාලීම සඳහා රුසියානු මාක්ස්වාදීන්ගේ සාකච්ඡාව ඉදිරිපත් කළ පිළියම ඔස්ත්‍රියානුන්ට වඩා බොහෝ සෙයින්ම නිවැරදිය. මේ ප්‍රශ්නය ගැන එම සාකච්ඡාව පහත සටහන් යෝජනාව ඉදිරිපත් කළේය.

''මේ සාකච්ඡාව... පළාත්බද ජනගහනය විසින්, තමන්ගේ ආර්ථික හා සමාජයීය තත්ත්වයන් නිගණනය කිරීම ආදිය පදනම් කොට ගෙන, ස්වයං පාලන සහ ස්වෛරී ප්‍රදේශවල සීමා නිර්ණයනය කරන විට (දැනට තිබෙන ගුබේර්නියා සහ උයෙස්ද් ආදිය අනුව නොවේ) සම්පූර්ණයෙන්ම ප්‍රජාතන්ත්‍රික පළාත් පාලන සහ පූර්ණ ප්‍රාදේශීය ස්වෛරීත්වයක් (පෝලන්තයට පමණක් නොවේ, සත්තකින්ම රුසියාවේ සියලු ප්‍රදේශ සඳහා) ඉල්ලා සිටී*.

මෙහිදී ජනගහනයේ ජාතික සංයුතිය අනිකුත් කොන්දේසි සමග (ප්‍රථමයෙන් ආර්ථික අනතුරුව සමාජයීක ආදී) එකම මට්ටමකට තබා ඇත. නිලධාරිවාදයේ සහ ආසියානු අශිෂ්ටත්වයේ නොව, සමකාලීන ධනපති ක්‍රමයට සරිලන නව සීමා නිර්ණයනය කරන පදනම හැටියට මෙය සේවය කළ යුතුය. මේ තත්ත්වයන් පූර්ණ සුතථ්‍යතාවයෙන් යුතුව 'තක්සේරු'' කළ හැක්කේ පළාත්බද ජනතාවට පමණකි. මෙම තක්සේරුව අනුව රටේ මධ්‍යම පාර්ලිමේන්තුව ස්වෛරී ප්‍රදේශයේ සීමාවන් සහ ස්වෛරී මන්ත්‍රණ සභාවේ බලතල නිර්ණය කරනු ඇත.

* * *

ස්වයං නිර්ණයනය සඳහා ජාතීන්ගේ ඇති අයිතිය පිළිබඳ ප්‍රශ්නය අප විසින් පිරික්සා බැලිය යුතුය. මෙම ප්‍රශ්නයේදී සියලු ජාතීන්ට අයත් අවස්ථාවාදීන්ගේ රංචුවක් — ලික්විඩේටර් වාදී සෙම්කොව්ස්කිද, බුන්ඩවාදී ලීබ්මන්ද, උක්රයින ජාතිකවාදී සමාජවාදී ලෙව් යුරකේවිච්ද රෝසා ලුක්සම්බුර්ග් කළ වැරදි ''ජනප්‍රිය'' කිරීමට ඉදිරිපත් වී සිටිති. මෙම රංචුව විසින් අන්තය දක්වාම ව්‍යාකූල කර ඇති මෙම ප්‍රශ්නය මීළඟ ලිපිය මගින් අපි පිරික්සා බලමු.

1913, ඔක්තෝබර් — දෙසැම්බර් මාසවලදී ලියන ලදී

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 24, පිටු 115-150

---

* ව්. අයි. ලෙනින්, සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, 24 වෙළුම, 58 පිටුව — සංස්කාරක

# ස්වයං නිර්ණයනය සඳහා ජාතීන් සතු අයිතිය

ස්වයං නිර්ණයනය සඳහා ජාතීන් සතු අයිතිය පිළිබඳව සටහන් කරන රුසියානු මාක්ස්වාදීන්ගේ වැඩ පිළිවෙලෙහි නවවැනි ඡේදය මුල් කැරගෙන අවස්ථාවාදීහු කුරුස යුද්ධයකදී මෙන් මැතක සිට පහර ගැසීමට පටන්ගෙන ඇත්තාහ (අපි මේ බව ප්‍රශ්විශේනියේහි පෙන්වා දී ඇත්තෙමු). රුසියානු ලික්විඩේටර්වාදී සෙම්කොව්ස්කි පීටර්බූර්ගයේ ලික්විඩේටර්වාදී පුවත්පතින්ද, බුන්ඩ්වාදී ලීබමාන් සහ උක්රේනියානු ජාතිවාදී-සමාජවාදී යූර්කේවිච් ඒ ඒ වාරික පුවත්පත් මගින්ද ප්‍රචණ්ඩකාරී ලෙස පහරදී එය ඉමහත් පිළිකුළට පසු කොට ඇත්තාහ. අපේ මාක්ස්වාදී වැඩ පිළිවෙළට විරුද්ධව අනේකවිධ අවස්ථාවාදීන් රංචුවක් ගෙනයන මෙම ව්‍යාපාරය අද්‍යාතන ජාතිකවාදීන් පොදු වශයෙක් පෙන්වන වැනෙන සුලුගතිය හා සමග සමීප ලෙස සම්බන්ධ වී ඇති බව නිසැකය. එනිසා මෙම ප්‍රශ්නය අරභයා විස්තර සහිත විමර්ශනයක් කිරීම කාලෝචිතයැයි කල්පනා කරමු. ඒ අතරම ඉහත නම් සටහන් අවස්ථාවාදීන්ගෙන් එකකුවත් ස්වකීය තර්ක එකක්වත් ඉදිරිපත් කර නැති බව, පවසමු. රෝසා ලුක්සම්බූර්ග් 1908-1909 වසර වලදී පෝලන්ත බසින් ලියූ ''ජාතික ප්‍රශ්නය සහ ස්වෛරීත්වය'' නැමැති දිගු ලිපියෙන් ඇ කියා ඇති කරුණු හුදෙක් යළි ප්‍රකාශ කිරීම පමණක් ඔවුහු සියලු දෙනම කරති. මෙහි අවසානයට සඳහන් වුණු කර්තෘ වරියගේ ''මුල්'' තර්ක පිළිබඳව අපේ මේ විවරණයෙහි ප්‍රධාන වශයෙන් කරුණු සඳහන් කරමු.

## 1. ජාතීන්ගේ ස්වයං නිර්ණයනය යනුවෙන් අදහස් කරන්නේ කුමක්ද?

ස්වභාවයෙන්ම ස්වයං නිර්ණයනය යනුවෙන් ප්‍රකට දෙය ගැන මාක්ස්වාදී විමර්ශනයක් කිරීමට දරන ඕනෑම ප්‍රයත්නයකදී මතුවන ප්‍රථම



ප්‍රශ්නය මෙයය. එම පදයෙන් වටහා ගත යුත්තේ කුමක්ද? මෙයට පිළිතුරක් සෙවිය යුත්තේ නීතියේ විවිධ ''පොදු සංකල්ප'' අනුව සකස්කරගත් නෛතික අර්ථ නිරූපණයකින්ද? එසේ නැතහොත් එය සෙවිය යුත්තේ ජාතික ව්‍යාපාර අරභයා වූ ඓතිහාසික-ආර්ථික අධ්‍යයනයකින්ද?

සෙම්කොව්ස්කිලා, ලීබ්මන්ලා, සහ යූර්කේවිච්ලා මෙම ප්‍රශ්නය මතු කිරීමට කල්පනා නොකිරීම, මවිතයට කරුණක් නොවේ. මාක්ස්වාදී වැඩ පිළිවෙලෙහි ''නොපැහැදිලිතාවය'' ගැන සමච්චල් කරමින් ඔවුහු මෙම ප්‍රශ්නය පසෙක ලූහ. ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳව කරුණු සඳහන් කර තිබෙන්නේ 1903[35] රුසියන් වැඩ පිළිවෙළහි පමණක් නොව 1896 ලන්ඩන්හි පවත්වන ලද ජාත්‍යන්තර සමුළුවේ යෝජනාවෙහිද (සුදුසු තැන ඒ පිළිබඳව විස්තර ඉදිරිපත් කරමි) ඒ ගැන සටහන් වී තිබෙන බවක් පවා ඔවුන් නොදැන සිටි නිසා ඔවුන් එසේ කළ බැව් පෙනේ. අදාළ ඡේදයේ ඇතැයි කියන වියුක්ත සහ අධ්‍යාත්මික ස්වභාවයක් ගැන කතා කරන රෝසා ලුක්සම්බූර්ග් තමා විසින්ම එම වියුක්ත භාවයේ සහ අධ්‍යාත්මික භාවයේ පාප කර්මයට ඇද වැටීම වඩාත් වැඩි විමතියට හේතුවන කරුණකි. (ජාතියක අභිප්‍රාය දැනගන්නේ කෙසේද යන්න අරභයා සිනහ උපදවන තරම් දර්ශනික ලෙස කරුණු ගෙනහැර පෑමට ඈ ඉදිරිපත් වෙයි) එසේ කරන අතර ස්වයං නිර්ණයනය පිළිබඳ සාරාර්ථය රැඳී ඇත්තේ නෛතික අර්ථ නිරූපනය තුළද, එසේත්, නැතිනම් මුළු මහත් ලෝකයේ ජාතික ව්‍යාපාරවල අත්දැකීම් තුළද යන ප්‍රශ්නය පැහැදිලි ලෙසත් ස්ථිර ලෙසත් ඈ තමාගෙන් අසා නොගනී.

මෙම ප්‍රශ්නය ස්ථිර ලෙස ඉදිරිපත් කිරීමෙන් වැළකී සිටීමට කිසිම මාක්ස්වාදියකුට කළ නො හැක්කකි. එම ප්‍රශ්නය එක එල්ලේම රෝසා ලුක්සම්බූර්ග්ගේ තර්කවලින් දහයෙන් නවයක් බිඳ දමයි. රුසියාවේ ජාතික ව්‍යාපාර ඇතිවූ ප්‍රථම වතාව මෙය නොවන අතර ජාතික ව්‍යාපාර එම රටට පමණක් විශේෂ වූවක්ද නොවේ. ලෝකය පුරා රදළ ක්‍රමය පරදවා ධනපති ක්‍රමය අවසාන ජයග්‍රහණය ලැබූ කාල පරිච්ඡේදය ජාතික ව්‍යාපාර හා සමග සම්බන්ධ වූවක් විය. භාණ්ඩ නිෂ්පාදන ක්‍රමයේ පූර්ණ ජයග්‍රහණය සඳහා ධනපති පංතිය දේශීය වෙළඳ පොළ අල්ලා ගත යුතුය. එමෙන්ම එකම භාෂාවක් කතා කරන ජනගහනයක් ඇති දේශපාලන වශයෙන් එක්සත් වූ ප්‍රදේශ තිබිය යුතුය. එම භාෂාවේ සංවර්ධනය සහ එය සාහිත්‍යය මගින් තහවුරුවීමට විරුද්ධ වන සියලු බාධක ඉවත් කර දැමිය යුතුය. ජාතික ව්‍යාපාරයේ පදනම රඳා පවතින්නේ ඒවා මතය. මිනිස් සම්භාෂණයෙහි ඉතා වැදගත් මාධ්‍යය භාෂාවය. සමකාලීන ධනපති ක්‍රමයට සරිලන පරිමාණයකින් සැබවින්ම නිදහස් ලෙස හා විස්තීර්ණ

ලෙස වාණිජ කටයුතු කරගෙන යාම සඳහාද, ජනගහනය ඊට අදාළ සියලුම පංතීන් අනුව, නිදහස් ලෙස හා පුළුල් ලෙස කාණ්ඩ ගත කිරීම සඳහාද, වෙළඳ පොළ සහ සෑම ලොකු හෝ කුඩා දේපොළ හිමියන් අතර මෙන්ම අලෙවි කරන සහ මිලයට ගන්නා අය අතරත් සමීප සම්බන්ධයක් සඳහාද භාෂාවේ ඒකීයතාවය සහ එහි අබාධිත සංවර්ධනය ඉතා වැදගත් කොන්දේසි වේ.

එබැවින් ජාතික රාජ්‍යයන් පිහිටුවීම වෙත නැඹුරුවීම සෑම ජාතික ව්‍යාපාරයකම ප්‍රවණතාවය වී තිබේ. සමකාලීන ධනපති ක්‍රමයේ ඉහත සටහන් අවශ්‍යතාවයන් වඩාත් හොඳින් සපුරාලිය හැක්කේ එම ජාතික රාජ්‍යයන් යටතේය. මෙම අරමුණ එනම් ජාතික රාජ්‍යයන් පිහිටුවාලීම සඳහා ඉතාම බලවත් ආර්ථික සාධකයන් ක්‍රියාත්මක වේ. එබැවින් මුළු මහත් බටහිර යුරෝපය සඳහා පමණක් නොව, ශිෂ්ට සම්පන්න සමස්ත ලෝකය සඳහාම ආකෘතික සහ සාමාන්‍ය රජය වන්නේ ජාතික රාජ්‍යයයි.

එබැවින් නෛතික අර්ථ නිරූපණයන් සමග ක්‍රීඩා නොකර, නැතහොත් වියුක්ත අර්ථ නිරූපණයන් ''නිර්මාණය'' නොකර ජාතික ව්‍යාපාරවල ඓතිහාසික-ආර්ථික තත්ත්වයන් පිරික්සා බැලීම මගින් ජාතීන්ගේ ස්වයං නිර්ණයනය යන්නෙහි අරුත් වටහා ගැනීමට අපට වුවමනා නම්, අප නොවැළැක්විය හැකිසේ එළැඹිය යුතු නිගමනය වන්නේ, ජාතීන් පිටස්තර ජාතික ආයතනවලින් වෙන්වී, ස්වාධීන ජාතික රාජ්‍ය පිහිටුවා ගැනීම යනු ඉන් අදහස් කෙරෙන බවය.



ජාතික ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය යනු වෙනම රාජ්‍යයක් වශයෙන් පැවතීමේ අයිතියය යන්න හැර එයට වෙනත් අර්ථයක් දීම සාවද්‍ය වන්නේ මන්දැයි දක්වන තවත් හේතූන් අපට මතු දක්නට ලැබෙනු ඇත. ජාතික රාජ්‍යයන් පිහිටුවීමට ඇති උද්වේගයෙහි පදනම ගැඹුරු ආර්ථික සාධකයන්ය යන වැලැක්විය නොහැකි නිගමනය ''ඉවත් කර ලීමට'' රෝසා ලුක්සම්බුර්ග් දරන ප්‍රයත්නයන් ගැන දැන් අප සලකා බැලිය යුතුය.

ජාතිකත්වය සහ ජාත්‍යන්තරත්වය යනුවෙන් කෞට්ස්කි විසින් ලියන ලද පොත් පිංච ගැන රෝසා ලුක්සම්බුර්ග් ඉතා හොඳින් දනී. ("Neue Zeit"[36] අංක 1. 1907-1908 පුවත්පතට අතිරේකය: රුසියානු අනුවාදය නවුච්නයා මීසල්[37] රිගා සඟරාවේ 1908 පළවිය) එම පොතේ, හතර වැනි කොටසින් ජාතික රාජ්‍යය පිළිබඳ ප්‍රශ්නය සුපරීක්ෂා කාරී ලෙස විශ්ලේෂණය කළ කෞට්ස්කි* ඉන් ඉක්බිතිව, ''ඔට්ටෝ බෞවර් ජාතික

* 1916 දී නව ප්‍රකාශනයක් සඳහා ලිපිය සූදනම් කරමින් සිටියදී, ලෙනින් මෙම සටහන ලියුවේය: 'කෞට්ස්කිගේ බලයට පැමිණීමේ මාවත' නැමැති පොත පළවීමට පෙර එනම් 1909 පෙර ඔහු අවස්ථාවාදයේ



රාජ්‍යයක් පිහිටුවීමට ඇති උද්වේගයේ ශක්තිය අවතක්සේරු කරන'' බව නිගමනය කළේය. ඇ ඒ ගැන හොඳින් දනී (අප උපුටා දක්වන පොතෙහි 23 පිටුව.) රෝසා ලුක්සම්බුර්ග් කෞට්ස්කිගේ පහත සටහන් වචන මෙලෙස උපුටා දක්වයි: ''අද තත්ත්වයන්ට (එනම්, මධ්‍යකාලීන ප්‍රාග්ධනවාදී ආදි තත්ත්වයන්ගෙන් වෙන් කොටගත්, ධනපති ශිෂ්ට සම්පන්න ආර්ථික-ප්‍රගාමී තත්ත්වයන්ට) ජාතික රාජ්‍ය ආකෘතිය ඉතා හොඳින් ගැළපෙයි, රාජ්‍යයට එහි කර්තව්‍යයන් (එනම් ධනපති ක්‍රමය ඉතා නිදහස් ලෙස, ඉතා පුළුල් ලෙස සහ වේගවත් ලෙස සංවර්ධනය වීමට සැලැස්වීමේ කර්තව්‍යයන්) ඉතා හොඳින් ඉටුකළ හැක්කේ එම ආකෘතිය අනුවය. කෞට්ස්කි මීටත් වඩා පැහැදිලි ලෙස අවසානයේ දක්වන අදහස් මීට එකතු කළ යුතුය. මිශ්‍ර ජාතික සංයුක්තතාවයකින් පවතින රාජ්‍යයන් (ජාතික රාජ්‍යයන්ගෙන් වෙනස්වන බහු ජාතික රාජ්‍යයන්) ''හැම එකකම අභ්‍යන්තර ව්‍යුහය කිසියම් එක් හෝ වෙනත් හේතුවක් නිසා අසාමාන්‍යය, නැතහොත් ඌන සංවර්ධිතය (නො දියුණුය). අසාමාන්‍ය කම ගැන කෞට්ස්කි කතා කරන්නේ සංවර්ධනය වන ධනපති ක්‍රමයක අවශ්‍යතාවයන්ට ගැළපෙනසුලු නොවීම පිළිබඳ අර්ථයෙන් පමණක් බව නොකිවමනාය.

කෞට්ස්කිගේ මෙම ඓතිහාසික-ආර්ථික නිගමන අරභයා රෝසා ලුක්සම්බුර්ග් දක්වන ආකල්පය කිමෙක්ද යනු දැන් පැන නගින ප්‍රශ්නයය. ඒවා හරිද නැතිනම් වැරදිද? කෞට්ස්කිගේ ඓතිහාසික-ආර්ථික න්‍යායය අනුව ඔහු නිවැරදිද? නැතහොත් බෞවර් ඔහුගේ මූලික වශයෙන් මනෝවිද්‍යාත්මක න්‍යායය අනුව නිවැරදිද? බෞවර් නිසැක ලෙසම ''ජාතික අවස්ථාවාදයට'' ඇද වැටීම, ඔහු සංස්කෘතික-ජාතික ස්වෛරීත්වය ආරක්ෂා කිරීම, ඔහු ජාතික වාදයෙන් උමතුවීම, (කෞට්ස්කි පැවසූ පරිදි සමහර අවස්ථාවලදී ජාතික පැත්ත අවධාරණය කිරීම) ''ඔහු ජාතික පැත්ත ඉමහත් අතිශයෝක්තියෙන් හුවා දැක්වූ අතර ජාත්‍යන්තර පැත්ත සම්පූර්ණයෙන් අමතක කිරීම'' (කෞට්ස්කි), සහ ජාතික රාජ්‍යයක් පිහිටුවාලීමට ඇති උද්වේගය අඩුවෙන් තක්සේරු කිරීම අතර තිබෙන සම්බන්ධතාවය කුමක්ද?

රෝසා ලුක්සම්බුර්ග් මෙම ප්‍රශ්නය පවා ඉදිරිපත් කර නැත. මේවා අතර ඇති සම්බන්ධය ඇයට නොපෙනිණි, ඇ බෞවර්ගේ න්‍යායික මතවල

සතුරකුව සිටි බවත්, ඔහු එය ආරක්ෂා කිරීමට පළමුවෙන්ම ඉදිරිපත් වූයේ 1910-1911 කාලයේ වූ අතර 1914-1916 කාලයේදී එයට බලවත් ලෙස ආධාර කළ බවත් පාඨකයා මතක තබා ගන්නා ලෙස ඉල්ලා සිටිමු.

සමස්තය ගැන සලකා බැලීමක් පවා කර නැත. ඇ කෞට්ස්කිට විරුද්ධව පහත සටහන් කරුණු ඉදිරිපත් කිරීමට පමණක් සීමා වෙයි.

''...මෙම ''ඉතා හොඳ'' ජාතික රාජ්‍යය යනු වියුක්ත සංකල්පයක් පමණකි. එහි න්‍යායික වර්ධනය ආරක්ෂා කිරීම පහසුය, එනමුදු එය යථාර්ථයට නොගැළපෙයි ("Przegląd Socjaldemokratyczny," 1908 අංක 6. පිටුව 499).

තීරණාත්මක ලෙස ඉදිරිපත් කර තිබෙන මෙම ප්‍රකාශය සනාථ කිරීමට තර්කද ඊළඟට ඉදිරිපත් කර තිබේ. මහා බලවත් ධනපති රාජ්‍යයන් සහ අධිරාජ්‍යවාදය ඇතිවීම නිසා කුඩා ජාතීන්ගේ ''ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය'' මිරිඟුවක් වී තිබෙන බව ඉන් කියැවෙයි. මොන්ටිනීග්‍රෝවරුන්ගේ, බල්ගේරියානු, රුමේනියානු, සෙර්බ්, ග්‍රීක හා එක්තරා දුරකට ස්විට්සර්ලන්ත ජාතීන්ගේද ස්වයං නිර්ණයනය පිළිබඳව කෙනෙකුට බැරෑරුම් ලෙස කතා කළ හැකි දැයි අසන රෝසා ලුක්සම්බුර්ග් විමතයට පත් වෙයි. ''එම රටවල නිදහස සැබවින්ම ''යුරෝපා බලවතුන්ගේ සංගතිය'' ගෙනයන දේශපාලන අරගලයේ සහ රාජ්‍ය තන්ත්‍රික ක්‍රීඩාවේ ප්‍රතිඵලයකි''යි ඇ පවසයි (500 පිටුව). මෙම තත්ත්වයන් යසට ගැළපෙන්නේ කෞට්ස්කි විශ්වාස කරන පරිදි, ''ජාතික රාජ්‍යයක් නොව මංකොල්ලකාරී රාජ්‍යයකි.'' මෙයට බ්‍රිතාන්‍ය, ප්‍රංශ සහ වෙනත් රටවලට අයිති යටත් විජිත ගැන සංඛ්‍යා ලේඛන දුසිම් ගණනක් උපුටා දක්වයි.

අදළ කරුණු පිළිබඳව නියම තත්ත්වයන් සහ හේතු වරදවා වටහා ගැනීමට කර්තෘ වරියට ඇති හැකියාව ගැන මවිත නොවී සිටීමට, මෙම තර්ක කියැවූ කෙනෙකුට නොකළැකි දෙයකි. ආර්ථික වශයෙන් කුඩා රාජ්‍ය ලොකු රාජ්‍යයන් කෙරෙන් යැපෙන බවත්, ජාතීන් මංකොල්ලකාරී ලෙස යටත් කර ගැනීම පිණිස ධනපති රාජ්‍යයන් අතර සටන් ඇවිල පවතින බවත්, අධිරාජ්‍යවාදය සහ යටත් විජිතවාදය පවතින බවත් බැරෑරුම් ලීලාවකින් කෞට්ස්කිට උගැන්වීමට ගන්නා මේ උත්සාහය සම්පූර්ණයෙන්ම හාස්‍ය ජනකය, හපන්කම පෙන්වීමට දරන බොළඳ ප්‍රයත්නයකි. මන්දයත් මින් එකක් වත් අදළ විෂය කෙරෙහි කොහෙත්ම බල නොපාන බැවිනි. කුඩා රාජ්‍යයන් පමණක් නොව, රුසියාව පවා ''පොහොසත්'' ධනපති රටවල අධිරාජ්‍යවාදී මූල්‍ය ප්‍රාග්ධනයෙන් යැපෙන බව නිදසුනක් ලෙස දැක්විය හැකිය. කුඩා බෝල්කන් රාජ්‍යයන් පමණක් නොව, මාක්ස් ප්‍රාග්ධනය නැමැති කෘතියෙන් පෙන්වා දී ඇති පරිදි දහ නව වැනි ශත වර්ෂයේදී ඇමෙරිකාව] පවා යුරෝපයේ ආර්ථික යටත් විජිතයක් විය. සැම මාක්ස්වාදියකු මෙන්ම කෞට්ස්කිද සත්තකින්ම මේ ගැන දනී.



එහෙත් එය ජාතික ව්‍යාපාර සහ ජාතික රාජ්‍යය පිළිබඳ පිළිබඳ ප්‍රශ්නයට කොහෙත්ම අදළ නොවේ.

ධනපති සමාජය තුළ ජාතීන්ගේ දේශපාලනමය ස්වයං නිර්ණයනය සහ රාජ්‍යයන් වශයෙන් ඒවායේ නිදහස වෙනුවට රෝසා ලුක්සම්බුර්ග් ඒවායේ ආර්ථික ස්වාධීනත්වය පිළිබඳ ප්‍රශ්නය ආදේශ කරයි. මෙය, ධනපති රාජ්‍යයක පාර්ලිමේන්තුවට, එනම් ජනතා නියෝජිත සභාවට, ප්‍රධානත්වය ගෙනදීම සඳහා වැඩ පිළිවෙලට ඇතුළු කළ යුතු ඉල්ලීම් ගැන සාකච්ඡා කරමින් සිටින කෙනෙක් ධනපති රටක කුමන රජයක් තිබුණත් බලපෑම ඇත්තේ ලොකු ධනපති පංතියටය යන පූර්ණ නිවැරදි අදහස පැහැදිලි කිරීම තරම් මැ බුද්ධිමත්ය.

ජනගහනය අනුව අධි ඝනත්වයක් ඇති ආසියා මහා ද්වීපයෙහි වැඩි කොටසක් එක්කෝ ''මහා බලවතුන්ගේ'' යටත් විජිතවලින් හෝ ඉතා පරාධීන සහ පීඩිත රටවලින් සමන්විත වී ඇති බවට සැකයක් නැත. එහෙත් කවුරුත් දන්නා මෙම තත්ත්වය හේතු කොට ගෙනැ, ආසියාව තුළම, ඉතා අංග සම්පූර්ණ ලෙස වෙළඳ භාණ්ඩ නිෂ්පාදනය දියුණු කිරීම සහ ධනපති ක්‍රමය ඉතා නිදහස් ලෙස, පුළුල් ලෙස හා වේගවත් ලෙස වර්ධනයවීම සඳහා අවශ්‍ය කොන්දේසි නිර්මාණය වී ඇත්තේ නිදහස් රාජ්‍යයක එනම් ජපානයේ පමණක්ය යන නිසැක සත්‍යය දෙදරන්නේද? එය ධනපති රාජ්‍යයකි. මේ හේතුව නිසාම එයද ජාතීන්ට පීඩා කිරීමටත්, යටත් විජිත වහල් කර ගැනීමටත්, පටන් ගෙන ඇත. ධනපති ක්‍රමය බිඳ වැටෙන්නට පෙර, යුරෝපයේ මෙන් නිදහස් රාජ්‍ය ක්‍රමයක් ලෙස සංවර්ධනය වීමට ආසියාවට කාලය ලැබේද යන්න කීමට අපි නොදනුමු. එසේවූවද, ආසියාව පුබුදුවා ලූ ධනපති ක්‍රමය, එම මහා ද්වීපයේ සැම තන්හිම ජාතික ව්‍යාපාර බිහිකර ඇත. එමෙන්ම එම ව්‍යාපාරවල ප්‍රවණතාවය එල්ල වී තිබෙන්නේ ආසියාවේ ජාතික රාජ්‍යයන් පිහිටුවාලීම වෙතය. ධනපති ක්‍රමයේ සංවර්ධනයට අවශ්‍ය ඉතා හොඳ තත්ත්වයන් එවැනි රාජ්‍යයෝ සහතික කරති. මෙම කරුණු තර්ක විරහිතව පිළිගත යුතු සත්‍යයක් වී ඇත. ආසියාවේ නිදසුන කෞට්ස්කිට පක්ෂව, සහ රෝසා ලුක්සම්බුර්ග්ට විරුද්ධව කරුණු ඉදිරිපත් කරයි.

එමෙන්ම බෝල්කන් රටවල නිදසුනද ඇයට විරුද්ධව නැගී සිටියි. මන්දයත්, බෝල්කන් රටවල ධනපති ක්‍රමය සංවර්ධනය වීමට ඉතා හොඳ තත්ත්වයන් නිර්මාණය වන්නේ, එම අර්ධ ද්වීපයෙහි ස්වාධීන ජාතික රාජ්‍යයන් ඇතිවන ප්‍රමාණයට සමානුපාතිකවය යන්න දැන් කාටත් පැහැදිලිව පෙනෙන බැවිනි.

එබැවින් රෝසා ලුක්සම්බුර්ග් කුමක් කීවත් සමස්ත පුරෝගාමී සහ ශිෂ්ට මිනිස් වර්ගයාගේ නිදසුනෙන් සහ බෝල්කන් රටවල නිදසුනෙන්,

ආසියාවේ නිදසුනෙන්, කෞට්ස්කිගේ මතය ඉතා නිවැරදි බව කොන්දේසි විරහිතව ඔප්පු වේ. ජාතික රාජ්‍යය — ධනපති ක්‍රමයේ නියමිත ආකෘතිය සහ ''ප්‍රතිමානය'' වේ. මෙය බහුජාතික රජය නොදියුණුකම නැතහොත් විශේෂිතයක් නියෝජනය කරයි. ජාතික සම්බන්ධතාවයන් පිළිබඳ දෘෂ්ටි කෝණයෙන් බලන විට, ධනවාදයේ සංවර්ධනය සඳහා නිසැක ලෙසම ජාතික රාජ්‍යයන් ඉතා හොඳ තත්ත්වයන් සම්පාදනය කරයි. ධනවාදී සම්බන්ධකම් මත පදනම් වූ එවැනි රාජ්‍යයක් ජාතීන් සූරාකෑම සහ පෑගීම අහෝසි කරන බවත් මෙයින්, අදහස් නොකෙරේ. ජාතික රාජ්‍යයන් ඇතිකිරීමට හේතුවන බලවත් උද්වේගය ජනිත කරන බලසම්පන්න ආර්ථික සාධක අමතක කිරීම මාක්ස්වාදීන් නොකළ යුතු බව පමණක් මින් අදහස් කෙරේ.මාක්ස්වාදීන්ගේ වැඩ පිළිවෙලහි සඳහන් ජාතීන්ගේ ''ස්වයං නිර්ණයනය'' දෙස ඓතිහාසික ආර්ථික දෘෂ්ටි කෝණයෙන් බලන විට, එහි තේරුම දේශපාලන ස්වයං නිර්ණයනය, රාජ්‍ය ස්වාධීනත්වය හා ජාතික රාජ්‍යයක් පිහිටුවාලීම මිස අන් කිසිවක් විය නොහැකි බව මින් අදහස් කෙරේ.

ජාතික රාජ්‍යයන් සඳහා වූ ධනපති-ප්‍රජාතන්ත්‍රික ඉල්ලීමට මාක්ස්වාදී, එනම් පංතිමය නිර්ධන පංතික ස්ථාවරය අනුව සහයෝගය දිය යුත්තේ කිනම් තත්ත්වයන් යටතේද යනු විස්තර සහිතව පහත දැක්වේ. දැනට ''ස්වයං නිර්ණයනය'' යන සංකල්පයෙහි අර්ථ නිරූපනය ගැන පමණක් සලකා බලමු. මෙම සංකල්පයෙන් අදහස් කරන්නේ කුමක්ද යන්න (''ජාතික රාජ්‍යය'' බව) රෝසා ලුක්සම්බුර්ග් දන්නා අතර ඇගේ අවස්ථාවාදී පාක්ෂිකයින් වන ලිබ්මන්ලා, සෙම්කොව්ස්කිලා, යුර්කේවිච්ලා එතරම්වත් නොදන්නා බව පමණක් කියා පෑමට අපි සීමාවමු.

## 2. ඓතිහාසික වශයෙන් සංයුක්ත ලෙස ප්‍රශ්නය ඉදිරිපත් කිරීම

ඕනෑම සමාජ ප්‍රශ්නයක් පිරික්සා බැලීමේදී, එය නියමිත ඓතිහාසික රාමුවක් තුළින් ඉදිරිපත් කිරීමද එය කිසියම් එක් රටකට අදළ වේනම් (නිදසුනක් වශයෙන් එය නියමිත රටේ ජාතික වැඩ පිළිවෙලක් පිළිබඳ ප්‍රශ්නයක් නම්) එම ඓතිහාසික අවධියේදී එම රට අනිත් රටවලින් වෙන් කැරෙන විශේෂ ලක්ෂණ ගැනත් අවධානය යොමු කිරීමද මාක්ස්වාදී න්‍යායයෙහි කොන්දේසි විරහිත අවශ්‍යතාවයකි.

අපේ සාකච්ඡාවට භාජනය වී ඇත ප්‍රශ්නයට මාක්ස්වාදයේ මෙම කොන්දේසි විරහිත අවශ්‍යතාවය ගළපාගත් විට, ඉන් අදහස් වන්නේ කුමක්ද?



ධනපති ක්‍රමයේ යුග දෙක අතර ඇති වෙනස ගැන ජාතික ව්‍යාපාරය සම්බන්ධයෙන් එක් අවධියක් අනිකෙන් වෙනස් වන ආකාරය ගැන නිසි ලෙස පැහැදිලි කර ගත යුතු බව අන් හැමටම පෙර ඉන් අදහස් වේ. එක් අතකින් රදළ ක්‍රමය සහ අත්තනෝමතික පරම වාදය විනාශවන අවධියය. එය ධනපති ප්‍රජාතන්ත්‍රවාදී සමාජය සහ රාජ්‍යය ඇති වන වකවානුවය. ජාතික ව්‍යාපාරය ප්‍රථම වරට පොදු ජන ව්‍යාපාර බවට පත් වන්නේත්, එක් හෝ තවත් ක්‍රමයක් මගින් පුවත්පත්, නියෝජිත ආයතනවලට සහභාගි වීම යනාදිය තුළින් ජනගහනයේ සියලුම පංතීන් දේශපාලනයට ඇදගන්නේත් මෙම අවධියේදීය. අනික් අතට, බොහෝ කලකට ඉහත ස්ථාපිත වූ ව්‍යවස්ථානුකූල පාලනයක් සහ නිර්ධන පංතිය හා ධනපති පංතිය අතර උසස් ලෙස දියුණුවූ ප්‍රතිසත්තතාවයක් සහිත අංග සම්පූර්ණ ලෙස සකස් වූ ධනපති රාජ්‍යයන් පවතින අවධියක්ද ඇත. එය ධනපති ක්‍රමය විනාශවීමේ ආසන්න කාලය ලෙස හැඳින්විය හැකිය.

ජාතික ව්‍යාපාරයේ පිබිදීම සහ ජනගහනයේ ඉතා විශාල සංඛ්‍යාව සහ ''ඉතා උදසීන'' කොටස වන ගොවි ජනතාව, පොදු වශයෙන් නිදහස සඳහා කරන සටනත්, විශේෂයෙන්ම ජාතික අයිතිවාසිකම් සඳහා කරන සටන මගින් එම ව්‍යාපාරවලට සහභාගිවීම මෙහි පළමුවැනි යුගයේ අංග ලක්ෂණයන්ය. පොදු ජන ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාර නොමැතිවීම, සහ වාණිජ ගනු දෙනු වලට සම්පූර්ණයෙන් ඇදී ඇති ජාතීන් එකිනෙකට සමීප ලෙස එක් කිරීමෙන්ද, ඒවා එකිනෙක සමග වැඩි වැඩියෙන් වෙළී පැටලී සිටින තත්ත්වයක් ඇති කිරීමෙන්ද, ජාත්‍යන්තර වශයෙන් එක්සත් වූ ප්‍රාග්ධනය සහ ජාත්‍යන්තර කම්කරු පංති ව්‍යාපාරය අතර ඇති ප්‍රතිසත්තතාවය පෙරමුණට ඇද දැමීම දෙවැනි යුගයේ අංග ලක්ෂණ වන්නේය.

මෙම යුග දෙක එකින් එක ප්‍රකාරයකින් වෙන් කර නොමැති බව සත්‍යයකි. ඒවා නිමක් නැති සංක්‍රාන්තික පුරුක් වලින් එකට එක සම්බන්ධවී ඇත. ජාතික සංවර්ධනයේ වේගය, ජාතික සංයුක්ත තාවය හා ජනතාව විසිරී සිටින ආකාරය ආදි කරුණු අනුව විවිධ රටවල් එකින් එකට වෙනස් වෙති. මෙම පොදු ඓතිහාසික සහ මූර්ත තත්ත්වයන් සියල්ල සැලකිල්ලට නොගෙන කිසිම රටක මාක්ස්වාදීන්ට වැඩ පිළිවෙලක් සකස් කරගැනීම සිතාගැනීමට පවා නොහැකිය.

රෝසා ලුක්සම්බුර්ග් ගේ තර්කවල ඉතා දුර්වල ස්ථානය අපට මෙහිදී මුණගැසෙයි. අපේ ඇඩ පිළිවෙලෙහි නව වැනි ඡේදය ''අරමුණක් නැති'' ''පදනම් විරහිත'', ''නීරස'', ''අධ්‍යාත්මවාදී වාක්‍ය ඛණ්ඩයක්'' ආදී නිමක් නැති නම් වලින් විස්තර කරන ඇ එම කොටස මත එල්ල කොට ඇති ''සැර'' වචන මාලාවකින් ඇගේ ලිපිය සරසාලීම පිණිස ඇ ඉමහත්

උද්යෝගයක් දක්වයි. මෙතරම් මනහර ලෙස අධ්‍යාත්මිකවාදය (එනම් මාක්ස්වාදී අර්ථයෙන් දයලෙක්තික විරෝධය) සහ පුහු වියුක්තබව හෙළා දකින ලේඛිකාවක්, ප්‍රශ්නය අරභයා මූර්ත ඓතිහාසික විශ්ලේෂණයක් කරන්නේ කෙසේද යන්න ගැන අපට ආදර්ශයක් දෙතැයි බලාපොරොත්තුවීම ස්වාභාවික දෙයකි. එක් නිශ්චිත රටක එනම් රුසියාවේ එක් නිශ්චිත කාල සීමාවක, එනම් විසි වැනි සිය වසර පටන් ගැනීමේදී මාක්ස්වාදීන්ගේ ජාතික වැඩ පිළිවෙල සාකච්ඡාවට භාජනය වී තිබේ. සමහර විට රුසියාව පසු කරමින් සිටින්නේ කිනම් ඓතිහාසික වකවානුවක්ද නැතහොත් එම රටෙහි විශේෂ කාලයේ ජාතික ප්‍රශ්නයේ හා ජාතික ව්‍යාපාරවල මූර්ත ලක්ෂණ මොනවාද යන ප්‍රශ්නය රෝසා ලුක්සම්බුර්ග් ඉදිරිපත් කරන්නීද?

නැත. ඈ එම ප්‍රශ්නය මතු නොකරයි. ඈ ඒ ගැන කිසිවක් නොකියයි. වර්තමාන ඓතිහාසික කාල පරිච්ඡේදයේ රුසියාවේ ජාතික ප්‍රශ්නය කෙසේ වේද යන්න ගැන හෝ මෙම විශේෂ කරුණට අදළ වූ රුසියාවේ විශේෂ ලක්ෂණ ගැන හෝ, විශ්ලේෂණයක ඡායාවක් පවා රෝසා ලුක්සම්බුර්ග් ගේ ලිපියෙහි ඔබට දක්නට නොලැබේ.

බෝල්කන් රටවල ජාතික ප්‍රශ්නය අයර්ලන්තයේ ජාතික ප්‍රශ්නයට වඩා වෙනස් ආකාරයකින් ඉදිරිපත් කර තිබෙන බවද, මාක්ස් පෝලන්ත හා චෙක් ජාතික ව්‍යාපාර ගැන අගැයීමක් කළේ 1848 පැවති මූර්ත තත්ත්වයන් යටතේ මේ ආකාරයෙන් බවද (මාක්ස් ගෙන් උපුටාගත් කොටසේ පිටුවකි) ස්විට්සර්ලන්තයේ වන බද කැන්ටන්වරු ඔීස්ත්‍රියාවට විරුද්ධව කළ අරගලය සහ 1315 පැන නැගි මොර්ගාර්තන සංග්‍රාමය පිළිබඳව එංගල්ස් අගැයීමක් කළේ මෙවැනි, මෙවැනිම ආකාරයකින් බවද (එංගල්ස්ගෙන් උපුටාගත් කොටසේ පිටුවක්, කෞට්ස්කිගේ අදළ අදහස්ද සහිතව) ලසාල් දහසය වැනි සිය වසරේ ජර්මන් ගොවීන්ගේ යුද්ධය ප්‍රතිගාමී දෙයක් ලෙස සැලකූ බවද ආදී දේ අපට කියති.

මෙම උපුටාගත් කොටස්වල සහ අදහස් වල කිසියම් නවතාවයක් ඇතැයි කිව නොහැකි නමුදු, කිනම් තත්ත්වයක් යටතේ වුවද, එක්, එක් තනි රටක මූර්ත ඓතිහාසික ප්‍රශ්න විශ්ලේෂණය කිරීමට මාක්ස්, එංගල්ස් සහ ලසාල්ද ඒවාට සමීප වූ සැටි කෙසේද යන්න වරින් වර පාඨකයාට දැක්වීම වැදගත්ය.එමෙන්ම මාක්ස්ගේ හා එංගල්ස්ගේ ලියවිලි වලින් ගත් මෙම උපදේශාත්මක කොටස් සැලකිල්ලෙන් කියවන විට, රෝසා ලුක්සම්බුර්ග් කොතරම් හාස්‍ය ජනක තත්ත්වයකට වැටී සිටිතිද යන්න සිත් කාවදින ලෙස හෙළිවෙයි. විවිධ රටවල, විවිධ කාලවලදී පවතින ජාතික ප්‍රශ්නය ගැන මූර්ත ඓතිහාසික විශ්ලේෂණයක් කිරීමේ අවශ්‍යතාවය අරභයා ඈ ඉතා චතුර ලෙසත්, කෝපාන්විත ලෙසත් දේශනා



කරයි. එහෙත් විසි වැනි ශත වර්ෂය ආරම්භයේදී රුසියාව සිය ධනවාදී සංවර්ධනයේ කිනම් අවධිය පසුකරමින් සිටින්නේ ද යන්න හෝ, මෙම රටේ ජාතික ප්‍රශ්නයේ විශේෂ ලක්ෂණ මොනවාද යන්න හෝ නිගමනය කිරීමට ඈ කිසිම ප්‍රයත්නයක් නොකරයි. වෙනත් අය මාක්ස්වාදී විදිහට මේ ප්‍රශ්නය ගැන කටයුතු කර ඇත්තේ කෙසේදැයි පෙන්වීම් වස් රෝසා ලුක්සම්බුර්ග් නිදසුන් ඉදිරිපත් කරයි. ඇය එසේ කිරීම හරියටම නරකයට වැටී ඇති මග යහපත් අදහස් නැමැති පාලම් වලින් සම්බන්ධ කැර ඇතිවාක් මෙනි. නැතිනම් යහපත් උපදෙස්දීම මගින් ව්‍යවහාරයේදී එම උපදෙස්ම අනුගමනය කිරීමට ඇති ඇකැමැත්ත හෝ නොහැකියාව සඟවා තැබීමක් වැනිය.

ඈ ඉදිරිපත් කරන උපදේශාත්මක එක් සන්සන්දනයක් මෙසේය. පෝලන්තයේ නිදහස සඳහා වූ ඉල්ලීමට විරුද්ධව නැගී සිටින රෝසා ලුක්සම්බුර්ග් පෝලන්තයේ කාර්මික නිෂ්පාදිතයින් රුසියාවේ අලෙවි කිරීමත් හා සමග, ''පෝලන්ත කාර්මික සංවර්ධනය'' වේගවත් වන බව ඔප්පු කරමින් 1898 දී ඇය විසින් ලියනලද පොත ගැන සඳහන් කරයි. මෙයින් ස්වයං නිර්ණයනය සඳහා අයිතිය පිළිබඳව කිසිදු නිගමනයකට එළැඹිය නොහැකි බව පැහැදිලිය. ඉඩම් හිමි වංශක්කාරයින්ගේ පැරණි පෝලන්තය දූන් නැතැයි යන්න පමණක් ඉන් ඔප්පු වෙයි. එහෙත් පෝලන්තය සහ රුසියාව එක්සත් කරන සාධකයන් අතුරෙන් නවීන ධනපති සම්බන්ධකම් විෂයයෙහි ඇති පිරිසුදු සාධතයන් දූන් මුල් තැනක් ගනීය යන නිගමනයට රෝසා ලුක්සම්බුර්ග් ස්ථාවර ලෙසම එළැඹේ.

ඉන් අනතුරුව අපේ රෝසා ස්වෛරීත්වය පිළිබඳ ප්‍රශ්නයට එළැඹෙයි. ඇගේ ලිපියෙහි සිරස් තලය ''ජාතික ප්‍රශ්නය හා ස්වෛරීත්වය'' යනුවෙන් ලියා තුබුණද, පෝලන්ත රාජධානියට ස්වෛරීත්වය සඳහා සුවිශේෂ අයිතියක් ඇතැයි කියමින් ඈ පොදු වශයෙන් තර්ක කරන්නට පටන්ගනී (ප්‍රස්විශේනියෙ 1913. අංක 12 බලන්න).* පෝලන්තයේ ස්වෛරීත්වයට සහයෝගය දක්වනු පිණිස රෝසා ලුක්සම්බුර්ග් රුසියාවේ ආර්ථික, දේශපාලන සහ සමාජ විද්‍යාත්මක ස්වභාව ලක්ෂණ සහ දෛනික ජීවිතය අනුව, එනම් සමස්තයක් වශයෙන් ගත් කළ ''ආසියානු සර්වාධිකාරය'' (“Przegląd, 12 කලාපය, 137 පිටුව) පිළිබඳ සංකල්ප ඇති කරන එම කරුණු අනුව, රුසියාවේ රාජ්‍ය ක්‍රමය කුමක්ද යන්න, විනිශ්චය කරන බව පෙනේ.

මෙවැනි වර්ගයේ රාජ්‍ය ක්‍රමයක් තුළ පීතෘ මූලික සහ ප්‍රාග්ධනවාදී ලක්ෂණ බලවත්ව තිබෙන විට සහ වෙළඳ භාණ්ඩ නිෂ්පාදනයේ සහ

* මේ පොතේ 40-47 පිටු බලන්න.

පංති විභජනයේ මඳ සංවර්ධනයක් ඇති විට, එම රාජ්‍ය ක්‍රමය බලගතු ස්ථාවරතාවයක් සහිත වන බව හැම දෙනෙකුම දන්නා දෙයකි. එසේ වුවද, පැහැදිලි ලෙසම ප්‍රාග් ධනවාදී ස්වභාවයේ රාජ්‍ය ක්‍රමයක් තුළ, ධනපති ක්‍රමය වේගයෙන් සංවර්ධනය වන, ජාතියක් වශයෙන් වෙන්කොට ගත හැකි වූ ප්‍රදේශයක් ඇතොත්, එම ධනපති ක්‍රමය වඩාත් සීග්‍රයෙන් වර්ධනය වූ තරමට එය හා ප්‍රාග්ධනවාදී රාජ්‍ය අතර ඇති ප්‍රතිසතිතතාවය වඩාත් ප්‍රබල වේ, එවිට පුරෝගාමී ප්‍රදේශය නවීන ''ධනවාදී සම්බන්ධකම් වලින්'' නොව, ''ආසියානු සර්වාධිකාරී'' සම්බන්ධකම් වලින් එකට වෙළී ඇති සමස්තයෙන් වෙන්වීම බොහෝ දුරට බලාපොරොත්තු විය හැකිය.

මේ අනුව, ධනපති පෝලන්තය හා සම්බන්ධයෙන් රෝසා ලුක්සම්බුර්ග් රුසියානු ආණ්ඩුවේ සමාජ ව්‍යුහය පිළිබඳ ප්‍රශ්නයේදී වුවද එකිනෙකට නොගැලපෙන තර්ක ඉදිරිපත් කරයි. රුසියාවේ ජාතික ව්‍යාපාරවල මූර්ත හා විශේෂ ලක්ෂණ පිළිබඳ ප්‍රශ්නය ඇය කොහෙත්ම මතු නොකරයි.

අප දැන් මේ ප්‍රශ්නය පිරික්සා බැලිය යුතුය.

## 3. රුසියාවේ ජාතික ප්‍රශ්නයේ මූර්ත ලක්ෂණ සහ එහි ධනපති ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිසංස්කරණය

''... 'ස්වයං නිර්ණයනය සඳහා ජාතීන් සතු අයිතිය' යන ප්‍රතිපත්තිය කෙතරම් නම්‍යශීලි වුවද, එය හුදෙක් තේරුම් රහිතය. තවද එය රුසියාවේ වාසය කරන ජාතීන්ට පමණක් නොව, ජර්මනියේ හා ඔස්ත්‍රියාවේ, ස්විට්සර්ලන්තයේ සහ ස්වීඩනයේ, ඇමරිකාවේ සහ ඔස්ට්‍රේලියාවේ වාසය කරන ජාතීන්ටද පැහැදිලි ලෙස එකසේ අදාළ වන නමුදු එය සමකාලින සමාජවාදී පක්ෂවල වැඩපිළිවෙළවල් එකක වත් අපි නොදකිමු...'' (Przegląd අංක 6, පිටුව 483).

රෝසා ලුක්සම්බුර්ග්, මාක්ස්වාදී වැඩ පිළිවෙළේ 9 ඡේදයට විරුද්ධව ප්‍රහාරයක් ආරම්භ කරමින් එසේ ලියයි. වැඩ පිළිවෙළෙහි එම ඡේදය ''හුදෙක් පදනම් විරහිත'' යැයි අපට ඒත්තු ගැන්වීමට, රෝසා ලුක්සම්බුර්ග් දරන ප්‍රයත්නයේදී හාස්‍ය ජනක නිර්භයත්වයකින් යුතුව, මෙම කරුණ රුසියාව, ජර්මනිය ආදි රටවලට පැහැදිලි ලෙස, ''එකසේ ව්‍යවහාරික වන්නේයැයි'' කීමෙන් ඇයම පදනම් විරහිත වදන් බිණීමේ වරදට හසුවේ.

විද්‍යාල ශිෂ්‍යයින්ගේ අභ්‍යාස වලට ප්‍රයෝජන ගත හැකි වන පරිදි තම ලිපිය තර්ක විද්‍යා, සාවද්‍යතාවයන්ගෙන් පුරවාලීමට රෝසා



ලුක්සම්බුර්ග් තීරණය කළ බවක් අපි පැහැදිලිව දකිමුයි පවසමින් පිළිතුරු සපයමු. රෝසා ලුක්සම්බුර්ග්ගේ පරුෂ බස් දෙඩීම අර්ථ විරහිතය. ප්‍රශ්නයක් ඓතිහාසික යථාර්ථය අනුව ඉදිරිපත් කරනවා වෙනුවට, එය සමච්චලයක් බවට පත් කිරීමකි.

මාක්ස්වාදී වැඩ පිළිවෙලට බොළඳ ලෙස අර්ථ නිරූපන ඉදිරිපත් නොකර මාක්ස්වාදී ලෙස එය ඉදිරිපත් කරන්නේ නම්, එහි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී ජාතික ව්‍යාපාර ගැන සටහන් වී තිබෙන බව අපහසුවක් නැතිව තේරුම් ගත හැකිය. එය එසේනම් — එය නිසැක ලෙසම එසේය — එයින් එක් කරුණක් ''පැහැදිලිය.'' එම වැඩ පිළිවෙළ ධනපති ප්‍රජාතන්ත්‍රික ජාතික ව්‍යාපාරයේ සියලු අවස්ථාවන්ට බලපාන්නේ පදනම් විරහිත පොදු නීරස ආදී දෙයක් හැටියටය. රෝසා ලුක්සම්බුර්ග් මඳක් හෝ විමසිලිමත් වූවා නම්, අපේ වැඩ, පිළිවෙලෙහි එවැනි ව්‍යාපාර පවතින තැන් ගැන පමණක් සඳහන් කර තිබෙන්නේය යන නිගමනය ඉතා පැහැදිලි වන අතර එය කොහෙත්ම ''නියමයක් නැති'' සහ ''පදනම් විරහිත'' ආදි ලෙස හැඳින්විය නොහැකිය.

මෙම පැහැදිලි කරුණ ගැන රෝසා ලුක්සම්බුර්ග් කල්පනා කළා නම්, ඇය ප්‍රකාශ කළේ කෙතරම් පුහු දෙයක්ද යනු ඇයට පහසුවෙන්ට වටහා ගැනීමට ඉඩ තිබිණි. ඇය ''පදනම් විරහිත'' ප්‍රකාශ ගැන අපට චෝදනා එල්ල කරමින්, ධනවාදී ප්‍රජාතන්ත්‍රික ජාතික ව්‍යාපාර නොමැති රටවල වැඩ පිළිවෙලෙහි ජාතීන්ගේ ස්වයං නිර්ණයනය සඳහා ඇති අයිතිය සටහන් කර නොතිබීම අපට විරුද්ධව තර්කය ලෙස පාවිච්චි කරයි. අපූරු බුද්ධිමත් නිගමනයකි!

මාක්ස්වාදී ස්ථාවරයෙන් බලන කළ විවිධ රටවල දේශපාලන සහ ආර්ථික සංවර්ධනය හා එමෙන්ම මාක්ස්වාදී වැඩ පිළිවෙළවල්ද සන්සන්දනය කර බැලීම ඉතා වැදගත් වේ. මන්දයත්, සමකාලීන රාජ්‍යයන් පොදු ධනපති ස්වභාවයක් සහිත බවත් එනිසා පොදු සංවර්ධන නියාමයකට යටත් බවත් නිසැක හෙයිනි. එහෙත් එවැනි සැසඳීමක් කළ යුත්තේ ප්‍රබුද්ධ ආකාරයෙකිනි. එවැනි සැසඳීමක් සඳහා මූලික කොන්දේසියක් වන්නේ, අදාළ රටවල සංවර්ධනයේ ඓතිහාසික කාලසීමා සැසඳෙන්නේ දැයි සොයා බැලීමය. නිදසුනක් වශයෙන් රුසියානු මාක්ස් වාදී කෘෂක වැඩ පිළිවෙළ බටහිර යුරෝපයේ එවැනි වැඩ පිළිවෙළවල් සමග සසඳා බැලීමට සමත්වන්නේ (රුස්කය මීස්ල්[38] මාසිකයේ යෙ. තෘබෙත්ස්කොයි කුමාරයා වැනි) මුග්ධයින් පමණකි. අපේ වැඩ පිළිවෙළ ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී කෘෂක ප්‍රතිසංස්කරණය හා සමග සම්බන්ධවූ ප්‍රශ්නවලට පිළිතුරු සපයන අතර බටහිර රටවල එවැනි ප්‍රශ්නයක් පැන නොනගී.

ජාතික ප්‍රශ්නයටද එය අදාළ වෙයි. බටහිර රටවල මේ ප්‍රශ්නය විසඳා බොහෝ කල් ගතවී ඇත. බටහිර යුරෝපයේ රටවල වැඩ පිළිවෙලවල් තුළ එරටවල නැති ප්‍රශ්නවලට විසඳීම් සෙවීම විහිළුවකි. මෙතැනදී රෝසා ලුක්සම්බුර්ග්ට ඉතා ප්‍රධාන කරුණ අමතක වී ඇත: එය නම් ධනපති ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිසංස්කරණ බොහෝ කලකට පෙර සම්පූර්ණ කළ රටවල් සහ ඒවා මෙතෙක් සම්පූර්ණ කර නැති රටවල් අතර ඇති වෙනසය.

කාරණයේ හරය මේ වෙනස තුළ රඳා පවතී. රෝසා ලුක්සම්බුර්ග් මේ ගැන සම්පූර්ණයෙන්ම නොසලකා හරින නිසා, වදන් රාශියෙකින් යුත් ලිපිය පුහු සහ අර්ථ විරහිත, තේරුම් රහිත වචන මාලාවක් බවට පරිවර්තන කර ඇත.

බටහිර, මහාද්වීපික යුරෝපීය රටවල ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලව ඇතිවූ යුගය එක්තරා දුරකට නියමිත කාල සීමාවක් එනම් 1789 සිට 1871 දක්වා වූ කාලයට අයත් වූවකි. ජාතික ව්‍යාපාර ඇතිවූයේත්, ජාතික රාජ්‍යයන් බිහිවූයේත් මේ කාලය තුළදීය. මෙම කාලය අවසන් වන විට, බටහිර යුරෝපය තහවුරු ධනපති රාජ්‍ය පද්ධතියක් බවට පරිවර්තනය වීම අවසන් වී තිබිණි. පොදු රීතියක් වශයෙන් එහි හැම ධනපති රාජ්‍යයක්ම එකීය ජාතික රජයක් විය. එබැවින් අද, බටහිර යුරෝපීය සමාජවාදීන්ගේ වැඩ පිළිවෙලෙහි ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය සෙවීම, මාක්ස්වාදයේ හෝඩියවත් නොදන්නා බව හෙළි කිරීමකි.

1905 වන විට නැගෙනහිර යුරෝපයේ සහ ආසියාවේ ධනවාදී විප්ලව අවධිය ආරම්භ වූවා පමණකි. රුසියාවේ, පර්සියාවේ, තුර්කියේ, චීනයේ විප්ලව, බෝල්කන් රටවල යුද්ධය — අපේ වකවානුවේ, අපේ ප්‍රාචීන ලෝකයේ සිදුවීම් වැළ එසේය. ජාතික-ස්වාධීන හා ජාතික-ඒකීය රාජ්‍ය නිර්මාණය කිරිමට උත්සාහ දරන ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී ජාතික ව්‍යාපාර මාලාවක් පිබිදීම මෙම සිදුවීම් තුළින් දැකීමට අසමත් වන්නේ අන්ධයෙක් පමණකි. ජාතීන්ගේ ස්වෛරීත්වය ගැන වගන්තියක් අපේ වැඩ පිළිවෙළට ඇතුළු කිරීම අපට අවශ්‍ය වන්නේ රුසියාව සහ රුසියාව අවට රටවල් මෙම වකවානුව පසුකරමින් සිටින නිසාය.

රෝසා ලුක්සම්බුර්ග්ගේ ලිපියෙන් තවත් ස්වල්පයක් අපි උපුටා දක්වමු. ඇ මෙසේ ලියයි:

''අති විවිධාකාර ජාතික සංයෝජනවලින් යුත්, ජාතික ප්‍රශ්නය ප්‍රධාන පෙළේ වැදගත්කමක් දරන රාජ්‍යයක් තුළ ක්‍රියාකරන පක්ෂයේ වැඩ පිළිවෙළක විශේෂයෙන්ම — ඕස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ වැඩ පිළිවෙලෙහි — ජාතීන්ගේ ස්වයං නිර්ණයනයේ අයිතිය නැමැති මූලධර්මය අඩංගු වී නැත.'' (එහිම.)



ඒ අනුව විශේෂයෙන්ම ඕස්ත්‍රියාවේ නිදසුන මගින් පාඨකයාට ඒත්තු ගැන්වීමට පරිශ්‍රමයක් දරා ඇත. මේ නිදසුන මූර්ත ඓතිහාසික සාධකයන්ගේ ආලෝක ධාරා මගින් පරීක්ෂණයට පසු කර එහි නියම තතු සොයා බලමු.

පළමුවෙන්ම, ධනපති-ප්‍රජාතන්ත්‍රික විප්ලවයේ සම්පූර්ණත්වය පිළිබඳ මූලික ප්‍රශ්නය ඉදිරිපත් කරමු. ඕස්ත්‍රියාවේ මේ විප්ලවය 1848 දී ආරම්භ වී 1867 දී අවසන් විය. එතැන් සිට අඩු වැඩි වශයෙන් වසර පනහක් පමණ කාලයක් තිස්සේ පූර්ණ ස්ථාපිත ධනපති ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථාවක් බලපාන්නට විය, එය පදනම් කර ගනිමින් නීත්‍යානුකූල කම්කරු පක්ෂයක් නෛතික ලෙස ක්‍රියාකාරී වෙමින් පවතී.

එබැවින් ඕස්ත්‍රියානු සංවර්ධනයේ අභ්‍යන්තර තත්ත්වයන් තුළ (එනම්, ඕස්ත්‍රියාවේ පොදුවේ ධනවාදය වර්ධනය වීමේ ස්ථාවරයෙන් සහ විශේෂයෙන් එහි විවිධ ජාතීන් අතර) විශේෂයෙන් මහා පිම් ඇතිකරන, ජාතික-ස්වාධීන රාජ්‍යයන් ඇතිවිය හැකි වීමේ එක් සහභාවීත්වයක් වන සාධක නොමැත. මේ කරුණ අනුව, රුසියාව සාදෘශ්‍ය තත්ත්වයෙක පවතින්නේ යැයි කියන ඇගේ සංසන්දනය බාරගන්නා විට රෝසා ලුක්සම්බුර්ග් මූලික වශයෙන් සාවද්‍ය සහ ඓතිහාසික විරෝධී නිගමනයක් කරනවා පමණක් නොව, අනිච්ඡානුගතව ලික්විඩේටර් වාදයටද ඇද වැටෙයි.

දෙවනුව, අප පිරික්සා බලන ප්‍රශ්නයට ඉතා වැදගත් දෙයක් නම්, ඕස්ත්‍රියාවේ සහ රුසියාවේ වාසය කරන ජාතීන් අතර ඇති සබඳකම් වල ගැඹුරු භේදයන්ය. ඕස්ත්‍රියාව බොහෝ කලක් තිස්සේ ජර්මනුන්ගේ අධි බලපෑමට යටත්ව තිබුණු රාජ්‍යයක් පමණක් නොව, ඕස්ත්‍රියානු ජර්මන්වරු සමස්තයක් වශයෙන් මුළු මහත් ජර්මන් ජාතිය මත ආධිපත්‍යයකට හිමිකම් කීහ. රෝසා ලුක්සම්බුර්ග්ට (සාමාන්‍ය දේ වලට, පදනම් විරහිත දෙයට සහ වියුක්ත වලට පිළිකුළ දක්වන...), සමහර විට මතක් කර ගත හැකි, මෙම ''හිමිකම් කියා පෑම'' 1866 යුද්ධය විසින් විනාශ කර දමන ලදී. ඕස්ත්‍රියාවේ බලවත්වසිටි මේ ජර්මන් ජාතිය, 1871 දී අවසාන ලෙස හැඩ ගැසුණු ස්වාධීන ජර්මන් රාජ්‍යයේ සීමාවලින් පිටතට වැටී සිටියේය. අනිත් අතින් ස්වාධීන ජාතික රාජ්‍යයක් බිහි කිරීමට හංගේරියානුන් දැරූ ප්‍රයත්නය රුසියන් ප්‍රවේණි දස යුද්ධ හමුදාවේ ප්‍රහාරය ඉදිරියේ 1849 තරම් ඈත කාලයකදී විනාශ විය.

ඒ අනුව ඉතා අමුතු තත්ත්වයක් බිහිවිය — හංගේරියානුන්ද ඉන් අනතුරුව චෙක් ජාතිකයින්ද ඕස්ත්‍රියාවෙන් වෙන්වීමට නොව, එයට ප්‍රතිවිරුද්ධව ඕස්ත්‍රියාවේ ඒකීයත්වය ආරක්ෂා කරනුවස් පරිශ්‍රම දරුවේ, වඩාත් රෞද්‍ර සහ බලගතු අසල්වැසියන්ගෙන්, නියත ලෙසම සිය ජාතික

නිදහස ආරක්ෂා කර ගැනීමටය! මෙ විශේෂ තත්ත්වය නිසා ඔස්ත්‍රියාව ද්වි කේන්ද්‍රීය. රාජ්‍යයක ආකාරයක් දරූ අතර දැන් ත්‍රි කේන්ද්‍රීය රාජ්‍යයකට (ජර්මනුන්, හංගේරියානුන්, ස්ලාව් ජාතිකයින්) පරිවර්තනය වෙමින් පවතී.

මෙයට සමාන කිසිවක් රුසියාවේ තිබේද? වඩාත් නරක ජාතික පැගීමක අනතුරක් ඉදිරියේ 'පරාධීන ජනතාව' මහා රුසියානුන් සමග එක්සත් වීමට පරිශ්‍රම දරන තත්ත්වයක් අප රටේ පවතීද?

ස්වයං නිර්ණයනය පිළිබඳ ප්‍රශ්නයෙදී රුසියාව සහ ඔස්ත්‍රියාව අතර සන්සන්දනයක් කිරීම තේරුම් රහිත, පදනම් රහිත සහ මුග්ධ දෙයක් බව වටහා ගැනීමට මේ ප්‍රශ්නය පමණක් ඉදිරිපත් කිරීම සෑහේ.

ජාතික ප්‍රශ්නය පිළිබඳව රුසියාවේ විශේෂ තත්ත්වය, ඔස්ත්‍රියාවේ අප දකින තත්ත්වයට වඩා සම්පූර්ණයෙන්ම වෙනස්ය. රුසියාව මහා රුසියානුන්, ජාතික කේන්ද්‍රස්ථානය කර ගත් ඒකීය රාජ්‍යයකි. අඛණ්ඩ අති විශාල භූමියෙක මහා රුසියානුවෝ වාසය කරති. ජනගහනයෙන් ඔවුහු හත් කෝටියකි. මේ ජාතික රාජ්‍යයේ විශේෂ ලක්ෂණ මෙසේය: ප්‍රථමයෙන්ම ''පරාධීන මිනිස්සු'' (මුළු මහත් ජනගහනයේ බහුතරය වන මොවුන් සියයට 57 කි) මායිම්බදව වාසය, කිරීම; දෙවනුව, මේ පරාධීන ජනතාව පාගාදැමීම අසල්වැසි රාජ්‍යයන්ට වඩා මෙහි බරපතළවීම (මෙය යුරෝපීය අසල්වැසි රාජ්‍යයන්ටම පමණක් බල නොපායි); තෙවනුව මායිම් ප්‍රදේශවල වාසය කරන පැගීමට හසුවූ ජාතීන්ට දේශසීමාවෙන් එපිට වඩාත් වැඩි ජාතික ස්වාධීනතාවයක් භුක්ති විඳින සිය රැටියන් සිටීම (රාජ්‍යයේ බටහිර හා දකුණු දිග දේශසීමා ඔස්සේ වාසය කරන පින්ලන්ත, ස්වීඩන්, පෝලන්ත, උක්රයින සහ රුමේනියානු ජාතීන් ගැන මතක් කිරීම පමණක් සෑහේ); හතරවෙනුව, මධ්‍යම ප්‍රදේශයට වඩා රුසියානු නොවන මායිම් ප්‍රදේශවල ධනපති ක්‍රමයේ වර්ධනය සහ සංස්කෘතියේ පොදු මට්ටම උසස් වීම. අවසාන වශයෙන්, අසල්වැසි ආසියානු රටවල ධනපති විප්ලවවල අවධියක් සහ ජාතික ව්‍යාපාරවල ආරම්භයක් අප දකින අතර එය රුසියාවේ මායිම් තුළ වාසය කරන බන්ධු ජාතීන් අතර පැතිරයාම.

ඒ අනුව වත්මන් අවධියේදී ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය පිළිගැනීම අප රටේ විශේෂ හදිසියට කාරණයක් වී තිබෙනුයේ, රුසියාවේ ජාතික ප්‍රශ්නයේ නියත සංයුක්ත ඓතිහාසික විශේෂතාවය නිසාය.

ආනුෂංගික වශයෙන්, සිද්ධිවාචික ස්ථාවරයකින් වුවද, ඔස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ වැඩ පිළිවෙලෙහි ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය පිළිගැනීමක් අඩංගු වී නැතැයි කියන රෝසා ලුක්සම්බර්ග් ගේ නිගමනය සාවද්‍යය. ජාතික වැඩ පිළිවෙළ සම්මත කර ගත් බ්‍රියුන් සමුළුවේ වාර්තා කියවන විට, මුළු මහත් උක්රයින (රුමේනියානු) නියෝජිත මණ්ඩලය වෙනුවෙන් කථාකළ රුතේනියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ගන්කේවිච්ගේ ප්‍රකාශනයෙන් (වාර්තාවල 85 පිටුව) සහ මුළු මහත් පෝලන්ත නියෝජිත මණ්ඩලය වෙනුවෙන් කතාකළ පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී රෙගෙර්ගේ ප්‍රකාශනයෙන්ද, (108 පිටුව) ඉහත සටහන් ජාතීන් දෙකටම ජාතික සමගිය සහ ඔවුනට ජාතික නිදහස හා ස්වාධීනත්වය ලබාදීම ඔස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ අභිලාෂයන්ගෙන් එකක් වූ බව අපට පෙනේ. ඒ අනුව ඔස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය කෙළින්ම ඔවුන්ගේ වැඩ පිළිවෙළට ඇතුළු නොකළ ද, පක්ෂයේ කොටස් විසින් ජාතික ස්වාධීනත්වය නැමැති ඉල්ලීම ඉදිරිපත් කිරීමට, කොයි හැටි වුවද ඔවුහු ඉඩ දුන්හ. සිද්ධිවාචික ලෙස සත්තකින්ම ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය පිළිගැනීම යනු එහි තේරුමය! ඉදින් ඒ අනුව රෝසා ලුක්සම්බුර්ග් විසින් ඔස්ත්‍රියාව ගැන සඳහන් කිරීම හැම අතින්ම රෝසා ලුක්සම්බුර්ග්ට විරුද්ධව නැගී සිටී.

## 4. ජාතික ප්‍රශ්නයේ ''ප්‍රායෝගිකත්වය''

අපේ වැඩ පිළිවෙලේ නව වැනි ඡේදයෙහි ප්‍රායෝගික කිසිවක් නැතැයි යන රෝසා ලුක්සම්බුර්ග්ගේ තර්කය අවස්ථාවාදීහු තරකොට අල්ලා ගෙන සිටිති. රෝසා ලුක්සම්බුර්ග් මේ තර්කය ගැන කෙතරම් සතුටු-වූවාදයත්,ඇගේ ලිපියෙහි සමහර කොටස් වල මෙම ''උද්යෝග පාඨය'' එකම පිටුවක අට වාරයක්ම පුන පුනා ලියා ඇත.

ඈ මෙසේ ලියයි: ''නවවැනි ඡේදය නිර්ධන පංතියේ දෛනික වැඩවලට ප්‍රායෝගික මගපෙන්වීමක් නොදෙයි. ජාතික ගැටළු වලට ප්‍රායෝගික පිළියමක් ඉදිරිපත් නොකරයි.

නව වැනි ඡේදය කිසිම තේරුමක් නැති දෙයක් ලෙස පෙන්වන නැතිනම්, සියලු ජාතික ප්‍රාර්ථනාවන්ට ආධාර කිරීමට අපට බලකරන විදිහකට සූත්‍ර ගත කැරැ තිබෙන මෙම තර්කය අපි පිරික්සා බලමු.

ජාතික ප්‍රශ්නයේදී ප්‍රායෝගිකත්වය නැමැති මෙම ඉල්ලීමේ තේරුම කුමක්ද?

එහි තේරුම් මේ තුනෙන් එකකි: සියලු ජාතික ප්‍රාර්ථනාවලට ආධාර දීම; ඕනෑම ජාතියක් ඉවත්වීයාමේ ප්‍රශ්නයේදී ''ඔව්'' හෝ ''නැත'' යනුවෙන් පිළිතුරු සැපයීම; නැතිනම් ජාතික ඉල්ලීම් පොදුවේ ක්ෂණික ලෙස ''ප්‍රායෝගිකය''.

''ප්‍රායෝගිකත්වය'' සඳහා වූ මෙම ඉල්ලීමේ විය හැකි තේරුම් තුනම අපි පිරික්සා බලමු.

සෑම ජාතික ව්‍යාපාරයකම පටන් ගැන්මේදී නායකත්වය ගන්නා ධනපති පංතිය, සියලු ජාතික ප්‍රාර්ථනයන්ට ආධාර දීම ප්‍රායෝගික යැයි පවසයි. කෙසේවුවද, ජාතික ප්‍රශ්නයේදී (අන් සියලු ප්‍රශ්න වලදී මෙන්) නිර්ධන පංතියේ ප්‍රතිපත්තිය ධනපතීන්ට ආධාර කරන්නේ එක්තරා දිශානතියකින් පමණකි. එහෙත් එය කිසි කලෙක ධනපති ප්‍රතිපත්තිය සමග සම්පාත නොවේ. කම්කරු පංතිය ධනපති පංතියට ආධාර කරන්නේ ජාතික සාමය ලබාගැනීමට පමණකි (මෙය ධනපති පංතියට සම්පූර්ණයෙන් ලබාදිය නොහැකිය, එමෙන්ම මෙය ලබාගත හැක්කේ පූර්ණ ප්‍රජාතන්ත්‍රවාදයත් සමගය), සමාන අයිතිය සහ පංති සටන සඳහා ඉතා හොඳ තත්ත්වයන් ලබා ගැනීමටද පමණකි. ඒ නිසා ජාතික ප්‍රශ්නයේ දී නිර්ධන පංතිය තම මූලධර්ම ඉදිරිපත් කරන්නේ ධනපති පංතියේ ප්‍රායෝගිකත්වයට විරුද්ධවය. නිර්ධන පංතිය. නිතරම ධනපති පංතියට කොන්දේසි සහිත ආධාර පමණක් දෙයි. ජාතික ප්‍රශ්නයේදී හැම ධනපතියකුම ඉදිරිපත් වන්නේ එක්කෝ තම ජාතියට වරප්‍රසාද ලබාගැනීමටය, නැතිනම් එයට විශේෂ වාසි ලබා ගැනීමටය, ''ප්‍රායෝගිකය'' වශයෙන් හඳුන්වනු ලබන්නේ මෙයයි. නිර්ධන පංතිය සියලු වරප්‍රසාද වලට සහ සියලු විශේෂතාවයන්ට විරුද්ධය. නිර්ධන පංතිය ප්‍රායෝගික විය යුතුයැයි ඉල්ලා සිටීම — ධනපති පංතියේ පසුපසින් ගමන් කිරීමය, අවස්ථාවාදයට ඇද වැටීමය.

සෑම ජාතියකගේම වෙන්වීයාම පිළිබඳ ප්‍රශ්නයේදී ''ඔව්'' හෝ ''නැත'' යනුවෙන් පිළිතුරු ඉල්ලා සිටීම බෑලු බැල්මට ඉතා ''ප්‍රායෝගික'' විය හැකිය. යථාර්ථමය ලෙස නම් එය මුග්ධ ක්‍රියාවකි. එය න්‍යායික වශයෙන් පාර භෞතික වාදීය. ව්‍යවහාරික වශයෙන් එය නිර්ධන පංතිය ධනවාදී ප්‍රතිපත්තියට යටපත් කරයි. ධනපති පංතිය නිතරම සිය ජාතික ඉල්ලීම් පෙරමුණට ඇද දමයි. එය ඉදිරිපත් කරන්නේ කොන්දේසි විරහිතවය. නිර්ධන පංතියට නම්, කෙසේ හෝ මේ ඉල්ලීම් පංතියේ අවශ්‍යතාවයන්ට වඩා අඩු වැදගත්කමක් දරයි. න්‍යායික වශයෙන් නම්, ධනපති ප්‍රජාතන්ත්‍රික විප්ලවය එක් ජාතියක් තවත් ජාතියකින් වෙන්වීමෙන් අවසන් වෙතිද නැතිනම්, මුලින් කී සහ පසු කී ජාතීන් අතර සමානතාවය ඇති වෙතිද යන්න කල් ඇතිව කීම නොකළ හැක්කකි. මේ තත්ත්වයන් දෙකෙහිදීම නිර්ධන පංතියට වැදගත් වන්නේ තම පංතියේ වර්ධනය සහතික කිරීමය. තම ජාතියේ අරමුණු නිර්ධන පංතියේ අරමුණුවලට ඉදිරියෙන් තබමින් මෙම වර්ධනයට බාධා කිරීම ධනපති පංතියට අවශ්‍ය වෙයි. කිසිම ජාතියකට සහතිකයක් නොදී, එක් ජාතියක් අමාරුවේ



හෙළා තවත් ජාතියකට යම්කිසිවක් ලබාදීමට ඉදිරිපත් නොවී, ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය පිළිගැනීමේ ප්‍රතිෂේධක ඉල්ලීමට පමණක් නිර්ධන පංතිය සීමාවන්නේ එබැවිනි.

මෙය සමහර විට ''ප්‍රායෝගික'' නොවනු ඇත. එහෙත් යෙදවිය හැකි සියලු පිළියම් අතුරෙන් ඉතා ප්‍රජාතන්ත්‍රවාදී පිළියම සහතික කරන්නේ මෙයයි. නිර්ධන පංතියට අවශ්‍ය වන්නේ එවැනි සහතික කිරීම් පමණකි. එහෙත් අනිත් අතින් සෑම ජාතියකගේම ධනපති පංතියට අනිකුත් ජාතීන්ගේ තත්ත්වය (නැතිනම් ඔවුනට විය හැකි අවාසි) නොතකා තමන්ගේ වුවමනාවන්ට පමණක් වාසි වන සහතික කිරීම් අවශ්‍යවේ.

ධනපති පංතිය අන් හැම දේටම වඩා යම්කිසි නියමිත ඉල්ලීමක ''හැකියාව'' ගැන වුවමනාවක් දක්වයි. ඒ නිසා නිර්ධන පංතියට හානිදායක ලෙස අනිකුත් ජාතීන්ගේ ධනපති පංති සමග ගිවිසුම් වලට එළැඹීම ධනපති පංතියේ සදකාලික ප්‍රතිපත්තිය වන්නේය. කෙසේවුවද නිර්ධන පංතියට වැදගත් වන්නේ ධනපති පංතියට විරුද්ධව තම පංතිය ශක්තිමත් කිරීම සහ ස්ථිර ප්‍රජාතන්ත්‍රවාදයේ සහ සමාජවාදයේ ආස්වාදයෙන් පොදු ජනතාවට අධ්‍යාපනය ලබා දීමය.

අවස්ථාවාදීන්ට නම් මෙය ''ප්‍රායෝගික'' නොවීමට ඉඩ ඇත. එහෙත් එකම සැබෑ සහතිකය එය පමණකි. රදළ වාදී ඉඩම් හිමියන් සහ ජාතිකවාදී ධනපති පංතිය හැරුනු විට වඩාත් වැඩි ජාතික සමානත්වය සහ සාමය සඳහා සහතිකය එය වන්නේය.

සෑම ජාතියකම ජාතික ධනපති පංතියේ ස්ථාවරය අනුව නම්, ජාතික ප්‍රශ්නයේදී නිර්ධන පංතියේ මුළු මහත් කාර්ය භාරයම ''ප්‍රායෝගික නොවේ''. මන්දයත්, හැම වර්ගයකම ජාතිකවාදයට විරුද්ධ නිර්ධන පංතිය වියුක්ත සමානත්වයක් ඉල්ලා සිටින බැවිනි; කෙතරම් සුළු වුවද, කිසිදු හෝ වරප්‍රසාදයක් නොතිබිය යුතු යැයි ඔවුහු මූලධර්මයක් ලෙස ඉල්ලා සිටින හෙයිනි. රෝසා ලුක්සම්බුර්ග් මංමුලාවී ප්‍රායෝගිකත්වයට තුති ගී ගයන්නී අවස්ථාවාදීන්ට පුළුල් ලෙස දොර විවෘත කළාය. විශේෂයෙන්ම මහා රුසියානු ජාතිකවාදයට ඇ අවස්ථාවාදී වරදනයන් දුන්නාය.

මහා රුසියානුන්ට යැයි කියන්නේ මන්ද? මන්දයත් රුසියාවේ මහා රුසියානුන් පාගන ජාතියක් බැවිනි. සත්තකින්ම ජාතික ප්‍රශ්නයේදී පාගන ජාතීන්ගේ අවස්ථාවාදයට වඩා පෑගෙන ජාතීන්ගේ අවස්ථාවාදය වෙනත් ස්වරූපයක් ගනී.

තමන්ගේ ඉල්ලීම් ප්‍රායෝගික යැයි කියමින් පෑගී සිටින ජාතීන්ගේ ධනපති පන්තිය, තම ඉල්ලීම් වලට කොන්දේසි විරහිතව ආධාර කරන ලෙස නිර්ධන පංතියෙන් ඉල්ලා සිටිනු ඇත. ඉතාම ප්‍රායෝගික ක්‍රියා-

මාර්ගය නම්, සියල්ලටම හා සියලු ජාතීන්ට වෙන්වීයාමට ඇති අයිතියට පක්ෂ පාත වීමට වඩා යම්කිසි විශේෂ ජාතියකගේ වෙන්වීයාමට පක්ෂව 'ඔව්' යැයි කීමය!

නිර්ධන පංතිය එවැනි ප්‍රායෝගිකතාවයකට විරුද්ධය. ජාතික රාජ්‍යයක සමානතාවය සහ සමාන අයිතිය පිළිගන්නා අතර ඔවුන් වැඩියෙන්ම අගය කරන්නේත් මුලින්ම ඉදිරිපත් කරන්නේත් සියලු ජාතීන්ගේ නිර්ධන පංතීන්ගේ මිත්‍ර සන්ධානයය. එමෙන්ම ඕනෑම ජාතික ඉල්ලීමක් සහ ඕනෑම ජාතික වෙන්වීමක් කම්කරු පංතික අරගලයේ දෘෂ්ටි කෝණයෙන් තක්සේරු කරයි. ප්‍රායෝගිකතාවය සඳහා කරන මෙම ආයාචනය ඇත්ත වශයෙන්ම ධනපති පංතියේ අභිලාෂයන් විවේචනයෙන් තොරව පිළිගැනීමට කරන ආයාචනයකි.

වෙන්වීයාමේ අයිතියට අප ආධාර කරන විට, පැගී සිටින ජාතීන්ගේ ධනපති ජාතික වාදයට අප ආධාර කරන බව අපට කියති. රෝසා ලුක්සම්බුර්ග් කියන්නේ මෙයයි. ඇය පසුපසින් අවස්ථාවාදී සෙම්කොව්ස්කිද එයම කියයි. ලික්විඩේටර්වාදී පුවත්පතේ, මෙම ප්‍රශ්නය ගැන ලික්විඩේටර්වාදී සංකල්පයේ එකම නියෝජිතයා ඔහු පමණක් බව කියනු කැමැත්තෙමි.

මෙයට අප සපයන පිළිතුර මෙසේය: නැත. මේ ප්‍රශ්නයේදී ප්‍රායෝගිය පිළියමක් අවශ්‍ය වන්නේ ධනපති පංතියටය. කම්කරුවන්ට අවශ්‍ය වන්නේ, ප්‍රවණතා දෙකේ මූලධර්ම වෙන්කර හඳුණා ගැනීමය. පැගී සිටින ජාතීන්ගේ ධනපති පංතිය පාගන්නන්ට විරුද්ධව සටන් කරන තාක්කල් අපි හැමදමත්, හැම අවස්ථාවකදීමත්, අන් හැම කෙනෙකුටම වඩා ශක්තිමත් ලෙසත්, ඔවුනට ආධාර දෙමු. මන්දයත්, අප පැගීමේ ඉතා දැඩි සහ ඉතා ස්ථිර සතුරන් වන බැවිනි. එහෙත් පැගී සිටින ජාතියේ ධනපති පංතිය ස්වකීය ධනපති ජාතිකවාදයට පක්ෂවනතාක් කල් අපි එයට විරුද්ධ වෙමු. පාගන ජාතියේ වරප්‍රසාද වලට සහ ප්‍රචණ්ඩකාරීත්වයට විරුද්ධව අපි සටන් කරමු. ඒ සමගම පැගී සිටින ජාතියේ වරප්‍රසාද සඳහා වූ පරිශ්‍රමයන්ට කොහෙත්ම අනුබල නොදෙමු.

අපේ දේශපාලන උද්ඝෝෂණ ව්‍යාපාරයේදී, වෙන්වීයොමේ අයිතිය නැමැති උද්යෝග පාඨය ඉදිරිපත් කිරීමට සහ ප්‍රචාරය කිරීමට අප අසමත් වන්නේ නම්, අපි ධනපති පංතියට පමණක් නොව, පාගන ජාතියේ රදළ ඉඩම් හිමියන්ට සහ ඒකාන්තවාදයට ආධාර දෙන්නෙමු. කෞට්ස්කි බොහෝ කලකට පෙර මෙම තර්කය රෝසා ලුක්සම්බුර්ග්ට විරුද්ධව යෙදවීය: එමෙන්ම මෙම තර්කය විවාද රහිතය. පෝලන්තයේ ජාතික ධනපති පංතියට "ආධාර" නොදීමට ඇති දැඩි ආශාව නිසා, රෝසා ලුක්සම්බුර්ග්, රුසියාවේ මාක්ස්වාදීන්ගේ වැඩ පිළිවෙළෙහි ඇති වෙන්-



වීයාමේ අයිතිය ප්‍රතික්ෂේප කරන විට; ඈ ඇත්ත වශයෙන්ම මහා රුසියානු කළු ශතකයට ආධාර කරයි. ඈ ඇත්ත වශයෙන්ම, මහා රුසියානුන්ගේ වරප්‍රසාද (වරප්‍රසාද වලට වඩා වඩාත් නරකදේ) භුක්ති විඳීමේ අවස්ථාවාදී ඉවසීමට ආධාර කරයි.

පෝලන්තයේ ජාතිකවාදයට විරුද්ධ අරගලය කෙරෙහි සිත් ඇදී ගියෙන් රෝසා ලුක්සම්බුර්ග් මහා රුසියානුන්ගේ ජාතිකවාදය ගැන අමතක කරයි. එහෙත් වත්මන් අවධියේ අති බියජනක ජාතිකවාදය මෙය වන්නේය. මෙම ජාතිකවාදය ධනවාදයට වඩා රදළ වාදීය. ප්‍රජාතන්ත්‍රවාදයට සහ නිර්ධන පංතික අරගලයට ප්‍රධාන බාධාව මෙම ජාතිකවාදයය. පැගී සිටින ජාතියක සෑම ධනපති ජාතිකවාදයක් තුළම, පැගීමට විරුද්ධව එල්ලවූ ප්‍රජාතන්ත්‍රික හරයක් තිබේ. අප කොන්දේසි විරහිතව ආධාර කරන්නේ මෙන්න මේ හරයටය. ඒ අතරම ජාතික විශේෂතාවයකට යොමු වී ඇති ප්‍රවණතාවයන්ගෙන් අපි එය ඉතා දැඩි ලෙස වෙන්කර ගනිමු. යුදෙව්වන් ආදීන් පාගාදැමීම සඳහා පෝලන්ත ධනපති පංතියේ ප්‍රවණතාවයට විරුද්ධව අපි සටන් කරමු.

ධනපතීන්ගේ සහ අවරසිකයින්ගේ ස්ථාවරය අනුව නම් මෙය "ප්‍රායෝගික නොවේ". එනමුදු ජාතික ප්‍රශ්නයේ මූලධර්ම මත පදනම් වුණු, ප්‍රජාතන්ත්‍රවාදය, නිදහස සහ නිර්ධන පංතික සමගිය සැබවින්ම ප්‍රගුණ කරන එකම ප්‍රතිපත්තිය මෙයය.

සියලු දෙනාටම වෙන්වීයාමට ඇති අයිතිය පිළිගැනීම; සියලු අසමානතාවයන්, සියලු වරප්‍රසාදයන් සහ සියලු විශේෂතාවයන් ඉවත් කරලීමේ දෘෂ්ටි කෝණයෙන්, වෙන්වීම පිළිබඳ වූ එක් එක් සංයුක්ත ප්‍රශ්නයක් වෙන් වෙන්ව තක්සේරු කිරීම.

පාගන ජාතිකයන්ගේ තත්ත්වය ගැන දැන් අපි පිරික්සා බලමු. එක් ජාතියක් තවත් ජාතීන් පාගන්නේ නම්, පාගන ජාතිය නිදහස් විය හැකිද? එය නිදහස් ජාතියක් නොවේ. මහා රුසියානු ජනගහනයේ* නිදහස අරභයා වූ වුවමනාවන්ට එවැනි පෑහීමකට විරුද්ධ අරගලයක් අවශ්‍ය වේ. පැගී සිටින ජාතීන්ගේ ව්‍යාපාර පාගා දැමීමේ දීර්ඝ කාලීන, ශත වර්ෂ ගණනක් පැරණි ඉතිහාසයද, එවැනි පැගීමකට පක්ෂව, "ඉහළ" පංතීන්ගෙන් පැවත එන ක්‍රමානුකූල ප්‍රචාරයද, ප්‍රාග් විනිශ්චයන් ආදී ආකාරයෙන්

* මේ වචනය මාක්ස්වාදී නොවන බව පැරිසියේ එක්තරා එල්, වීල් කෙනෙක් කල්පනා කරයි. හාස්‍යජනක ලෙසට "Superklug" (බාගෙට පංඩිත) අපේ අවමය වැඩ පිළිවෙලින් "ජනගහනය" සහ "ජාතිය" ආදි වචන කපා හැරීම පිළිබඳව (පංති අරගලය කල්පනාවට ගනිමින්!) වාක්‍ය රචනයක් ලිවීමට මේ ව්‍යාජ දක්ෂ එල්. වීල් සැරසෙන සැටියෙකි.

මහා රුසියානු ජනතාවගේ නිදහස් අරගලයේ කාර්යයට අති මහත් බාධා පමුණුවා ඇත.

මහා රුසියානු කළු ශතකය වුවමනාවෙන්ම මේ ප්‍රාග් විනිශ්චයන් වගාකොට ඒවාට අනුබල දෙයි. මහා රුසියානු ධනපති පංතිය එය ඉවසයි, නැතිනම් එයට ක්ෂමාව දෙයි. මේ ප්‍රාග් විනිශ්චයන්ට විරුද්ධව ක්‍රමානුකූල ලෙස නැගිට සිටින්නේ නැතිව මහා රුසියානු නිර්ධන පංතියට සිය අරමුණු මුදුන් පමුණුවා ගැනීමට හෝ සිය නිදහස් මාවත පවිත්‍ර කරගැනීමට හෝ නොහැකිය.

රුසියාවේ, ස්වාධීන ජාතික රාජ්‍යයක් බිහිකිරීම දැනට, මහා රුසියානු ජාතියේ පමණක් වරප්‍රසාදය බවට පත් වී ඇත. කිසිම විධියේ වරප්‍රසාදයක් ආරක්ෂා නොකරන මහා රුසියානු නිර්ධන පංතිය වන අපි මෙම වරප්‍රසාදයද ආරක්ෂා නොකරමු. නියමිත රාජ්‍යයක පදනම මත අපි සටන් කරමු. මෙම රාජ්‍යයේ වාසය කරන සියලු ජාතීන්ට අයත් කම්කරුවන් අපි එක්සත් කරමු. ජාතික සංවර්ධනයේ යම්කිසි විශේෂ මාර්ගයක් ගැන අපට සහතික කළ නොහැකිය, එමනිසා යා හැකි සියලු මාර්ග ඔස්සේ අප අපේ පංතිමය අරමුණ කරා ගමන් කරන බැවිනි.

කෙසේවුවද, සියලු ජාතිකවාදයන්ට විරුද්ධව සටන් කරන්නේ නැතිනම්, විවිධ ජාතීන්ගේ සමානතාවය ආරක්ෂා කරන්නේ නැතිනම් අපට අපේ අරමුණ කරා යා නොහැකිය. නිදසුනක් වශයෙන් උක්රයිනයට ස්වාධීන රාජ්‍යයක් වීමට ඉරණමක් තිබේද යන්න, අනාවැකි පළකළ නොහැකි දහසක් සාධක මත රඳා පවතී. පුහු ''ජේන'' කීමට උත්සාහ නොකර සැක රහිත කිසිවක් අපි තරකොට ගෙන සිටිමු: එය නම් එවැනි රාජ්‍යයක් පිහිටුවාලීමට උක්රයිනයට ඇති අයිතියය. අපි මෙම අයිතියට ගරු කරමු. උක්රයිනය පිළිබඳව මහා රුසියානුන්ට ඇති අයිතිය අපි නොපිළි ගනිමු. එම අයිතිය පිළිගැනීමේ ආස්වාදයෙන් ද කිසිම ජාතියකට හෝ රාජ්‍යමය වරප්‍රසාද ප්‍රතික්ෂේප කිරීමේ ආස්වාදයෙන් ද අපි ජනතාවට අධ්‍යාපනය ලබා දෙමු.

ධනපති විප්ලවයේ අවධිවලදී සියලු ජාතීන් විසින් පනින ලද පිම්වලදී ජාතික රාජ්‍යයක් පිහිටුවා ලීමේ අයිතිය පිළිබඳව හැප්පීම් හා අරගල ඇතිවිය හැකිය, ඇතිවීමට ඉඩකඩද ඇත්තේය. මහා රුසියානු වරප්‍රසාදවලට අප විරුද්ධ බව නිර්ධනීන් වන අපි කල් ඇතිවම ප්‍රකාශ කරමු. අපේ මුළු මහත් ප්‍රචාරයේ සහ උද්ඝෝෂණයේ දිසානතිය එයය.

''ප්‍රායෝගිකත්වයට'' ඇති තද ආශාව නිසා රෝසා ලුක්සම්බුර්ග් මහා රුසියානු නිර්ධන පංතියේ සහ අනිකුත් ජාතීන්ගේ නිර්ධන පංතිවල ප්‍රධාන ප්‍රායෝගික කාර්යය අමතක කර ඇත: එය නම් සියලු රාජ්‍ය සහ ජාතික වරප්‍රසාදයන්ට විරුද්ධවද, සියලු ජාතීන්ට තම ජාතික රාජ්‍යයන් පිහිටුවා ගැනීමට ඇති සමාන අයිතිය සඳහාද දිනපතා උද්ඝෝෂණ හා ප්‍රචාරයන් ගෙනයාම අමතක කර තිබීමය. මෙය (වත්මන් මොහොතේදී) ජාතික ප්‍රශ්නයේදී අපේ ප්‍රධාන කාර්යය වන්නේය. මන්දයත්, ප්‍රජාතන්ත්‍රවාදයේ වුවමනාවන් සහ සියලු ජාතීන්ගේ සියලු නිර්ධන පංතිවල මිත්‍ර සන්ධානය අපට ආරක්ෂා කළ හැක්කේ එම මාර්ගයෙන් පමණක් වන බැවිනි.

මහා රුසියානු පාගන්නන්ගේ දෘෂ්ටි කෝණයෙන්ද, එමෙන්ම පෑගී සිටින ජාතීන්ගේ ධනපති පංතියේ දෘෂ්ටි කෝණයෙන්ද (මේ දෙගොල්ලම නියත ''ඔව්'' හෝ ''නැත'' යනුවෙන් ඉල්ලා සිටින අතර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ''අස්ථිර'' යැයි කියමින් ඔවුනට චෝදනා කරති) මෙම ප්‍රචාරය සමහර විට ''ප්‍රායෝගික'' නො විය හැකිය. යථානුභූත වශයෙන් නියම ප්‍රජාතන්ත්‍රවාදයත්, පොදු ජනතාවගේ නියම සමාජවාදී අධ්‍යාපනයත් සහතික කරන්නේ මේ ප්‍රචාරයය. රුසියාව බහු ජාතික රාජ්‍යයක් ලෙස ඉතිරිව පවතින්නේ නම්, එයට අවශ්‍ය අවස්ථාව ලබාදෙන්නේත්, එවැනි ප්‍රභේදනයක ප්‍රශ්නයක් ඉදිරිපත් වුවහොත්, විවිධ ජාතික රාජ්‍යයන් හැටියට වෙන්වීම සාමකාමී ලෙස (එමෙන්ම නිර්ධන පංතික අරගලයට හානි නොවන්නේත්) සහතික කරන්නේත් මේ ප්‍රචාරය විසින් පමණකි.

ජාතික ප්‍රශ්නයේදී මේ ප්‍රතිපත්තිය — එකම නිර්ධන පංතික ප්‍රතිපත්තිය — වඩාත් මූර්ත ලෙස විස්තර කරනු පිණිස, ''ජාතීන්ගේ ස්වයං නිර්ණයනය'' පිළිබඳව මහා රුසියානු ලිබරල්වාදයේ ආකල්පය සහ නෝර්වේය ස්වීඩනයෙන් වෙන්වීයාමේ නිදසුන අපි පිරික්සා බලමු.

## 5. ජාතික ප්‍රශ්නයේදී ලිබරල් ධනපති පන්තිය සහ සමාජවාදී අවස්ථාවාදියෝ

රුසියාවේ මාක්ස්වාදීන්ගේ වැඩ පිළිවෙළට විරුද්ධව ගෙනයන අරගලයේදී රෝසා ලුක්සම්බුර්ග් ඉදිරිපත් කරන පහත සටහන් තර්කය ඇගේ ''තුරුම්පුවක්'' බව අපි දැක ඇත්තෙමු: ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය පිළිගැනීම පෑගී සිටින ජාතීන්ගේ ධනපති ජාතිවාදයට ආධාර කිරීමය. අනික් අතින් අප මේ අයිතියෙන් තේරුම් කරන්නේ, අනිකුත් ජාතීන්ට විරුද්ධව කරන සියලු ප්‍රචණ්ඩකාරී ක්‍රියාවන්ට විරුද්ධව සටන් කිරීම පමණක් නම්, වැඩ පිළිවෙලේ ඒ සඳහා විශේෂ වගන්තියක් අවශ්‍ය නැතැයි ඈ පවසයි. මන්දයත්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් පොදුවේ සියලු ජාතික පෑගීම්වලට සහ අසමානතාවයන්ට විරුද්ධ බැවිනි.

මීට වසර විස්සකට පමණ පෙර කෞට්ස්කි විසින් බිඳ හෙළිය නොහැකි සේ ඔප්පු කරනලද පළමුවැනි තර්කය ස්වකීය ජාතිකවාදය වසන් කිරීමේ

අදහසින් අන් අයට දෙස් පැවරීමකි. පැගෙන ජාතීන්ගේ ධනපති පංතියේ ජාතික වාදයට බියවන රෝසා ලුක්සම්බූර්ග් සැබවින්ම මහා රුසියානුවන්ගේ කළු ශතක ජාතිකවාදයට යටවෙයි! ජාතික සමානතාවය පිළිගැනීමට, වෙන්වීයාමේ අයිතිය පිළිගැනීම ඇතුළුව තිබේද නැතිද යන ප්‍රශ්නය බයාදු ලෙස මගහැරීමක්, ඇත්ත වශයෙන්ම ඇගේ දෙවැනි තර්කයෙන් අදහස් කරයි.එසේ ඇතුළුව තිබේනම් රෝසා ලුක්සම්බූර්ග් ප්‍රතිපත්ති මූලක වශයෙන් අපේ වැඩ පිළිවෙලේ නවවැනි ඡේදය නිවැරදි බව පිළිගනී. එසේ ඇතුළු වී නැතිනම්, එවිට ඈ ජාතික සමානතාවය පිළිනොගනී. පටලවා ගැනීම් සහ මගහැරීම් ආදියෙන් මේ ප්‍රශ්නයට විසඳුම් ලබාගත නොහැකිය.

කෙසේවුවද, මේ තර්ක සහ මේවාට සමාන තර්ක පිරික්සා බැලීමේ ඉතාට හොඳ ක්‍රමය නම්, මේ ප්‍රශ්නය පිළිබඳව සමාජයේ විවිධ පංතීන්ගේ ආකල්පය කුමක්ද යන්න අධ්‍යයනය කිරීමය. මාක්ස්වාදියකුට නම් මේ පරීක්ෂණය අනිවාර්ය වන්නේය. අප පටන්ගත යුත්තේ වාස්තවික දෙයිනි. මේ ප්‍රශ්නයේදී පංතීන් අතර ඇති සබඳතාවයන් අපි පිරික්සා බැලිය යුතු වෙමු. මෙය කිරීමට අසමත් වීම නිසා රෝසා ලුක්සම්බූර්ග් තම විරුද්ධ කරුවන්ට පදනම් විරහිතව චෝදනා කිරීමට උත්සාහ ගන්නා පාර භෞතිකවාදයේත්, වියුක්තවලත්, නීරස කතාවලත්, චෝදනාත්මක ප්‍රකාශවලත් පව්වලට වැරදි කාරියක්ව සිටින්නීය.

අප සාකච්ඡා කරන්නේ රුසියාවේ මාක්ස් වාදීන්ගේ එනම් රුසියාවේ සියලු ජාතීන්ට අයත් මාක්ස්වාදීන්ගේ වැඩ පිළිවෙලය. රුසියාවේ පාලක පංතීන්ගේ තත්ත්වය අප පිරික්සුමට භාජනය කළ යුතු නොවේද?

නිලධාරි පෙළන්තියේ (මේ නිවැරදි නොවන වචන ගැන අපට සමාවෙත්වා) සහ අපේ එක්සත් වංශවත් වර්ගයේ[39] රදළ ඉඩම් හිමියන්ගේ තත්ත්වය සුප්‍රසිද්ධය. ජාතීන්ගේ සමානතාවය සහ ස්වයං නිර්ණයනයේ අයිතිය ඔවුහු එකහෙළාම ප්‍රතික්ෂේප කරති. ඔවුහු ප්‍රවේණිදස යුගයේ පැවති පැරණි උද්යෝග පාඨය — ඒකාධිපත්‍යය, සම්‍යක් ව්‍යවහාරිකය, ජාතික හරය — ඉදිරිපත් කරති. මෙයින් අවසාන පදයෙන් ඔවුන් අදහස් කරන්නේ මහා රුසියානු ජාතියය. උක්රයින ජාතිකයින් පවා "පිටස්තර" ජනකායක් ලෙස ගණන් ගනිමින් ඔවුන්ගේ මවු බස පවා පාගා දමති.

"ජූනි තුන්වෙනිද"[40] ව්‍යවස්ථාදයක සහ පරිපාලන ක්‍රමය යටතේ ඉතා වාම් වුවද, ආණ්ඩුවේ යම් කොටසක් භාර ගැනීමට "ආරාධනා කර තිබෙන" රුසියානු ධනපති පංතිය වෙත අවධානය යොමු කරමු. මේ ප්‍රශ්නයේදී ඔක්තෝබර්වාදීන්[41] දක්ෂිණාංශිකයින් පස්සේ යන බව



ඔප්පු කිරීමට වැඩි වචන වුවමනා නැත. මහා රුසියානු ලිබරල් ධනපතීන්ගේත්, ප්‍රගතිවාදීන්ගේ සහ කැඩේට්වාදීන්[42]ගේත් ස්ථාවරය ගැන අවාසනාවකට මෙන් මාක්ස්වාදීහු බොහෝ අල්ප අවධානයක් යොමු කරති. එසේ වුවද යම්කිසිවෙක් මෙම ස්ථාවරය අධ්‍යයන කිරීමට සහ ඒ ගැන නිසිලෙස සිතා බැලීමට අසමත් වෙති නම්, ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතියේ ප්‍රශ්නය සාකච්ඡා කිරීමේදී ඔහු නොවැළැක්විය හැකිසේ වියුක්ත සහ පදනම් විරහිත ප්‍රකාශ වලට ඇද වැටෙනු ඒකාන්තය.

රාජ්‍යතන්ත්‍රික ශෛලිය අනුව, "අසතුටුදායක" ප්‍රශ්නයකට කෙළින් පිළිතුරක් නොදී මගහැරීම දක්ෂ තාවයක් වුවද, ව්‍යවස්ථාදයක ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ ප්‍රධාන පුවත්පත වන රේච්[43] ප්‍රාව්ද[44] පුවත්පත සමග පසුගිය වසරේදී ගෙනගිය විවාදයේදී, වැදගත් පිළිගැනීම් කළාය. මේ කලබැගෑනිය ආරම්භවූයේ 1913 ගිම්හානයේදී ල්වෝව් නගරයේ සමස්ත උක්රේනියානු ශිෂ්‍ය සමුළුව[45] පැවැත්වූ විටදීය. ජාතික-සමාජවාදියකු වන දන්ත්සොව් විසින් ඉදිරිපත් කරන ලදුව ඉහත සටහන් සමුළුවේදී අනුමත වූ උක්රේනියාව වෙන්වී යායුතුය යන සංකල්පය කෙරෙහි "උක්රේනියාව පිළිබඳ විශේෂඥ", රේච් පුවත්පතේ උක්රේනියානු වාර්තාකරු වන මොගිල්යාන්ස්කි මහතා තද පරුෂ වචන වලින් (උන්මාදය, සහාසිකත්වය ආදිය) බැණ වැදුණේය.

රබෝචය ප්‍රාව්ද පුවත්පත දන්ත්සොව් මහතා සමග කිසිම විදිහකින් හෝ අනන්‍ය නොවෙමින් ඔහු ජාතික සමාජවාදියකු බව එකහෙළාම ප්‍රකාශ කරමින් සහ උක්රේනියානු මාක්ස්වාදීන් බොහෝ දෙනෙකු ඔහු සමග එකඟ නොවන බව පෙන්වාදෙමින් රේච් පුවත්පතේ බස් වහර එසේත් නැතිනම්, එය මූලධර්ම වශයෙන් ප්‍රශ්නය සූත්‍ර ගත කළ ආකාරය ප්‍රජාතන්ත්‍රවාදියෙකුට හෝ මහා රුසියානු ප්‍රජාතන්ත්‍රවාදියකුසේ පෙනී සිටින කෙනෙකුට හෝ සුදුසු නොවන අතර එය දෝෂාරෝපණයට ලක් කළ යුතු බව ලියුවේය.* රේච් පුවත්පතට වුවමනා නම් දන්ත්සොව් වැනි පුද්ගලයින් නිෂ්ප්‍රභ කළාවේ. එහෙත් මූලධර්මයේ ස්ථාවරය අනුව මහා රුසියානු ප්‍රජාතන්ත්‍රවාදයේ පුවත්පතක් යැයි කියන එම හොරණෑවට ඉවත්වයාමේ අයිතිය අමතක කළ නොහැකිය.

ල්වෝව්හි, ෂ්ල්යාහි[46] නැමැති උක්රයින පුවත්පතේ පළකරන ලද දන්ත්සොව් මහතාගේ පිළිතුර දැනගත් මොගිල්යාන්ස්කි මහතා මාස කීපයකට අනතුරුව, රේච් හි අංක 331 කලාපයෙන් "පිළිතුරක්" පළ කළේය. "රේච් පුවත්පතේ ෂෝවින්වාදී ප්‍රහාරය රුසියානු සමාජ-

* වී. අයි. ලෙනින්. "උක්රයින ප්‍රශ්නය ගැන කැඩේට්වරු", සම්පූර්ණ කෘති 5 වැනි මුද්‍රණය, වෙළුම 23, පිටු 337–338. — සංස්කාරක.

ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ පුවත්පත මගින් තරයේම සුණු විසුණු කොට (හංවඩු ගසා) තිබෙන්නේ'' යැයි දන්ත්සොව් සිය ලිපියෙන් පෙන්වා දෙයි. ''දන්ත්සොව් මහතාගේ විවේචනාත්මක වට්ටෝරුවලට'', ''ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය'' සමග කිසිවක් පොදුවේ නැතැයි තෙවරක් පුන පුනා ප්‍රකාශකිරීම් වලින් මොගිල්යාන්ස්කිගේ එම පිළිතුර සංයුක්ත වේ.

මොගිල්යාන්ස්කි මහතා මෙසේ ලියයි: ''ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය පවා විවේචනයට ලක් කළ නොහැකි පූජා ලාංඡනයක් (මෙය අසන්න!) නොවේ. ජාතීන්ගේ ජීවිතයේ අයහපත් තත්ත්වයන් විසින් ජාතික ස්වයං නිර්ණයනයේදී අයහපත් ප්‍රවණතාවයන් ජනිත කරවයි. මේවා හෙළිදරව් කිරීම ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය ප්‍රතික්ෂේප කිරීමක් ලෙස කොහෙත්ම අදහස් නොකෙරේ''.

ඉදින් ඔබ දකින පරිදි මේ ''පූජා ලාංඡනය'' පිළිබඳ ලිබරල්වාදී කතාව රෝසා ලුක්සම්බුර්ග්ගේ පදයට නැටීමක් වැන්න. දේශපාලන ස්වයං නිර්ණයනය හෙවත් වෙන්වීයාමේ අයිතිය ඔහු පිළිගන්නේද, නැද්ද යන ප්‍රශ්නයට නියම පිළිතුරක් නොදී මගහැරීමට මොගිල්යාන්ස්කි මහතා උත්සාහ දරන බව ඉතා පැහැදිලිය.

1913 දෙසැම්බර් 11 ද ප්‍රොලෙතාර්ස්කය ප්‍රාව්ද පුවත්පතේ අංක 4 කලාපය, මොගිල්යාන්ස්කි මහතාට සහ ව්‍යවස්ථාදයක ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයට* මෙම ප්‍රශ්නය එක එල්ලේම ඉදිරිපත් කරයි.

ඉන් ඉක්බිතිව, රේච් අංක 340) නාමයකින් තොරව, එනම් නිල කතු වැකියකින් මෙම ප්‍රශ්නයට පිළිතුරු දුන්නේය. එම පිළිතුර පහත සටහන් කරුණු තුනට සීමා වෙයි:

1) ''ව්‍යවස්ථාදයක ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ වැඩ පිළිවෙලේ 11 වැනි ඡේදය, ජාතීන්ගේ නිදහස් සංස්කෘතික ස්වයං නිර්ණයනයේ අයිතිය ගැන එක එල්ලේමත්, නියත ලෙස සහ පැහැදිලි ලෙසත් ප්‍රකාශ කරයි.''

2) ප්‍රොලිතාර්ස්කය ප්‍රාව්ද පත්‍රය, ස්වයං නිර්ණයනය, විභේදනවාදය සමගත්, නියමිත ජාතියක වෙන්වී යාම සමගත් ''බලාපොරොත්තු රහිත ලෙස මිශ්‍ර කරගන්නා බව'' රේච් ප්‍රකාශ කරයි.

3) ''ඇත්ත වශයෙන්ම කැඩේට් පක්ෂය රුසියානු රාජ්‍යයෙන් ජාතීන් වෙන්වීයාමේ අයිතියට පක්ෂව කිසිදිනෙක ඉදිරිපත් වී නැත'' (1913 දෙසැම්බර් 20 ද ප්‍රොලිතාර්ස්කය ප්‍රාව්ද පුවත්පතේ පළවූ ජාතික ලිබරල්-

* වී. අයි. ලෙනින්. ''කැඩෙට්වාදියෝ සහ ස්වයං නිර්ණයනය සඳහා ජාතීන් සතු අයිතිය'' සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 24, පිටු 208–210. — සංස්කාරක



වාදය සහ ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය නැමැති ලිපිය කියවන්න.)

රේච් ප්‍රකාශනයේ දෙවැනි කරුණ අපි ප්‍රථමයෙන්ම සලකා බලමු. සෙම්කොව්ස්කිලා, ලීබ්මාන්ලා, යුර්කේවිච්ලා සහ අනිකුත් අවස්ථාවාදීන් විසින් ''ස්වයං නිර්ණයනය'' නැමැති පදයෙහි තිබෙනවා යැයි කියන ''නොපැහැදිලිතාවය'' නැතිනම් ''අස්ථිරතාවය'' ගැන ඇති කර තිබෙන මහා ගාලගෝට්ටිය, ඇත්ත වශයෙන්ම, එනම් රුසියාවේ වාස්තවික පංති සබඳතාවයන්ගේ සහ පංති සටනේ ස්ථාවරය අනුව, ලිබරල් රාජාණ්ඩුවාදී ධනපති පංතියේ ප්‍රකාශනයන්වල ප්‍රතිරාවයක් පමණක් බව එය ඔවුනට කෙතරම් යස රහට පෙන්වා දී තිබේද!

පහත සටහන් ප්‍රශ්න තුන ප්‍රබුද්ධ ව්‍යවස්ථාදයක ප්‍රජාතන්ත්‍රවාදී මහත්වරුන් වෙත ප්‍රොලිතාර්ස්කය ප්‍රාව්ද පුවත්පත ඉදිරිපත් කළාය: 1) ජාත්‍යන්තර ප්‍රජාතන්ත්‍රවාදයේ මුළු මහත් ඉතිහාසයේදීත්, එමෙන්ම විශේෂයෙන්ම දහනව වැනි සිය වසරේ මැද භාගයේ සිටත්, ජාතීන්ගේ ස්වයං නිර්ණයනය යන්නෙන් නියත ලෙසම දේශපාලනමය ස්වයං නිර්ණයනයම, ස්වාධීන ජාතික රාජ්‍යයක් පිහිටුවාලීමේ අයිතියම අදහස් කළ බව ඔවුන් ප්‍රතික්ෂේප කරති ද? 2) 1896 ලන්ඩන්හි පවත්වනලද ජාත්‍යන්තර සමාජවාදී සමුළුව විසින් සම්මත කරගන්නාලද ප්‍රසිද්ධ යෝජනාව එම අදහසම ප්‍රකාශ කළ බව ඔවුන් ප්‍රතික්ෂේප කරතිද? 3) එමෙන්ම 1902 තරම් ඈත කාලයකදී ප්ලෙහානව් ස්වයං නිර්ණයනය ගැන ලියමින් දේශපාලන ස්වයං නිර්ණයනයම අදහස් කළ බවක් ඔවුන් ප්‍රතික්ෂේප කරතිද? ප්‍රොලිතර්ස්කය ප්‍රාව්ද මේ ප්‍රශ්න තුන ඉදිරිපත් කළ විට, කැඩේට් මහත්වරු නිහඬ වූහ!

ඔවුහු පිළිතුරු වශයෙන් වචනයකුදු නොකියා නිහඬ වූහ. මන්දයත් කීමට කිසිවක් ඔවුනට නොමැති බැවිනි. ප්‍රොලිතාර්ස්කය ප්‍රාව්ද සම්පූර්ණයෙන්ම නිවැරදි බව නිහඬව පිළිගැනීමට ඔවුනට සිදුවිය.

ස්වයං නිර්ණයනය නැමැති පදය නොපැහැදිලි බවත්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් එය විභේදනවාදය සමග ''බලාපොරොත්තු විරහිත ලෙස පටලවා ගන්නා'' බවත් කියන ලිබරල්වරුන්ගේ කෑගැසීම් ප්‍රශ්නය ව්‍යාකූල කිරීමට දරන ප්‍රයත්නයක් සහ විශ්වමය වශයෙන් පිළිගන්නාලද ප්‍රජාතන්ත්‍රවාදී මූලධර්මයක් පිළිගැනීම මගහැරීමට දරන ප්‍රයත්නයක් පමණකි. සෙම්කොව්ස්කිලා, ලීබ්මාන්ලා සහ යුර්කේවිච්ලා මෙතරම් මුග්ධයින් නොවීණි නම්, ලිබරල් ආස්වාදයකින් යුතුව කම්කරුවන් ඇමතීමට ඔවුන් ලජ්ජා වනු ඇත.

එහෙත් අපි තවත් ඉදිරියට යමු: ව්‍යවස්ථාදයක-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංස්කෘතික ස්වයං නිර්ණයනය යන පදයේ තේරුම ඇත්ත වශයෙන්ම

දේශපාලන ස්වයං නිර්ණයනය ප්‍රතික්ෂේප කිරීමක් බව රේච් පුවත්පතට පිළිගැනීමට ප්‍රොලිතාර්ස්කය ප්‍රාව්ද විසින් බල කැරිණි.

''රුසියන් රාජ්‍යයෙන්'' වෙන්වීයාමට ජාතීනගේ'' ඇති අයිතියට ඇත්ත වශයෙන්ම කැඩෙට්වරු කිසිදිනෙක පක්ෂ පාත නොවූහ.'' අපේ කැඩෙට් වරුන්ගේ ''පක්ෂ පාතිත්වයේ'' නිදසුනක් හැටියට, රේච් හි මේ වචන වලින් නෝවොයෙ ව්රේම්යා සහ සෙම්ෂිනා[47] වලට, ප්‍රොලිතාර්ස්කය ප්‍රාව්ද පුවත්පත රෙකමදරු කළේ හේතු රහිතව නොවේ. යුදෙව්වන් ගැන මතක් කිරීමට හැම අවස්ථාවක්ම පැහැර නොහරින එමෙන්ම කැඩෙට්වරුන්ට ටොකු අනින නෝවොයෙ ව්රේම්යාහි අංක 13563 කලාපය කෙසේවුවද මෙලෙස ලියුවේය!

''සමාජ ප්‍රජාතන්ත්‍රවාදීන්ට දේශපාලන බුද්ධියේ සිද්ධාන්තයක් (එනම් වෙන්වී යාම සඳහා වූ ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය පිළිගැනීම) වූ දෙය අද කැඩෙට් වරුන් අතර පවා මතභේදයක් ඇති කැරැවීමට පටන් ගෙන ඇත''.

''රුසියානු රාජ්‍යයෙන් ජාතීන් වෙන්වීයාම පිළිබඳ අයිතිය ප්‍රකාශ කිරීමට තමන් කිසිදිනෙක ඉදිරිපත් නොවූ බව කියා පැමෙන් කැඩෙට් වරු මූලධර්ම වශයෙන් නෝවොයෙ ව්රේම්යා ගත් ස්ථාවරයම නියත ලෙස ගෙන ඇත්තාහ. මෙය පැහැදිලි ලෙසම කැඩෙට් ජාතික ලිබරල්-වාදයේ එක් මූලික පදනමකි, පූරිෂ්කේවිච්ලා සමග, ඔවුන්ගේ ඇති නෑකමේත්, පසුකී අයට ඔවුන්ගේ ඇති දේශපාලන, දෘෂ්ටිමය සහ ව්‍යවහාරික පරාධීන තාවයේත් එක් මූලික පදනමකි. ප්‍රොලිතාර්ස්කය ප්‍රාව්ද මෙසේ ලියුවේය: ''කැඩෙට්වරු ඉතිහාසය ඉගෙන ගෙන ඇත්තාහ. 'ඔවුන් ග්‍රහණයෙන් ගෙන අල්ලාගැනීම[48] පූරිෂ්කේවිච්ලාගේ පෞරාණික අයිතිය, ක්‍රියාවේ යෙදවීම වැනි, මෘදු ලෙස කියන්නේ නම් යුදෙව් සංහාරය වැනි ක්‍රියා ගැන ඉතා හොඳින් දනිති''. පූර්ෂ්කේවිච්ලාගේ සර්වබලධාරීත්වයේ රදළවාදී මූලාශ්‍රය සහ ස්වභාවය ගැන කැඩෙට්වරු ඉතා හොඳින් දන සිටියද, එම පංතිය විසින් බිහිකරන ලද සීමාවන් සහ සබඳතාවයන් මත ඔවුහු කෙසේවුවද තම ස්ථාවරය ගනිති. මෙම පංතිය විසින් බිහිකරන ලද සබඳතාවයන් සහ නිර්මාණය කරන ලද හෝ ස්ථාපිත කරන ලද දේශසීමා යුරෝපීය නොවන බව සහ යුරෝපීය විරෝධී බව (ජපනුන් හා චීනුන් ගැන නොනිසි ලෙස සඳහන් කරතියි යන හැඟීමක් ඇති නොවෙති නම්, අපි එය ආසියාතික ලෙස නම් කරමු) ඉතා හොඳින් දන දනම, කෙසේවුවද කැඩෙට්වරු ඒවා උපරිමය සීමාව ලෙස පිළිගනිති.

ඒ අනුව ඔවුහු පූරිෂ්කේවිච්ලාට සරිලනසේ ගැළපෙති, තම තත්ත්වයට හානිවෙතියි බියවෙමින් ඔවුන් ඉදිරියේ වහලුන් සේ වැඳ වැටෙති,



මහජන ව්‍යාපාරයෙන් සහ ප්‍රජාතන්ත්‍රවාදයෙන් ඔවුන් ආරක්ෂා කරති. ඒ ගැන ප්‍රොලිතාර්ස්කය ප්‍රාව්ද මෙසේ ලියුවේය: ''ඇත්ත වශයෙන්ම මෙහි තේරුම වන්නේ ක්‍රමානුකූලව ජාතිකවාදී අගතිගාමී ක්‍රියා වලට විරුද්ධව සටන් කරනවා වෙනුවට රදළවාදී ඉඩම් හිමියන්ගේ අයිතිවාසිකම් වලට සහ අධිපති ජාතියේ ඉතා නරක ජාතික අගතිගාමීත්වයට සරිලන සේ ක්‍රියා කිරීමය''

ඉතිහාසය ගැන දන්නා සහ ප්‍රජාතන්ත්‍රවාදීන් යැයි කියා ගන්නා කැඩෙට්වරු, අද නැගෙනහිර යුරෝපයට හා ආසියාවට විශේෂ ලක්ෂණයක් වී තිබෙන සහ සභ්‍ය ධනවාදී රටවල ආකෘති අනුව වෙනස්වීමට ඉදිරිපත් වන ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරය තහවුරු කිරීමට පවා වෑයම් නොකරති. එම ව්‍යාපාරය රදළවාදී වකවානුව විසින්, පූරිෂ්කේවිච්ලාගේ සර්වබලධාරී සහ ධනවාදී හා සුළු ධනවාදී පුළුල් කොටස්වලට අයිතිය අහිමි කළ වකවානුව විසින්, ස්ථාපිත කරන ලද දේශසීමා එලෙසම පැවැතිය යුතුයැයි ඉල්ලා සිටීම තහවුරු කිරීමෙන් වැලකී සිටියි.

ප්‍රොලිතාර්ස්කය ප්‍රාව්ද සහ රේච් අතර මත භේදයේදී පැන නැගි ප්‍රශ්නය හුදු සාහිත්‍ය ප්‍රශ්නයක් පමණක් නොවන බවත්, එය අද බලපාන සැබෑ දේශපාලන ප්‍රශ්නයක් හා සමග සම්බන්ධ වී ඇති බවත්, අනිකුත් දේ අතර ඔප්පු වුනේ, 1914 මාර්තු 24–25 ද පවත්වනලද ව්‍යවස්ථාදායක-ප්‍රජාතන්ත්‍රවාදී හෙවත් කැඩෙට් පක්ෂයේ සාකච්ඡාවෙනි. රෙච්හි (1914 මාර්තු 26 ද අංක 83) පළවූ එම සාකච්ඡාවේ නිළ වාර්තාවෙන් මෙසේ කියැවෙයි:

''ජාතික ප්‍රශ්නය ගැන විශේෂ ප්‍රබෝධමත් සාකච්ඡාවක්ද ඇති විය. එන්. වී. නෙක්රාසව්ගේ සහ කෙලූබාකින්ගේ ආධාරය ලැබූ කියෙව් නියෝජිත වරු ජාතික ප්‍රශ්නය ඉතා වැදගත් බවත්, මින් ඉදිරියට වඩාත් තීරණාත්මක ලෙස එයට මුහුණ දිය යුතු බවත්, පෙන්වා දුන්හ. එප්. එප්. කොකොෂ්කින් කතා කරමින්, ''කෙසේ වුවද (මෙම, කෙසේවුවද යන වචනය ශෙද්රින්ගේ ''එහෙත්'' යන වචනයට සමානය — එහෙත් ''නළලට වඩා ඉහළින් දෙකන් වැඩෙන්නේ නැත, වැඩෙන්නේම නැත'') ''ජාතීන්ගේ දේශපාලනමය ස්වයං නිර්ණයනය'' පිළිබඳ ''ප්‍රත්‍යාස්ථ සූත්‍ර'' ඉතා ප්‍රවේසම්කාරී ලෙස සළකා බැලිය යුතු බව වැඩ පිළිවෙළ සහ පැරණි දේශපාලන අත්දැකීම් යන දෙක විසින් ඉල්ලා සිටීයැ'' යි පැවසීය.

කැඩෙට් පක්ෂයේ මේ ඉතා උසස් තර්කණය පිළිබඳව සියලු මාක්ස්-වාදීහු සහ ප්‍රජාතන්ත්‍රවාදීහු ඉතා බැරෑරුම් ලෙස සලකා බැලිය යුත්තාහ. (ඉතා හොඳින් තොරතුරු දන්නා බව පෙනෙන, එමෙන්ම නිසැක ලෙසම කොකෝෂ්කින් මහතාගේ අදහස් නිවැරදිව ඉදිරිපත් කරන කියෙව්ස්කයා මිසල්[49] වුවත්පත, ඔහු තම විරුද්ධවාදීන්ට අනතුරු අඟවමින් රාජ්‍යය

දිරාපත්වීමේ අවදානම ගැන විශේෂ අවධාරණයක් කළ බව අපි වරහන් තුළ සටහන් කරමු).

ඉතා උත්කෘෂ්ට රාජ්‍ය තන්ත්‍රික දක්ෂ තාවයකින් ලියා තිබෙන රෙච් පුවත්පතේ නිල වාර්තාව හැකිතරම් අඩුවෙන් රහස් හෙළි කිරීමටත්, හැකි තරම් වැඩියෙන් රහස් සඟවා තැබීමටත් යොමුවී ඇත. එසේවුවද ප්‍රධාන වශයෙන්, කැඩෙට් පක්ෂ සාකච්ඡාසභාවේදී, සිදුවුණේ මොනවද යන්න ඉතා පැහැදිලිය. උක්රයිනයේ කටයුතු ගැන දන්නා ලිබරල් ධනවාදී නියෝජිතයෝ සහ වාමාංශික කැඩෙට්වරු ජාතීන්ගේ දේශපාලනමය ස්වයං නිර්ණයනය පිළිබඳ ප්‍රශ්නය පැහැදිලි ලෙසම ඉදිරිපත් කළහ. එසේ නැතිනම් මේ සූත්‍රය ගැන "ප්‍රවේසම්කාරී ලෙස සලකා බැලිය යුතුයැයි" ඉල්ලා සිටීමට කොකෝෂ්කින් මහතාට අවශ්‍යතාවයක් නැත.

කැඩෙට් සාකච්ඡා සභාවට සහභාගිවූ නියෝජිතයින් සත්තකින්ම දැන සිටි කැඩෙට් පක්ෂයේ වැඩ පිළිවෙළි සංස්කෘතික මිස දේශපාලනමය ස්වයං නිර්ණයනය ගැන කතා නොකරයි. එනම් කොකෝෂ්කින් මහතා උක්රයින නියෝජිතයින්ට විරුද්ධව සහ වාම කැඩෙට්වරුන්ට විරුද්ධව වැඩපිළිවෙළ ආරක්ෂා කිරීමට ඉදිරිපත් විය. ඔහු "දේශපාලනමය" ස්වයං නිර්ණයනයට විරුද්ධව "සංස්කෘතික" ස්වයං නිර්ණයනය ආරක්ෂා කළේය. "දේශපාලන" ස්වයං නිර්ණයනයට විරුද්ධ වීමෙන්ද, රාජ්‍යය දිරාපත්වීම නැමැති අවදානම ඉදිරිපත් කිරීමෙන්ද, දේශපාලනමය ස්වයං නිර්ණයනය පිළිබඳ සූත්‍රය "ප්‍රත්‍යස්ථ" යැයි (හරියට රෝසා ලුක්සම්බුර්ග් මෙනි!) නම් කිරීමෙන්ද කොකෝෂ්කින් මහතා ව්‍යවස්ථාදයක ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ වඩාත් "වාමාංශික" නැතිනම් වඩාත් ප්‍රජාතන්ත්‍රික කොටස් වලට විරුද්ධව සහ උක්රයින ධනවාදීන්ට විරුද්ධවද මහා රුසියානු ජාතික ලිබරල්වාදය ආරක්ෂා කළ බව ඉතා පැහැදිලිය.

රෙච් වාර්තාවේ "කෙසේවුවද" නැමැති ද්‍රෝහී කුඩා වචනයෙන් පෙනෙන පරිදි, කැඩෙට් සාකච්ඡා සභාවේදී කොකෝෂ්කින් ජය ගත්තේය. කැඩෙට් වරුන් අතර මහා රුසියානු ජාතික-ලිබරල්වාදය ජය ගත්තේය. කැඩෙට් වරුන් මෙන්ම, "ජාතීන්ගේ දේශපාලනමය ස්වයං නිර්ණයනය පිළිබඳව, ප්‍රත්‍යස්ථ සූත්‍රවලට" බියවීමට පටන්ගෙන ඇති රුසියාවේ මාක්ස්වාදීන් අතර සිටින නොමග ගිය පුද්ගලයින්ගේ සිහි බුද්ධියේ පැහැදිලිතාවයක් ඇති වීමට මෙම ජයග්‍රහණය ආධාර නොවන්නේද?

අපිද "කෙසේවුවද" කොකෝෂ්කින් මහතාගේ බුද්ධි තර්කණය විමර්ශනයට හසු කරමු. "පැරණි දේශපාලන අත්දැකීම්" (එනම්, පැහැදිලි ලෙසම, තම ජාතික වරප්‍රසාද නිසා බියටපත් මහා රුසියානු ධනේශ්වර පන්තිය, ස්වකීය බිය පාවිච්චි කරමින් කැඩෙට් පක්ෂය බිය ගැන්වීම අරභයා වූ 1905 අත්දැකීම) ගැන සඳහන් කිරීමෙන් සහ "රාජ්‍යය දිරාපත්වීමේ අවදානම" ඉදිරිපත් කරමින් කොකෝෂ්කින් මහතා, දේශපාලනමය ස්වයං නිර්ණයනය වෙන්වී යාමේ අයිතිය සහ නිදහස් ජාතික රාජ්‍යයක් පිහිටුවාලීමේ අයිතිය හැර අන් කිසිවක් නොවන බව තමා අවබෝධ කරගත්තේ යැයි පෙන්වා දුන්නේය. දැන් ප්‍රශ්නය මෙයය. පොදුවේ ප්‍රජාතන්ත්‍රවාදය අනුවත් විශේෂයෙන් නිර්ධනීන්ගේ පංති අරගලය අනුවත් කොකෝෂ්කින් මහතාගේ බිය තක්සේරු කළ යුත්තේ කෙසේද?

වෙන්වීයාමේ අයිතිය පිළිගැනීමෙන් "රාජ්‍යය දිරාපත්වීමේ අවදානම වැඩිවෙතියි" අපට ඒත්තු ගැන්වීමට කොකෝෂ්කින් මහතා ඉදිරිපත් වෙයි. "ඔවුන් ග්‍රහණයෙන් ගෙන අල්ලාගත යුතුය" යන උපදේශ වාක්‍යය ඉදිරිපත් කරන පොලිස් නිලධාරී මිම්රේත්සොව්ගේ ස්ථාවරයද එයය. එහෙත් පොදුවේ ප්‍රජාතන්ත්‍රික ස්ථාවරය අනුව නම්, උචිත වන්නේ ඊට හාත්පසින්ම විරුද්ධ දෙයය: වෙන්වීයාමට ඇති අයිතිය පිළිගැනීමෙන්, "රාජ්‍යය දිරාපත්වීමේ" අවදානම අඩු වීමය.

ජාතිකවාදීන් තර්ක කරන ආකාරයටම කොකෝෂ්කින් මහතාත් තර්ක කරයි. ඔවුහු පසුගිය සමුළුවේදී උක්රයින "මාසෙපිස්ට්" වරුනට පහර ගැසූහ. උක්රයිනයේ ව්‍යාපාරය, සාවෙන්කෝ මහතා සහ සමාගම කියන පරිදි, උක්රයිනය සහ රුසියාව අතර ඇති සබඳකම් දුර්වල කිරීමට තර්ජනය කරයි.මන්දයත්, ඕස්ත්‍රියාව උක්රයිනොජාතිවාදය මගින් ඕස්ත්‍රියාව සමග උක්රයින ජාතිකයින්ගේ සබඳකම් ශක්තිමත් කරන බැවිනි. ඕස්ත්‍රියාව පාවිච්චි කරතියි සාවෙන්කෝලා විසින් බැණවදින එම මාර්ග වීධිම පාවිච්චි කැරැමින් එනම්, උක්රේනියානුන්ට තම මවු බස පාවිච්චි කිරීමට නිදහසදීම, ඔවුනට ස්වයං ආණ්ඩුවක් සහ ස්වෛරී මන්ත්‍රණ සභාවක් දීම මගින් රුසියාවට උක්රයිනය සමග සම්බන්ධකම් "ශක්තිමත් කැරැගත" නොහැකි මන්ද යන්න විස්තර කර නොමැත.

සාවෙන්කෝලාගේ සහ කොකෝෂ්කින්ලාගේ තර්ක සම්පූර්ණයෙන්ම සර්වසමය. තාර්කික දෘෂ්ටි කෝණය අනුව, ඒවා එක සමාන ලෙස හාස්‍යජනක සහ මුග්ධය. එක් හෝ තවත් රටක උක්රයින ජාතිකයින්ට නිදහස කොතරම් ලැබෙන්නේද, එතරම් දුරට ඒ රට සමග උක්රයින ජාතිකයින්ගේ ඇති සබඳකම් ශක්තිමත් වන බව පැහැදිලි නොවේද? ප්‍රජාතන්ත්‍ර වාදයේ සියලු පූර්වාවයවයන්, සමූලඝාතනය නොකර මෙම මූලික සත්‍යයට විරුද්ධව තර්ක ඉදිරිපත් කළ නොහැකිය. වෙන්වීමට නිදහස, ස්වාධීන ජාතික රාජ්‍යයක් පිහිටුවාලීමට නිදහසට වඩා වැඩි නිදහසක් ජාතියකට තිබිය හැකිද?

ලිබරල්වාදීන් විසින් මෙතරම් ව්‍යාකූල කර තිබෙන, (එමෙන්ම එය නිසා නොමග ගිය අය විසින් දෝංකාරය නංවාලන) මේ ප්‍රශ්නය පැහැදිලි කර ගැනීමට අපි ඉතා සරළ නිදසුනක් ඉදිරිපත් කරමු.

දික් කසාද කිරීමේ ප්‍රශ්නය අපි විමර්ශනය කරමු. කේන්ද්‍රගත ප්‍රජාතන්ත්‍රික රාජ්‍යයක, එහි සංයුක්ත කොටස්වලට ස්වෛරීත්වය ප්‍රදනය කරන අතර, දික්කසාද වීමේ නීතිය ඇතුළුව නීති ව්‍යවස්ථා සම්පාදනයේ ප්‍රධාන ශාඛා රාජ්‍යයේ මධ්‍යම පාර්ලිමේන්තුවේ අධිකරණ පාලනය යටතේ තිබිය යුතුයැයි සිය ලිපියෙහි ලා රෝසා ලුක්සම්බුර්ග් පවසයි. ප්‍රජාතන්ත්‍රික රාජ්‍යයේ මධ්‍යම අධිකාරය,දික්කසාද කිරීමේ බලය සිය'තට ගත යුතුයැයි කියා සිටීම සම්පූර්ණයෙන් වටහා ගත හැකිය. ප්‍රතිගාමීහු දික්කසාද වීමේ නිදහසට විරුද්ධ වෙති. එය ඉතා ප්‍රවේසමෙන් ක්‍රියාවේ යෙදවිය යුතුයැයි කියන අතර ඔවුහු එහි තේරුම ''පවුල දිරාපත්වීම'' යැයි මහ හඬින් කෑගසති. ප්‍රතිගාමීන් සැබවින්ම පොලීසියේ සහ නිලධාරි පැළැන්තියේ සර්වබලධාරීත්වයය, එක් ලිංගයකට අයත් වරප්‍රසාදයන්, ආරක්ෂා කරමින් කාන්තාවන් ඉතා නීචලෙස පීඩාවට පත්කිරීම ප්‍රතිගාමී කෛරාටික කමක් ලෙස ප්‍රජාතන්ත්‍රවාදීහු කෙසේවුවද විශ්වාස කරති. ඇත්ත වශයෙන්ම දික්කසාදවීමේ නිදහස නිසා පවුලේ සම්බන්ධකම් දිරාපත් නොවන අතර, එයට හාත්පසින්ම විරුද්ධව, සභ්‍ය සමාජයේ එකම වියහැකි සහ ශක්තිමත් පදනම වන, ප්‍රජාතන්ත්‍රික පදනමක් මත එය ශක්තිමත් වන බව ඔවුහු විශ්වාස කරති.

ස්වයං නිර්ණයනය පිළිබඳ නිදහසට, එනම් වෙන්වීමේ නිදහසට පක්ෂපාත අයට විභේදනවාදයට අනුබල දෙන්නන් ලෙස, චෝදනා කිරීම, දික්කසාදවීමේ නිදහසට පක්ෂ පාත අයට පවුල් සම්බන්ධකම් විනාශ කිරීමට අනුබල දෙතියි චෝදනා කිරීම තරම්මැ මුග්ධ සහ කෛරාටික දෙයකි. ධනපති සමාජයේ, ධනවාදී විවාහය මත රඳා පවතින වරප්‍රසාද හා දූෂණ ආරක්ෂා කරන්නන් දික්කසාදවීමේ නීතියට විරුද්ධ වන්නේ යම්සේද, එසේම ධනපති රාජ්‍යය තුළ ස්වයං නිර්ණයනය සඳහා නිදහස එනම් ජාතීන්ට වෙන්වීමට ඇති අයිතිය ප්‍රතික්ෂේප කිරීම, ප්‍රජාතන්ත්‍රවාදී ක්‍රියා විධියට හානි වන සේ, ආධිපත්‍ය උසුලන ජාතියේ වරප්‍රසාද සහ පරිපාලනයේ පොලිස් ක්‍රම වලට ආධාර දීම හැර අන් කිසිවක් නොවේ.

ධනපති සමාජයේ පවතින සියලු සබඳතාවයන්ගෙන් පැන නගින දේශපාලන වංචාවන් නිසා සමහර විට, පාර්ලිමේන්තු මන්ත්‍රීවරුන්ට සහ පත්‍ර කලාවේදීන්ට එක් හෝ තවත් ජාතියක් වෙන්වීම ගැන වග කීමෙන් තොර එපමණක් නොව, කටහැකර වාචාල කතාද බිණීමට සිදුවේ. එවැනි කතාවලින් බියවීමට (නැතිනම් බියවූවාසේ මවාපෑමට) ඉඩදෙන්නේ ප්‍රතිගාමීන් පමණකි. ප්‍රජාතන්ත්‍රික මූලධර්මවලට පක්ෂපාත අය එනම්, රාජ්‍ය ප්‍රශ්න පොදු ජනතාව විසින් විසඳිය යුතුයැයි ඉල්ලා සිටින අය, දේශපාලනඥයින්ගේ වාචාල කතාවල සහ ජනතාව තීරණය



කරන දෙය අතර ''අති විශාල පරතරයක්''[50] තිබෙන බව දනිති. බහු ජනතාව තමන්ගේ දෛනික අත්දැකීම් අනුව, භූගෝලීය සහ ආර්ථික සම්බන්ධකම්වල අගය සහ විශාල වෙළඳ පොළක සහ විශාල රාජ්‍යයක වාසිය දනිති. එබැවින් ඔවුන් වෙන්වීමකට ඉදිරිපත් වන්නේ, ජාතික පීඩනය සහ ජාතික ඝර්ෂණය නිසා ඒකාබද්ධ ජීවිතය ගෙනයාමට ඒකාන්තයෙන්ම නොහැකිවූ විට සහ එක් සහ සියලු ආර්ථික අන්තර් ක්‍රියාවන් වලට බාධාකරන විටදී පමණකි. මෙවැනි අවස්ථාවකදී ධනපති සංවර්ධනයේ වුවමනාවන්ට සහ පංති අරගලයේ නිදහසට වෙන්වීම ඉතා හොඳින් සේවය කරනු ඇත.

ඒ අනුව, කොකෝෂ්කින් මහතාගේ තර්කවලට අප කිනම් කෝණයකින් ප්‍රවේශ වුණද, ඒවා අධි මුග්ධතාවයක් සහ ප්‍රජාතන්ත්‍රවාදය සමච්චලයට භාජනය කිරීමක් පෙන්වයි. එසේවුවද මේ තර්ක වල තර්ක විද්‍යාවේ ඉතා සුළු ප්‍රමාණයක් ගැබ්වී ඇත. එය නම්, මහා රුසියානු ධනපති පංතියේ, පංති වුවමනාවන් පිළිබඳ තර්ක විද්‍යාවය. ව්‍යවස්ථාදයක-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ බොහෝ සාමාජිකයින් මෙන්ම, කොකෝෂ්කින් මහතාද එම ධනපති පංතියේ සල්ලි කාරයින්ගේ මෙහෙකරුවෙකි. ඔහු එම ධනපති පංතියේ වරප්‍රසාද පොදුවේද, එහි රාජ්‍ය වරප්‍රසාද විශේෂයෙන්ද ආරක්ෂා කරයි. ඔහු පූරිෂ්කේවිච් සමග අතින් අත අල්ලාගෙන, උරෙන් උර ගැටී එය ආරක්ෂා කරයි. එකම වෙනසකට ඇත්තේ පූරිෂ්කේවිච් රදළවාදී මුගුර කෙරෙහි වැඩි විශ්වාසයක් තබන අතර, කොකෝෂ්කින් සහ සමාගම, මෙම මුගුර 1905 දී[51] සෑහෙන තරම් ඉරිතැලීමකට හසුවුණ බව පිළිගැනීමය, බහු ජනතාව මුළා කිරීම සඳහා ධනපති ක්‍රියාවිධි වන, ''රාජ්‍යය දිරාපත්වීමකට'' හසුවීමේ අවතාරය පෙන්වමින්, සුළු ධනපති පංතිය සහ ගොවීන් බියකිරීමය, එමෙන්ම ''මහජන ස්වාධීනත්වය'' ඓතිහාසික සම්ප්‍රදය සමග එක්කරලීම ගැන වාග්පාඨ දෙඩවමින් ජනතාව මුලාකිරීමය.

ජාතීන්ගේ දේශපාලනමය ස්වයං නිර්ණයනය නැමැති මූලධර්මයට ලිබරල්වාදීන් සතුරුකම් දක්වීමේ පංති තේරුම විය හැක්කේ එකම එක දෙයක් පමණකි: එය නම් ජාතික-ලිබරල් වාදය ය, මහා රුසියානු ධනපති පංතියේ රාජ්‍ය වරප්‍රසාද ආරක්ෂා කිරීමය. එමෙන්ම රුසියාවේ මාක්ස්වාදීන් අතර සිටින අවස්ථාවාදීහු අද ජූනි තුන්වෙනිද පාලනය යටතේ ජාතීන්ගේ ස්වයං නිර්ණයනයට විරුද්ධ වී සිටිති. ලික්විඩේටර් වරයෙක් වන සෙම්කොව්ස්කි, බුන්ඩ්වාදී ලිබ්මාන්, උක්රයීන සුළු ධනවාදී යූර්කේවිච් ඇත්ත වශයෙන්ම ජාතික ලිබරල් වාදීන්ගේ වලිගය අල්ලා ගෙන ගමන් කරමින්, ජාතික ලිබරල් වාදී මත වලින් කම්කරු පංතිය දූෂණය කරති.

කම්කරු පංතියේ වුවමනාවන් සහ එය ධනපති ක්‍රමයට විරුද්ධව ගෙනයන අරගලය විසින් සියලු ජාතීන්ට අයත් කම්කරුවන්ගේ පූර්ණ සහයෝගතාවය සහ ඉතා කිට්ටු සමගියක් ඉල්ලා සිටිනු ලැබේ. ඒවා ජාතිය කුමක් වුවත් ධනපති පංතියේ ජාතික වාදයට විරුද්ධව ප්‍රතිරෝධ-නයක් ඉල්ලා සිටී. ඒ නිසා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්, ස්වයං. නිර්ණයනය සඳහා ජාතීන්ගේ අයිතිය එනම් පීඩිත ජාතියකට වෙන්වීමේ අයිතිය ප්‍රතික්ෂේප කළහොත්, නැතිනම්, පීඩිත ජාතීන්ගේ ධනපති පංතිවල සියලු ඉල්ලීම් වලට ආධාර කළහොත්, සමාජ ප්‍රජාතන්ත්‍රවාදීන් නිර්ධන පංති ප්‍රතිපත්තියෙන් ඈත් වන අතර කම්කරු පංතියේ ප්‍රතිපත්තිය ධනපති පංතියට යටත් කර දමනු ඇත. තමා වැඩිවශයෙන් සූරා කන්නේ මහා රුසියානු ධනපති පංතියද, එසේත් නැතිනම් රුසියානු නොවන ධනපති පංතියද, පෝලන්ත ධනපති පංතියද එසේත් නැතිනම් යුදෙව් ධනපති පංතියද ආදිය යන්න ගැන කුලී වැටුපට වැඩකරන කම්කරුවෙකුට කිසිදු වෙනසක් නැත. තම පංති වුවමනාවන් ගැන අවබෝධයක් ලබාගත් වැටුප් ලබන කම්කරුවා මහා රුසියානු ධනපති පංතිය ලබන රාජ්‍ය වරප්‍රසාද වලට සහ තමන් රාජ්‍ය වරප්‍රසාද ලබාගත් ඉක්බිතිව මිහිපිට පාරාදීසයක් බිහි කරන බවට පෝලන්ත හා උක්රයීන ධනපති පංති කරන පොරොන්දුව ගැනද එකසේ උදාසීනත්වයක් දක්වයි. මිශ්‍ර ජනගහන-යක් ඇති සංකේන්ද්‍රිත රාජ්‍යයේ මෙන්ම වෙන් වෙන්වූ ජාතික රාජ්‍යයන් වලත් ධනපති ක්‍රමය වර්ධනය වෙමින් පවතී, එමෙන්ම එය අවිච්ඡින්නව වර්ධනය වනු ඇත.

කෙසේ හෝ වැටුප් ලබන කම්කරුවා සූරාකෑම සඳහා විෂය වස්තු වනු ඇත. සූරා කෑමට විරුද්ධව ගෙනයන අරගලය සාර්ථක කිරීම සඳහා නිර්ධන පංතිය ජාතිකවාදයෙන් නිදහස් වීමත්, විවිධ ජාතීන් අතර ධනපති පංති ආධිපත්‍ය සඳහා කරන සටන් වලදී නිරපේක්ෂ ලෙස මධ්‍යස්ථව සිටීමත් අවශ්‍ය වේ. කිසියම් ජාතියක නිර්ධන පංතියක් ''තමාගේ'' ජාතික ධනපති පංතියේ වරප්‍රසාදවලට යම්තමින් හෝ ආධාර දෙන්නේ නම් අනිත් ජාතියක නිර්ධන පංතිය අතර එය එය නොවැලැක් විය හැකි-සේ අවිශ්වාසයක් මතු කරනු ඇත. එය ධනපතීන්ගේ ආහ්ලාදයට හේතු වන සේ කම්කරුවන්ගේ ජාත්‍යන්තර පංති සහයෝගතාවය දුර්වල කොට ඔවුන් භේද බින්න කරනු ඇත. ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය නැති-නම් ඉවත්වීමේ අයිතිය ප්‍රතික්ෂේප කිරීමේ අනිවාර්ය තේරුම වන්නේ, ව්‍යවහාරයේදී අධිපති ජාතියේ වරප්‍රසාද වලට ආධාර කිරීම යන්නය.

නෝර්වේය ස්වීඩනයෙන් වෙන්වීමේ මූර්ත ප්‍රශ්නය අපේ සැලකිල්ලට යොමු කරන්නේ නම්, මේ පිළිබඳව වඩාත් පැහැදිලි සත්‍ය සාක්ෂියක් අපට ලබාගත හැකි වනු ඇත.



## 6. නෝර්වේය ස්වීඩනයෙන් ඉවත්වීම

රෝසා ලුක්සම්බුර්ග් මෙන්න මේ නිදසුනම ඉදිරිපත් කරමින් එය මෙසේ සාකච්ඡාවට භාජනය කරයි:

''පැඩරල්වාදී සබඳතාවයන් පිළිබඳ ඉතිහාසයේ නවතම සිද්ධිය වන නෝර්වේය ස්වීඩනයෙන් ඉවත්වීම විසින් පැඩරල්වාදය සහ එයින් පැන නගින වෙන්වීම කොහෙත්ම ප්‍රගමනය හෝ ප්‍රජාතන්ත්‍රවාදය හෝ ප්‍රකාශ නොකරන බවට අති බලසම්පන්න සාක්ෂි ඉදිරිපත් කැරිණි. රාජ්‍යමය වෙන්වීම පිළිබඳ ප්‍රවණතාවය ශක්තියේ සහ ප්‍රගමනයේ ස්වා-භාවික සතුටුදයක සළකුණක් වශයෙන් සමාජ-දේශප්‍රෙමී පෝලන්ත පුවත්පත් (ක්‍රාකොව්හි නප්ෂුද්[52] පුවත්පත බලන්න) මෙය එවකට ලහිලහියේ බද අල්ලා ගත්හ. ඊනියා නෝවීජියානු විප්ලවයට අනතුරුව — මෙහි තේරුම ස්වීඩනයේ රජ බලයෙන් පහකර දමා ඔහුට නෝර්වේ රටින් ඉවත්වීමට බලකිරීමය — සමූහාණ්ඩුවක් පිහිටුවාලීමේ යෝජ-නාව ජනමත විමසීමකින් ප්‍රතික්ෂේප කොට, තවත් රජකු පත් කැර ගැනීමට නෝර්වේ රට වැසියෝ ඉවසිලිවත් ලෙස ඉදිරිපත් වූහ. මෙය 'විප්ලවයක්' ලෙස ජාතික ව්‍යාපාර දෙස සහ ඒවාට සමාන ව්‍යාපාර දෙස මතු පිටින් බලන්නන් විසින් නම් කළද, මෙය ගොවිජන සහ සුළු ධනපති විශේෂතාවයේ ප්‍රකාශනයකි, ස්වීඩනයේ රදළ කුලීන පෙළැන්තිය විසින් තමන් මත බලෙන් පටවන ලද රජකු වෙනුවට තමන්ගේ මුදලින් 'තමන්ගේම රජකු' පත් කැර ගැනීමට නෝවීජියානුන් තුළ ඇති අභිප්‍රා-යකි, මේ කරුණු අනුව, එය විප්ලවය සමග පොදුවේ කිසිවක්, කොහෙත්ම නැති ව්‍යාපාරයකි. ඒ අතර ස්වීඩනය සහ නෝර්වේ අතර තිබුණු සංගමය විසුරුවා හැරීම එතෙක් මේ දෙරට අතර පැවැති සම්බන්ධනය හුදු රාජ-වංශික වුවමනාවන් අනුව, මේ සිද්ධියෙන් වුවද කොතෙක් දුරට ප්‍රකාශ වූයේදැයි පෙනෙයි, මේ හේතූන් නිසා මෙම සම්බන්ධනය හුදු රාජාණ්ඩු වාදී සහ ප්‍රතිගාමී ආකාරයකි'' (''ප්ෂෙග්ලොන්ද්'').

මේ කරුණ ගැන රෝසා ලුක්සම්බුර්ග්ට වචනානුසාරයෙන් කීමට ඇත්තේ මෙපමණකි! මේ අවස්ථාවේදී ඇය විසින් කර තිබෙනවාට වඩා පැහැදිලි ලෙස ඇගේ ස්ථාවරයෙහි ඇති බලාපොරොත්තු විරහිත බව, ප්‍රකාශ කිරීම ඇයට දුෂ්කර බව පිළිගත යුතුය.

ප්‍රශ්නය ඉදිරිපත් වූයේත්, වී ඇත්තේත් මෙසේය: මිශ්‍ර ජාතික රාජ්‍ය-යක් තුළ ස්වයං නිර්ණයනයේ අයිතිය හෝ වෙන්වීම පිළිගන්නා වැඩ පිළිවෙලක් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට අවශ්‍යද?

රෝසා ලුක්සම්බුර්ග් උපුටා දක්වන නෝර්වේය පිළිබඳ නිදසුන මේ ප්‍රශ්නයේදී අපට කියන්නේ කුමක් ද?

අපේ කතුවරිය නප්ෂුද් පුවත්පතට විරුද්ධව සිය දක්ෂතාවයන් සහ උපායයන් යොදමින් සෝෂා කළද, ප්‍රශ්නයට පිළිතුරු නොදෙයි. රෝස

ලුක්සම්බුර්ග් හැම දෙයක් ගැනම කතා කළද ඉදිරිපත් වී තිබෙන නියම ප්‍රශ්නය ගැන වචනයකුදු කතා නොකරයි.

නිසැකයෙන්ම, තමන්ගේ මුදලින් රජකු තබා ගැනීමට ඉදිරිපත් වීමත්, සමූහාණ්ඩුවක් පිහිටුවාලීම සඳහා කළ යෝජනාව ජනමත විමසුමකදී ප්‍රතික්ෂේප කිරීමත් නිසා නෝර්වීජියානු සුළු ධනපති පංතිය ඉතා නරක අවරසිකවාදී ගුණයන් ප්‍රකාශ කර ඇත. නිසැකයෙන්ම, මෙය සටහන් කිරීමට අසමත් වීමෙන් නාෂේ ෂුද් පුවත්පතද එමෙන්ම නරක සහ අවරසිකවාදී ගුණයන් ප්‍රකාශ කළේය.

එහෙත් ප්‍රශ්නයත් සමග මේවාට ඇති සම්බන්ධ කම් මොනවාද?

සාකච්ඡාවට භාජනය වූ ප්‍රශ්නය නම්, ස්වයං නිර්ණයනය සඳහා ජාතීන්ගේ ඇති අයිතිය සහ මෙම අයිතිය කෙරෙහි සමාජවාදී නිර්ධන පංතිය දැක්විය යුතු ආකල්පය ය! එසේනම්, රෝසා ලුක්සම්බුර්ග් අනන් මනන් නොදොඩා, මෙම ප්‍රශ්නයට පිළිතුරු නොදෙන්නේ මන්ද?

මීයාට නම් බළලා තරම් දරුණු සතුරකු තවත් නැතැයි කියති. රෝසා ලුක්සම්බුර්ග්ට 'ප්‍රාකි' තරම් දරුණු සතුරකු නැති බව පෙනේ. පෝලන්ත සමාජවාදී පක්ෂය සහ එහි ඊනියා විප්ලවවාදී කොටස හැඳින්වීමට භාවිතා කරන ජනප්‍රිය වචනය 'ප්‍රාකිය'. එම පක්ෂයේ ක්‍රාකොව් පුවත්පත වන නාෂේ ෂුද් මෙම කොටසේ මත වලට හවුල් කරුවෙකි. මෙම කොටසේ ජාතික වාදයට විරුද්ධව කරන සටනේදී රෝසා ලුක්සම්බුර්ග් කොතරම් අන්ධවී සිටින්නීදයත්, ඇයට නාෂේ ෂුද් පුවත්පත හැර අන් කිසිවක් නොපෙනේ.

''නාෂේ ෂුද්'' ''ඔව්'' යැයි කියන විට, හනිකට ''නැතැයි'' කීම තම ශුද්ධ වූ යුතුකම ලෙස රෝසා ලුක්සම්බුර්ග් සිතන්නේ, එසේ කරන විට ඇය නාෂේ ෂුද් පුවත්පතට පරිභාහිරව ඇති තම ස්වාධීනත්වය හෙළි කිරීමක් නොව ඒයට විලෝම වශයෙන් ''ප්‍රාකි'' වරුන්ට ඇගේ ඇති හාස්‍යජනක පරාධීනත්වය සහ ක්‍රාකොව්හි තුඹසකට වඩා පුළුල් ලෙස හා ගැඹුරු ලෙස ප්‍රශ්න දෙස බැලීමට ඇගේ ඇති අදක්ෂතාවය හෙළදරව් කිරීමය. සත්තකින්ම, ''නාෂේද්'' වැදගැම්මකට නැති, කොහෙත්ම මාක්ස්වාදී නොවන, පුවත්පතකි. එහෙත් අප නොර්වේය ඉදිරිපත් කළ පසුව, එම නිදර්ශනය නිසිලෙස විශ්ලේෂණය කිරීමට එය බාධාවක් නොවිය යුතුය.

එහෙත් මේ නිදසුන මාක්ස්වාදී ලෙස විශ්ලේෂණය කිරීමට නම්, අප විභාග කළ යුත්තේ ඉතා භයානක ''ප්‍රාකි'' වරුන්ගේ දුර්ගුණයන් ගැන නොව, ප්‍රථමයෙන්ම නෝර්වේය ස්වීඩනයෙන් වෙන්වීමේ මූර්ත ඓතිහාසික ලක්ෂණයන් ගැනය, දෙවනුව මේ වෙන්වීම සම්බන්ධයෙන් දෙරටේම නිර්ධන පංතිය ඉදිරියේ ඇති කාර්ය භාරයන් ගැනය.



නෝර්වේ සහ ස්වීඩනය අතර භූගෝළීය, ආර්ථික සහ භාෂාමය සම්බන්ධකම්, මහා රුසියානුන් හා මහ රුසියානුන් නොවන බොහෝ ස්ලාව් ජාතීන් අතර ඇති සම්බන්ධකම් මෙන්ම ඉතා කිට්ටුය. එහෙත් නෝර්වේය සහ ස්වීඩනය අතර සංගමය ස්වේච්ඡානුගත එකක් නොවීය. ''පැඩරල් සම්බන්ධනය'' පිළිබඳ ප්‍රශ්නය ඉදිරියට ඇද ගනිමින් රෝසා ලුක්සම්බුර්ග් තේරුමක් නැති කතා කරන්නේ කිව යුත්තේ කුමක්දැයි ඇය නොදන්නා බැවිනි. නැපෝලියන් යුද්ධ සමයේදී නෝර්වීජියානු ජනතාවගේ කැමැත්තට විරුද්ධව, රජවරුන් විසින් නෝර්වේය, ස්වීඩනයට භාර දෙන ලදී. එසේම නෝර්වේය යටත් කර ගැනීම සඳහා යුද්ධ හමුදා ගෙන ඒමට ස්වීඩනයට සිදු විය.

නෝර්වේය භුක්ති වින්ද විස්තීර්ණ ස්වෛරීත්වය (එයට තමන්ගේ පාර්ලිමේන්තුවක් ආදිය තිබිණි) නොතකා මෙම සංගමයට අනතුරුව වසර බොහෝ ගණනක් තිස්සේ නෝර්වේය සහ ස්වීඩනය අතර ස්ථාවර ඝර්ෂණයක් පැවතිණි. නෝර්වීජියානු ජනතාව ස්වීඩන් රදළ ප්‍රභූ පෙළැන්තියේ වියගහ පෙරළා දැමීමට ඉතා දැඩි පරිශ්‍රමයක් දැරූහ. අවසානයෙදී, එනම් 1905 අගෝස්තු මාසයේදී ඔවුහු ජයගත්හ. ස්වීඩනයේ රජු තව දුරටත් නෝර්වේ රටේ රජු නොවන බවට නෝර්වේ පාර්ලිමේන්තුව තීරණය කළාය. ඉන් ඉක්බිතිව පවත්වන ලද ජනමතය විමසීමේදී අති විශාල බහුතරය (දෙලක්ෂයක් පක්ෂව සහ සිය ගණනක් විරුද්ධව) ස්වීඩනයෙන් සම්පූර්ණයෙන්ම වෙන්වීමට පක්ෂව ඡන්දය දුන්හ. අතීරණයක් සහිත කෙටි කාලයකින් අනතුරුව, වෙන්වීමේ සත්‍යය පිළිගැනීමට ස්වීඩන්වරු තීරණය කළහ.

සමකාලීන ආර්ථික සහ දේශපාලන සබඳතාවයන් යටතේ ජාතීන්ගේ වෙන්වීමේ හැකියාව හා එය සිදුවන්නේ කිනම් පසුතලයකද,දේශපලනා නිදහස සහ ප්‍රජාතන්ත්‍රවාදය යටතේ වෙන්වීම සමහර විට කිනම් රූපයක් ගන්නේද යන්න මේ නිදසුන පෙන්වා දෙයි.

ජාතීන්ගේ ඉවත්වීම පිළිබඳව පැන නැගිය හැකි සට්ටන ''රුසියානු ක්‍රමයට'' නොව, එනමුදු 1905 දී නෝර්වේය සහ ස්වීඩනය අතර විසඳුණ එකම පිළිවෙත අනුව, නිරාකරණය කිරීම පිණිස ක්‍රමාණුකූල ප්‍රචාර ගෙනයාම සහ පසුතලය පිළියෙල කිරීම පංති හැඟීම ඇති සෑම කම්කරුවකුගේම නියත වගකීම ලෙස සැබවින්ම, මෙම නිදසුන ඔප්පු කර පෙන්වන බව එකද සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියකු වත් ප්‍රතික්ෂේප නොකරනු ඇත. එසේ ප්‍රතික්ෂේප නොකරන්නේ ඔහු දේශපාලන නිදහස සහ ප්‍රජාතන්ත්‍රවාදය පිළිබඳ ප්‍රශ්නවලදී උදාසීනත්වයක් නොදක්වන්නේ නම් පමණකි (උදාසීනත්වයක් දක්වන්නේ නම්, ඔහු තව දුරටත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියකු නොවේ). ස්වයං නිර්ණයනය සඳහා ජාතීන්ගේ අයිතිය පිළිගන්නා

ලෙස වැඩ පිළිවෙළ මගින් ඉල්ලා සිටීමේ නියම තේරුම මෙයය. රෝස ලුක්සම්බුර්ග් ඇගේ න්‍යායයට අතිශයින් අප්‍රිය සත්‍යය ඉවතලෑම පිණිස ප්‍රචණ්ඩකාරී ලෙස නෝර්වීජියානු අවරසිකයින්ගේ සහ ක්‍රාකොව් න්ප්ෂුද් පුවත්පතේ අවරසිකවාදයට පහර දෙයි. මන්දයත්, මේ ඓතිහාසික සත්‍යය, ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය ''මනෝරාජික'' යැයිද නැතිනම්, ''රත්රන් පිඟන්වල ආහාර ගැනීමේ'' අයිතියට සමාන යැයිද කියන ඇගේ වාග්පාඨ සම්පූර්ණයෙන්ම නිෂ්ප්‍රභා කරන බව ඇ ඉතා හොඳින් අවබෝධ කැරගත් බැවිනි. එවැනි වාග් පාඨවලින් නැගෙනහිර යුරෝපයේ ජාතීන් අතර බලවේගයන්ගේ වත්මන් බල තුලනය වෙනස් නොකළ හැකිය යන ආත්ම තෘප්ත අවස්ථාවාදී විශ්වාසයක් පමණක් ප්‍රකාශ වේ.

තව දුරටත් විභාග කරමු. ජාතීන්ගේ ස්වයං නිර්ණය පිළිබඳ ප්‍රශ්නයේදී, අනිත් හැම ප්‍රශ්නයකදී මෙන්ම, ප්‍රථම කොට සහ ප්‍රධාන කොට අපේ සැලකිල්ල යොමුවන්නේ, යම්කිසි නියමිත ජාතියක් තුළ නිර්ධන පංතියේ ස්වයං නිර්ණය ගැනය. රෝසා ලුක්සම්බුර්ග් වාම්ලෙස මේ ප්‍රශ්නයද මඟහරී. මන්දයත්, ඇය විසින්ම තෝරා ගන්නා ලද නෝර්වේ රටේ නිදසුන අනුව, විශ්ලේෂණයක් කළ හොත්, එයින් ඇගේ ''න්‍යායය'' විනාශයට මුහුණපාන බව ඇය වටහාගත් බැවිනි.

ඉවත්වීම පිළිබඳ සට්ටනයේදී නෝර්වේ සහ ස්වීඩන් නිර්ධන පංති ගත්තේ' ඔවුනට ගැනීමට සිදුවූයේ, කිනම් ස්ථාවරයක්ද? ඉවත්වීමෙන් අනතුරුව නෝර්වේහි පංති විඥාන කම්කරුවන් සමූහාණ්ඩුවක්* සඳහා චන්දය දුන්නා විය හැකිය. සමහර සමාජවාදීන් වෙනත් විධියකට චන්දය දුන්නේ නම්, එය සමහර විට යුරෝපීය සමාජවාදී ව්‍යාපාරයේ තිබෙන අවරසික අවස්ථාවාදයේ ඝනත්වය කෙතරම්ද යන්න පමණක් එය පෙන්වයි. මේ ගැන මත දෙකක් තිබිය නොහැකිය. අප මේ කරුණ මතක් කරන්නේ, රෝසා ලුක්සම්බුර්ග් ප්‍රශ්නයෙන් පිට පනිමින් එය ඇඳිරි කිරීමට උත්සාහ දරන බැවිනි. ඉවත්වීම පිළිබඳ ප්‍රශ්නයේද එක් නියත මතයක් දැරිය යුතුයයි නෝර්වීජියන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට, නෝර්වීජියන් සමාජවාදී වැඩ පිළිවෙළ අනිවාර්ය කළේදැයි අපි නොදනිමු, එය එසේ නොකළැයි අපි නිගමනය කරමු. පංති සටන් ස්වාධීන ලෙස කරගෙන

* නිර්ධන පංතියට සමූහාණ්ඩුවක් ඕනෑ වූ අතර නෝර්වේ ජාතියේ බහුතරය රාජාණ්ඩුවකට පක්ෂපාත වූ නිසා නෝර්වේහි නිර්ධන පංතියට, පොදුවේ කියන විට, විකල්පයකට මුණ පෑමට සිදුවිය: එක්කෝ විප්ලවයකට තත්ත්වයන් මුහුකුරා ඇත්නම්, විප්ලවයක් කිරීමය, නැතිනම් බහුතරයේ තීරණයට හිසනමා, දීර්ඝ කාලීන ප්‍රචාරක හා උද්ඝෝෂණ කටයුතු කිරීමය.



යාමට නෝර්වේ රටට ලැබෙන ස්වෛරීත්වය කෙතරම් දුරකට ඉඩකඩ සපයන්නේද, එසේත් නැතිනම්, ස්වීඩනයේ ප්‍රභූ පෙළැන්තිය සමග ඇති සදකාලික ඝර්ෂණ සහ සට්ටන එරට ආර්ථික ජීවිතයේ නිදහසට කෙතරම් බාධා පමුණුවන්නේද, යන්න නෝර්වීජියානු සමාජ වාදීන් විසින් විවෘත ප්‍රශ්නනයක් ලෙස තිබීමට ඉඩ හැරි බව අපි පිළිගනිමු. එහෙත් නෝර්වීජියානු නිර්ධන පංතියට ප්‍රභූ පෙළැන්තියට විරුද්ධ වීමට සිදුවූ බවත්, නෝර්වීජියානු ගොවීන්ගේ ප්‍රජාතන්ත්‍රවාදයට (එහි සියලු අවරසික සීමාවන් සමග) පක්ෂ වීමට සිදුවූ බවත්, විවාද රහිතය.

ස්වීඩනයේ නිර්ධන පංතිය කෙසේ වීද? ස්වීඩන් පූජකයින්ගේ ආධාරය ලැබූ ස්වීඩන් ඉඩම් හිමි පන්තිය නෝර්වේයට විරුද්ධව යුද්ධයක් කළ යුතුයැයි උද්ඝෝෂණ කළ බව ප්‍රසිද්ධ කරුණකි. නෝර්වේය ස්වීඩනයට වඩා බොහෝ දුර්වල නිසාත්, ඊට පෙර ස්වීඩන් ආක්‍රමණවලට මුහුණ පා සිටි නිසාත්, තම රට තුළ ස්වීඩන් ප්‍රභූ පෙළැන්තියට විශාල බලයක් තිබුණු නිසාත් මෙම යුද්ධ උද්ඝෝෂණය ප්‍රබල අනතුරක් ඉදිරිපත් කළේය. ස්වීඩනයේ කොකෝෂ්කින්ලා ''ජාතීන්ගේ දේශපාලනමය ස්වයං නිර්ණයනය පිළිබඳ ප්‍රත්‍යාස්ථ සූත්‍ර ඉතා ප්‍රවේසමින්'' ''සලකා බැලියයුතු'' බව, කියමින් ආයාචනා කිරීම මගින්ද, ''රාජ්‍යයේ දිරාපත්වීම'' පිළිබඳ අනතුර ගැන භයානක චිත්‍ර අඳිමින්ද, ස්වීඩන් ප්‍රභූ පෙළැන්තියේ සම්ප්‍රදායන් සමග ජනතා නිදහස ගැළපෙන බවට සහතික කරමින්ද, ස්වීඩන් ජනතාවගේ සිත් දූෂණය කරනු වස්, කාලය හා ශක්තිය යොදවන බව අපට නම් සහතිකය. ස්වීඩනයේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් මුළු මහත් ශක්තිය යොදා ඉඩම් හිමියන්ගේ සහ ''කොකෝෂ්කින් වාදී'' දෘෂ්ටියට හා ප්‍රතිපත්තියට විරුද්ධව සටන් කරන්නේ නැතිනම්, පොදුවේ ජාතීන්ගේ සමානතාවය (මෙයට කොකෝෂ්කින්ලාද පක්ෂ පාත වෙති) පමණක් නොව, ජාතීන්ගේ ස්වයං නිර්ණයනයේ අයිතිය සහ නෝර්වේයට ඉවත්වීමේ නිදහස සඳහා සටන් කිරීමට අසමත් වන්නේ නම්, ඔවුන් සමාජවාදයේ සහ ප්‍රජාතන්ත්‍රවාදයේ කාර්යය පාවා දෙන බවට කිසිදු සැකයක් නැත.

නෝර්වීජියානු ජනතාවට ඉවත්වීමේ අයිතිය, ස්වීඩන් කම්කරුවන් විසින් පිළිගනු ලැබීමෙන් නෝර්වේ සහ ස්වීඩන් කම්කරුවන් අතර කිට්ටු මිත්‍ර සන්ධානය සහ පූර්ණ සහෝදරාත්මක පංති සහයෝගතාවය ජයගනු ඇත. මන්දයත්, ස්වීඩන් කම්කරුවන් ස්වීඩන් ජාතිකවාදය නැමැති රෝගයෙන් පීඩා නොවිඳින බවත්, ස්වීඩන් ධනපති පංතියේ හා ප්‍රභූ පෙළැන්තියේ වරප්‍රසාද වලට වඩා ඉහළින් නෝවීජියානු නිර්ධන පංතිය සමග ඇති සහෝදරත්වය තබා ඇති බවත් මෙයින් නෝර්වීජියානු කම්කරුවන් වටහා ගන්නා බැවිනි. යුරෝපයේ රාජාණ්ඩු සහ ස්වීඩනයේ

ප්‍රභූ පෙළැන්තිය විසින් නෝර්වේය මත ඇති කර තිබෙන බැඳීම් ලිහාදැමීම නිසා නෝර්වේ සහ ස්වීඩන් කම්කරුවන් අතර සම්බන්ධකම් ශක්තිමත් වනු ඇත. ධනපති ප්‍රතිපත්තියේ සියලු පෙරළීම් නොතකා — නෝර්වීජියානුන් ස්වීඩන් වරුන්ට ප්‍රචණ්ඩකාරී ලෙස යටත්කිරීම යළිත් වරක් ධනවාදී සබඳතා විසින් ඇති කිරීමට ඉඩකඩ ඇත — ස්වීඩන් සහ නෝර්වීජියානු ධනපති පංතියට විරුද්ධව ගෙනයන අරගලයේදී මේ ජාතීන් දෙකේම කම්කරුවන්ගේ පූර්ණ සමානත්වය සහ පංති සහයෝගතාවය රැකගැනීමට සහ ආරක්ෂා කැර ගැනීමට ඔවුනට හැකිවනු ඇති බව ස්වීඩන් කම්කරුවෝ ඔප්පු කළහ.

එමගින් පෙනෙන තවත් කරුණක් නම්, රෝසා ලුක්සම්බුර්ග් සහ අප අතර ඇති මතභේද පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයට විරුද්ධව පාවිච්චි කිරීමට, ''ප්‍රාකි'' වරුන් සමහර විට දරන පරිශ්‍රමය කෙතරම් නිස්සාර සහ පදනම් විරහිතද යන්න හෙළිවීමය. ''ප්‍රාකි වරුන්'' නිර්ධන පංතික හෝ සමාජවාදී හෝ පක්ෂයක් හෝ නොවේ. එහෙත් එය පෝලන්ත සමාජ-විප්ලවවාදීන් මෙන් සුළු ධනවාදී ජාතිකවාදී පක්ෂයකි. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සහ මෙම පක්ෂය අතර සමගියක් පිළිබඳ ප්‍රශ්නයක් කිසි දිනෙක පැන නැංගේ නැත. එවැන්නක් පැන නැගීමට ඉඩක්ද නැත. අනිත් අතට පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සමග ඇති කැරගෙන තිබෙන සමීප සබඳතාවයන් සහ සමගිය නිසා කිසිදු රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියකු වත් කිසි විටෙක ''දුක් වී'' නැත. ජාතිකවාදී ප්‍රාර්ථනාවන්ගෙන් සහ අනුරාගයෙන් පිරී පවතින රටක් වන පෝලන්තයේ පළමුවැනි වරට සැබැවින්ම මාක්ස්වාදී, නිර්ධන පංතික පක්ෂයක් නිර්මාණය කිරීමෙන් පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු ශ්‍රෙෂ්ඨ ඓතිහාසික සේවයක් සපුරා ලූහ. එසේවුවද, පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍ර වාදීන්ගේ සේවය ශ්‍රෙෂ්ඨ වන්නේ, රුසියානු මාක්ස් වාදීන්ගේ වැඩ පිළිවෙළෙහි නව වැනි ඡේදය අරභයා රෝසා ලුක්සම්බුර්ග් තේරුම් විරහිත කතා දෙඩවීම නිසා නොව, සංවේගදැයි එම තත්ත්වයද නොතකාය.

''ස්වයං නිර්ණයනයේ අයිතිය'' පිළිබඳ ප්‍රශ්නය රුසියානුන්ට තරම් පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට වැදගත් නොවන බව සත්‍යයකි. ජාතික වශයෙන් අන්ධවී සිටින පෝලන්තයේ සුළු ධනපති පංතියට විරුද්ධව සටන් කිරීමට ඇති ඉමහත් උනන්දුව නිසා (සමහර විට තරමක් වුවමනාවට වඩා වැඩියැයි කිවහැකි) පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට අධික ලෙස වැඩ කිරීමට සිදුවී තිබීම වටහා ගත හැකි දෙයකි. පෝලන්තයේ ඉවත්වීමට විරුද්ධවීම ගැන පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට දොස් පැවරීමට රුසියානු මාක්ස්වාදීන් කිසි විටෙක සිතා නැත. රෝසා ලුක්සම්බුර්ග් මෙන් මේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වැරදි කරන්නේ,



රුසියානු මාක්ස්වාදීන්ගේ වැඩ පිළිවෙළෙහි ඇතුළු කර තිබෙන ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය පිළිගැනීමේ අවශ්‍යතාවය ප්‍රතික්ෂේප කිරීමට වෑයම් කරන විට පමණකි.

මෙය, ක්‍රාකොව් ප්‍රමිතය අනුව වටහාගත හැකි සබඳතාවයන් මගින් මහා රුසියානුන් ඇතුළු රුසියාවේ ජීවත්වන සියලු ජාතීන් මැනීමට කරන වෑයමක් වැන්න. මෙහි තේරුම රුසියානුන් නොව, ජාත්‍යන්තරවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් නොව, ''වැරදි විධියට පෝලන්ත ජාතිකවාදීන් වීමය.''

මන්දයත්, ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය පිළිගන්නා බැවිනි. දැන් අපි එය සාකච්ඡා කිරීමට ඉදිරිපත් වමු.

## 7. 1896 ලන්ඩන් ජාත්‍යන්තර සමුළුවේ යෝජනාව[53]



මෙම යෝජනාවෙන් මෙසේ කියැවෙයි:

''ස්වයං නිර්ණයනය (Selbstbestimmungsrecht) සඳහා ජාතීන් සතු අයිතියට පක්ෂ බව ප්‍රකාශ කරන මෙම සමුළුව, යුද්ධමය, ජාතික නැතහොත් වෙනත් ඒකාන්තවාදයන්ගේ වියගහට හසු වී පීඩා විඳිමින් සිටින සෑම රටකම කම්කරුවන් කෙරෙහි අනුවේදනීය හැඟීම් ප්‍රකාශ කරයි. ජාත්‍යන්තර ධනපති පංතිය පරාජය කිරීම සහ ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ අරමුණු ඉටු කැරගැනීම පිණිස සමගිවී සටන් කිරීමට සමස්ත ලෝකයෙහි පංති විඥනය ඇති (klassenbewusste) — තමන්ගේ පංතිමය වුවමනාවත් වටහාගත්) කම්කරු වන්නේ සියලු කොටස් සමග එකතු වන ලෙස මෙම සමුළුව, එම රටවල කම්කරුවන්ට ආයාචනය කරයි.''*

අප ඉහත පෙන්වා දුන් පරිදි, අපේ අවස්ථාවාදීන් වන සෙම්කොව්ස්කි, ලීබ්මාන් සහ යුර්කේවිච් මෙම යෝජනාව ගැන කිසිවක් නොදනිති.

---

* ලන්ඩන් සමුළුව පිළිබඳව නිල ජර්මන් වාර්තාව බලන්න: „Verhandlungen und Beschlüsse des internationalen sozialistischen Arbeiter und Gewerkschafts-Kongresses zu London, vom 27. Juli bis 1. August 1896", Berlin, 1896, S.18. (සමාජවාදී කම්කරු පක්ෂවල සහ වෘත්තීය සමිතිවල ලන්ඩන් ජාත්‍යන්තර සමුළුවේ ලියවිලි සහ යෝජනා. 1896 ජූලි 27 සිට අගෝස්තු 1 දක්වා බර්ලින්. 18 වැනි පිටුව — සංස්කාරක). ජාත්‍යන්තර සමුළුවේ තීරණ සහිත පොත් පිංචක් රුසියන් බසින් පළවිය ස්වයං නිර්ණයනය නැමැති වචනය ස්වෛරීත්වය යනුවෙන් එහි වැරදි ලෙස පරිවර්තනය කර ඇත.

එහෙත් රෝසා ලුක්සම්බුර්ග් ඒ ගැන දනී. ඒ නිසා ඈ අපේ වැඩ පිළිවෙලෙහි සටහන් පාඨය, එනම් ''ස්වයං නිර්ණයනය'' නැමැති පාඨය සහිත එම යෝජනාව සම්පූර්ණයෙන්ම උපුටා දක්වයි.

ඇගේ ''මුල්'' න්‍යායයට මග හරස් කරන මෙම බාධකය ඉවත් කිරීමට ඈ කුමක් කරයිද?

අහෝ එය ඉතා සරළ දෙයකි... යෝජනාවේ දෙවැනි කොටස තුළ අවධාරණය යෙදී ඇත... එය ප්‍රකාශ කරන ස්වභාවය තුළ එය ගැබ් වී ඇත ... යමෙකුට එය උපුටා දැක්විය හැක්කේ වැරදීමකින් පමණකි.

අපේ කතුවරියගේ දුර්වලත්වය සහ පූර්ණ ව්‍යාකූලත්වය මවිත කරවන සුලුය. වැඩ පිළිවෙළෙහි සටහන් සංස්ථායික ප්‍රජාතන්ත්‍ර වාදී සහ සමාජවාදී කරුණු හුදෙක් ප්‍රකාශන පමණක් යැයි කියමින් ඒ ගැන විවෘත ලෙස විවාද කිරීම බියසුලු ලෙස මගහරින්නෝ සාමාන්‍යයෙන් අවස්ථාවාදියෝ පමණකි. රෝසා ලුක්සම්බුර්ග් මේ වර සෙම්කොව්ස්කිලාගේ, ලිබ්මාන්-ලාගේ සහ යුර්කේවිච්ලාගේ බෙදජනක සමාගමයට වැටී සිටින්නේ හේතු රහිතව නොවන බව පැහැදිලිය. ඉහත සටහන් යෝජනාව වැරදිද නැතහොත් නිවැරදිද යන්න පිළිගැනීම සඳහා ඍජු ලෙස ඉදිරිපත්වීමට රෝසා ලුක්සම්බුර්ග් තීරණය කර නැත. අවධානයෙන් තොර නැතිනම් කරුණු නොදත් කෙනෙකු, යෝජනාවේ දෙවැනි කොටස කියවීමට පටන් ගන්නා විට, එහි මුල් කොටස අමතක වන පාඨකයකු, එසේත් නැතිනම්, ලන්ඩන් සමුළුවට පෙර සමාජවාදී පුවත්පත්වල ඇති වූ විවාදය ගැන කොහෙත්ම නො ඇසූ පාඨකයකු කෙරෙහි බලාපොරොත්තුව රඳවන විටෙක මෙන් ඈ පැටලෙයි, සැඟවෙයි.

මෙතරම් වැදගත් හා ප්‍රතිපත්ති මූලක ප්‍රශ්නයක් ගැන ජාත්‍යන්තරය විසින් ගන්නා ලද යෝජනාවක් පිළිබඳව විවේචනාත්මක ලෙස පිරික්සා බැලීමට ඇහවීමක් පවා නොකර පංති විඥනය ඇති රුසියාවේ කම්කරුවන් ඉදිරියෙහි එය පයින් පාගා දැමීම ලෙහෙසි වැඩකැයි රෝසා ලුක්සම්බුර්ග් කල්පනා කරති නම්, ඈ බරපතළ වරදක් කරයි.

ලන්ඩන් සමුළුවට පෙර පැවැති විවාදවලදී — ප්‍රධාන වශයෙන් ජර්මන් මාක්ස්වාදීන්ගේ පුවත් පතවූ "Die Neue Zeit" මගින් — රෝසා ලුක්ස-ම්බුර්ග් සිය ස්ථාවරය පැහැදිලි කළාය. මෙම ස්ථාවරය, හරය වශයෙන් ජාත්‍යන්තරය ඉදිරියේදී පරාජයට පත්විය. රුසියානු පාඨකය විසින් විශේෂයෙන් මතක තබාගත යුතු වැදගත් කරුණ එයය.

විවාද පැන නැංගේ පෝලන්තයේ නිදහස පිළිබඳ ප්‍රශ්නයා වටාය. ස්ථාවරයන් තුනක් ඉදිරිපත් විණි.

1) ''ප්‍රාකි'' වරුන්ගේ ස්ථාවරය. හෙක්කර් ඔවුන් වෙනුවෙන් කථා කළේය. පෝලන්තයේ නිදහස සඳහා ඉල්ලීම ජාත්‍යන්තරයේ සිය වැඩ



පිළිවෙළට ඇතුළු කරන ලෙස ඔවුහු ඉල්ලා සිටියහ. මෙම යෝජනාව සම්මත නොවීය. මෙම ස්ථාවරය ජාත්‍යන්තරයේදී පරාජයට පත්විය.

2) රෝසා ලුක්සම්බුර්ග් ස්ථාවරය: පෝලන්ත සමාජවාදීන් පෝලන්-තයට නිදහස ඉල්ලා නොසිටිය යුතුය. මෙම දෘෂ්ටි කෝණය අනුව ජාතීන්-ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය ප්‍රකාශ කිරීම සම්පූර්ණයෙන්ම ප්‍රතික්ෂේප කැරිණි. මෙයද ජාත්‍යන්තරයේදී පරාජයට පත්විය.

3) තෙවැනි ස්ථාවරය, එදා අන් හැමටම වඩා පූර්ණ ලෙස කෞට්ස්කි විසින් ඉදිරිපත් කරන ලදී. කෞට්ස්කි, රෝසා ලුක්සම්බුර්ග්ගේ ස්ථාව-රයට විරුද්ධව, ඇගේ ද්‍රව්‍ය වාදය අන්තවාදී ලෙස ''ඒකාංගික'' බව ඔප්පු කරමින් කථා කළේය. එම ස්ථාවරය අනුව පෝලන්තයේ නිදහස, වත්මන් තත්ත්වය යටතේ ජාත්‍යන්තරයේ වැඩ පිළිවෙළට ඇතුළු කළ නොහැකි නමුදු, එවැනි ඉල්ලීමක් ඉදිරිපත් කිරීමේ පූර්ණ අයිතිය පෝල-න්ත සමාජ වාදීන්ට අයත් බව හේ පෙන්වා දුන්නේය. සමාජවාදීන්ගේ දෘෂ්ටි කෝණය අනුව, ජාතික පීඩනය පවතින තත්ත්වයක් යටතේ ජාතික විමුක්තියේ කාර්ය භාරයන් අමතක කිරීම අනිවාර්ය වරදකි.

මේ ස්ථාවරයෙහි ඉතා වැදගත් සහ මූලික ප්‍රස්තුතයන් ජාත්‍යන්තරය සම්මත කළ යෝජනාවෙහි අඩංගු වේ. එක් අතකින් සියලු ජාතීන් සතු ස්වයං නිර්ණයනයේ පූර්ණ අයිතිය ඉතා ඍජු ලෙසත්, වැරදි අර්ථ කථන-යන්ට ඉඩ නොතබන ලෙසත් පිළිගැනීමද, අනිත් අතින් කම්කරුවන්ගේ පංති සටන් වලදී, එමෙන්ම ඒකාන්ත ලෙස ජාත්‍යන්තර සමගිය ඇති කැරැ ගන්නා ලෙස කම්කරුවන්ට ආයාචනා කිරීමද මෙම ප්‍රස්තුතය වන්නේය.

මෙම යෝජනාව සම්පූර්ණයෙන්ම නිවැරදි යැයි අපි අදහස් කරමු. විසිවැනි සියවසර ආරම්භයේදී නැගෙනහිර යුරෝපයේ සහ ආසියාවේ රටවලට ජාතික ප්‍රශ්නය පිළිබඳව එකම නිවැරදි මඟ පෙන්වීම, මෙම යෝජනාවේ කොටස් දෙක අඛණ්ඩව සමස්තයක් ලෙස ගත් මුළු යෝජනාවෙන් ලැබෙන බව අපි අදහස් කරමු.

ඉහත සටහන් ස්ථාවරයන් තුන පිළිබඳව තරමක් විස්තර සහිතව අපි පිරික්සා බලමු.

පෝලන්තයේ නිදහස ඉල්ලා සිටින යෝජනාවට ක්‍රියාකාරී ලෙස සහයෝගය දැක්වීම, මුළු බටහිර යුරෝපයේ ප්‍රජාතන්ත්‍රවාදයේත්, ඊටත් වැඩියෙන් මුළු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේත් කොන්දේසි විරහිත අනිවාර්ය යුතු කම ලෙස කාල් මාක්ස් සහ ෆ්‍රෙඩ්රික් එංගල්ස් සැලකූ බව සුප්‍රසිද්ධය. 1840-1860 ගණන් දක්වා වූ වකවානුව සඳහා, ඕස්ත්‍රියාවේ සහ ජර්මනියේ ධනපති විප්ලවයන්ගේ සහ රුසියාවේ ''ගොවි ප්‍රතිසංස්කරණයට''[54] අයත් වකවානුව සඳහා මෙම ස්ථාවරය ඉතා නිවැරදි මෙන්ම ඉතා

ස්ථිර ප්‍රජාතන්ත්‍රික සහ නිර්ධන පංතික වූ එකම ස්ථාවරය වූයේය. රුසියාවේ සහ ස්ලාව් ජාතිකයින්ගේ රටවල් බහුතරයක පොදු ජනතාව නොපිබිදෙන නින්දකට වැටී සිටි තාක් කල්, එම රටවල ස්වාධීන සහ බහු ජන ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාර රහිතව පැවැති තාක් කල් සමස්ත රුසියානු, සම සමස්ත ස්ලාව් ජාතික පමණක් නොව, සමස්ත යුරෝපීය ප්‍රජාතන්ත්‍ර වාදී දෘෂ්ටි කෝණයෙන් වුවද, පෝලන්ත ප්‍රභූ පෙළැන්තියේ නිදහස් ව්‍යාපාරය යෝධමය, ප්‍රමුඛස්ථානය උසුලන වැදගත් කරුණක් විය.*

එහෙත් මාක්ස්ගේ ස්ථාවරය දහ නව වැනි ශත වර්ෂයේ දෙවැනි කාර්තුවට නැතිනම් තෙවැනි කාර්තුවට නිවැරදි වූ නමුදු, විසි වැනි ශත වර්ෂය වන විට, එහි නිවැරදිතාවය සිදිණි. ස්ලාව් ජාතිකයින්ගේ රටවල් බොහොමයකම, ඉතා නොදියුණු ස්ලාව් ජාතික රටක් වන රුසියාවේ වුව, ස්වාධීන ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාර පමණක් නොව ස්වාධීන නිර්ධන පංතික ව්‍යාපාරයක් පවා බිහි වී ඇත. ප්‍රභූතාන්ත්‍රික පෝලන්තය අතුරුදහන් වී ධනවාදී පෝලන්තයක් මතු වී ඇත. මෙවැනි තත්ත්වයන් යටතේ පෝලන්තයේ සුවිශේෂ විප්ලවවාදී වැදගත්කම ඇයට අහිමිවීම නොවැලැක්විය හැකිය.

වෙනත් වකවානුවකදී මාක්ස් දැරූ ස්ථාවරය 1896 දී සදකාලිකව "තහවුරු" කිරීමට පෝ. ස. ප. (පෝලන්ත සමාජවාදී පක්ෂය — අද්‍යාතන ප්‍රාකිවරුන්) දරන ප්‍රයත්නය මාක්ස්වාදයේ ජීවගුණයට විරුද්ධව මාක්ස්වාදී අකුරු උපයෝගි කර ගැනීමකි. ඒ නිසා සුළු ධනපති පන්තියේ අන්ත ජාතිකවාදයට පහර ගැසීමෙන් සහ ජාතික ප්‍රශ්නය පෝලන්ත කම්කරුවන්ට ද්විතියික වැදගත් කමක් සහිත ප්‍රශ්නයක් බව පෙන්වා දීමෙන්ද, ප්‍රථම වරට පෝලන්තය තුළ පිරිසුදු නිර්ධන පංතික පක්ෂයක් ස්ථාපිත කිරීමෙන් සහ රුසියන් කම්කරුවන් ඔවුන්ගේ සටනේදී ඉතා

---

* 1863 වංශක්කාර පෝලන්ත කැරළි කරුවකුගේ තත්ත්වය, සමස්ත රුසියානු ප්‍රජාතන්ත්‍රික-විප්ලවවාදියකු වූ චෙර්නිෂෙව්ස්කි සමග ද, උක්රේනියානු සුළු ධනවාදියකු වන ද්‍රගමානව් සමගද සන්සන්දනය කිරීම සිත් ගන්නා සුලු ඓතිහාසික පර්යේෂණයක් වනු ඇත. චෙර්නිෂෙව්ස්කිද (මාක්ස් මෙන්) පෝලන්ත විප්ලවයේ වැදගත් කම අගැයීය. ඊට බොහෝ කලකට පසු මතුවූ ද්‍රගමානව්, අල්ප දැනීමකින් යුක්ත මුග්ධ හා ඔතැනි ගති ඇති ගොවියකු සේ අදහස් ප්‍රකාශ කළේය. ඔහු කොතරම් දුරට ගොම ගොඩට ළංවී සිටියේදයත් ඔහු පෝලන්ත ප්‍රභූ පෙළැන්තිය කෙරෙහි දක්වූ සාධාරන වෛරය නිසා, ඔවුන්ගේ අරගලය සමස්ත රුසියානු ප්‍රජාතන්ත්‍රවාදය සඳහා වැදගත් වන බව නොදිටීය (ද්‍රගමානව්ගේ ඓතිහාසික පෝලන්තය සහ මහා රුසියන් ප්‍රජාතන්ත්‍රවාදය බලන්න). ඒ වන විට ජාතික ලිබරල් වාදියකුව සිටි පී. බී. ස්ත්‍රුවේ මහතා ද්‍රගමානව්ට දුන් උද්යෝගිමත් චුම්බන ලබීමට ඔහු නියම සුදුස්සෙක් විය.



කිට්ටු මිත්‍ර සන්ධානයක් පැවැත්විය යුතුය යන ඉතා වැදගත් මූලධර්මය ප්‍රකාශයට පත් කිරීමෙන්ද පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු ඉතා නිවැරදි කාර්යයක් ඉටු කළහ.

එසේ වුවද,නැගෙනහිර යුරෝපයේ සහ ආසියාවේ ජාතීන්ට දේශපාලන ස්වයං නිර්ණයනය නැතහොත් වෙන්වීම පිළිබඳ අයිතිය අනවශ්‍ය සේ සැලකීම විසිවැනි සිය වසරේ ආරම්භයේදී ජාත්‍යන්තරයට කළ හැකි දෙයක් වී යැයි මින් අදහස් වේද? එසේ සිතීම අන්ත මෝඩකමක් වනු ඇත. එමෙන්ම එය තුර්කිය, රුසියාව සහ චීන යන රාජ්‍යවල ධනපති ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිසංස්කරණ. සම්පූර්ණ වී තිබෙන බව (න්‍යායික වශයෙන්) පිළිගැනීමකට සමාන වනු ඇත. ඇත්ත වශයෙන්ම එය පරම අධිපති වාදය කෙරෙහි අවස්ථාවාදී ආකල්පයක් (ව්‍යවහාරික ලෙස) දක්වීමකට සමාන වනු ඇත.

නැත. නැගෙනහිර යුරෝපයේ හා ආසියාවේ ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලව ආරම්භ වී ඇති වෙලාවෙක, ජාතික ව්‍යපාර පිබිදී තීව්‍ර වෙමින් පවතින මෙම අවධියේ, ස්වාධීන නිර්ධන පංතික පක්ෂ බිහිවෙමින් පවතින මේ අවධියේ ජාතික ප්‍රතිපත්තිය අරභයා මෙම පක්ෂ මත පැවරෙන කාර්ය භාරයන් ද්වි ආකාර විය යුතුය: ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිසංස්කරණය මෙතෙක් සම්පූර්ණ වී නැති නිසාත්, කම්කරු පංතික ප්‍රජාතන්ත්‍රවාදය තවමත් සසංගත ලෙස බැරෑරුම් වුවමනාවෙකින් සහ අවංක ලෙස (ලිබරල්වාදී මෙන් හෝ කොකෝෂ්කිවාදී මෙන් හෝ නොව) ජාතීන්ගේ සමාන අයිතිය සඳහා සටන් කරන නිසාත්, සියලු ජාතීන්ට ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතියක් තිබෙන බව පිළිගත යුතුය. කිසියම් රාජ්‍යයක වාසය කරන සියලු ජාතීන්ට අයත් නිර්ධන පංතිකයින්, ඔවුන්ගේ පංති සටන සඳහා, ඉතිහාසයේ සියලු වෙනස්වීම් ඉදිරියේ, සහ ධනපති පංති එක් එක් රාජ්‍යයක දේශසීමා කෙසේ වෙනස් කළද ඒ ගැන නොතකා, කිට්ටු සහ නොබිඳිය හැකි මිත්‍ර සන්ධානයක් ගොඩ නැගිය යුතුය.

මෙන්න මේ නිර්ධන පංතික ද්වි ආකාර කර්තව්‍යය 1896 ජාත්‍යන්තර යෝජනාවෙන් ඉදිරිපත් කෙරේ. 1913 ගිම්හානයේදී පවත්වන ලද රුසියානු මාක්ස්වාදීන්ගේ සමුළුවේ යෝජනාවෙහි අඩංගු ප්‍රතිපත්ති මූලක හරයද එසේය. යෝජනාවේ හතරවැනි කරුණෙන් ස්වයං නිර්ණයනය හා වෙන්වීම පිළිබඳ අයිතිය පිළිගන්නා නිසා ජාතික වාදයට උපරිම ඉඩක් "දෙන" සැටියක් පෙනෙන බවත්, (සියලු ජාතීන්ට ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය හිමි බව පිළිගැනීමෙන්, ඇත්ත වශයෙන්ම උපරිමය ප්‍රජාතන්ත්‍රවාදයක් සහ අවමය ජාතිකවාදයක් අදහස් කෙරේ) ඒ අතර එහි පස්වැනි කරුණ මගින් කිනම් හෝ ජාතියක ධනපති පංතිය ඉදිරිපත් කරන ජාතිකවාදී උද්යෝග පාඨවලින් ප්‍රවේසම් වන ලෙස කම්කරුවන්ට-

අනතුරු අභවමින්, ජාත්‍යන්තර වශයෙන් එක්සත් වූ නිර්ධන පංති සංවිධාන තුළ, එක්සත් සහ ඒකරාශී වන ලෙස ඔවුනට ආයාචනා කරන බවක් පෙන්වමින්, මේ දෙක අතර ''පරස්පර විරෝධී'' තාවයක් පෙනෙන බව ප්‍රකාශ කරන අය සිටිති. එහෙත් මෙය ''පරස්පර විරෝධී'' තාවයක් වන්නේ මන්ද බුද්ධිකයිනට පමණකි; නිදසුනක් ලෙස ස්වීඩනයෙන් ඉවත් වී, වෙනම ස්වාධීන රාජ්‍යයක් පිහිටුවා ගැනීමට නෝර්වේයට ඇති නිදහසට පක්ෂව ස්වීඩනයේ කම්කරුවන් ක්‍රියා කළ විට, ස්වීඩන් හා නෝර්වීජියානු කම්කරුවන් අතර සමගියක් සහ පංති සහයෝගිතාවයක් ඇති වී එය ජයගත්තේ කෙසේද යන්න වටහා ගැනීමට අසමත් අයටය.

## 8. මනෝරාජික කාල් මාක්ස් සහ ප්‍රායෝගික රෝසා ලුක්සම්බුර්ග්

පෝලන්තයේ නිදහස ''මනෝරාජ්‍යයක්'' ලෙස හඳුන්වමින් සහ එම වැකිය ඔක්කාරය සෑදෙන තුරු පුන පුනා කියන රෝසා ලුක්සම්බුර්ග් සාවඥ ලෙස මෙසේ හඬ නගයි: අයර්ලන්තයේ නිදහස සඳහා ඉල්ලීමක් ඉදිරිපත් නොකරන්නේ මන්ද?

අයර්ලන්තයේ නිදහස පිළිබඳ ප්‍රශ්නය ගැන කාල් මාක්ස් දක්වූ ආකල්පය ගැන ප්‍රායෝගික රෝසා ලුක්සම්බුර්ග් නොදන්නා බව පැහැදිලිය. ජාතික නිදහස සඳහා වූ මූර්ත ඉල්ලීමක් අවස්ථාවාදී ලෙස නොව, සැබෑ මාක්ස්වාදී ස්ථාවරයකින් විශ්ලේෂණය කරන හැටි පෙන්වීම පිණිස මේ ගැන සොයාබැලීම වැදගත්ය.

තම සමාජවාදී මිතුරන්ගේ බුද්ධිය සහ විශ්වාසයේ ශක්තිය[55] පිරික්සා බැලීම සඳහා මාක්ස් ප්‍රකාශ කළ පරිදි, ''වග තුග'' සොයා බැලීමේ සිරිතක් මාක්ස්ට තිබිණි. මාක්ස් ලපාතින් දැන හැඳිනගත් ඉක්බිතිව, 1870 ජූලි 5 ද තරුණ රුසියානු සමාජවාදියා ගැන ඉතා අධික ලෙස ප්‍රසංශා කරමින් එංගල්ස්ට ලියුමක් යැවූ නමුදු, ඒ අතර මෙසේ එකතුවක් කළේය.

''ඔහුගේ දුර්වල ස්ථානය පෝලන්තයයි. මේ ප්‍රශ්නය ගැන ඔහු ඉංග්‍රීසි කාරයකු මෙන්, — එනම් පැරණි නිකායේ ඉංග්‍රීසි චාටිස්ට් වාදියකු[56] අයර්ලන්තය ගැන කතා කරන්නාක් මෙන් කතා කරයි.

පීඩක ජාතියට අයත් සමාජවාදියකු ගෙන් පීඩිත ජාතිය වෙත ඔහු දක්වන ආකල්පය ගැන ප්‍රශ්න කරන මාක්ස්, අධිපති ජාතීන්ට (ඉංග්‍රීසි සහ රුසියානු) අයත් සමාජවාදීන්ට පොදුවූ දෝෂයක් එකවර හෙළිකරයි: වැටී පෑගී සිටින ජාතීන් වෙත තමන්ගේ ඇති සමාජවාදී යුතුකම් අවබෝධ කැරගැනීමට අසමත් වීම, ''අධිපති ජාතියේ'' ධනපති පංතියෙන් ලබාගත් අගතිගාමී මත ප්‍රතිරාවය කිරීම.



අයර්ලන්තය පිළිබඳව මාක්ස් කළ සක්‍රීය ප්‍රකාශනයන් වෙත යාමට පෙර, ජාතික ප්‍රශ්නය ගැන මාක්ස් හා එංගල්ස් දක් වූ ආකල්පය පොදුවේ දැඩි විවේචනාත්මක වූ බවත්, එහි ඓතිහාසික තාත්ත්වික වැදගත්කම ඔවුන් පිළිගත් බවත්, පෙන්වා දිය යුතුය. ඒ අනුව 1851 මැයි 23 ද එංගල්ස් මාක්ස්ට ලියමින්, පෝලන්තය පිළිබඳ සර්ව අශුභවාදී නිගමනයකට බැසීමට එරට ඉතිහාසයේ අධ්‍යයනය මග පෙන්වන බවත්, රුසියාවේ කෘෂක විප්ලවය ඇතිවන තුරු පමණක් පෝලන්තයේ වැදගත්කම පවතින නිසා එය තාවකාලික බවත්, දන්වීය. ඉතිහාසයේ පෝලන්ත ජාතිකයින්ගේ ක්‍රියා කලාපය ''නිර්භය මුග්ධත්වයකි''. ''රුසියාව සම්බන්ධයෙන් වුවද, පෝලන්තය සාර්ථක ලෙස ප්‍රගමනය නියෝජනය කළ බවක් හෝ ඓතිහාසික වශයෙන් වැදගත් යම්කිසිවක් කළ බවක් හෝ දක්වෙන එකම අවස්ථාවක්වත් කිසිවකුට පෙන්විය නොහැකිය.'' ''අලස ප්‍රභූ පෙළැන්තියේ පෝලන්තයට'' වඩා රුසියාව සභ්‍යත්වයෙන්, අධ්‍යාපනයෙන්, කර්මාන්තයෙන් සහ ධනපති පංතියෙන් යුක්තය''. පිටර්බුර්ග් මොස්කව් හා ඔඩෙස්සා සමග සන්සන්දනය කරන විට, වෝසෝ සහ ක්‍රාකොව් මොනවාද!'' පෝලන්ත ප්‍රභූ පෙළැන්තියේ නැගිටීම් පිළිබඳ විශ්වාසයක් එංගල්ස් කෙරෙහි නොතිබිණි.

මහා ප්‍රඥයකුගේ ගැඹුරු තීක්ෂණ ඥනය මේ සියලු සංකල්පනයන්ගෙන් පෙනීගියද, ඉන් වසර දෙළහකට පසු රුසියාව නිදි බරව සිටින විට සහ පෝලන්තය කිපී උතුරා යන විට, පෝලන්ත ව්‍යාපාරය කෙරෙහි ඉතා ගැඹුරු, උණුසුම්, සානුකම්පික ආකල්පයක් දක්වීමට එය එංගල්ස්ට හා මාක්ස්ට බාධාවක් නොවීය.

1864 දී ජාත්‍යන්තරයේ[57] ආමන්ත්‍රණය කෙටුම්පත් කිරීමේදී මාක්ස් එංගල්ස්ට (1864 නොවැම්බර් 4 ද) ලියමින් මද්සිනියේ ජාතිකවාදයට විරුද්ධව සටන් කිරීමට සිදුවූ බැව් දන්වීය. ඔහු මෙසේද ලියුවේය: ''ආමන්ත්‍රණයේදී ජාත්‍යන්තර දේශපාලනය ගැන කතා කරන විට, මම ජාතීන් ගැන නොව රටවල් ගැන කතා කරමින්, රුසියාව මිස කුඩා ජාතීන් හෙළා නොදුටු වෙමි.'' ''කම්කරු ප්‍රශ්නය'' සමග සන්සන්දනය කරන විට, ජාතික ප්‍රශ්නයේ ද්විතියික ස්ථානය ගැන මාක්ස් කිසි විටෙක සැක නොකළේය. එහෙත් ජාතික ව්‍යාපාරයන් නොසළකා හැරීම සම්බන්ධයෙන් නම් ඔහුගේ න්‍යායය අහසට පොළව මෙන් දුරය.

1886 වසර එළැඹියේය. ''ජාතීන් යනු භාෂ්‍යජනක දෙයක් බව ප්‍රකාශ කරමින් බිස්මර්ක්ට සහ ගැරිබෝල්ඩිට පහර ගසන'' පැරිසියේ ''ප්රූදොං කල්ලිය'' ගැන මාක්ස් එංගල්ස්ට ලියුවේය. ''උන්මාද ජාතිවාදයට විරුද්ධව විවාදත්මක තර්ක හැටියට ඔවුන්ගේ උපක්‍රම ප්‍රයෝජනවත්ය, තේරුම් ගත හැකිය. එහෙත් ප්රූදොං කෙරෙහි විශ්වාසය තබන අය

(ලෆ්පාර්ග් සහ ලොන්ගේ, මගේ ඉතා හොඳ මිතුරන් දෙදෙනෙකු වූ මොවුන්ද එම ගොඩට අයත්ය), ප්‍රංශයේ මහත්වරුන් දුප්පත්කම හා අඥනත්වය නැති කර දමන තුරු මුළු මහත් යුරෝපයම ඉවසිලිවත් ලෙස සහ සාමකාමී ලෙස පසුපස ගාත්වලින් වාඩිවී සිටිය යුතු යැයි සිතිති… අන්න එවිට ඔවුන් හාස්‍ය ජනකය'' (1866 ජූනි 7 ද යැවූ ලියුමෙනි).

1866 ජූනි 20 ද මාක්ස් මෙසේ ලියුවේය: ''වත්මන් යුද්ධය ගැන ඊයේ ජාත්‍යන්තරයේ ප්‍රධාන මණ්ඩලයේදී සාකච්ඡාවක් ඇති විය… බලාපොරොත්තු වූ පරිදි අපේ සාකච්ඡාව පොදුවේ 'ජාතිකත්වය පිළිබඳ ප්‍රශ්නයයත්'', අප එය කෙරෙහි දක්වන ආකල්පයත් අරභයා ඇතිවූ සාකච්ඡාවකින් එය කෙළවර විය… යෞවන ප්‍රංශයේ (කම්කරු නොවන) නියෝජිතයෝ, සියලු ජාතිකත්වයන් හා ජාතීන් පවා යල් පැන ගිය අගතිගාමී දෙයක් යැයි ප්‍රකාශ කළහ. මෙය ප්‍රැදොං වාදී ෂ්ටිනෙර්කරණයකි… ප්‍රංශ ජාතිකයින් සමාජවාදී විප්ලවයකට මුහුකුරා වැඩෙන තුරු මුළු මහත් ලෝකයම බලා සිටී. ජාතිකත්වය අත්හැර දමූ අපේ මිත්‍ර ලපාර්ග් සහ අනිකුත් අය, මෙතැන රැස්ව සිටින්නන්ගෙන් දහයෙන් නවයක් නොදත් භාෂාවක් වන ප්‍රංශ භාෂාවෙන් කතා කළහයි මා කී විට, ඉංග්‍රිසිහු මහත්සේ සිනාසුනහ. ලපාර්ග් ජාතිකත්වය ප්‍රතිෂේධනය කිරීමෙන්, සියලු ජාතීන් ආකෘතික ප්‍රංශ ජාතිය විසින් ගිලගත යුතු යැයි, ඒ ගැන නොසිතාම අදහස් කරන බව මම ඇඟවීමි.

මාක්ස්ගේ මේ සියලු විවේචනාත්මක සටහන් වලින් පැන නගින නිගමනය මෙසේය: ජාතික ප්‍රශ්නය පිළිබඳව පූජා ලාංඡනයකින් පිදිය යුතු අන්තිමයා කම්කරු පංතියය. මන්දයත්, ධනවාදයේ සංවර්ධනය විසින් අනිවාර්යයෙන්ම සියලු ජාතීන් ස්වාධීන ජීවිතයක් වෙත නොපුබුදුවන බැවිනි. එහෙත් ජාතික ව්‍යාපාර පටන්ගත් පසුව, ඒවායෙහි ඇති ප්‍රගතිශීලි දේ වලට ආධාර නොදීම, යනු ක්‍රියාවෙන් ජාතිකවාදී අගතිගාමීත්වයට ආධාර දීමය. එය කෙනෙක් තමන්ගේ ජාතිය (නැතිනම්, රාජ්‍යයක් ස්ථාපිත කිරීමේ විශේෂ වරප්‍රසාදයක් ඇති ජාතියක් යැයි අපි මෙහි දී එකතු කරමු) ආදර්ශ ජාතියක් හැටියට පිළිගැනීමකි.*

එහෙත් අපි අයර්ලන්තය පිළිබඳ ප්‍රශ්නයට යළි පැමිණෙමු.

මේ ප්‍රශ්නය පිළිබඳව මාක්ස්ගේ ස්ථාවරය, ඔහුගේ ලියුම්වල සංක්ෂේප වලින් පෙනේ. ඒවා මෙසේය:

* 1867 ජූනි මස 3 ද මාක්ස් එංගල්ස්ට යැවූ ලියුමද සන්සන්දනය කරන්න. ''… රුසියාවට විරුද්ධව පැරිස් නාගරිකයින් කරන පෝලන්ත ආවැඩීම්ද ටයිම්ස්[58] පුවත්පතේ පැරිස් ලියුම් මගින් මම සතුටින් දැන ගතිමි… ප්‍රැදොං මහතා සහ ඔහුගේ අධි-ශික්ෂණ කුඩා කල්ලිය ප්‍රංශ ජනතාව නොවේ.''



''ෆේනියන්වාදයට[59] පක්ෂව ඉංග්‍රීසි කම්කරුවන්ගේ පෙළපාලියක් ඇති කිරීම සඳහා කළ හැකි හැම දෙයක්ම මම කළෙමි… ඉස්සර මගේ අදහස වූයේ අයර්ලන්තය එංගලන්තයෙන් වෙන්කළ නොහැකි බවය. වෙන්වීමෙන් පසු පැඩරල් රාජ්‍යයක් ඇති වීමට ඉඩක් ඇති වුවද දැන්නම් මෙය නොවැලැක්විය හැකිය යනු මගේ අදහසයි. 1867 නොවැම්බර් 2 ද මාක්ස් එංගල්ස්ට ලියුවේ එසේය.

එම වසරේ නොවැම්බර් 30 ද ඔහු ලියූ ලියුමට මෙසේ එකතු කළේය:

''… අප ඉංග්‍රීසි කම්කරුවන්ට දෙන උපදෙස කුමක්ද? මගේ මතය අනුව නම් ඔවුන් සිය වැඩ පිළිවෙළට සංගමය (Repeal) අහෝසි කර දැමීම ඇතුළු කළ යුතුය (එංගලන්තය සහ අයර්ලන්තය අතර ඇති සංගමය අහෝසිකිරීම එනම් එංගලන්තය අයර්ලන්තයෙන් ඉවත්වීම. කෙටියෙන් කියතොත්, 1783 ඉල්ලීම කාලීන තත්ත්වයනට උචිත වනසේ ප්‍රජාතන්ත්‍රකරණයට හා අනුවර්තනයට භාජනය කිරීමෙන් පමණකි[60]). අයර්ලන්තයේ විමුක්තිය සඳහා එකම නීත්‍යානුකූල ආකාරය මෙය වන බැවින් ඉංග්‍රීසි දේශපාලන පක්ෂයක වැඩ පිළිවෙළකට පිළිගත හැකි එකම දෙයද මෙය වන්නේය. මේ දෙරට අතර හුදු පෞද්ගලික සංගමයක් දිගටම පවත්වාගත හැකිද යන්න පශ්චාත් අත්දැකීම විසින් පෙන්වා දිය යුතුය…

අයර්ලන්ත ජාතිකයින්ට අවශ්‍ය දේ මේවාය:

1. ස්වරාජ්‍යයක් සහ එංගලන්තයෙන් වෙන්වූ නිදහසක්.
2. කෘෂක විප්ලවයක්…''

මාක්ස් අයර්ලන්ත ප්‍රශ්නයට ඉතා විශාල වැදගත් කමක් දැක්වූ අතර මේ ප්‍රශ්නය ගැන ජර්මන් කම්කරු සංගමය ඉදිරියේ පැය එක හමාරක දේශන පැවැත්විය. (1867 දෙසැම්බර් 17 ලියුම).

1868 නොවැම්බර් 20 ද ලියන ලද ලියුමක් මගින් එංගල්ස්, ''ඉංග්‍රීසි කම්කරුවන් අතර අයර්ලන්ත ජාතිකයින්ට තිබෙන වෛරය'' ගැන සටහන් කරයි. ඊට වසරකට පමණ අනතුරුව (1869 ඔක්තෝබර් 24 ද) මෙම විෂයයට යළිත් පැමිණි එගෙල්ස් මෙසේ ලියුවේය:

රුසියාවේ සිට අයර්ලන්තය දක්වා ඇත්තේ il n'y a qu'un pas (එක් පියවරක් පමණකි)… එක් ජාතියක් විසින් තවත් ජාතියක් යටත් කර ගන්නේ නම්, එය එම ජාතියට කෙතරම් විශාල අවාසනාවක්ද යන්න අයර්ලන්ත ඉතිහාසය පෙන්වයි. ඉංග්‍රීසින්ගේ මේ සියලු නීචකම් අයර්ලන්ත ක්ෂේත්‍රයේ සිට පැවත එයි. ක්‍රොම්වෙල් අවධිය පිළිබඳව මවිසින් තවම අධ්‍යයනය කළ යුතුව ඇත. එහෙත් අයර්ලන්තය මත යුද්ධමය ආධිපත්‍යයක් ඇති කිරීමේ අවශ්‍යතාවය සහ එහි නව ප්‍රභූ

පෙළැන්තියක් බිහිකිරීමක් නොතිබිණි නම්, එංගලන්තය තුළ තත්ත්වය හාත්පසින්ම වෙනස් වන බව මට නම් සහතිකය.

ඒ අතර 1869 අගෝස්තු මස 18 ද මාක්ස් විසින් එංගල්ස් වෙත යවන ලද ලියුම ගැන අපි අවධානය යොමු කරමු.

''පොස්නාන්හි පෝලන්ත කම්කරුවෝ බර්ලින්හි සිය සගයින්ගේ ආධාරය ඇතිව වැඩ වර්ජනයක් ජයග්‍රාහී ලෙස අවසන් කර ඇත්තාහ. ''ප්‍රාග්ධන ජගතාට'' විරුද්ධ මෙම අරගලය — එහි පහත් ආකාරය වන වැඩ වර්ජනය — ධනපති මහත් වරුන්ගේ දෙතොල්වලින් ඇද හැළෙන සාමකාමී ප්‍රකාශන වලට වඩා ජාතික අගතිගාමීත්වය දුරුකරලන බැරෑරුම් මාර්ගයකි.''

අයර්ලන්ත ප්‍රශ්නය පිළිබඳව ජාත්‍යන්තරය තුළ මාක්ස් විසින් ගෙනයන ලද ප්‍රතිපත්තිය පහත සටහන් වැකියෙන් පෙනේ:

1869 නොවැම්බර් 18 ද මාක්ස් එංගල්ස්ට ලියුමක් ලියමින්, අයර්ලන්ත යුද්ධ විරාමය කෙරෙහි බ්‍රිතාන්‍ය අමාත්‍යාංශය දක්වන ආකල්පය පිළිබඳ ප්‍රශ්නය ගැන ජාත්‍යන්තරයේ ප්‍රධාන මණ්ඩලයේදී පැයකුන් විනාඩි පහළොවක් තිස්සේ කතා කරමින් පහත සටහන් යෝජනාව ඉදිරිපත් කළ බව දන්විය.[61]

''මෙසේ තීරණය විය,

''සිරභාරයට ගෙන සිටින අයර්ලන්ත දේශප්‍රේමීන් නිදහස් කළ යුතුයැයි ඉදිරිපත් කර ඇති අයර්ලන්ත ඉල්ලීමට පිළිතුරු වශයෙන්, ග්ලැඩ්ස්ටොන් මහතා වුවමනාවෙන්ම අයර්ලන්ත ජාතියට අපහාස කරයි:

''අනිසි පාලනයකට ගොදුරු වූවන්ට සහ ඔවුන් නියෝජනය කරන ජනතාවට නින්දගෙනදෙන කොන්දේසි මගින් ඔහු දේශපාලන සමාදනය සම්බන්ධ එකට කරයි;

''තම නිල තත්ත්වය නොතකා ග්ලැඩ්ස්ටන් ඇමරිකන් වහල් හිමියන්ගේ කැරැල්ල ගැන ප්‍රසිද්ධියේ උනන්දු සහගත ලෙස ප්‍රීතිය ප්‍රකාශ කරමින් දන් නිෂ්ක්‍රිය ලෙස යටත් වීමේ ධර්මයක් අයර්ලන්ත ජනතාවට දේශනා කරයි;

''අයර්ලන්ත සමාදනය. ප්‍රශ්නය පිළිබඳව ඔහුගේ ප්‍රතිපත්තිය, තම ටෝරිපාක්ෂික ප්‍රතිමල්ලවයන් හෙළිදරවු කිරීම සඳහා අනුගමනය කළ එම අල්ලා ගැනීමේ ප්‍රතිපත්තියම වේ. එහෙත් ග්ලැඩ්ස්ටන් මහතා ඔවුන් ඇමති තනතුරු වලින් පහකර දැමීම පිණිස මේ ප්‍රතිපත්තිය තදින් හෙළා දුටුවේය;

''අයර්ලන්ත ජනතාව සිය යුද විරාම ව්‍යාපාරය ගෙනයන නිර්භය, දැඩි සහ උසස් අධ්‍යාත්මික ආකාරය ජාත්‍යන්තර කම්කරු සමාගමයේ ප්‍රධාන මණ්ඩලයේ ගෞරවයට ලක්වී තිබේ;



''ජාත්‍යන්තර කම්කරු සමාගමයේ යුරෝපයේ සහ ඇමරිකාවේ සියලු ශාඛාවලට සහ එයට සම්බන්ධ කම්කරු සංවිධාන වලට මේ යෝජනාව දන්වා යැවිය යුතුය.''

ජාත්‍යන්තරයේ ප්‍රධාන මණ්ඩලය ඉදිරියේ කියවීම පිණිස පිළියෙල කළ අයර්ලන්ත ප්‍රශ්නය පිළිබඳ වාර්තාව පහත දක්වෙන ලෙස සකස් වන්නේ යැයි මාක්ස් 1869 දෙසැම්බර් 10 ද ලියුවේය.

'' ''අයර්ලන්තයට සාධාරණත්වය ඉටුකිරීමේ'' ''ජාත්‍යන්තර'' සහ ''මානව හිතවාදී'' සියලු වාග් පාඨ හැරුණු විට, — මේවා ජාත්‍යන්තරයේ ප්‍රධාන මණ්ඩලය විසින් පිළිගෙන ඇත — අයර්ලන්තය සමග ඇති සම්බන්ධකම් අත්හැර දැමීම ඉංග්‍රීසි කම්කරු පංතියේ ඍජු සහ නිරපේක්ෂ වුවමනාවන් පිණිස වන්නේය. එය මගේ ගැඹුරු වැටහීම වන අතර එය පදනම්වී ඇති හේතු අර්ධ වශයෙන් ඉංග්‍රීසි කම්කරු පංතිය ඉදිරියේ හෙළි කිරීමට මට නොහැකිය. ඉංග්‍රීසි කම්කරු පංතික නැගීම විසින් අයර්ලන්තයේ පාලනය පෙරළා දැමිය හැකියැයි මම බොහෝ කලක් තිස්සේ විශ්වාස කළෙමි. නිව්යෝර්ක් ට්‍රිබියුන් පුවත්පතෙන් (මාක්ස් මේ ඇමරිකන් පුවත්පතට බොහෝ කලක් තිස්සේ ලිපි සැපයීය) මම මේ මතය නිතර ප්‍රකාශ කළෙමි. මේ ප්‍රශ්නය වඩාත් ගැඹුරු ලෙස හැදෑරීම නිසා එහි විරුද්ධ පැත්ත නිවැරදි බව මට වැටහිණි. ඉංග්‍රීසි කම්කරු පංතිය අයර්ලන්තය අතහැර දමන තුරු, ඔවුන්ට කිසිවක් කළ නොහැකිය. අයර්ලන්තය වහල් භාවයට ඇද දැමීමේ මුල් එංගලන්තයේ ඉංග්‍රීසි ප්‍රතිගාමීන් සතුව පවතී. ''(යටි ඉරි ගැසීම මාක්ස් විසිනි).

අයර්ලන්ත ප්‍රශ්නය පිළිබඳව මාක්ස්ගේ ප්‍රතිපත්තිය දන් අපේ පාඨකයින්ට සම්පූර්ණයෙන්ම පැහැදිලි විය යුතුය.

''මනෝරාජික'' මාක්ස් කෙතරම් ''ප්‍රායෝගික නො විදයත්'', ඔහු අයර්ලන්තයේ වෙන්වීමට පක්ෂ විය. දනට වසර පනහක් ගෙවී ගියද මෙය තවමත් සම්පූර්ණ වී නැත.

මාක්ස්ගේ ප්‍රතිපත්තියට පදනම් වූයේ මොනවාද, එමෙන්ම ඒවා සාවද්‍ය නොවීද?

අයර්ලන්තය මුදගන්නේ පීඩිත ජාතියේ ජාතික ව්‍යාපාරය විසින් නොව, පීඩක ජාතියේ කම්කරු පංතික ව්‍යාපාරය විසිනැයි මාක්ස් මුලින් කල්පනා කළේය. සියලු ජාතීන්ගේ පූර්ණ විමුක්තිය ලබාගත හැක්කේ කම්කරු පංතික ජයග්‍රහණය මගින් පමණක්ය යන්න ඉතා හොඳින් දත් මාක්ස් ජාතික ව්‍යාපාරය නිරපේක්ෂයක් ලෙස නොසැලකීය. පීඩිත ජාතීන්ගේ ධනපති ජාතික විමුක්ති ව්‍යාපාර අතරත්, පීඩක ජාතියේ නිර්ධන පංතික විමුක්ති ව්‍යාපාරය අතරත් ඇතිවිය හැකි සියලු සබඳතාවයන්

පිළිබඳ තක්සේරුවක් කල් ඇතිව කළ නොහැකිය (අද රුසියාවේ ජාතික ප්‍රශ්නය මෙතරම් අමාරු වී ඇත්තේ මේ ගැටළුව නිසාමය).

කෙසේවුවද, සෑහෙන දීර්ඝ කාලයකට ඉංග්‍රීසි කම්කරු, පංති ව්‍යාපාරය ලිබරල්වාදීන්ගේ බලපෑමට යටවීම නිසා එය ලිබරල්වාදීන්ගේ මෙවලමක් බවට පත්විය. එමෙන්ම ලිබරල්-කම්කරු ප්‍රතිපත්තියක් පිළිගැනීම නිසා එයට නායකත්වයක් නැති විය. අයර්ලන්තයේ ධනපතීන්ගේ විමුක්ති ව්‍යාපාරය ශක්තිමත් වී විප්ලවවාදී හැඩයක් ගත්තේය. මාක්ස් තම මත පුනරීක්ෂණයට භාජනය කොට, ඒවා නිවැරදි කළේය. "එක් ජනතාවක් තවත් ජනතාවක් යටපත් කර ගනිති නම්, එය ඔවුන්ගේ ඉමහත් අවාසනාවකි." අයර්ලන්තය ඉංග්‍රීසි වියගහෙන් මුදලන තුරු ඉංග්‍රීසි කම්කරු පංතිය නිදහස් නොවනු ඇත. අයර්ලන්තය වහල් භාවයට ඇද දැමීම නිසා එංගලන්තයේ ප්‍රතිගාමීත්වය ශක්තිමත් වී තහවුරු වෙයි. (රුසියාව ජාතීන් කීපයක්ම වහල් භාවයට ඇද දැමීම නිසා එහි ප්‍රතිගාමීත්වය තහවුරු වන්නාක් මෙනි).

"අයර්ලන්ත ජාතියට" සහ "අයර්ලන්ත ජනතාවට" අනුකම්පාව ප්‍රකාශ කිරීමේ යෝජනාවක් ජාත්‍යන්තරයේදී ඉදිරිපත් කිරීමෙන් (දක්ෂ එල්. ඩ්. පංති සටන අමතක කිරීම නිසා කාල් මාක්ස්ට දඬුවම් දීමට පවා සමහර විට ඉදිරිපත් විය හැකියි) "වෙන්වීමෙන් අනතුරුව පෙඩරල් සම්බන්ධනයක් ඇතිවුවද" ඒ ගැන නොතකා අයර්ලන්තය එංගලන්තයෙන් වෙන්වීමක් මාක්ස් දේශනා කළේය.

මාක්ස්ගේ මේ නිගමනයට හේතු වූ න්‍යායික පූර්වාවයන් මොනවාද? එංගලන්තයේ ධනපති විප්ලවය අවසන් වී බොහෝ කල්ය. එහෙත් එය අයර්ලන්තයේ අවසන් නොවීය. අර්ධ ශත වර්ෂයකට පසු, ඉංග්‍රීසි ලිබරල්වාදීන්ගේ ප්‍රතිසංස්කරණ නිසා, එය දැන් අවසන් වෙමින් පවතී. මාක්ස් මුලදී බලාපොරොත්තු වූ තරම් ඉක්මනට එංගලන්තයේ ධනවාදය පෙරළා දමනු ලැබී නම්, අයර්ලන්තයේ ධනපති-ප්‍රජාතන්ත්‍රික සහ පොදු ජාතික ව්‍යාපාරයකට ඉඩක් නැතිවනු ඇත. එහෙත් එය පැන නැගුනු පසුව, එයට ආධාර කරන ලෙසත්, එයට විප්ලවවාදී උද්වේගයක් දෙන ලෙසත්, තමන්ගේ නිදහස සඳහා එය සම්පූර්ණ කරන ලෙසත් මාක්ස් ඉංග්‍රීසි කම්කරුවන්ට උපදෙස් දුන්නේය.

1860 ගණන් වලදී අයර්ලන්තය සහ එංගලන්තය අතර තිබූ ආර්ථික සම්බන්ධකම් අද රුසියාව සහ පෝලන්තය අතරත්, උක්රයීනය අතරත් පවතින ආර්ථික සම්බන්ධකම්වලට වඩා සමීප වූයේය. අයර්ලන්තය වෙන්කිරීමේ "විප්‍රායෝගිකත්වය" සහ "ක්‍රියාවෙහි යෙදවිය නොහැකිතාවය" (භූගෝලීය පිහිටීම සහ එංගලන්තයේ අති මහත් යටත් විජිත බලය නිසා පමණක් වුවද ) පැහැදිලිව පෙනිණි. ප්‍රතිපත්තියක් වශයෙන් මාක්ස් පෙඩරල් වාදයට විරුද්ධ වුවද, මේ ප්‍රශ්නයේදී පෙඩරල් සන්ධිය වීමකටද* ඔහු පක්ෂ වන්නේ ඉංග්‍රීසි කම්කරු පංතියේ ආධාරය ඇතිව අයර්ලන්තයේ බහුජන ව්‍යාපාරයක් මගින් ප්‍රතිසංස්කරණවාදී ලෙස නොව, විප්ලවවාදී ලෙස අයර්ලන්තයේ විමුක්තිය ලබාගත හොත් පමණකි. මේ ඓතිහාසික ගැටළුවට එවැනි විසඳුමක් ඇතිවීම නිර්ධන පංතියේ වුවමනාවන්ට ඉතා හොඳින් ගැළපෙන අතර එය ක්ෂණික සමාජ සංවර්ධනයකටද ඉවහල් වන බවට සැකයක් නැත.

එහෙත් වෙනත් ආකාරයකට සිදුවිය. අයර්ලන්ත ජනතාව සහ ඉංග්‍රීසි නිර්ධන පංතිය දුර්වල බව ඔප්පු විය. දැන් ඉංග්‍රීසි ලිබරල් වරුන් සහ අයර්ලන්ත ධනපති පංති අතර නීච ගනු දෙනු මගින්, ඉඩම් ප්‍රතිසංස්කරණය මගින් (වන්දිගෙවීම් සහිතව) සහ ස්වරාජ්‍යය මගින් (මෙතෙක් ක්‍රියාවට යොදවා නැත) අයර්ලන්ත ගැටළුව විසඳෙමින් පවතී (ඕල්ස්ටරයේ[62] නිදසුන අනුව එය කෙතරම් අමාරුදැයි පෙනේ.). ඊළඟට කුමක්ද? මාක්ස් හා එංගල්ස් "මනෝරාජිකයින්" බවත්, "ක්‍රියාවේ යෙදවිය නොහැකි" ජාතික ඉල්ලීම් ඔවුන් ඉදිරිපත් කළ බවත්, නැතිනම් අයර්ලන්ත සුළු ධනපති ජාතිකවාදීන්ගේ බලපෑමට යටවීමට ඔවුන් ඉඩ දුන් බවත් (ෆීනියන් ව්‍යාපාරයේ සුළු ධනවාදී ස්වභාවය ගැන කිසිදු සැකයක් නැත) ආදිය මින් අදහස් වන්නේද?

නැත. අයර්ලන්ත ප්‍රශ්නයේදීද, පොදු ජනතාවට ප්‍රජාතන්ත්‍රවාදයේ සහ සමාජවාදයේ ආස්වාදය තුළින් නියම අධ්‍යාපනයක් ලබා දෙන සසංගත නිර්ධන පංතික ප්‍රතිපත්තියක් මාක්ස් සහ එංගල්ස් අනුගමනය කළහ. අවශ්‍ය ප්‍රතිසංස්කරණ ඉදිරිපත් කිරීම අර්ධ ශත වර්ෂයකින් පමාවීමද, ප්‍රතිගාමීන් සතුටු කරවනු පිණිස ලිබරල්වාදීන් මෙම ප්‍රතිසංස්කරණ

* එසේ වුවද, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ස්ථාවරය අනුව, "ස්වයං නිර්ණයනය" පිළිබඳ අයිතිය යනු පෙඩරල් සන්ධිය වීමක් හෝ ස්වෛරීත්වයක් හෝ නොවේ (එසේ නමුදු වියුක්ත ලෙස කතා කරන විට, මේ දෙකම ස්වයං නිර්ණයනය නැමැති පදර්ථයට අයත්ය). පෙඩරල් සන්ධියවීමේ අයිතිය හුදු තේරුම් රහිත දෙයකි, මන්දයත් සන්ධිය වීම යනු ද්වී පාක්ෂික ගිවිසුමක් වන බැවිනි. පොදුවේ තම වැඩ පිළිවෙළ මගින් පෙඩරල්වාදය ආරක්ෂා කිරීමට මාක්ස්වාදීන්ට නොහැකි බව කිව යුතු නොවේ. ස්වෛරීත්වය අනුව නම් මාක්ස්වාදීහු ස්වෛරීත්ව පිළිබඳ "අයිතිය" නොව, එනමුදු ප්‍රජාතන්ත්‍රවාදී රාජ්‍යයක මිශ්‍ර ජාතික සංයෝජනයක සහ විවිධ භූගෝලීය සහ වෙනත් තත්ත්වයන් සහිත වූවිට පොදු විශ්වීය මූලධර්මයක් වශයෙන් ස්වෛරීත්වයම ආරක්ෂා කරති. මේ හේතූන් නිසා "සන්ධිය වීමේ ජාතීන්ගේ අයිතිය" මෙන්ම, "ස්වෛරීත්වය සඳහා ජාතීන්ගේ අයිතිය" පිළිගැනීමද හාස්‍යජනක ක්‍රියාවකි.

විකෘති කිරීමද වළක්වාලමින් අයර්ලන්තය හා එංගලන්තය බේරාගත හැක්කේ මෙවැනි ප්‍රතිපත්තියකට පමණකි.

පීඩක ජාතීන්ගේ නිර්ධන පංතිය ජාතික ව්‍යාපාර කෙරෙහි දක්විය යුතු ආකල්පය පිළිබඳව ඉතා අනඟි නිදසුනක් අයර්ලන්ත ප්‍රශ්නය ගැන මාක්ස්ගේ හා එංගල්ස්ගේ ප්‍රතිපත්තිය පෙන්වා දෙයි. මෙහි ඇති අති මහත් ප්‍රායෝගික වැදගත් කම අවලංගු නොවූ බව මේ නිදසුන පෙන්වයි. එක් ජාතියකගේ ඉඩම් හිමියන්ගේ හා ධනපති පංතියේ ප්‍රචණ්ඩකාරීත්වය සහ වරප්‍රසාද මගින් ස්ථාපිත කරන ලද රාජ්‍ය දේශසීමා වෙනස් කිරීමේ සංකල්පය, ''මනෝරාජික'' ලෙස හංවඩු ගැසීමට ඉදිරිපත් වන සියලු රටවලට, වර්ණවලට සහ භාෂාවලට අයත් අවරසිකයින්ගේ ''නිච කඩිමුඩියට'' විරුද්ධව මෙය අනතුරු අඟවයි.

අයර්ලන්ත සහ ඉංග්‍රීසි නිර්ධන පංතිය මාක්ස්ගේ ප්‍රතිපත්තිය පිළි නොගෙන අයර්ලන්තයේ ඉවත්වීම තම උද්යෝග පාඨය කර නොගත්තේ නම්, මෙය ඉතා අන්ත අවස්ථාවාදයක් වනු ඇත. ප්‍රජාතන්ත්‍රවාදීන් හා සමාජ වාදීන් වශයෙන් ඔවුන්ගේ යුතුකම පැහැර හැරීමක් වනු ඇත. ඉංග්‍රීසි ප්‍රතිගාමීත්වයට හා ධනපති පංතියට වාසිදීමක් වනු ඇත.

## 9. 1903 වැඩ පිළිවෙළ සහ එහි ලික්විඩේටර්වරු

රුසියන් මාක්ස්වාදීන්ගේ වැඩ පිළිවෙළ සම්මත කැරගත් 1903 සමුළුවේ වාර්තාව දැන් අති විරල දෙයක් බවට පත්වී ඇත. අද කම්කරු පංති ව්‍යාපාරයේ ක්‍රියාශීලී සාමාජිකයින්ගේ අති විශාල බහුතරය එම වැඩ පිළිවෙළෙ එක්, එක් කොටසක ගැබ්වී ඇති චේතනා ගැන නොදනිති (මෙය වඩාත් මෙසේ වන්නේ මෙයට අදළ සියලු සාහිත්‍ය නීත්‍යානුකූලත්වයේ ආශිර්වාදය නොලබන බැවිනි...) ඒ නිසා දැන් අපේ සාකච්ඡාවට භාජනය වී තිබෙන ප්‍රශ්නය 1903 සමුළුවේදී විවාදයට ලක් වූ සැටි විශ්ලේෂණය කළ යුතුය.

ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය ගැන රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සාහිත්‍යය කෙතරම් අල්ප වුවද, මෙම අයිතියෙන්, ඉවත්වීමේ අයිතිය හැමදම අදහස් කළ බව පැහැදිලි ලෙස පෙන්වා දුන්නේ යැයි අප ප්‍රථමයෙන්ම කියා සිටිය යුතුය. මේ ගැන සැක කරන සෙම්කොවස්කිලා, ලීබ්මාන්ලා සහ යුර්කෙවිච්ලා නවවැනි ඡේදය ''පැහැදිලි නැතැයි'' ආදිය ප්‍රකාශ කරති. ඔවුන් මෙසේ කරන්නේ ඔවුන්ගේ අති මුග්ධතාවය නිසා හෝ නොසැලකිල්ල නිසාය. 1902 තරම් ඈත කාලයේදී 'සර්යා'[63] පුවත්පත මගින් ප්ලෙහානව්, කෙටුම්පත් වැඩ පිළිවෙළෙ ''ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය'' ආරක්ෂා කළේය.* එමෙන්ම මෙම ඉල්ලීම ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන්ට අනිවාර්ය නොවන අතර ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට අනිවාර්ය'' බව හේ ලියුවේය: ප්ලෙහානව් මෙසේද ලියුවේය: ''මහා රුසියානු ජාතියට අයත් අපේ රට වැසියන්ගේ ජාතික අගතිගාමීත්වයට හානි වෙතියි යන බියෙන් අප මෙය අමතක කළහොත් නැතිනම්, ඉදිරිපත් කිරීමට පැකිළෙන බව පෙන්වුවහොත්... 'සකල දේශවාසී නිර්ධනයිනි, එක්වව්!' යන උද්යෝග පාඨය අපේ දෙතොල්වලින් ඇද හැලෙන නින්ද සහගත බොරුවක් බවට පත්වනු ඇත...''[64]

අපේ සැලකිල්ලට භාජනය වී තිබෙන කරුණට පක්ෂව කරන මූලික තර්කය පිළිබඳ ඉතා උචිත විස්තරයකි, මෙය. මෙය කෙතරම් උචිතදයත්, අපේ වැඩපිළිවෙළට විරුද්ධ වන ''මන්ද බුද්ධික'' විවේචකයන් එය බයාදු ලෙස ඉවතලැම මවිතයට කරුණක් නොවේ. මේ කරුණ අතහැර දැමීම, චේතනාව කුමක් වුවද, ඇත්ත වශයෙන්ම මහා රුසියානු ජාතිකවාදයට ''නින්දශීලී ලෙස'' වාසිදීමකි. සියලු ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ ප්‍රශ්නයක් වූ විට, මහා රුසියානුවන්ට පමණක් බලපානන්නේ කෙසේද? මන්දයත්, එය මහා රුසියානුවන්ගෙන් ඉවත්වීමක් කරන බැවිනි. නිර්ධන පංතික සමගියේ වුවමනාවන් හා ඔවුන්ගේ පංති සහයෝගතාවයේ වුවමනාවන් විසින් ජාතීන්ගේ ඉවත්වීමේ අයිතිය ඉල්ලා සිටී. ඉහත උපුටා දක්වූ ප්ලෙහානව්ගේ වචන අනුව මීට වසර දොළහකට පෙර ඔහු ඉල්ලා සිටියේ එය ය. අපේ අවස්ථාවාදියෝ මේ ගැන කල්පනා කළෝ නම්, ස්වයං නිර්ණයනය පිළිබඳ මේ තරම් විකාර මත ඔවුහු නොකියනු ඇත්තාහ.

ප්ලෙහානව් සහයෝගය දුන් කෙටුම්පත් වැඩ පිළිවෙළ 1903 සමුළුවේදී සම්මත කරගත් අතර වැඩ පිළිවෙළේ කොමිසම විසින් ප්‍රධාන වැඩ කොටස ඉටු කැරිණි. අවාසනාවකට මෙන් වාර්තා තැබීමක් නොකරන ලදී. ඒවා මේ කරුණු ගැන වැදගත් දේ හෙළිකරනු ඇත්තේ, පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නියෝජිතයින් වන වර්ෂාව්ස්කි සහ ගනෝවස්කි තම මත ආරක්ෂා කිරීමට සහ ''ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය'' පිළිගැනීමට විරුද්ධව අභියෝග කළේ මේ කොමිසන් රැස්වීමේදී පමණක් බැවිනි. ඔවුන්ගේ තර්ක (වර්ෂාව්ස්කිගේ කතාවේ සම්පිණ්ඩනය සහ ගනෝ-

---

*1916 වී. අයි. ලෙනින් එම සිද්ධිය පිළිබඳ සටහනක් කළේය: ''1903 දී ප්ලෙහානව් අවස්ථාවාදයේ එක් ප්‍රධාන සතුරකුව සිටි බවත්, අවස්ථාවාදය දෙසට නැඹුරුවූ ඔහුගේ කනගාටු දයක සහ එමෙන්ම ප්‍රසිද්ධ පිම්මෙන් අනතුරුව ෂොවින්වාදයට ඇදවැටුනු බවත් අමතක නොකරන්න''

ටස්කිගේ ප්‍රකාශනය. සමුළුවේ වාර්තා 134-136 පිටු සහ 388-390 පිටු) සහ අප විසින් විශ්ලේෂණයට භාජනය කළ රෝසා ලුක්සම්බුර්ගේ පෝලන්ත ලිපියද සන්සන්දනය කිරීමට ඉදිරිපත් වන ඕනෑම පාඨයකුට ඒවා සර්වසම බව පෙනෙනු ඇත.

පෝලන්ත මාක්ස්වාදීන්ට විරුද්ධව අන් හැමටම වඩා ප්ලෙහානව් කතා කළ, දෙවැනි සමුළුවේ වැඩ පිළිවෙල පිළිබඳ කොමිසන් සභාවේදී මතුවුණු තර්ක කෙරෙහි දැක්වූ ආකල්පය කුමක්ද? මේ තර්ක අනුකම්පා විරහිත අවඥාවට ලක් කරන ලදී! රුසියාවේ මාක්ස්වාදීන් ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය ප්‍රතික්ෂේප කළ යුතුයැයි පෝලන්ත මාක්ස්වාදීන් විසින් යෝජනා කිරීම කොතරම් අමන දෙයක්විදයත් සමුළුවේ මහ සභා රැස්වීම්වාරයේදී තම තර්ක යළි ඉදිරිපත් කිරීමට පවා පෝලන්ත මාක්ස්වාදීහු ඉදිරිපත් නොවූහ. මහා රුසියානු, යුදෙව්, ජෝජියානු සහ ආර්මේනියානු මාක්ස්වාදීන්ගේ උත්තරීතර මහා මණ්ඩලය ඉදිරියේ තම තත්ත්වයේ බෙලහීනත්වය වටහාගත් ඔවුහු සමුළුවෙන් පිටවූහ.

තම වැඩ පිළිවෙළ ගැන ඉතා බැරෑරුම් ලෙස වුවමනාවක් දක්වන හැම කෙනෙකුටම මේ ඓතිහාසික සිද්ධිය ඉමහත් ලෙස වැදගත් වනු ඇත. සමුළුවේ වැඩ පිළිවෙළ පිළිබඳ කොමිසන් සභා රැස්වීමේදී පෝලන්ත මාක්ස්වාදීන්ගේ තර්ක පූර්ණ පරාජයකට පත්වීමද, සමුළුවේ මහා සභා රැස්වීමේදී පෝලන්ත මාක්ස්වාදීන් තම ස්ථාවරය ආරක්ෂා කිරීමට ඉදිරිපත් නොවීමද, ඉතා වැදගත් සිද්ධියකි. 1908 දී ලියනලද සිය ලිපිය මගින් මෙම සිද්ධිය ගැන "නිහතමානී" ලෙස රෝසා ලුක්සම්බුර්ග් නිහඬවීම මවිතයට කරුණක් නොවේ. සමුළුව ගැන මතක් කිරීම ඉමහත් අසතුටට හේතු වූවා විය යුතුය! වැඩ පිළිවෙළේ නවවැනි කොටස "සංශෝධනය කිරීම" සඳහා පෝලන්ත මාක්ස්වාදීන් වෙනුවෙන් 1903 වර්ෂාව්ස්කි සහ ගනේට්ස්කි ඉදිරිපත් කළ අමන ලෙස අනුචිත යෝජනාව ගැනද ඇ එලෙසම නිහඬවෙයි. මෙම යෝජනාව ඉන් පසුව ඉදිරිපත් කිරීමට රෝසා ලුක්සම්බුර්ග් හෝ පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු හෝ කිසිදිනෙක ඉදිරිපත් නොවූහ (ඉදිරිපත් වන්නේද නැත).

රෝසා ලුක්සම්බුර්ග් 1903 දී ලැබූ පරාජය ගැන කිසිවක් නොකියා මේ සත්‍ය කරුණු ගැන නිහඬව සිටියද, තම පක්ෂයේ ඉතිහාසය ගැන වුවමනාවක් දක්වන පුද්ගලයින් මේවා ගැන දැනගැනීමට සහ එහි වැදගත්කම ගැන විචාරශීලි ලෙස කල්පනා කර බැලීම සිය කාර්යය ලෙස සලකනු ඇත.

1903 සමුළුවෙන් ඉවත්ව යැමේදී, එයට රෝසා ලුක්සම්බුර්ග්ගේ මිතුරෝ පහත සටහන් ප්‍රකාශනය ඉදිරිපත් කළහ.



"කෙටුම්පත් වැඩ පිළිවෙලේ 7 වැනි කොටස (දැන් නවවැනි කොටස) මෙලෙස වෙනස් කිරීමට අපි යෝජනා කරමු. 7 වැනි කොටස. "රාජ්‍යයේ සංයුක්ත සියලු ජාතීන්ට සංස්කෘතික වර්ධනය සඳහා පූර්ණ නිදහස සහතික කරන ආයතන පිහිටුවීම" (වාර්තාවේ 390 වැනි පිටුව).

ඒ අනුව, එවකට පෝලන්ත මාක්ස්වාදීන් විසින් ජාතික ප්‍රශ්නය පිළිබඳව ඉදිරිපත් කළ ස්ථාවරයන් කෙතරම් අපැහැදිලි වී දයත්, ස්වයං නිර්ණයනය වෙනුවට ඔවුහු වෙනත් ව්‍යාජ නාමයක් යටතේ කුප්‍රසිද්ධ "සංස්කෘතික ජාතික ස්වෛරීත්වය" ඇත්ත වශයෙන්ම යෝජනා කළහ.

මෙය විශ්වාස නොකළැකි තරම් දෙයක් වුවද, අවාසනාවකට මෙන් එය සත්‍යයකි. ඡන්ද පහක බලයක් ඇති බුන්ඩ්වාදීන් පස්දෙනෙක්ද, ඡන්ද හයක බලයක් සහිතව කොකේසියානු නියෝජිතයින් තිදෙනෙක්ද, මෙය කස්ත්‍රොව්ගේ උපදේශාත්මක ඡන්දය ගණන් නොගනිමින්, සමුළුවට සහභාගි වුණද ස්වයං නිර්ණයනය පිළිබඳ කොටස ප්‍රතික්ෂේප කළ යුතු යැයි යන මතයට පක්ෂව එකද ඡන්දයක්වත් නොලැබිණි. මෙම කොටසට සංස්කෘතික-ජාතික ස්වෛරීත්වයද එකතු කළ යුතුය යන යෝජනාවට එනම් "ජාතීන්ගේ පූර්ණ සංස්කෘතික වර්ධනය සහතික කරන ආයතන ස්ථාපිත කළ යුතුයැයි" කියන ගෝල්ඩ් බ්ලාට්ගේ සූත්‍රයට) පක්ෂව ඡන්ද තුනක්ද, ලීබර්ගේ සූත්‍රයට පක්ෂව ("සිය සංස්කෘතික වර්ධනයේ පූර්ණ නිදහස පිළිබඳව ජාතීන්ගේ අයිතිය") ඡන්ද හතරක්ද ලැබිණි.

දැන් දේශපාලන කරළියට එළැඹ සිටින රුසියානු ලිබරල් පක්ෂයත්, ව්‍යවස්ථාදායක ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයත් එහි වැඩ පිළිවෙළ වූ දේශපාලන ස්වයං නිර්ණයනය වෙනුවට සංස්කෘතික ස්වයං නිර්ණයනය ආදේශ කැරැ ඇති බව අපි දනිමු. ඒ නිසා රෝසා ලුක්සම්බුර්ග්ගේ පෝලන්ත මිතුරෝ පො. ස. පක්ෂයේ ජාතිකවාදයට විරුද්ධව "සටන් කළ" අතර, එය කොතරම් සාර්ථක ලෙස කළෝදයත් මාක්ස්වාදී වැඩ පිළිවෙළ වෙනුවට ඔවුහු සාර්ථක ලෙස ලිබරල්වාදී වැඩ පිළිවෙළක් ආදේශ කළෝය. ඔවුහු එක හුස්මට අපේ වැඩ පිළිවෙළ අවස්ථාවාදී යැයි ප්‍රකාශ කළහ. පක්ෂයේ දෙවන සමුළුවේ වැඩ පිළිවෙළ පිළිබඳව කොමිසන් සභාව ඔවුන් කළ චෝදනාව, සිනහවට ලක් කිරීම පුදුමයක් නොවීය.

දෙවන සමුළුවට සහභාගි වූ නියෝජිතයින් "ස්වයං නිර්ණයනය" වටහා ගත්තේ කෙසේද? අප ඉහත දුටු පරිදි "ජාතීන්ගේ ස්වයං නිර්ණයනයට" එක්කෙනෙකු වත් විරුද්ධ නොවීය.

වර්තාවෙන් උපුටා ගන්නා ලද පහත සටහන් කොටස් තුන එයට පිළිතුරු සපයයි:

"ස්වයං නිර්ණයනය නැමැති වැකියට පොදු අර්ථ කථනයක් නොදිය

යුතුයැයි මර්තිනව් අදහස් කරයි: එහි හුදු තේරුම වන්නේ ජාතියකට තම වෙන්වූ දේශපාලනමය කාර්යයන් ස්ථාපිත කිරීම මිස ප්‍රාදේශීය ස්වයං පාලනයක් නොවේ'' (171 පිටුව). රෝසා ලුක්සම්බුර්ග් ගේ මිතුරන්ගේ තර්ක නිෂ්ප්‍රභාවට ලක් කොට, ඒවා අවඥාවට භාජන කළ වැඩ පිළිවෙළ පිළිබඳ කොමිසන් සභාවේ සාමාජිකයින්ගෙන් කෙනෙකි, මර්තිනව්. ඔහු එවකට ''ආර්ථිකවාදී'' මත දුරු අතර ඉස්ක්‍රාවේ ප්‍රබල විරුද්ධ කරුවෙක් විය. වැඩ පිළිවෙළ පිළිබඳ කොමිසන් සභාවේ බහුතරය පිළිනොගත් මතයක් ඔහු ප්‍රකාශ කළේ නම් එය ස්ථිර ලෙස ප්‍රතික්ෂේප කරනු ඇත.

කොමිසම තම වැඩ කටයුතු නිම කළ ඉක්බිතිව, වැඩ පිළිවෙළේ 8 වැනි (දැන් 9 වැනි) කොටස ගැන සමුළුවේදී කතා කිරීමට ප්‍රථමයෙන්ම ඉදිරිපත් වූයේ බුන්ඩ්වාදියෙකු වූ ගෝල්ඩ්බ්ලාට් ය.

හේ මෙසේ පැවසීය:

'' ''ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය'' ගැන විරුද්ධත්වයක් ප්‍රකාශ කළ නොහැකිය. කිසියම් ජාතියක් නිදහස සඳහා සටන් කරන විට, එයට විරුද්ධ නොවිය යුතුය. ප්ලෙහානව් කී පරිදි රුසියාව සමග නීති ප්‍රකාර විවාහ වීමට පෝලන්තය විරුද්ධ නම්, ඇයට හිරිහැර නොකළ යුතුය. මෙම සීමාවන් තුළ එම මතයට මම එකඟ වෙමි'' (පිටු 175-176).

සමුළුවේ පූර්ණ රැස්වීම් වාරයේදී මේ ප්‍රශ්නය ගැන ප්ලෙහානව් කොහෙත්ම කතා නොකළේය. වැඩ පිළිවෙළ පිළිබඳ කොමිසන් සභා රැස්වීමේදී ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය ඉවත්වීමේ අයිතිය තේරුම් යන ආකාරයෙන් සරළ එමෙන්ම සවිස්තරාත්මක ලෙස විස්තර කරන ලද ප්ලෙහානව්ගේ වචන ගෝල්ඩ්බ්ලාට් පුනරුච්චාරනය කරයි. ගෝල්ඩ්බ්ලාට්ට පසුව කතා කළ ලීබෙර් මෙසේ පැවසීය:

''සත්තකින්ම, රුසියාවේ දේශසීමා තුළ වාසය කිරීමට කිසියම් ජාතියක් නොකැමැති නම්, එයට බාධා කිරීමට පක්ෂය ඉදිරිපත් නොවේ.'' (176 පිටුව).

පක්ෂයේ දෙවැනි සමුළුවේදී සම්මත කැරුගත් වැඩ පිළිවෙළින් ස්වයං නිර්ණයනය යනු ඉවත්වීමේ අයිතිය පමණක් තේරුම් කරන බව, මින් පාඨකයාට පෙනෙනු ඇත. එවකට මෙහි ඇති සත්‍යතාවය බුන්ඩ් වාදීහු පවා වටහා ගත්හ. එහෙත් අවිච්ඡින්න ප්‍රති විප්ලවයේ සහ සියලු අන්දමේ ''අපදෘෂ්ටි'' සහිත අපේ සංවේගදයි කාලයේදී, වැඩපිළිවෙළ ''අපැහැදිලි'' යැයි කීමට තරම් මුග්ධත්වය නිසා වීරයින් බවට පත්වූ මිනිසුන් දැකීමට අපට පිළිවන. මේ සංවේගදයී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වීමට දහලන



මිනිසුන් ගැන කාලය මිඩංගු කිරීමට පෙර, වැඩ පිළිවෙළ පිළිබඳව පෝලන්තයින්ගේ ආකල්පය පිරික්සා බැලීම අවසන් කරමු.

ඔවුන් දෙවැනි සමුළුවට (1903) පැමිණියේ අවශ්‍යය එමෙන්ම ස්ථිර ලෙසම කළයුත්තෙකැයි පවසමිනි. එහෙත් වැඩ පිළිවෙළ පිළිබඳ කොමිසන් සභාවේදී ඔවුන් ලැබූ ''පරාජයන්ගෙන්'' අනතුරුව ඔවුහු සමුළුවෙන් පිටවූහ. ඔවුන්ගේ අවසාන වචනය වූයේ ලිඛිත ප්‍රකාශනයකි. සමුළුවේ වාර්තාවේ මුද්‍රණය වී ඇති එය, ස්වයං නිර්ණයනය වෙනුවට සංස්කෘතික-ජාතික ස්වෛරීත්වය ආදේශ කළ යුතුය යන්න අඩංගු ඉහත සටහන් යෝජනාව වූයේය.

1906 දී පෝලන්ත මාක්ස්වාදීහු පක්ෂයට බැඳුණහ. එසේ පක්ෂයට බැඳෙන විට හෝ ඉන් පසුව හෝ (1907 සමුළුවේදී, 1907 සහ 1908 සාකච්ඡා සභා වලදී නැතිනම් 1910 පූර්ණ රැස්වීමේදී) රුසියන් වැඩ පිළිවෙළේ නව වැනි කොටස සංශෝධනය කරනු පිණිස එකද යෝජනාවක්වත් ඔවුහු ඉදිරිපත් නොකළහ!

මෙය සත්‍යයකි.

මේ ප්‍රශ්නය දෙවැනි සමුළුවේ වැඩ පිළිවෙළ පිළිබඳ කොමිසන් සභාවේ විවාදයේදී සහ පක්ෂ සමුළුවේ තීරණයෙන් විසඳාලනු ලැබූ බව රෝසා ලුක්සම්බුර්ග්ගේ මිත්‍රයින් පිළිගන්නා අතර 1903 දී පක්ෂ සමුළුවෙන් ඉවත්ව ගිය පසුව වැඩ පිළිවෙළෙහි නව වැනි කොටස පිළිබඳ ප්‍රශ්නය පක්ෂ සංවිධාන මගින් සංශෝධනය කිරීමට එකද ප්‍රයත්නයක් වත් නොකර, ඔවුන් කළ වරද නිහඬව පිළිගෙන, 1906 දී පක්ෂයට බැඳීමෙන් එය නිවැරදි කර ගත් බව සියළු ප්‍රකාශන හා පොරොන්දු නොතකා, මෙම සත්‍යය විසින් ස්ථිර ලෙස ඔප්පු කරයි.

රෝසා ලුක්සම්බුර්ග්ගේ ලිපිය ඇගේ නමින් 1908 දී පළවිය. වැඩපිළිවෙළ විවේචනය කිරීමේ අයිතිය පක්ෂයේ ලේඛකයින්ගෙන් උදුරාගැනීමට කිසිවකු නොසිතූ බව කීම අනවශ්‍යය. මේ ලිපිය පළවීමෙන් අනතුරුව නව වැනි කොටස සංශෝධනය කළ යුතුය යන ප්‍රශ්නය පෝලන්ත මාක්ස්වාදීන්ගේ එකද නිල සංවිධානයක් විසින් හෝ ඉදිරිපත් නොකැරිණි.

මේ හේතූන් නිසා ට්‍රොට්ස්කි, බර්බා[65] සඟරාවේ අංක දෙක කලාපයට (1914 මාර්තු) කර්තෘ මණ්ඩලය වෙනුවෙන් ලිවීමෙන් රෝසා ලුක්සම්බුර්ග්ට සහ ඇගේ මිතුරන්ට විශාල අනර්ථයක් කළේය:

'' ''ජාතික ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය'' දේශපාලනමය වශයෙන් අර්ථ ශූන්‍ය බවත්, එය වැඩ පිළිවෙළින් ඉවත් කළ යුතු බවත් පෝලන්ත මාක්ස්වාදීහු කල්පනා කරති'' (25 පිටුව).

අවනතකාමී ට්‍රොට්ස්කි සතුරකුටත් වඩා භයානකය. "පෝලන්ත මාක්ස්වාදීන්" රෝසා ලුක්සම්බුර්ග්ගේ හැම ලිපියකටම පක්ෂ පාත යැයි වර්ග කිරීම ඔප්පු කිරීමට "පෞද්ගලික කතාබහ" හැරුණු විට (එනම් හුදු ඕපා දූප කතා, ට්‍රොට්ස්කි හැමදම ජීවත් වන්නේ මෙවා වලිනි) වෙනත් අවශ්‍ය සාක්ෂි ඉදිරිපත් කිරීමට ට්‍රොට්ස්කිට නොහැකිය. ට්‍රොට්ස්කි, පෝලන්ත මාක්ස්වාදීන් ඉදිරිපත් කළේ ගරුත්වය හා හෘදය සාක්ෂිය රහිත, තම වැටහීම් හා තම පක්ෂයේ වැඩ පිළිවෙළ ඉදිරිපත් කිරීමට නොහැකි මිනිසුන් හැටියටය. ට්‍රොට්ස්කිගේ අවනතභාවයෙක සැටි!

ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය උඩ පෝලන්ත මාක්ස්වාදීන්ගේ නියෝජිතයින් 1903 දී පක්ෂයේ දෙවන සමුළුවෙන් පිට වී ගිය විට, මෙම අයිතිය අර්ථ ශුන්‍ය හැටියට සහ එය වැඩ පිළිවෙළෙන් කපා දැමිය යුතු දෙයක් ලෙස ඔවුන් සිතන බවත් කීමට ට්‍රොට්ස්කිට එවකට ඉඩකඩ තිබිණි.

එහෙත් ඉන් අනතුරුව පෝලන්ත මාක්ස්වාදීහු මෙම වැඩ පිළිවෙළ සහිත පක්ෂයට බැඳුණහ. ඔවුහු එය සංශෝධනය කිරීමට යෝජනාවක් කිසි කලෙකත් ඉදිරිපත් නොකළහ.*

ට්‍රොට්ස්කි තම සඟරා පාඨකයින්ට මෙම සත්‍යය හෙළි නොකළේ මන්ද? ලික්විඩේටර් වාදයට විරුද්ධ පෝලන්තයින් සහ රුසියානුවන් අතර ඇති මතභේද ඇවිලවීම සහ වැඩ පිළිවෙළ පිළිබඳ ප්‍රශ්නයේදී රුසියන් කම්කරුවන් මුලා කිරීම තමන්ට වාසිගෙන දෙන නිසා පමණකි.

මාක්ස්වාදයේ කිසිම වැදගත් ප්‍රශ්නයක් පිළිබඳව ස්ථිර මතයක් ට්‍රොට්ස්කිට කිසිදක නොතිබිණි. එක් හෝ තවත් මත භේදයකින් ඇතිවන සිදුරකින් රිංගා යන ඔහු එක් පැත්තක් අත හැර තවත් පැත්තකට මාරු වෙයි. මේ මොහොතේදී, ඔහු බුන්ඩ්වාදීන්ගේ හා ලික්විඩේටර්වාදීන්ගේ හවුලකට සහභාගි වෙමින් සිටී. මේ මහත්වරු පක්ෂයට කොහෙත්ම ගරු නොකරති. බුන්ඩ්වාදී ලීබ්මාන්ට සවන් දෙමු:

---

*1913 රුසියානු මාක්ස්වාදීන්ගේ ගිම්හාන සාකච්ඡාවට පෝලන්ත මාක්ස්වාදීන් සහභාගි වුණේ උපදේශාත්මක ඡන්දයක් ඇතිව පමණක් බවත්, ස්වයං නිර්ණයනය (ඉවත්වීම) පිළිබඳ අයිතිය ට ඔවුන් ඡන්දය නොදී, පොදුවේ මෙම අයිතියට විරුද්ධත්වය ප්‍රකාශ කළ බවත් අපට කියති. සත්තකින්ම ඔවුන් කටයුතු කළ ආකාරයට හැසිරීමටත් මෙතෙක් කළ පරිදි පෝලන්තය තුළ ඉවත්වීමට විරුද්ධව උද්ඝෝෂණය කිරීමටත් ඔවුන්ට පූර්ණ අයිතියක් තිබිණි. එහෙත් ට්‍රොට්ස්කි කී දේ මීට හාත්පසින්ම වෙනස්ය. මන්දයත් වැඩ පිළිවෙලින් නව වැනි කොටස "ඉවත් කළ" යුතුයැයි පෝලන්ත මාක්ස්වාදීන් ඉල්ලා නොසිටි බැවිනි.



"මීට අවුරුදු පහළොවකට පෙර, රුසියන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සිය වැඩ පිළිවෙළට හැම ජාතියකගේම ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය ඇතුළු කළ විට, හැමකෙනෙක්ම (!!) මෙසේ ප්‍රශ්න කළහ." යි මේ මහත්මයා ලියයි: "මේ විලාසිතාශීලී (!!) පදයේ තේරුම කුමක්ද? පිළිතුරක් නොලැබිණි (!!) එය පසෙකට තබන ලදී (!!) එය පටලයකින් ඔතා තිබිණි. ඇත්ත වශයෙන්ම එවකට මේ පටලය දුරුකරලීමට නොහැකි විය. මෙම කරුණ මූර්ත කිරීමට උචිත කාලය එළඹ නොතිබිණි. එය දුන් තව දුරටත් පටලයෙන් එති තිබීමට හරිමු යැයි එද කීවෝය (!!) මෙම කරුණෙහි හරය කුමක්ද යන්න ජීවිතය පෙන්වනු ඇත."

පක්ෂයේ වැඩ පිළිවෙළට විරුද්ධව නරුමවාදී ලෙස ඉඟි කරන මේ "නග්න කොල්ලා" ගේ[66] හැටි අපූරුයි නේද?

ඔහු නරුමවාදී ලෙස ඉඟි කරන්නේ මන්ද?

මන්දයත්, ඔහු කිසිවක් නුගත්, පක්ෂයේ ඉතිහාසය පවා නොකියූ වූ නමුදු ලික්විඩේටර්වාදී කවයට නිකම්ම රිංගා ගත් මුග්ධයකු බැවිනි. පක්ෂය පිළිබඳ දැනීම සහ පක්ෂයේ වැඩ පිළිබඳව වූ කරුණු ගැන නග්නව හැසිරීම "නිවැරදි" යැයි මේ කවය "පිළිගත් චාරිත්‍රය" වන බැවිනි.

පොම්යාලොව්ස්කිගේ කතාවක චරිතයක් වන බුර්සාක් වරයෙක්[67] ලුනු දමූ ගෝවා සහිත පිප්පයකට කෙළ ගැසූ බව කියමින් උදම් අනයි. බුන්ඩ්වාදී මහත්වරු එයටත් වඩා දුර ගොස් ඇත්තාහ. තමන්ගේ පිප්පයට කෙළ ගැසීමට ලීබ්මාන්ලාට ඔවුන් ඉඩදී ඇත. ජාත්‍යන්තර සමුළුවක් විසින් යෝජනාවක් සම්මත කිරීම ගැනත්, ඔවුන්ගේම පක්ෂයේ සමුළුවෙකදී ඔවුන්ගේ බුන්ඩ් සංවිධානයේ නියෝජිතයින් දෙදෙනෙකුට (ඔවුන් ඉස්ක්‍රාවේ "දැඩි" විවේචකයින් සහ ප්‍රබල සතුරන්ය!) "ස්වයං නිර්ණයනය" යන්නෙහි තේරුම අවබෝධ කැර ගැනීමට සහ එපමණක් නොව, එයට එකඟවීමට හැකිවීම ගැනත් ලිබ්මාන්ලාට ඇති කැක්කුම කුමක්ද? බුර්සාක් වරයාගේ ලතාව අනුව, "පක්ෂයේ සාහිත්‍යධරයින්" පක්ෂයේ ඉතිහාසයට හා වැඩ පිළිවෙළට සැලකීමට ඉදිරිපත් වෙති (විහිළු නොකරනු!) නම් පක්ෂය විසුරුවා හැරීම ලෙහෙසි නොවන්නේද?

දෙවැනි 'නග්න කොල්ලා' නම් ද්ස්වින් හි යුර්කේවිච් මහතාය. ගෝල්ඩ්බ්ලාට් විසින් ඉදිරිපත් කරන ලද පරිදි යුර්කේවිච් මහතා ප්ලෙඛානව් උපුටා දක්වන්නේ, ඔහු ඉදිරියේ පක්ෂයේ දෙවන සමුළුවේ වාර්තා තිබුණ නිසා විය යුතුය. ස්වයං නිර්ණයනය යන්නෝහි එකම තේරුම නම්, ඉවත්වීමේ අයිතිය ය යන්න ඔහු දන්නා බව ඔහු පෙන්වයි. එහෙත්, රුසියානු මාක්ස්වාදීන් රුසියාවේ "රාජ්‍ය එකීයතාවයට" පක්ෂයැයි කියමින් මුසාවාදයන් උක්රයීන සුළු ධනපති පංතිය අතර පැතිරවීමට එය ඔහුට බාධාවක් නොවේ (1913 අංක 7-8, පිටුව 83. සහ අනිකුත් දේ). සත්තකින්ම උක්රයීන ප්‍රජාතන්ත්‍රවාදීන් මහා රුසියානු ප්‍රජාතන්-

ත්‍රවාදීන් කෙරෙහි කළකිරවීම පිණිස මුසාවාද පැතිරවීමට වඩා හොඳ විදිහක් යුර්කෙවිච්ලාට සොයාගත නොහැකිය. උක්රයින කම්කරුවන් විශේෂ ජාතික සංවිධානයක්* තුළට වෙන්කළ යුතුයැයි දේශනා කරන ද්ස්වින් සාහිත්‍ය කණ්ඩායමේ සම්පූර්ණ ප්‍රතිපත්තියට මෙවන් කළකිරීම යසට ගැළපෙයි.

නිර්ධන පංතියේ කොටස් අතර අසමගිය පැතිරවීම සඳහා ක්‍රියා කරන ජාතිකවාදී අවරසිකයින්ගේ කණ්ඩායමක් — වාස්තවික ලෙස ද්ස්වින් සහරා කරුවන්ගේ ක්‍රියා කලාපය මෙයය — ජාතික ප්‍රශ්නය ගැන මෙතරම් නීච ලෙස ව්‍යාකූලත්වයක් පතුරුවා හැරීම ඔවුනටම සුදුසු කාර්යයකි. ''පක්ෂය අසල සිටින්නන්'' ලෙස හඳුන්වන විට ''බොහෝ'' අමනාප වන යුර්කෙවිච්ලා සහ ලිබ්මාන්ලා පක්ෂයේ වැඩ පිළිවෙළෙහි ඉවත්වීමේ අයිතිය පිළිබඳ ගැටළුව විසඳාලන්නේ කෙසේද යන්න ගැන වචනයක්වත්, එකද වචනයක්වත් නොකියති.

මෙන්න තෙවැනි එමෙන්ම ''නග්න කොල්ලන්'' අතර ප්‍රධානයා වන සෙම්කොව්ස්කි මහතා. ඔහු ලික්විඩේටර්වාදී පුවත්පතක් මගින් මහා රුසියානු පාඨකයින් අමතමින් වැඩ පිළිවෙලේ නව වැනි කොටසට ''පහර දෙයි''. එහෙත් ඒ අතරම ඔහු ''වෙනත් නොයෙක් හේතූන් නිසා මෙම කොටස'' ඉවත් කිරීමේ යෝජනාව අනුමත නොකරන බව පවසයි. විශ්වාස කළ නොහැකි වුවද, මෙය සත්‍යයකි.

1912 අගෝස්තු මාසයේදී ලික්විඩේටර් වරුන්ගේ සාකච්ඡාවේදී නිල වශයෙන් ජාතික ප්‍රශ්නය ඉදිරිපත් කැරිණි. සෙම්කොව්ස්කි මහතා ලියූ දේ හැරුණු විට, මාස දහ අටක් තිස්සේ නවවැනි ඡේදය ගැන එකද ලිපියක්වත් පළ නොවීය. එම ලිපිය මගින් කර්තෘවරයා වැඩ පිළිවෙල නිෂ්ප්‍රභ කරයි. කෙසේවුවද, ඔහු එසේ කරන්නේ ''සමහර හේතූන් නිසා'' (මෙය ගුප්ත රෝගයක්ද?) එය සංශෝධනය කිරීමේ යෝජනාව ''පිළි නොගනිමිනි''! අවස්ථාවාදය පිළිබඳව මෙයට සමාන නිදසුන් ලෝකයේ වෙනත් කිසි තැනෙකින් සොයා ගැනීමට නොහැකිවා පමණක් නොව, එයටත් වඩා අයහපත් දෙයක් වන, පක්ෂය ප්‍රතික්ෂේප කිරීමට සහ එය විසුරුවා හැරීමේ අභිප්‍රායට සමාන දෙයක්ද සොයාගැනීමට නොහැකි බව සහතිකය.

සෙම්කොව්ස්කිගේ තර්ක මොනවාද යන්න එක් නිදසුනකින් පමණක් පෙන්විය හැකිය:

* ලෙවින්ස්කි මහතා විසින් උක්රේනියානු බසින් ලියනලද ''ගැලීසියාවේ උක්රයින කම්කරු පංතියේ වර්ධනය පිළිබඳ සටහනක්'' (කීව්, 1914) නැමති පොතට යුර්කෙවිච් මහතා ලියූ ප්‍රස්තාවනා විශේෂයෙන් බලන්න.



ඔහු මෙසේ ලියයි: ''එකම රාජ්‍ය රාමුවක් තුළ සමස්ත රුසියානු නිර්ධන පංතිය සමග එක්වී පෝලන්ත නිර්ධන පංතියට සටන් කිරීමට වුවමනා වී ඇත්නම්, එයට විලෝම වශයෙන් රුසියාවෙන් පෝලන්තය වෙන්කර ගැනීමටත්, ජනමත විමසුමක් මගින් ඉවත්වීමට පක්ෂව බහුතර ඡන්ද සංඛ්‍යාවක් ලබා ගැනීමටත්, පෝලන්ත සමාජයේ ප්‍රතිගාමී පංතීන්ට වුවමනා වී තිබෙන විට, අප කුමක් කළ යුතුද? මධ්‍යම පාර්ලිමේන්තුවේදී රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වන අපි පෝලන්ත සොහොයුරන් සමග එක්වී ඉවත් වීමට විරුද්ධව ඡන්දය දෙමුද, නැතිනම් ''ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය'' උල්ලංඝණය නොකරනු පිණිස ඉවත් වීමට පක්ෂව ඡන්දය දෙමුද? (නෝවයා රබෝචයා ගස්යෙතා අංක 71).

සෙම්කොව්සකි මහතාට ඉදිරිපත් වී තිබෙන ප්‍රශ්නය ගැන වැටහීමක් පවා නොමැති බව මෙයින් හොඳ හැටි පෙනේ. ඉවත්වීමෙ අයිතිය තීරණය කරන්නේ ඉවත්වන ප්‍රදේශයේ පාර්ලිමේන්තුව (මන්ත්‍රණ සභාව, ජනමත විමසුම ආදිය) මගින් මිස මධ්‍යම පාර්ලිමේන්තු මගින් නොවන බව ඔහුට වැටහී නැත.

ප්‍රජාතන්ත්‍රවාදය යටතේ බහුතරය ප්‍රතිගාමීත්වයට පක්ෂ පාත නම්, ''අපි කුමක් කරමුද'' යන ප්‍රශ්නය නගමින් ළාමක ලෙස මවිත වීම, විෂය බද්ධ, සැබෑ සහ ජීවමාන ප්‍රතිපත්තිය වසාලීමට සේවය කරන්නේ, පුරිෂ්කේවිච්ලා සහ කොකෝෂ්කින්ලා ඉවත්වීම නැමැති සංකල්පය පවා භයානක දෙයක් ලෙස සිතනවිටය. සමහර විට සමස්ත රුසියාවේ නිර්ධනීන් අද්‍යතන පුරිෂ්කේවිච්ලාට සහ කොකෝෂ්කින්ලාට විරුද්ධව සටන් නොකර ඔවුන් මග හැර ගොස්, පෝලන්තයේ ප්‍රතිගාමී පංතිවලට විරුද්ධව සටන් කළ යුතුය!

එල්. මාර්තව් එක් දෘෂ්ටිවාදී නායකයකු ලෙස සේවය කරන ලික්විඩේටර්වාදීන්ගේ පුවත්පතේ පළ කරන ඇදහිය නොහැකි බොරුවල සැටි එසේය. වැඩ පිළිවෙළ කෙටුම්පත් කළේත්, 1903 දී එය පිළිගන්නා ලෙස ඉල්ලමින් කතා කළේත් මේ එල්. මාර්තව්ය. පසුකලෙක ඔහු ඉවත්වීමේ අයිතියට පක්ෂව ලිපි ලියුවේය. එල්. මාර්තව් දන් පහත සටහන් රීතිය අනුව කල්පනා කරනවා විය හැකිය:

නුවණැත්තකුට නම් ඔතනැ'ති වැඩක් නැත.
රියාද් යවනවානම් සෑහෙන්ට ඇත.
ඉතිරි හරිය මට මතුවට හැකි බලත.[68]

ඔහු රියාද්-සෙම්කොව්ස්කි පළමුව යවා අපේ වැඩ පිළිවෙළ විකෘති කිරීමට ඉඩ සළසා දෙමින්, ඒ ගැන නොදත් පාඨකයින් සීමා රහිත ලෙස ව්‍යාකූලතාවයට පත්කරලයි.

එසේය. ලික්විඩේටර්වාදය බොහෝ දුර ගොස් ඇත. ඉතා සම්භාවනීය හිටපු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතුරෙන් බොහෝ දෙනෙකු තුළ පාක්ෂික හැඟීමක සේයාවක් පවා අතුරුදහන් වෙලාය.

රෝසා ලුක්සම්බුර්ග් ලිබ්මාන්ලාගේ, යුර්කේවිච්ලාගේ සහ සෙම්කොව්ස්කිලාගේ ගොඩට දැමිය නොහැකිය. ඇය විසින් කරන ලද වරද මෙවැනි මිනිසුන් විසින් ප්‍රයෝජනයට ගැනීමට ඉදිරිපත් වීමෙන්, ඇය ඇද වැටුණු අවස්ථාවාදයේ තරම විශේෂ පැහැදිලිතාවයකින් ඔප්පු වෙයි.

## 10. සමාප්තිය

දැන් අපි සම්පිණ්ඩනය කරමු.

පොදුවේ මාක්ස්වාදී න්‍යායික ස්ථාවරයකින් බලන විට, ස්වයං නිර්ණයනයේ අයිතිය පිළිබඳ ප්‍රශ්නය අසීරුකමක් ඉදිරිපත් නොකරයි. 1896 ලන්ඩන් යෝජනාවද, ස්වයං නිර්ණයනය යන්නෙන් ඉවත්වීමේ අයිතිය පමණක් අඟවන බවද, එසේත් නැතිනම්, සියලු ධනපති-ප්‍රජාතන්ත්‍රික විප්ලවයන්ගේ ප්‍රවණතාවය ස්වාධීන ජාතික රාජ්‍යයන් පිහිටුවීම බවද කියමින් බැරෑරුම් ලෙස අභියෝග කිරීමට කිසිවකුට නොපුළුවන.

රුසියාවේ පීඩක සහ පීඩිත ජාතියේ නිර්ධන පංති දෙකම දැනට සටන් කිරීමත්, උරෙනුර ගැටී ඔවුන් සටන් කළ යුතුවීමත්, විසින් එක්තරා දුරකට අමාරුකාවයක් බිහිකර ඇත. සමාජවාදය සඳහා නිර්ධන පංති ගෙනයන අරගලයේ සමගිය ආරක්ෂා කිරීම සහ සියලු ධනවාදී හා කළු ශතක ජාතිකවාදී බලපෑම් වලට ප්‍රතිරෝධනය දැක්වීම අපේ කාර්ය ය. පීඩිත ජාතීන්ගේ නිර්ධන පංතිය සඳහා ස්වාධීන පක්ෂ සෑදීම නිසා සමහර විට, ජාතිකවාදයට විරුද්ධව කටුක අරගල පැන නඟින අතර පර්යාලෝකය විකෘති වෙයි. පීඩක ජාතියේ ජාතිකවාදය අමතක වෙයි.

එහෙත් පර්යාලෝකය පිළිබඳ මෙම විකෘතිය වැඩිකල් නොපවතී. අප දේශපාලන ප්‍රශ්න සූත්‍රගත කළ යුත්තේ සමස්ත රුසියානු ස්ථාවරයකින් මිස ''ක්‍රාකොව්'' ස්ථාවරයෙන් නොවන බව, විවිධ ජාතීන්ගේ නිර්ධනීන් විසින් ගෙනයනලද දීර්ඝ කාලීන ඒකාබද්ධ අරගලවල අත්දැකීම් විසින් ඉතා පැහැදිලි ලෙස පෙන්වා දෙන ලදී. සමස්ත රුසියානු දේශපාලනයේ ආධිපත්‍යය උසුලන්නේ පුරිෂ්කේවිච්ලා සහ කොකෝෂ්කින්ලා විසිනි. අද රජකරන්නේ ඔවුන්ගේ අදහස්ය. ''ඔවුන්ගේ විභේදනවාදය,'' ඉවත්වීම පිළිබඳ, අදහස් කිරීම වැනි අදහස් රුසියානු නොවන ජාතීන්ට පෙවීම දූමා[60] මන්ත්‍රණ සභාවෙත්, පාසල්වලත් දේවස්ථානවලත්, සෙබළ බැරැක්ක වලත්, සිය දහස් ගණන් පුවත්පත්



මගිනුත් ව්‍යවහාරයට යොදවති. සමස්ත රුසියානු දේශපාලන වාතාවරණය එහෙම පිටින්ම දූෂණය කරනු ලබන්නේ මේ මහා රුසියානු ජාතික විස විසිනි. අනිකුත් ජාතීන් පරාධීනතාවයට පත්කර, රුසියාව පුරා, ප්‍රතිගාමීත්වය ශක්තිමත් කරන ජාතියේ අවාසනාව මෙයයි. 1849 සහ 1863 මතකයන් ජීවමාන දේශපාලන සම්ප්‍රදයයකි. මහා පරිමාණ කැළඹිලි ඇති නොවන්නේ නම්, එය සෑම ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයක්මත් සහ විශේෂයෙන්ම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සෑම ව්‍යාපාරයක්මත් දසක කීපයක් යන තුරු බාධාකිරීමට තර්ජනය කරයි.

පීඩිත ජාතීන්ට අයත් සමහර මාක්ස් වාදීන්ගේ ස්ථාවරය කොතරම් ස්වාභාවික වුවද (''සිය'' ජාතික ස්වාධීනත්වයේ දෘෂ්ටියෙන් අන්ධවුණු බහු ජන කොටස් සමහර විට සිටීම මොවුන්ගේ ''අවාසනාවය'') සමහර විට ව්‍යවහාරික වශයෙන්, රුසියාවේ පංති බලවේගයන්ගේ වාස්තවික පෙළගැසීම විසින් ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය ප්‍රකාශ කිරීම ප්‍රතික්ෂේප කිරීම, ඉතා නීච අවස්ථාවාදයට සහ කොකෝෂ්කින්ලාගේ අදහස් නිර්ධන පංතියට බෝකිරීමට සමානවීමට සැකයක් නැත. මේ අදහස්වල හරය අත්‍යවශයෙන්ම පුරිෂ්කේවිච්ලාගේ අදහස් හා ප්‍රතිපත්තියම වන්නේය.



එම නිසා රෝසා ලුක්සම්බුර්ග්ගේ ස්ථාවරය මුලදී විශේෂයෙන් පෝලන්ත, ''ක්‍රාකොව්'' පටු බුද්ධියේ* ඵලයක් ලෙස එයට සමාව දිය හැකි වුවද, ජාතිකවාදය, විශේෂයෙන්ම ආණ්ඩුවාදී මහා-රුසියානු පිළිබඳ සංකල්පය පිටු දකින, ධනපති ප්‍රජාතන්ත්‍රික විප්ලවය අවසාන යැයි සිතන, සහ කොකෝෂ්කින්ලාගේ ලිබරල්වාදය වෙත ඇදී යන සියලු ජාතිවලට අයත් අවස්ථාවාදීන් විසින් අල්ලා ගනු ලබමින් පවතී.

වෙනත් ඕනෑම ජාතිකවාදයක් මෙන්ම, මහා රුසියානු ජාතිකවාදය විවිධ අවධි පසු කරයි. මෙය සිදුවන්නේ ධනපති රටක එක් නියමිත අවධියකදී බලපාන ඒ, ඒ පංතීන් අනුවය. 1905 වන තුරු අප දැන සිටියේ

* දික්කසාදවීමේ අයිතිය පිළිගැනීම නිසා යම්කිසි එක් දික්කසාදයකට විරුද්ධ වීම, මුල් අදහසට ප්‍රතිවිරෝධී නොවන්නාසේම, මුළු මහත් රුසියාවේ මාක්ස්වාදීන් විසින්ද, ප්‍රථමයෙන් සහ අන් හැමටම පෙර, මහා රුසියානු මාක්ස්වාදීන් විසින්ද ඉවත්වීම පිළිබඳ ජාතීන්ගේ අයිතිය පිළිගැනීමෙන් එක් විශේෂ පීඩිත ජාතියක් ඉවත්වීමට විරුද්ධව උද්ඝෝෂණය ගෙනයාම මුල් අදහසට ප්‍රතිවිරුද්ධ නොවන බව වටහා ගැනීමට අමාරු නොවේ. දැන් සෙම්කොව්ස්කි හා ට්‍රොට්ස්කි විසින් ''උනන්දු කරවන'' මේ නොපවතින ''ප්‍රතිවිරෝධීතාවයට'' සරදම් ලෙස සිනාසෙන පෝලන්ත මාක්ස්වාදීන්ගේ සංඛ්‍යාව නොවැලැක්විය හැකියේ වැඩි වනු ඇතැයි, එබැවින් අපි කල්පනා කරමු.

ජාතික ප්‍රතිගාමීන් පමණකි. විප්ලවයෙන් ඉක්බිතිව, අප රටේ ජාතික ලිබරල් වාදීහු බිහිවූහ.

අප රටේ ඔක්තෝබර් වරුන් සහ කැඩේට් වරුන් (කොකෝෂ්කින්) විසින්ද, එනම් මුළු මහත් වත්මන් ධනපති පංතිය විසින්ම සැබවින්ම ගෙන තිබෙන ස්ථාවරය මෙය වන්නේය.

පසු කලෙක නොවැලැක්විය හැකි සේ, මහා රුසියානු ජාතික-ප්‍රජාතන්ත්‍රවාදීන් බිහිවනු ඇත. ''ජනතා සමාජවාදී පක්ෂයේ''[70] එක් ආරම්භකයකු වන පෙෂෙහෝනව් මහත්මයා, ගොවීන්ගේ ජාතික අගතිගාමීත්වය ගැන සැලකිලිමත් විය යුතු යැයි (රූස්කය බගාත්ස්වො[71] හි 1906 අගෝස්තු කලාපයේ ලියමින්) ඉල්ලා සිටි විට, එවකටත් ඔහු මෙම මතය ප්‍රකාශ කළේය. ගොවියාව ''පරමාදර්ශ'' කිරීම ගැන බොල්ෂෙවික් වාදීන් වන අපට විරුද්ධව කොතරම් ද්වේෂ සහගත ප්‍රචාර ගෙන ගියත්, චෝදනා එල්ල කළත්, අපි හැමදම ගොවි බුද්ධිය සහ ගොවි අගතිගාමීත්වය අතර ඇති වෙනසද, ප්‍රජාතන්ත්‍රවාදය සඳහා ගොවි අභිප්‍රාය සහ පුරිෂ්කේවිච්ට ඇති විරුද්ධත්වය අතර ඇති වෙනසද, පූජකයා සහ ඉඩම් හිමියා සමග සමාදනය ඇති කැරැ ගැනීමට ගොවියාගේ අභිලාෂයද පැහැදිලි ලෙස වෙන් කොට හැඳින්වීමු, එලෙසම හඳුන්වන්නෙමු.

දැනුදු, එමෙන්ම අනාගතයේදී සෑහෙන කාලයක් තිස්සේද මහා රුසියානු ගොවීන්ගේ ජාතිකවාදය (මෙයට වාසිදීම සඳහා නොව, විරුද්ධව සටන් කිරීමේ අරමුණ ඇතිවය)* නිර්ධන පංතික ප්‍රජාතන්ත්‍ර වාදය විසින් පිළිගත යුතුය. 1905 ට පසුව මෙතරම් පැහැදිලි ලෙස පෙනුණු පීඩිත ජාතීන්ගේ ජාතිකවාදයේ පිබිදීම (1 වැනි දූමා මන්ත්‍රණ සභාවේ ස්වෙරී-පෙඩරල් වාදීන්ගේ කණ්ඩායමද, උක්රේනියානු ව්‍යාපාරයද, මුස්ලිම් ව්‍යාපාරයද ආදිය මතක් කරමු) නිසා නොවැළැක්විය හැකිසේ නගරබද සහ ගම්බද මහා රුසියානු සුළු ධනපතීන් අතර වඩාත් වැඩි ජාතිකවාදයකට මග සලසනු ඇත. රුසියාවේ ප්‍රජාතාන්ත්‍රකරණය පමාවන තරමට ජාතික වධ හිංසා කිරීම්ද එමෙන්ම විවිධ ජාතීන්ට අයත් ධනපතීන් අතර කුලල් කා ගැනීම්ද වඩාත් දැඩි, මෘග සහ කටුක වනු ඇත. රුසියානු පුරිෂ්කේවිච්ලාගේ විශේෂ ප්‍රතිගාමී ස්වභාවය හේතුකොට ගෙන විවිධ පීඩිත ජාතීන් අතර ''විභේදනකාරී'' ප්‍රවණතාවයන් එකවර බිහිකරයි (එමෙන්ම ඒවා ශක්තිමත් කරයි). අසල් වැසි රාජ්‍යයන් තුළ වාසය කරන මෙවැනිම පීඩිත ජාතීහු රුසියාවේ සිය සගයිනට වඩා සමහර විට වැඩි නිදහසක් භුක්ති විඳිති.

මෙවැනි තත්ත්වයක් යටතේ රුසියාවේ නිර්ධන පංතිය දෙයාකාර නැතිනම් ද්වි පාර්ශ්වීය කාර්යයකට මුණ පා සිටී: සියලු අන්දමේ ජාතික වාද වලටද, අන් හැමටම පෙර මහා රුසියානු-ජාතිකවාදයටද විරුද්ධව සටන් කිරීමය; පොදුවේ සියලු ජාතීන්ට පූර්ණ සමාන අයිතිය පමණක් නොව, රාජ්‍යය ඉදිකිරීමේ අයිතිය හෙවත් ජාතීන්ගේ ස්වයං නිර්ණයනයේ, ඉවත්වීමේ අයිතිය පිළිගැනීමය. එහෙත් ඒ අතරම, ඔවුන්ගේ කාර්යය වන්නේ, සියලු ජාතීන් අතර සියලු අන්දමේ ජාතිකවාදයන්ට විරුද්ධව සාර්ථක ලෙස අරගලයන් ගෙනයාම පිණිස, ජාතික විශේෂතාවයන් සඳහා ධනපතීන්ගේ අභිලාෂයන් නොතකා නිර්ධන පංතික සංවිධාන සමීප ලෙස බැඳුණු ජාත්‍යන්තර සමාගමයක් තුළ ඒකාබද්ධ කරමින්, නිර්ධන පංතික අරගලයේ සහ නිර්ධන පංතික සංවිධාන වල සමගිය ආරක්ෂා කිරීමය.

සියලු ජාතීන්ගේ පූර්ණ සමානත්වය පිළිබඳ අයිතිය; ස්වයං නිර්ණයනය සඳහා ජාතීන් සතු අයිතිය; සියලු ජාතීන්ට අයත් කම්කරුවන් අතර සමගිය —කම්කරුවන්ට උගන්වන මාක්ස්වාදයේ ජාතික වැඩපිළිවෙළත්, මුළු මහත් ලෝකයේ අත්දැකීමත්, රුසියාවේ අත්දැකීමත් එසේය.

---

නාෂා රබෝචය ගස්යෙතා පුවත්පතේ අංක 3 කලාපය මා අත පත්වන විට, මේ ලිපියේ අකුරු අමුණා අවසන් වී තිබිණි. ස්වයං නිර්ණයනය පිළිබඳ සියලු ජාතීන්ගේ අයිතිය පිළිගැනීම ගැන ව්ල්. ක්‍රසොව්ස්කි මහතා එම පුවත්පතින් මෙසේ ලියයි:

---

* පෝලන්ත ජාතික වාදය, නිදසුනක් වශයෙන් රදළ වංශක්කාර ජාතිකවාදය, ධනපති ජාතික වාදයටත් ඉන් ඉක්බිතිව ගොවි ජන ජාතිකවාදයටත් පරිවර්තනය වූ සැටි සොයාබැලීම සිත් ගන්නා කාර්යකි. ලුද්විග් බෙර්න්ගාර්ද්ගේ "Das polnische Gemeinwesen im preussischen Staat" (ප්රුසියානු රාජ්‍යය තුළ පෝලන්ත ජාතික ප්‍රජාව — මෙහි රුසියන් පරිවර්තනයක්ද තිබේ) පොතින් ඔහු ජර්මන් කොකෝෂ්කින්ගේ මතයක් දරමින්, ඉතා විශේෂ ප්‍රපංචයක් විස්තර කරයි: තම ජාතිකත්වය, ආගම සහ පෝලන්ත ඉඩම් සඳහා කරන සටනේදී පෝලන්ත ගොවීන්ගේ විවිධ සමුපකාර සහ අනෙකුත් සංවිධානවල මිත්‍ර සන්ධානයක ආකාරය තුළින් ජර්මනියේ වාසය කරන පෝලන්ත ජාතිකයින් විසින් ''ගොවි සමූහාණ්ඩුවක්'' වැනි රජයක් පිහිටුවාලීම එයින් කියවේ. ජර්මන් පීඩනය නිසා පෝලන්ත ජාතිකයෝ එක්සත් වූහ, එසේම ඔවුහු තනිවූහ. එනිසා ප්‍රථමයෙන් රදළ වංශක්කාරයින් අතරද, පසුව ධනපතීන් අතරද අවසානයේදී ගොවි බහු ජනතාව අතරද එය ජාතික පිබිදීමක් ඇති කළේය (පෝලන්ත බස පාසල්වල භාවිතා කරනවාට විරුද්ධව 1873 දී ජර්මනුන් විසින් පටන්ගත් ව්‍යාපාරයෙන් පසුව). රුසියාවේද සිද්ධීන් මෙවැනිම මගක් ඔස්සේ වර්ධනය වෙමින් පවතී. මෙය පෝලන්තයට පමණක් සීමාවී නැත.

"ජාත්‍යන්තර සමාජවාදී තීරණ වලින් උපුටා ගන්නා ලද, පක්ෂයේ පළමුවැනි සමුළුවේ (1898) යෝජනාවලින් යාන්ත්‍රික ලෙස ලබාගත්, දේශපාලන ස්වයං නිර්ණයනය, දේශපාලන නිදහස නැමැති ක්ෂේත්‍රයේ ස්වයං නිර්ණයනය නැමැති යෝජනාව, පිළිබඳ විවාදයේදී හෙළිවූ පරිදි, සමාජවාදී ජාත්‍යන්තරය විසින් එයට දෙන ලද තේරුම, 1903 සමුළුව විසින්ද එයට දෙන ලදී. ඒ අනුව, භෞමික වශයෙන් ඉවත් වීමේ අයිතිය ප්‍රකාශ කරන, ජාතික ස්වයං නිර්ණයනය නැමැති සූත්‍රය, පවතින රාජ්‍යයකින් පිටවීමට නොහැකි නැතිනම් අකැමැති ජාතීන්ට යම්කිසි නියමිත රාජ්‍ය සංවිධානයක් තුළ ජාතික සබඳතාවයන් විධිමත් කරන්නේ කෙසේද යන ප්‍රශ්නයට කිසිසේත්ම බල නොපායි".

මෙයින් පැහැදිලි ලෙස පෙනීයන්නේ එල්. කසොව්ස්කි මහතා 1903 පක්ෂයේ දෙවැනි සමුළුවේ වාර්තා කියවූ බවත් සහ ස්වයං නිර්ණයනය නැමැති පදයේ සැබෑ (සහ එකම) තේරුම ඉතා හොඳින් වටහාගත් බවත්ය. වැඩ පිළිවෙළ අපහැදිලි යැයි කියන ලිබ්මාන් මහතාගේ දෝෂාරෝපණයට බුන්ඩ් වාදීන්ගේ පුවත්පත වන සෙයිට් හි කර්තෘවරුන් ඉඩ සලසා දීමත් සමග මෙය සන්සන්දනය කරන්න! මේ බුන්ඩ්වරුන් අතර ඇත්තේ, විකෘතිවූ "පාක්ෂික" ආචාර ධර්මයන්ය... සමුළුව, ස්වයං නිර්ණයනයේ මූලධර්මය යාන්ත්‍රික ලෙස සම්මත කළේයැයි කස්ලොව්ස්කි ප්‍රකාශ කරන්නේ මන්දැයි යනු "දන්නේ දෙවියන්" පමණකි. සමහරුනට විරුද්ධ වීමට වුවමනා වී ඇත. එහෙත් මන්ද, කුමකටද, කිනම් හේතුවක් සඳහා ද යන්න ඔවුහු නොදනිති.

1914 පෙබරවාරි-මැයි මාසවලදී
ලියන ලදී

සම්පූර්ණ කෘති, 5 වැනි
මුද්‍රණය, වෙළුම 25, පිටු
257—320

# මහා රුසියානු ජාතික අභිමානය

ජාතිකත්වය සහ පිතෘභූමිය ගැන අද කෙතරම් කතා, තර්ක සහ කෑගැසීම් කරතිද! බ්‍රිතාන්‍යයේ ලිබරල් සහ රැඩිකල් ඇමතිවරු, ප්‍රංශයේ "පුරෝගාමී" පුවත්පත් කලා වේදීන් (ඔවුහු සිය ප්‍රතිගාමී සගයින් සමග පූර්ණ එකඟත්වයකට එළැඹ සිටින බව ඔප්පුකර ඇත්තාහ) පිරිසක්ද, රුසියාවේ නිල, කැඩෙට්වාදී, ප්‍රගතිවාදී කුරුටුගාන්නන් (නරෝද්නික්වාදීන් සහ "මාක්ස්වාදීන්" කීපදෙනෙක් සහිත) රැළක්ද, යන මේ සියලු දෙනම ස්වකීය රටෙහි විමුක්තියේ සහ ස්වාධීනත්වයේද, ජාතික නිදහස පිළිබඳ ප්‍රතිපත්තියේ ශ්‍රේෂ්ඨත්වය ගැන සීමා රහිතව පසසති. මොවුන් අතුරෙන් මිනිස් ඝාතක නිකොලායි රොමානව්ටත්, නිග්‍රෝවරුන්ගේ සහ ඉන්දියානුන්ගේ ම්ලේච්ඡ පීකඩයින් ටත් කුලියට ගී ගැයූ පුද්ගලයා කවරෙක්ද යන්න සහ හුදෙක් මුග්ධතාවය නිසා හෝ කොන්ද පණනැති කම නිසා හෝ ප්‍රවාහයට අසුවී ගසාගෙන යන බැහැවර අවරසිකයා කවරෙක්ද යන්න කිසිවකුටවත් කිව නොහැකිය. එමෙන්ම මෙය තෝරා බේරා ගැනීම වැදගත් දෙයක්ද නොවේ. ප්‍රබල රටවල ඉඩම් හිමියන්ගේ සහ ධනපතීන්ගේ වුවමනාවන් සමග සමීප ලෙස වෙළී ඇති මූලාරම්භය සහිත විස්තීර්ණ සහ ගැඹුරු සංකල්ප විද්‍යා ප්‍රවණතාවයන් අප ඉදිරියෙහි දක්නට ඇත. එම පංතිවලට වාසි සහගත වන සංකල්ප පතුරුවා හැරීම සඳහා වසරක් පාසා කෝටි සහ දස කෝටි සංඛ්‍යාත මුදලක් වැය කෙරේ. වැටහීමෙන් ජාත්‍යෝන්මාදවාදියෙකු වූ මෙන්ෂිකොව්ගේ සිට, අවස්ථාවාදය නිසා හෝ කොන්ද පණනැති කම නිසා හෝ ජාත්‍යෝන්මාදවාදීන් බවට පත් වූ ප්ලෙහානව් හා මාස්ලව්ද, රුබනෝවිච් සහ ස්මිර්නොව්ද ක්‍රපෝත්කින් හා බුර්ත්සෙව්ද දක්වා වූ සියලු දෙනාගෙන් සමන්විත මෙම ව්‍යාපාරය සියලු උල්පත් වලින් ජලය ලබා ගන්නා විශාල ජල ප්‍රවාහයක් වැන්න.

මහ රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වන අපි ද මෙම දෘෂ්ටිමය ප්‍රවණතාවය කෙරෙහි අප දක්වන ආකල්පය විග්‍රහ කිරීමට උත්සාහ ගනිමු. යුරෝපයේ ඈත පෙරදිග සහ ආසියාවේ සෑහෙන කොටසක ආධිපතිත්වය උසුලන, විශේෂයෙන්ම ''ජනතාවගේ බන්ධනාගාරය'' ලෙස නිවැරදිව හඳුන්වා ඇති රටක නියෝජිතයින් වශයෙන් ජාතික ප්‍රශ්නයේ අති මහත් වැදගත්කම අමතක කිරීම අපට තරම් නොවේ. විශේෂයෙන්ම ඈත පෙරදිග යුරෝපයේ සහ ආසියාවේ ලොකු සහ කුඩා ''අලුත්'' ජාතීන් සංඛ්‍යාවක්, ධනපති ක්‍රමය විසින් ජීවමය පුබුදුවාලීමකටත්, ආත්ම සංඥතාවයටත්, ගෙනෙනු ලබන වකවානුවක, කුලීනයින්ගේ එක්සත් මණ්ඩලයේ[72] සහ ගුච්කොව්ලාගේ, ක්‍රෙස්තව්නිකව්ලාගේ, දෙල්ගරුකව්ලාගේ, කුත්ලර්ලාගේ සහ රෝදිචෙව්ලාගේ වුවමනාවන්ට ගැළපෙන පරිදි, ජාතික ප්‍රශ්න සංඛ්‍යාවක්ම ''විසඳාලීම'' පිණිස මහ රුසියානුන් සහ ''රුසියානු නොවන්නන්'' දස ලක්ෂ සංඛ්‍යාවක් සාර්ගේ රාජාණ්ඩුව විසින් කුවක්කුවේ බලයට යට කොට තිබෙන මෙවැනි කාලයෙක, එම ප්‍රශ්නය අමතක කළ නොහැකිය.

පංති හැඟිම ඇති මහ රුසියානු නිර්ධනින් වන අපට ජාතික අභිමානය පිළිබඳ හැඟිම පිටස්තර දෙයක් ද? සත්තකින්ම නැත! අපි අපේ භාෂාවට සහ මවුබිමට ආදරය කරමු. ඇගේ වැඩකරන ජනතාව (රටේ ජනගහනයෙන් දහයෙන් නව කොටසක්) ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ හා සමාජවාදීන්ගේ විඥාත මට්ටම දක්වා උසස් කිරීමට අන් හැමටම වඩා වැඩියෙන් අපි වැඩ කරමු. සාර්ගේ මිනිමරුවන්, ප්‍රභූවරුන් සහ ධනපතින් නිසා අපේ මේ සුන්දර මවුබිමට විඳින්නට සිදුවී තිබෙන සහාසික අපරාධ, පීඩනය සහ අවඥාව දකින විට සහ හඟින විට, අපි මහත් වේදනාවකින් තැවෙමු. අප අතරින්, මහා රුසියානුන් අතරින් මෙම සහාසික අපරාධ වලට විරුද්ධව ප්‍රතිරෝධනයක් දක්වීමත්, ඔවුන් අතරින් රදීෂෙව්, දෙසැම්බර්වාදීන්[73], 1870 ගණන්වල විවිධ නියෝජිත[74] විප්ලවවාදීන් වෙන්කොට ඉදිරිපත් කිරීමට හැකිවීමත් ගැනත් අපි ආඩම්බර වෙමු. මහ රුසියානු කම්කරු පංතිය 1905 දී පොදු ජනතාවගේ බලසම්පන්න විප්ලවවාදී පක්ෂයක් ඇති කිරීම නිසාද, මහා රුසියානු ගොවි ජනතාව මේ කාලයේදී ප්‍රජාතන්ත්‍රවාදීන් වීමට පටන් ගැනීම සහ ඔවුන් පූජකයින් සහ ඉඩම් හිමියන් පෙරළා දැමීමට ඉදිරිපත් වීම නිසාද අපි ආඩම්බර වමු.

විප්ලවවාදී ව්‍යාපාරයට මුළු මහත් ජීවිතයම කැප කළ මහා රුසියානු ප්‍රජාතන්ත්‍රවාදියා වූ චෙර්නිෂෙව්ස්කි අඩ සිය වසරකට පෙර මෙසේ කී බව අපට මතකය: ''දීන ජාතියකි, වහලුන්ගේ ජාතියකි, ඉහළ සිට පහලට සියලු දෙනම වහල්ලුය.''[75] මහ රුසියානු විවෘත සහ ආවෘත වහල්ලු (සාර්වාදි රාජාණ්ඩුව සම්බන්ධයෙන් වහල්ලු) මෙම වචන සිහිපත් කිරීමට



අකැමැතියහ. අප මවු බිමට ඇති සැබෑ ආදරය නිසාත්, මහ රුසියානු පොදු ජනතාව අතර විප්ලවවාදී හැඟීම් නොතිබීම හේතුකොට ගෙන ඉන් පැන නැගි සංවේගය නිසාත් ඔහු එම වචන පැවසූ බව අපේ අදහසය. එවකට එම හැඟීම් කොහෙත්ම නොතිබිණි. දැන් එය අල්ප වුවද ඇත්තේය. අපි ජාතික අභිමානවත් හැඟීම් වලින් පිරී සිටිමු මන්දයත්, මහා රුසියානු ජාතියද විප්ලවවාදී පන්තියක් බිහිකළ නිසාය, මහා යුදෙව් සංහාර, එල්ලුම් ගස් පෙළවල්, උමං බන්ධනාගාර, මහා දුර්භික්ෂ, පූජකයින්, සාර් රජවරුන්, ඉඩම් හිමියන් සහ ධනපතීන් ඉදිරියේ විදහාපාන දීනත්වය නිසා නොව, නිදහස සහ සමාජවාදය සඳහා වූ අරගලයේ ශ්‍රේෂ්ඨ ආදර්ශ මිනිස් වර්ගයා ඉදිරියේ තැබීමට මහා රුසියානු ජාතියද සමත් වූ නිසාය.

අපේ ජාතික අභිමානය නිසා ඔද වැඩී සිටින අපි එම හේතුව නිසාම අපේ වහල් අතීතයට (හංගේරියාවේ, පෝලන්තයේ, පර්සියාවේ සහ චීනයේ නිදහස පාගා දැමීම සඳහා ඉඩම් හිමි රදළයින් විසින් ගොවිජනතාව මෙහෙයැවුණු අතීතයට) විශේෂයෙන් වෛර කරමු. ධනපතීන්ගේ ආධාර ලබන එම ඉඩම් හිමියන් විසින්, පෝලන්තයේ සහ උක්රයිනයේ ගෙළ මිරිකා දැමීම පිණිස, පර්සියාවේ සහ චීනයේ ප්‍රජාතන්ත්‍රික ව්‍යාපාර පාගා දැමීම පිණිස, අපේ මහ රුසියානු ජාතික උදරත්වයට අපකීර්තියක් ගෙන දෙන රොමානොව්ලා, බොබ්රින්ස්කිලා සහ පුරිෂ්කේව්ච්ලා, කල්ලිය ශක්තිමත් කිරීම පිණිස, අප යුද්ධයකට ඇදගෙන යනු ලබන වර්තමානයටද අපි එලෙසම වෛර කරමු. වහලෙකුව උපත ලැබීම නිසා කිසිවකුට දෙස් පැවරිය නොහැකිය. එහෙත් නිදහස සඳහා දරන අභිලාෂයෙන් වැළකී සිටින, එපමණක් නොව, ඔහුගේ වහල්භාවය සාධාරණ බව කියන සහ එය හුවා දක්වන (නිදසුනක් වශයෙන් පෝලන්තයේ සහ උක්රේනියාවේ ආදි රටවල ගෙල මිරිකා දැමීමට සහ මහා රුසියානුන්ගේ පිතෘ භූමිය ආරක්ෂා කිරීමට පක්ෂව හඬ නගන) වහලෙක් වේ නම් ඔහු යුක්ති යුක්ත කෝපාන්විත හැඟීමකට, දැඩි පිළිකුලට සහ අප්‍රිය තාවයට හේතුවන නිවටයෙකි, අධමයෙකි.

''වෙනත් ජාතීන්ට පීඩාකරන කිසිම ජාතියකට නිදහස් විය නොහැකියැ[76]'' යි දහනව වැනි සිය වසරේ සසංගතික ප්‍රජාතන්ත්‍රවාදයේ ශ්‍රේෂ්ඨතම නියෝජිතයෝ වන එමෙන්ම විප්ලවවාදී නිර්ධන පංතියේ ගුරුවරයින් බවට පත්වූ මාක්ස් සහ එංගල්ස් පැවසූහ. එහෙත් මොනවා වුවත්, මහ රුසියානු කම්කරුවන් වන අපට, නිදහස් සහ ස්වාධීන ප්‍රජාතන්ත්‍රවාදී ජනරජයක් වන, අභිමානවත් මහ රුසියාවක් අවශ්‍ය බව පූර්ණ ජාතික අභිමානයකින් යුතුව පවසමු. තම අසල්වැසි රටවල් සමග ඇති කර ගන්නා සබඳතාවයන් මහා ජාතියකට නින්ද ගෙන දෙන, වරප්‍රසාදය මත පිහිටි වැඩවසම් ප්‍රතිපත්තිය අනුව නොව, සමානත්වය පිළිබඳ මානු-

ෂික ප්‍රතිපත්තිය මත පිහිටා සකස් කැරු ගන්නා රුසියාවක් අපට අවශ්‍ය බව පවසමු. එය අපට වුවමනා නිසා අපි මෙසේ ප්‍රකාශ කරමු: විසි වැනි සිය වසරේදී යුරෝපයේ (ඈත පෙරදිග යුරෝපයේ වුවද) ස්වකීය පිතෘ භූමියේදී, රාජාණ්ඩුවට විරුද්ධව, ඉඩම් හිමියනට සහ ධනපතීනට විරුද්ධව, එනම් අප රටේ පරම හතුරන්ට විරුද්ධව සටන් කිරීම සඳහා සෑම විප්ලවවාදී මාධ්‍යයක්ම උපයෝගී කර නොගන්නේ නම්, ''පිතෘ භූමිය ආරක්ෂා කිරීම'' කළ නොහැකිය. ඕනෑම යුද්ධයකින් සාර්වාදය පරාජය කිරීමට කැමතිවීමෙන් මිස, වෙනත් අන් මඟකින් ''පිතෘ භූමිය ආරක්ෂා කිරීම'' කළ නොහැකිය. ඕනෑම යුද්ධයකින් සාර්වාදය පරාජය කිරීමට කැමතිවීමෙන් මිස, වෙනත් අන් මඟකින් ''පිතෘභූමිය ආරක්ෂා කිරීමට'' මහා රුසියානුන්ට නොහැකි බව අපි ප්‍රකාශ කරමු. මහා රුසියාවේ වාසය කරන ජනයාගෙන් දහයෙන් නව පංගුකට අවම දුර්භාග්‍යය වන්නේ සාර්වාදයය. සාර්වාදය ජනතාවගේ මෙම දහයෙන් නව පංගුව ආර්ථික හා දේශපාලන වශයෙන් පාගා දැමීමෙන් නොනවතී. වෙනත් ජාතීන් පාගා දැමීමටත්, එයින් වන නින්දාව වසා ගනු වස්, කුහක සහ ව්‍යාජ දේශප්‍රේමී වාග් පාඨ කීමටත් උගැන්වීමෙන් එය ඔවුන් දුර්මුඛ කරයි, නින්දාවට පත් කරයි, අපකීර්තියට හා දූෂණයට පත් කරයි.

සාර්වාදයට අමතරව, එහි පියාපත් යටතේ තවත් ඓතිහාසික බලවේගයක්, එනම් මහ රුසියානු ධනපති ක්‍රමය මතුවී ඇති බවත්, එය විශාල පෙදෙස් මධ්‍යගත කරණයට සහ ඒකාබද්ධ කරණයට භාජනය කරමින් ප්‍රගමනික ලෙස ක්‍රියා කරන බවත් පෙන්වමින් අපට විරුද්ධවීමට සමහර විට ඉඩ ඇත. මෙම විරෝධය පැම නිසා අපේ සමාජවාදී-ෂොවින්වාදීන්ට සමාව නොලැබේ. එයින්, ඊට පටහැනිව මොවුන් තව දුරටත් හෙළා දැකීමට භාජනය වේ. (මාක්ස් විසින් ලසාල් වාදීන්, රාජකීය ප්රුසියන් සමාජවාදීන්[77] ලෙස හඳුන්වනු ලැබූ පරිද්දෙන්) මොවුන් හැඳින් විය යුත්තේ සාර්වාදී පුරිෂ්කේවිච් වර්ගයේ සමාජවාදීන් යනුවෙනි. මහා රුසියානු අධිපති ජාතියේ ධනපති ක්‍රමයට පක්ෂව සහ කුඩා ජාතීන් සියයකුත් එකකට විරුද්ධව ඉතිහාසය තීරණයක් වුවද කරනු ඇතැයි අපි පිළිගනිමු. මෙය සිදුවිය නොහැක්කක් නොවේ, මන්දයත් ප්‍රාග්ධනයේ මුළු මහත් ඉතිහාසයම හිංසනයෙන් සහ කොල්ල කෑමෙන්, රුධිරයෙන් හා දූෂණයෙන් පිරී ඇති එකක් වන බැවිනි. කිනම් ක්‍රමයකින් හෝ කුඩා ජාතීන් ආරක්ෂා කළ යුතුයැයි අපි නොකියමු. වෙනත් තත්ත්වයන් සමාන නම් අපි නියත ලෙසම මධ්‍යගත කරණයට පක්ෂපාත වෙමු. පෙඩරල් සබඳතාවයන් අරභයා වූ සුළු ධනපති පරමාදර්ශයට විරුද්ධ වෙමු. ප්‍රථමයෙන් අපේ අභ්‍යුපගමය සැබැවක් වුවත්, උක්රේනියාව ආදියෙහි ගෙල මිරිකා දැමීමට රොමානව් — බබ්රින්ස්කි — පුරිෂ්කේවිච් ලාට උදව්දීම, අපේ පමණක් නොව, (සමාජවාදීන් තබා) ප්‍රජාතන්ත්‍රවාදීන්ට හෝ සැහෙන කාර්යයක් නොවේ. බිස්මර්ක් ඔහුට ආවේණික වූ ජුන්කර්[78] ශෛලියකින් ප්‍රගාමී ඓතිහාසික කාර්යයක්[79] සපුරාලීය. එහෙත් එය හේතුවක් ලෙස ඉදිරිපත් කරමින්, බිස්මර්ක්ට සමාජවාදී ආධාරදීම සුදුසු යැයි කල්පනා කරන්නෙක් වේ නම්, ඔහු අපූරු වර්ගයක මාක්ස්වාදියෙකි'' එපමණක් නොව වෙනත් ජාතීන්ගේ පෑගීමට යටවී සිටි, අසමගි වී සිටි ජර්මනුන් සමගි කිරීම මගින් බිස්මාර්ක් ආර්ථික වර්ධනයට ආධාර කළේය. එසේ වුවද මහ රුසියවේ ආර්ථික සමෘද්ධිය සහ ක්ෂණික සංවර්ධනය සඳහා, මහා රුසියානුන් විසින් වෙනත් ජාතීන් පීඩනයට පත් කිරීමෙන් රට මුදා ගැනීම අවශ්‍ය වේ. සැබෑ රුසියානු අනාගත බිස්මර්ක්ලා වෙත නෙත් යොමා සිටින අපේ ආවඩන්නෝ මෙම වෙනස අමතක කරති.

දෙවැනිව, ඉතිහාසය මහා රුසියානු අධිපති ජාතියේ ධනේශ්වර ක්‍රමයට පක්ෂව, තීරණය කරති නම්, ධනපති ක්‍රමය විසින් බිහිකරන ලද, කොමියුනිස්ටවාදී විප්ලවයේ ප්‍රධාන ජංගමශීලි බලවේගය වන මහා රුසියානු නිර්ධන පංතියේ සමාජවාදී ක්‍රියා කලාපය තවත් විශාල වන බව ඉන් එළැඹිය යුතු නිගමනය වන්නේය. නිර්ධන පංතික විප්ලවය සඳහා අති පූර්ණ ජාතික සමානත්වය සහ සහෝදරත්වය පිළිබඳ ආස්වාදයකින් යුත් දීර්ග කාලීන පුහුණුවක් කම්කරුන්ට ලබා දීම අවශ්‍ය වේ. එ නිසා, මහා රුසියානු නිර්ධන පංතියේ යහපත පිණිස, මහා රුසියානුන් විසින් පීඩනයට හසු කරන ලද සියලු ජාතීන්ගේ පූර්ණ සමානතාවයට සහ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතියට පක්ෂව අරගල ගෙනයාමට පොදු ජනතාව ක්‍රමවත් ලෙස පුහුණු කිරීම කළ යුතුය. මහා රුසියානු ජාතික අභිමානයේ වුවමනාවන් (වචනයේ වහල් අර්ථයෙන් වටහා නොගත්) මහා රුසියානු සහ සෙසු සියලු නිර්ධන පංතිකයන්ගේ සමාජවාදී වුවමනාවන් සමඟ ගැළපෙයි. දසක ගණනක් එංගලන්තයේ වාසය කරමින්, අර්ධ ඉංග්‍රිසි ජාතිකයකුගේ තත්ත්වයට පත් වුවද, ඉංග්‍රිසි කම්කරුවන්ගේ සමාජවාදී ව්‍යාපාරයේ යහපත පිණිස අයර්ලන්තයට ජාතික නිදහස හා ස්වාධීනත්වය ඉල්ලා සිටි මාක්ස් හැමදම අපේ ආදර්ශය වනු ඇත.

අපේ අවධානය යොමුවූ දෙවැනි කල්පිතය අනුව අපේ ස්වදේශීය සමාජවාදී-ජාත්‍යෝත්මාදවාදීන් වන ප්ලෙහානව් හා අනිකුත් උදවිය, ඔවුන්ගේ මවුබිමට, නිදහස් හා ප්‍රජාතන්ත්‍රවාදී මහා රුසියාවකට පමණක් නොව, රුසියාවේ සියලු ජාතීන්ගේ නිර්ධන පංතික සහෝදරත්වයට එනම් සමාජවාදයේ කාර්යයට ද්‍රෝහීන් වූ බව ඔප්පු වනු ඇත.

සොත්සියල් දෙමොක්‍රාත්
අංක 35.
1914 දෙසැම්බර් 12

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය,
වෙළුම 26, පිටු 106–110

# සමාජවාදී විප්ලවය සහ ස්වයං නිර්ණයනය පිළිබඳ ජාතීන් සතු අයිතිය

(තීසිස)

### 1. අධිරාජ්‍යවාදය, සමාජවාදය සහ පීඩිත ජාතීන්ගේ විමුක්තිය

ධනවාදී සංවර්ධනයේ උසස්තම අවධිය අධිරාජ්‍යවාදයය. සමාජවාදය දිනාගැනීමට අවශ්‍ය වාස්තවික තත්ත්වයන් බිහිකරමින් දියුණු රටවල ප්‍රාග්ධනය ජාතික දේශසීමාවන්ගෙන් ඔබ්බට වැඩී ඇත, එය තරඟය වෙනුවට ඒකාධිකාරය ඉදිරිපත් කර ඇත. බටහිර යුරෝපයේ සහ ඇමරිකා එක්සත් ජනපදයේ, එමනිසා ධනපති ආණ්ඩු පෙරළා දැමීම සහ ධනපති පංතියේ සියලු දේපල පවරා ගැනීම සඳහා නිර්ධන පංතිය විසින් විප්ලවවාදී අරගල ගෙනයාම අද්‍යතන කාර්යය බවට පත්වී ඇත. පංති ප්‍රතිසතිතතාවයන් ඉමහත් පරිමාණයකින් තියුණු කරමින්, සංගත සහ ජීවන වියදම වැඩි කිරීම මගින් ජනතාවගේ ආර්ථික තත්ත්වයද, මිලිටරිවාදය වර්ධනය කිරීම, නිතර නිතර යුද්ධ ඇති කරලීම, වඩාත් බලසම්පන්න ප්‍රතිගාමීත්වය, මගින් ජාතික පීඩනය යටත් විජිත කොල්ල කෑම තිව්‍ර කිරීම සහ ජාතික පීඩනය මගින් දේශපාලන තත්ත්වයද වඩාත් අභයපත් කරමින් අධිරාජ්‍ය වාදය විසින් බහු ජනතාව අරගලයට ඇද දමනු ලැබේ. ජයග්‍රාහී සමාජවාදය අත්‍යාවශ්‍යයෙන්ම පූර්ණ ප්‍රජාතන්ත්‍රවාදයක් අත්‍යාවශ්‍යයෙන්ම ස්ථාපිත කළ යුතුය. එමෙන්ම සියලු ජාතීන්ට සමානතාවය ඉදිරිපත් කරනවා පමණක් නොව, පීඩිත ජාතීන්ගේ ස්වයං නිර්ණයනයට ඇති අයිතිය, එනම් ස්වාධීන දේශපාලන ඉවත්වීමකට ඇති අයිතිය ක්‍රියාවේ යෙදවිය යුතුය. වහල් භාවයට වැටී සිටින ජාතීන් නිදහස් කොට, ඔවුන් සමග නිදහස් සංගමයක — ඉවත් වීමට අයිතියක් නැති නිදහස් සංගමයක් වූකලී ව්‍යාජ වාග් පාඨයක් පමණකි — පදනමත් මත සබඳතාවයන් ඇතිකැරැ ගන්නා බවට දන්ද, විප්ලවය පවතින කාලය තුළදීද, එහි ජයග්‍රහණයෙන් ඉක්බිතිවද තමන්ගේ සියලු ක්‍රියාවන් තුළින් පෙන්වන්නේ නැති සමාජවාදී පක්ෂ, සමාජවාදය පාවාදෙන පක්ෂ, වන්නේය.

රාජ්‍යය අතුරුදහන් වන විට, සත්තකින්ම අතුරුදහන් විය යුතු රාජ්‍ය රූපිතයකි ප්‍රජාතන්ත්‍රවාදය. එහෙත් ඒවා ක්‍රියාවට යෙදෙන්නේ පූර්ණ



ජයග්‍රාහී සහ කහවුරු වූ සමාජවාදය පූර්ණ කොමියුනිස්ට්වාදය කරා පරිවර්තනය වූ විටය.

### 2. සමාජවාදී විප්ලවය සහ ප්‍රජාතන්ත්‍රවාදය සඳහා කරන අරගලය

සමාජවාදී විප්ලවය එක් තනිවූ ක්‍රියාවක් නොවේ, එය එක් පෙරමුණක කරන එක් සංග්‍රාමයක්ද නොවේ, එහෙත් එය තියුණු පංති සට්ටනවල පූර්ණ යුගයකි, හැම පෙරමුණු වල එනම් සියලු ආර්ථික හා දේශපාලන ප්‍රශ්න අරභයා කෙරෙන සංග්‍රාමවල දීර්ඝ පෙළකි. මේ සංග්‍රාම අවසන් විය හැක්කේ ධනපති පංතියෙන් පවරා ගැනීමෙන් පමණකි. ප්‍රජාතන්ත්‍රවාදය සඳහා කරන සටන නිසා නිර්ධන පංතිය සමාජවාදී විප්ලවයෙන් ඈත්කරවීමට එයින් සඟවා තැබීමට, මුවාකර තැබීමට ආදි දේ කිරීමට හැකි යැයි සිතීම අති බරපතළ වරදකි. එයට පටහැනිව, පූර්ණ ප්‍රජාතන්ත්‍රවාදය ව්‍යවහාරික ලෙස ක්‍රියාවට නොයොදවන ජයග්‍රාහී සමාජවාදයක්ද තිබිය නොහැකිවාක් මෙන්ම ප්‍රජාතන්ත්‍රවාදය සඳහා සර්ව පාර්ශ්වීය, ස්ථිරසාර සහ විප්ලවීය අරලයක් කරන්නේ නැතිව, නිර්ධන පංතියට ධනපති පංතිය පරදවා ජය ගැනීම සඳහා සූදනම් වියද නොහැකිය.

ප්‍රජාතන්ත්‍රික වැඩ පිළිවෙළේ එක් කරුණක් වුවද, නිදසුනක් වශයෙන් ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය, අධිරාජ්‍යවාදය යටතේ "ක්‍රියාවට යෙදවිය නො හැකිය" නැතිනම් "මායාකාරියැයි" කියමින්, අතහැර දැමීම, එමෙන්ම සුළු පටු වරදක් නොවේ. ධනපති ක්‍රමයේ සීමාවන් තුළ ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය ක්‍රියාවට යෙදවිය නොහැකිය යන තර්කය තේරුම් ගත හැක්කේ එක්කෝ නිරපේක්ෂ ආර්ථික අර්ථයෙහි, නැතිනම් තාත්ත්වාරෝපිත දේශපාලන අර්ථයෙනි.

ප්‍රථමයෙන්ම, එය න්‍යායික ස්ථාවරය අනුව සම්පූර්ණයෙන්ම සාවද්‍යය. පළමුව ඒ අනුව නිදසුනක් වශයෙන් ශ්‍රම මුදල්[80] නැතිනම් අර්බුද ඇතිවීම වළක්වාලීම ආදිය ධනපති ක්‍රමය යටතේ ක්‍රියාවේ යෙදවිය නොහැකිය. ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය එමෙන්ම ක්‍රියාවේ යෙදවිය නොහැකියැයි කීම සම්පූර්ණ අසත්‍යයකි. දෙවනුව, මේ අනුව, එය "ක්‍රියාවට යෙදවිය නොහැකිය" යන මතය ප්‍රතික්ෂේප කිරීම සඳහා 1905 දී නෝර්වේය ස්වීඩනයෙන් ඉවත්වීම පිළිබඳ එකම නිදසුන වුවද ප්‍රමාණවත්ය. තෙවනුව, ජර්මනියේ සහ බ්‍රිතාන්‍යයේ වැනි රටවල දේශපාලන හා උපක්‍රම ශීලී සබඳතාවයන්ගේ සුළු වෙනස්වීමක් නිසා අද හෝ හෙට හෝ පෝලන්ත, ඉන්දියානු සහ තවත් එයට සමාන රටවල නව රජයන්ගේ සැකැස්මක් සම්පූර්ණයෙන් "ක්‍රියාවට යෙදවිය

හැකිය'' යන්න ප්‍රතික්ෂේප කිරීම මුග්ධ ක්‍රියාවකි. සතරවැනිව, මූල්‍ය ප්‍රාග්ධනයට, ව්‍යාප්තිය සඳහා වූ එහි ඉදිරි ගමන තුළින්, අති නිදහස් ප්‍රජාතන්ත්‍රවාදී හෝ සමූහාණ්ඩුවාදී හෝ ආණ්ඩුවක් සහ ඕනෑම, නිදහස් රටක වුවද තෝරාපත්වූ නිලධාරීන් ''නිදහස් ලෙස'' මිලදී ගත හැකිය, නැතිනම් අල්ලස් දීමෙන් අවනත කර ගත හැකිය. දේශපාලන ක්ෂේත්‍රයේ ඕනෑම ප්‍රතිසංස්කරණ මගින් මූල්‍ය ප්‍රාග්ධනයේ සහ පොදුවේ ප්‍රාග්ධනයේ ආධිපත්‍යය අහෝසි කළ නොහැකිය. එහෙත් ස්වයං නිර්ණයනය පූර්ණ වශයෙන් සහ විශේෂ වශයෙන් මෙම ක්ෂේත්‍රයට අයත් ය. මූල්‍ය ප්‍රාග්ධනයේ මේ ආධිපත්‍යය, කෙසේ වුවද, පංති පීඩනයේ සහ පංති අරගලයේ වඩාත් නිදහස්, වඩාත් පුළුල් සහ වඩාත් පැහැදිලි ආකාරයක් හැටියට දේශපාලන ප්‍රජාතන්ත්‍රවාදයේ වැදගත්කම කොහෙත්ම නිෂ්ප්‍රභා නොකරයි. එමනිසා ධනපති ක්‍රමය යටතේ දේශපාලන ප්‍රජාතන්ත්‍රවාදයේ එක් ඉල්ලීමක් ''ක්‍රියාවේ යෙදවිය නොහැකිය'' යන සියලු තර්ක, ආර්ථික අදහස අනුව, ධනපති ක්‍රමයේ පොදු සහ මූලික සබඳතාවයන්ගේ සහ සමස්තයක් වශයෙන් දේශපාලන ප්‍රජාතන්ත්‍රවාදයේ න්‍යායික වශයෙන් සාවද්‍ය අර්ථ නිරූපණයක් දක්වා ලඝු වෙයි.

දෙවැනි කරුණෙන් කියැවෙන ප්‍රකාශනය අසම්පූර්ණය, සාවද්‍යය ය. මන්දයත්, ස්වයං නිර්ණයනය පිළිබඳ ජාතීන්ගේ අයිතිය පමණක් නොව, දේශපාලනයීය ප්‍රජාතන්ත්‍රවාදයේ සියලු මූලික ඉල්ලීම් අධිරාජ්‍යවාදය යටතේ අඩ වශයෙන් පමණක්, විකෘති ආකාරයකින් හා විශේෂිතයක් හැටියට (නිදසුනක් වශයෙන්, 1905 දී නෝර්වේය ස්වීඩනයෙන් ඉවත් වීම) ක්‍රියාවේයෙදවිය හැකි බැවිනි. සියලු විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් විසින් ඉදිරිපත් කරන සියලු යටත් විජිත වලට වහාම විමුක්තිය දිය යුතුයැයි කියන ඉල්ලීමද විප්ලව පෙළක් නැතිව, ධනපති ක්‍රමය යටතේ ''ක්‍රියාවට නගාලිය නොහැකිය''. එහෙත් මේ සියලු ඉල්ලීම් සඳහා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය ගෙනයන හදිසි සහ අධි අධිෂ්ඨාන සහගත සටන ප්‍රතික්ෂේප කළ යුතුයැයි මින් කොහෙත්ම තේරුම් නොයයි. එවැනි ප්‍රතික්ෂේප කිරීමක් නිසා වාසි ලැබෙන්නේ ධනපති පංතියට සහ ප්‍රතිගාමීත්වයට පමණකි. එහෙත් එයට පටහැනිව, මේ ඉල්ලීම් ප්‍රතිසංස්කරණවාදී ලෙස නොව, විප්ලවවාදී ලෙස සූත්‍රගත කොට ක්‍රියාවේ යෙදවිය යුතු බවත් ධනවාදී නීත්‍යානුකූලත්වයේ සීමාවන්ගෙන් ඔබ්බට ගොස්, ඒවා කඩා බිඳ දමා, පාර්ලිමේන්තුවේ කතාවලින් සහ වාචික විරුද්ධත්වය ප්‍රකාශ කිරීම් වලින් ඔබ්බට ගොස්, තීරණාත්මක ක්‍රියාවන් සඳහා පොදු ජනතාව ඇද ගනිමින්, ධනපති පංතියට විරුද්ධ පොදු නිර්ධන පංතික ප්‍රහාරයක් සඳහා වූ සෑම මූලික ප්‍රජාතන්ත්‍රවාදී ඉල්ලීමක් සඳහා ගෙනයන අරගලය පුළුල් කරමින් සහ සියුම් කරමින්, එනම්



ධනපති පංතියෙන් පවරාගන්නා වූ, සමාජවාදී විප්ලවයක් දක්වා ක්‍රියාවේ යෙදවිය යුතු බවත්, මින් අදහස් කෙරේ. සමාජවාදී විප්ලවයක් පැන නැගිය හැක්කේ විශාල වැඩ වර්ජනයක්, මහා මාර්ගයක පෙළපාලියක්, නැතිනම් කුස ගින්නෙන් පෙළෙන්නන් ගේ කැරැල්ලක් හෝ මිලිටරි නැගිටීමක් හෝ යටත් විජිත කැරැල්ලක් හෝ නිසා පමණක් නොවේ. ඩ්‍රෙයිෆුස්[81] සිද්ධිය නැතිනම් ට්සබෙර්න්[82] සිද්ධිය නිසා හෝ, පීඩිත ජාතියකගේ ඉවත්වීම පිළිබඳව ජනමත විමසුමකට සම්බන්ධ දෙයක් වැනි සිද්ධීන් නිසා හෝ එවැනි විප්ලවයක් ඇති විය හැකිය.

අධිරාජ්‍යවාදය යටතේ වැඩිවන ජාතික පීඩනය නිසා, ධනපති පංතිය විසින් ''මනෝරාජ්‍යයික'' ලෙස නම් කරනු ලබන, ජාතීන්ගේ ඉවත්වීමේ අයිතිය පිළිබඳ නිදහස සඳහා කරන අරගලය, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ප්‍රතික්ෂේප කළ යුතු යැයි මින් තේරුම් නොකෙරේ. එහෙත් එයට පටහැනිව, පොදු ජන ක්‍රියාකාරීත්වය සහ ධනපති පංතියට විරුද්ධව විප්ලවවාදී ප්‍රහාරයන් සඳහා පසුතලය ලෙස සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය විසින් මේ ක්ෂේත්‍රයේ ඇතිවන ඝට්ටන වලින් පවා වැඩි ප්‍රයෝජනයක් ගත යුතුය.



## 3. ස්වයංනිර්ණයනය පිළිබඳ අයිතියේ වෙසෙස් බව සහ සංයුක්තකරණයට එහි ඇති සබඳතාවය

ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය යනුවෙන් අදහස් කරන්නේ, දේශපාලන අදහස අනුව විශේෂයෙන්ම නිදහසට ඇති අයිතියය, පීඩක ජාතියෙන් ස්වාධීන දේශපාලනමය වෙන්වීමට ඇති නිදහසය. විශේෂයෙන්ම දේශපාලන ප්‍රජාතන්ත්‍රවාදය සඳහා වූ මේ ඉල්ලීමෙන් අදහස් කරන්නේ, ඉවත්වීම සඳහා උද්ඝෝෂණය කිරීමේ සහ ඉවත්වී යන ජාතිය විසින් ඉවත්වීම සඳහා ජනමතය විමසීමේ පූර්ණ නිදහසය. මෙම ඉල්ලීම එම නිසා, වෙන්වීමක්, කැබලිවට කැඩීමක්, සහ කුඩා රාජ්‍යයන් සෑදීමක් සඳහා කරන ඉල්ලීමේ සමකයක් නොවේ; සියලු ජාතික පීඩනයන්ට විරුද්ධව, සටන් කිරීමේ ස්ථිර ප්‍රකාශයක් පමණක් ඉන් අදහස් කෙරේ. ඉවත්වීම සඳහා පූර්ණ නිදහස දීමට ප්‍රජාතන්ත්‍රවාදී රාජ්‍ය ක්‍රමයක් ළංවන තරමට ව්‍යවහාරික ලෙස ඉවත්වීමේ අපේක්ෂාව වඩාත් විරල සහ වඩාත් දුර්වල වෙයි. මන්දයත්, විශාල රාජ්‍යයන් ආර්ථික ප්‍රගමනයේ ස්ථාවරයන් අනුව සහ පොදු ජනතාවගේ වුවමනාවන් අනුව විවාද රහිත විශාල වාසි ලබන බැවින් සහ ධනපති ක්‍රමයේ වැඩීමත් සමග මෙම වාසි වැඩිවන බැවිනි. ස්වයං නිර්ණයනය පිළිගැනීම ප්‍රතිපත්තියක් වශයෙන්

සංයුක්තකරණයක් පිළිගැනීම සමග පර්යාය නොවන්නේය. කෙනෙකුට මෙම ප්‍රතිපත්තියේ පරම හතුරකු සහ ප්‍රජාතන්ත්‍රික මධ්‍යගතවාදයේ අනුගාමිකයකු විය හැකිය. එහෙත් ඒ අතරම, ජාතික අසමානාත්‍යතාවය වෙනුවට, පූර්ණ ප්‍රජාතන්ත්‍රික මධ්‍යගතවාදයට ඇති එකම මාර්ගය හැටියට තවමත් සංයුක්ත කරණයකට කැමති වීමට පිළිවන. මධ්‍යගතවාදියකු වූ මාක්ස්, අයර්ලන්තය බලාත්කාරයෙන් එංගලන්තයට පරාධීනව තබනවා වෙනුවට[83], අයර්ලන්තය සහ එංගලන්තය අතර සංයුක්ත කරණයක් වුවද පිළිගත්තේ මෙම ස්ථාවරය අනුවය.

සමාජවාදයේ අරමුණ මිනිස් සංහතිය කුඩා රාජ්‍යයන් හැටියට බෙදීම සහ ඕනෑම ආකාරයකින් ජාතීන් හුදකලාවීම නවත්වාලීම පමණක් නොවේ, ජාතීන් වඩාත් සමීප කරවීම පමණක් නොවේ, එහෙත් ඒවා අනුකලනය කිරීමය. එක් අතකින් රෙන්නර්ගේ සහ ඔතෝ බවර්ගේ "සංස්කෘතික සහ ජාතික ස්වෛරීත්වය"[84] පිළිබඳ ඊනියා සංකල්පයේ ප්‍රතිගාමී ස්වරූපයද, අනිත් අතින්, නොපැහැදිලි පොදු වාග්පාඨ මගින් නොව, පුහු ප්‍රකාශන මගින් නොව, සමාජවාදය දිනාගන්නා තුරු ප්‍රශ්නය කල් දැමීම මගින්ද නොව, පීඩක ජාතීන්ට අයත් සමාජවාදීන්ගේ කුහකකම් සහ බියගුලු කම් ගැන විශේෂයෙන් අවධානය කරන, පැහැදිලි ලෙස සහ නියත ලෙස සූත්‍රගත කරන ලද දේශපාලන වැඩ පිළිවෙළක් මගින් පීඩිත ජාතීන්ගේ විමුක්තිය නැමැති ඉල්ලීමද පොදු ජනතාවට අප විසින් පැහැදිලි කළ යුත්තේ නියත ලෙසම මෙම අරමුණ ඉටු කැර ගැනීම සඳහාය. පීඩිත පංතීන්ගේ ආඥාදයකත්වයක් සහිත සංක්‍රාන්තික අවධියක් මගින් පංති අහෝසි කිරීමකට මිනිස් සංහතියට ළඟා විය හැකි වන්නා සේම, පීඩිත සියලු ජාතීන්ගේ පූර්ණ විමුක්තියක්, එනම් ඉවත්වීමට ඔවුන්ගේ අයිතිය සහිත සංක්‍රාන්තික අවධියක් මගින් පමණක් සියලු ජාතීන්ගේ අනිවාර්යය අනුකලනයකට එයට එළැඹිය හැකිය.

## 4. ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ ප්‍රශ්නය නිර්ධන පංතික විප්ලවවාදී ලෙස ඉදිරිපත් කිරීම

දහ හත් වැනි දහ අට වැනි ශත වර්ෂය තරම් ඈත කාලයකදී සුළු ධනපති පංතිය විසින් ජාතීන්ගේ ස්වයං නිර්ණයනයේ අයිතිය පිළිබඳ ඉල්ලීම ඉදිරිපත් කළා පමණක් නොව, බොහෝ කලකට පෙර අපේ ප්‍රජාතන්ත්‍රික අවමය වැඩ පිළිවෙළේ සියලු කරුණුද ඉදිරිපත් කරන ලදී. ඔවුහු දනුදු ඒවා සියල්ල මනෝරාජික විධියකට ඉදිරිපත් කරති. මන්දයත්, ඔවුන් පංතිසටන දැකීමට අසමත්වීම සහ ප්‍රජාතන්ත්‍රවාදය යටතේ



පංති සටන උග්‍රවී තිබෙන බව දැකීමට අසමත් බැවිනි, එමෙන්ම ඔවුන් "සාමකාමී" ධනවාදයක් ගැන විශ්වාස කරන බැවිනි. ජනතාව මුලා කරවන සහ කෞට්ස්කිගේ ගෝළයින් විසින් ආරක්ෂා කරනු ලබන, අධිරාජ්‍යවාදය යටතේ සමාන ජාතීන්ගේ සාමකාමී සංගමයක් පිළිබඳ මනෝරාජ්‍යයේ නියම ස්වරූපය එයය. මේ සුළු ධනපති, අවස්ථාවාදී මනෝරාජ්‍යයට ප්‍රතිවිරුද්ධව, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී වැඩ පිළිවෙළ අධිරාජ්‍යවාදය යටතේ මූලික, වැදගත් සහ නොවැළැක්විය හැකි ලෙස ජාතීන් පීඩිත හා පීඩක වශයෙන් බෙදී තිබෙන බව මූල සත්‍යයක් ලෙස ඉදිරිපත් කළ යුතුය.

පීඩක ජාතියට අයත් නිර්ධන පංතිය ශාන්තිවාදී ධනපතීන් පුන පුනා කියන ඇඳා ගැනීමට විරුද්ධවූ සහ ජාතීන්ගේ සමානතාවයට පක්ෂවූ ආකෘතික වාග්පාඨවලට පමණක් පොදුවේ සීමා නොවිය යුතුය. අධිරාජ්‍යවාදී ධනපති පංතියට ඉතා "අප්‍රිය ජනක" ප්‍රශ්නයක් වන ජාතික පීඩනය මත පිහිටුවන ලද දේශසීමා පිළිබඳ ප්‍රශ්නයේදී නිර්ධන පංතියට නිහඬව සිටිය නොහැකිය. නියමිත රාජ්‍යයක සීමාවන් තුළ පීඩිත ජාතීන් බලාත්කාරයෙන් තබා ගැනීමට විරුද්ධව නිර්ධන පංතිය අරගල කළ යුතුය. මෙහි තේරුම ඔවුන් ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය සඳහා සටන් කළ යුතුය යන්නය. යටත් විජිතවලට සහ "තමන්ගේම ජාතිය" විසින් පීඩාවට හසුකරන ලද ජාතීන්ට දේශපාලනමය වෙන්වීමේ නිදහස නිර්ධන පංතිය විසින් ඉල්ලා සිටිය යුතුය. එසේ නොකරන්නේ නම් නිර්ධන පංතියේ ජාත්‍යන්තරවාදය අනෙකක් නොව පුහු වචන පමණක් වන අතර පීඩක සහ පීඩිත ජාතිවල කම්කරුවන් අතර අන්‍යෝන්‍ය විශ්වාසයක් හෝ පංති සහයෝගතාවයක් ඇති කිරීමද කළ නොහැකිය; ජාතීන්ගේ ස්වයං නිර්ණයනය ආරක්ෂා කරන නමුදු "තමන්ගේම" ජාතිය විසින් පීඩනයට හසු කරන ජාතීන් ගැනත්, "තමන්ගේ" රාජ්‍යය තුළ බලාත්කාරයෙන් තබාගෙන සිටින ජාතීන් ගැනත්, නිහඬව සිටින ප්‍රතිසංස්කරණවාදීන්ගේ සහ කෞට්ස්කි වාදීන්ගේ කුහකකම හෙළිදරව් කිරීමක් නොවනු ඇත.

අනිත් අතින් පීඩිත ජාතීන්ට අයත් සමාජවාදීන් විශේෂයෙන්ම, පීඩිත ජාතියේ සහ පීඩක ජාතියේ කම්කරුවන් අතර පූර්ණ සහ කොන්දේසි විරහිත සමගිය, එසේම සංවිධානාත්මක සමගියද ආරක්ෂා කළ යුතුය, එමෙන්ම ක්‍රියාවේ යෙදවිය යුතුය. මෙය නැතිව, ධනපති පංතිය ගෙන යන සියලු ආකාරයේ කූට උපායයන්, ද්‍රෝහිකම් සහ රැවටීම් මධ්‍යයේ නිර්ධන පංතියේ ස්වාධීන ප්‍රතිපත්තිය සහ වෙනත් රටවල නිර්ධනීන් සමග ඇති ඔවුන්ගේ සහයෝගතාවය ආරක්ෂා කිරීම කළ නොහැකිය. පීඩිත ජාතීන්ගේ ධනපති පංතිය කම්කරුවන් මුළා කිරීම සඳහා ජාතික

විමුක්තිය නැමැති උද්යෝග පාඨය ස්ථාවර ලෙස පාවිච්චි කරයි. ඔවුන්ගේ දේශීය ප්‍රතිපත්තියේදී ඔවුහු අධිපති ජාතියේ ධනපති පංතිය සමග ප්‍රතිගාමී ගිවිසුම් ඇතිකැරැ ගැනීම පිණිස මෙම උද්යෝග පාඨ පාවිච්චි කරති (නිදසුනක් වශයෙන්, යුදෙව් සහ උක්රයින ජාතිකයින් පීඩා කිරීමට ඔස්ත්‍රියාවේ සහ රුසියාවේ පෝලන්ත ජාතිකයෝ ප්‍රතිගාමීන් සමග සම්මුති වලට එළඹෙති). ඔවුන්ගේ විදේශීය ප්‍රතිපත්තියේදී සිය කොල්ලකාරී සැලැස්මයන් ක්‍රියාවේ යෙදවීම සඳහා ඔවුහු තරහකාරී එක් අධිරාජ්‍යවාදී බලයක් සමග සම්මුති වලට එළැඹෙති (කුඩා බෝල්කන් රාජ්‍යයන්ගේ ප්‍රතිපත්ති ආදිය).

එක් අධිරාජ්‍යවාදී බලයකට විරුද්ධව ජාතික විමුක්තිය සඳහා ගෙනයන අරගලය සමහර තත්ත්වයන් යටතේ තවත් ''මහා'' බලයක් විසින් ස්වකීය සමාන අධිරාජ්‍යවාදී අරමුණු සඳහා යොදවා ගත හැකිය යන මේ සත්‍යය නිසා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය පිළිගැනීම ප්‍රතික්ෂේප නොකරති. මන්දයත්, එය හරියට බොහෝ අවස්ථාවලදී ධනපති පංතිය දේශපාලන රැවටීමට සහ මූල්‍ය වංචාවලට (නිදසුනක් වශයෙන් රෝමන් රටවල මෙන්) සමූහාණ්ඩුවාදී උද්යෝග පාඨ පාවිච්චි කළ පමණින්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සිය සමූහාණ්ඩුවාදය* ප්‍රතික්ෂේප නොකරන්නක් මෙනි.

## 5. ජාතික ප්‍රශ්නය පිළිබඳව මාක්ස්වාදය සහ ප්‍රැදෙංවාදය

සුළු ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන්ට වඩා හාත්පසින්ම වෙනස් ලෙස, විශේෂත්වයක් නොමැතිව හැම ප්‍රජාතන්ත්‍රවාදී ඉල්ලීමක්ම, නිරපේක්ෂයක් හැටියට නොව, ධනපති පංතියේ නායකත්වය යටතේ වැඩවසම්

* පිතෘ භූමිය ආරක්ෂා කිරීමක්'' ඇහවෙතිය කියමින් ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය ප්‍රතික්ෂේප කිරීමද මුග්ධ ක්‍රියාවකියි කීම අවශ්‍ය නොවේ. එවැනි අයිතියක් සමග එනම්, එවැනිම බැරෑරුම් කමක් රහිතව 1914—1916 සමාජ-ජාත්‍යෝන්මාද වාදීහු ප්‍රජාතන්ත්‍රවාදය පිළිබඳ ඕනෑම ඉල්ලීමක් ගැන (නිදසුනක් වශයෙන් එහි සමූහාණ්ඩුවාදය ගැන) සමුද්දේශ කරති. එමෙන්ම ඔවුහු ''පිතෘභූමිය ආරක්ෂා කිරීම'' සාධාරණයැයි පෙන්වීම සඳහා ජාතික පීඩනයට විරුද්ධව කරන ඕනෑම සටනක සූත්‍රයටද විරුද්ධ වෙති. නිදසුනක් වශයෙන් ප්‍රංශ මහා විප්ලවය නැතිනම් ගරිබෝල්ඩිගේ යුද්ධ පිතෘභූමිය ආරක්ෂා කිරීමේ යුද්ධ ලෙස මාක්ස්වාදය නිගමනය කරයි. එමෙන්ම 1914-1916 අධිරාජ්‍යවාදී යුද්ධයේදී පිතෘභූමිය ආරක්ෂා කිරීම හෙළාදකී. මෙසේ විශ්ලේෂණය කරන්නේ එක්, එක් යුද්ධයක මූර්ත ඓතිහාසික විශේෂතාවය අනුව මිස පොදු මූලධර්මයක් හෝ වැඩ පිළිවෙළේ එක් කරුණක් නිසා හෝ නොවේ.



ක්‍රමයට විරුද්ධව ගෙනයන පොදු ජන අරගලයේදී ඓතිහාසික ප්‍රකාශනයක් හැටියට මාක්ස් සැලකීය. සමහර තත්ත්වයන් යටතේ කම්කරුවන් රැවටීම සඳහා ධනපතීන්ට මේ හැම ඉල්ලීමක්ම පාවිච්චි කළ හැකි අතර, එමෙන්ම ඔවුහු ඒවා පාවිච්චි කර ඇත්තාහ. මේ අනුව දේශපාලන ප්‍රජාතන්ත්‍රවාදයේ එක් ඉල්ලීමක්, ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ ඉල්ලීමට වෙන් කැරැගෙන, එය අනිත් ඒවාට විරුද්ධව ගලපාලීම, න්‍යායික වශයෙන් මූලික වරදකි. ව්‍යවහාරික වශයෙන් නිර්ධන පංතියට සිය ස්වාධීනත්වය ආරක්ෂා කරගත හැක්කේ, සමූහාණ්ඩුවක් සඳහා කරන ඉල්ලීමද පිටත නොදමා, ධනපති පංතිය පෙරළා දැමීමේ සිය විප්ලවවාදී අරගලයට සියලු ප්‍රජාතන්ත්‍රික ඉල්ලීම් යටපත් කැරැලීමෙන් පමණකි.

අනිත් අතින්, ''සමාජ විප්ලවයේ නාමයෙන්'', ජාතික ප්‍රශ්නය ''ප්‍රතික්ෂේප කළ'' ප්‍රැදෙං වාදීන්ට හාත්පසින්ම විරුද්ධව, දියුණු රටවල නිර්ධන පංතික අරගලයේ වුවමනාවන්ට ප්‍රථම ස්ථානය දීමට අදහස් කළ මාක්ස් ජාත්‍යන්තරවාදයේ සහ සමාජවාදයේ මූලික ප්‍රතිපත්තිය එනම්, යම්කිසි ජාතියක්, විසින් තවත් ජාතියක් පීඩාවට හසුකරනු ලබන්නේ ද, එම මූලින් කී ජාතියට ද විමුක්තිය ලබාගත නොහැකිය[85] යන්න ඉදිරිපත් කළේය. ජර්මනියේ ජයග්‍රාහී ප්‍රජාතන්ත්‍රවාදය විසින්, ජර්මනුන්ගේ පීඩනයට හසුවී සිටින ජාතීන්ට නිදහස දිය යුතුයැයි 1848 දී මාක්ස් ඉල්ලා සිටියේ ජර්මන් කම්කරුවන්ගේ විප්ලවවාදී ව්‍යාපාරයේ වුවමනාවන්ගේ ස්ථාවරය අනුවය. අයර්ලන්තය එංගලන්තයෙන් ඉවත් විය යුතුය යන ඉල්ලීම 1869 දී මාක්ස් ඉදිරිපත් කළේ ඉංග්‍රීසි කම්කරුවන්ගේ විප්ලවීය අරගලයේ ස්ථාවරය අනුවය. හේ මෙසේද එකතු කළේය: ''... ඉවත් වීමෙන් අනතුරුව සංයුක්ත කරණයකට ඇතුළු වුවද කම් නැත...''[86] මෙම ඉල්ලීම ඉදිරිපත් කිරීමෙන් පමණක් මාක්ස් ඇත්ත වශයෙන්ම ඉංග්‍රීසි කම්කරුවන්ට ජාත්‍යන්තර ආස්වාදයකින් අධ්‍යාපනයක් ලබා දුන්නේය. අද අර්ධ ශත වර්ෂයක් ඉකුත් වීමෙන් ඉක්බිතිව වුවද, අයර්ලන්ත ''ප්‍රතිසංස්කරණය'' ක්‍රියාවේ යොදවා නැති, අවස්ථාවාදීන්ට සහ ධනපති ප්‍රතිසංස්කරණවාදීන්ට විරුද්ධව, නියමිත ඓතිහාසික කාර්ය භාරයට විප්ලවවාදී විසඳීමක් මාක්ස්ට ඉදිරිපත් කළ හැකි වූයේ මේ ආකාරයට පමණකි. සුළු ජාතීන්ට ඉවත්වීමේ නිදහසදීම මනෝරාජික යැයිද, එය ක්‍රියාවේ යෙදවිය නොහැකියැයි ද, ආර්ථික පමණක් නොව දේශපාලනමය සංකේන්ද්‍රණගත කිරීම ප්‍රගමනික යැයිද කියන ප්‍රාග්ධනයේ නිදහසට කරුණු කියන්නන්ට විරුද්ධව, මෙම සංකේන්ද්‍රණය අධිරාජ්‍යවාදී <u>නොවන</u> විට එය ප්‍රගමනික යැයි ද, ජාතීන් බලාත්කාරයෙන් එක් නොකළ යුතු අතර සියලු රටවල නිර්ධනීන්ගේ නිදහස් සංගමයක් මගින් පමණක් සමගි කළ යුතු යැයිද මාක්ස්ට පෙන්වා

දිය හැකි වූයේ මේ මගින් පමණකි. සමානතාවය සහ ජාතීන්ගේ ස්වයං නිර්ණයනය හුදු වාචික ලෙසත් බොහෝ විට කුහක ලෙසත් පිළිගැනීමට විරුද්ධව ජාතික ප්‍රශ්නයද එමෙන්ම විසඳාලීම සඳහා පොදු ජනතාවගේ විප්ලවවාදී ක්‍රියාකාරීත්වය මාක්ස්ට පෙන්වාදීමට හැකිවූයේ මේ මගින් පමණකි. 1914-1916 අධිරාජ්‍යවාදී යුද්ධයද, එය විසින් හෙළි දරවු කරන ලද අවස්ථාවාදීන්ගේ සහ කෞට්ස්කිවාදීන්ගේ එවුජියන් අශ්ව ගාල නැමැති කුහකත්වයද මාක්ස්ගේ ප්‍රතිපත්තියේ නිරවද්‍යතාවය ඉතා හොඳින් ඔප්පු කළේය. මෙම ප්‍රතිපත්තිය සියලු දියුණු රටවලට ආකෘතියක් ලෙස සේවය කළ යුතුය. මන්දයත්, ඒ හැම රටක්ම දැන් වෙනත් ජාතීන් පීඩාකරන බැවිනි.*

## 6. ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ ප්‍රශ්නයට අදාළ රටවල් තෙවර්ගය

මේ අනුව රටවල් තෙවර්ගයකට බෙදලිය යුතුය.

පළමුව, බටහිර යුරෝපයේ දියුණු ධනවාදී රටවල් සහ ඇමරිකා එක්සත් ජනපදය ය. මෙම රටවල පුරෝගාමී ධනපති ජාතික ව්‍යාපාර අවසාන වී බොහෝ කල් ගත වී ඇත. මෙම "මහා" ජාතීන් හැම එකක්ම තම යටත් විජිතවලද එමෙන්ම ස්වදේශයෙහිද අනිකුත් ජාතීන් පීඩාවට භජනයකරයි. මෙම පාලක ජාතීන්ගේ නිර්ධන පංතියට අයත් කාර්ය භාරය නම්, දහ නව වැනි සියවසරේදී අයර්ලන්තය පිළිබඳව එංගලන්තයේ නිර්ධන පංතියට අයත් වූ කාර්ය භාරයමය.**

දෙවැන්න නැගෙනහිර යුරෝපයය: ඔස්ත්‍රියාව, බෝල්කන් රාජ්‍යයන් සහ විශේෂයෙන් රුසියාවය. මේ රටවල ධනපති-ප්‍රජාතන්ත්‍රික ජාතික ව්‍යාපාර වර්ධනය වී ජාතික අරගලය තීව්‍ර වූයේ විසිවැනි සියවසරේදීය. මේ රටවල නිර්ධන පංතික කාර්ය භාරයන් වන ඔවුන්ගේ ධනපති-ප්‍රජාතන්ත්‍රික ප්‍රතිසංස්කරණ සම්පූර්ණ කරලීම සහ වෙනත් රටවල සමාජවාදී විප්ලවවලට ආධාරදීම යන මේ කාර්යයන් දෙකම සපුරාලීම ස්වයං නිර්ණයනය පිළිබඳ ජාතීන් සතු අයිතිය සඳහා සටන් කිරීමෙන් පරිබාහිරව ඉටු කළ හැකි නොවේ. මෙහිදී අති අසීරු සහ ඉතා වැදගත් කාර්යය නම්, පීඩක ජාතීන්ට අයත් කම්කරුවන්ගේ පංති අරගලය පීඩිත ජාතීන්ට අයත් කම්කරුවන්ගේ පංති අරගලය සමග එක්සත් කරලීමය.

තෙවැන්න, කෝටි සියයක සමස්ත ජනගහනයක් සහිත අර්ධ යටත් විජිත වන චීනය, පර්සියාව තුර්කිය සහ සියලු යටත් විජිත රටවල්ය. මෙම රටවල ධනපති-ප්‍රජාතන්ත්‍රික ව්‍යාපාර යම්තමින් ආරම්භ වූවා පමණි. නැතිනම් ඒවා සම්පූර්ණ වීමට තවත් බොහෝ දුර යා යුතුය. වන්දි නොගෙවා, කොන්දේසි විරහිතව හා ක්ෂණිකව යටත් විජිතවලට විමුක්තිය ලබා දිය යුතුයැයි සමාජවාදීන් ඉල්ලා සිටිය යුතුය. එපමණක් නොව මෙම ඉල්ලීමේ දේශපාලන ප්‍රකාශයෙන්, ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය පිළිගැනීම මිස අන් කිසිවක් පිළිබිඹු නොවිය යුතුය, එම රටවල ජාතික විමුක්තිය ලබාගැනීම සඳහා එම රටවල ධනපති-ප්‍රජාතන්-

---

* ජාත්‍යොන්මාද වාදියකු වන ජර්මන් ජාතික ලෙන්ච් මේ නොබෝද Die Glocke[87] සඟරාවේ අංක 8 සහ 9 මගින් කර ඇති පරිදි සමහර මිනිසුන්ගේ ජාතික ව්‍යාපාරයට මාක්ස්ගේ විරුද්ධත්වයක් ගැන, නිදසුනක් ලෙස 1848 චෙක් ජාතීන්ගේ ජාතික ව්‍යාපාරයට විරුද්ධත්වයක් ගැන, මාක්ස්වාදී ස්ථාවරය අනුව ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිගැනීමේ අවශ්‍යතාවය ප්‍රතික්ෂේප කිරීමක් ගැන නිතර සමුද්දේශ කරති. එහෙත් මෙය වැරදිය. මන්දයත්, 1848 දී "ප්‍රතිගාමී" සහ විප්ලවීය-ප්‍රජාතන්ත්‍රික ජාතීන් අතර විශේෂ වෙනස් කමක් ඇති බව පෙන්විය හැකි ඓතිහාසික සහ දේශපාලන පදනම් තිබුණු බැවිණි. ප්‍රතිගාමී ජාතීන් හෙළාදැකීමෙන් සහ විප්ලවීය-ප්‍රජාතන්ත්‍රික ජාතීන් ආරක්ෂා කිරීමෙන් මාක්ස් නිවැරදි දෙයක් කළේය.[88] ප්‍රජාතන්ත්‍රවාදයේ පොදු අවශ්‍යතාවයන්ට ස්වභාවයෙන්ම යටපත් කළ යුතු එක් ප්‍රජාතන්ත්‍රික ඉල්ලීමකි, ස්වයං නිර්ණයනයේ අයිතිය පිළිබඳ ඉල්ලීම. 1848 දී සහ ඊට පසු වසරවලදී, ප්‍රධාන වශයෙන් සාර්වාදයට විරුද්ධව සටන් කිරීම මෙම පොදු වුවමනාවන්වල සංයුක්තය විය.

** 1914—1916 යුද්ධයෙන් ඇත් වී සිටි සමහර කුඩා රාජ්‍යයන් තුළ නිදසුනක් වශයෙන් ඕලන්දයේ හා ස්විට්සර්ලන්තයේ ධනපති පංතිය, අධිරාජ්‍යවාදී යුද්ධයට සහභාගි වීම සාධාරණ බව පෙන්වනු පිණිස ජාතීන් සතු ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය අරභයා වූ උද්යෝග පාඨය විස්තීර්ණ ලෙස උපයෝග කැර ගනිති. එවැනි රටවල සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ලවා ස්වයං නිර්ණයනය ප්‍රතික්ෂේප කරවීමේ චේතනාවක් මෙයට අයත්ය. නිර්ධන පංතික නිවැරදි ප්‍රතිපත්තියක් එනම් අධිරාජ්‍යවාදී යුද්ධයකදී "පිතෘ භූමිය ආරක්ෂා කිරීම" ප්‍රතික්ෂෙපකිරීම සනාථ කිරීම පිණිස මෙහිදි වැරදි තර්ක පාවිච්චි කෙරේ. න්‍යායික වශයෙන් මාක්ස්වාදය විකෘති කිරීම මෙහි විපාකය වන්නේය. මෙයින් ව්‍යවහාරික ලෙස විශේෂ කුඩා ජාතික පටු බුද්ධියක් ඇති වී, ආධිපත්‍යය උසුලන ජාතීන් එයින් වහල් භාවයට ඇද දමන ලද දස කෝටි සංඛ්‍යාත ජනතාව අමතක කර දැමීමකට යොමු කිරීමක් ඇතිවේ. අධිරාජ්‍යවාදය, යුද්ධය සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය නමින් ඉතා අගනා පොත් පිංචක් කළ ගොර්ටර් සහෝදරයා, ජාතීන් සතු ස්වයං නිර්ණයනය සාවද්‍ය ලෙස ප්‍රතික්ෂේප කරන නමුදු ඕලන්ද නැගෙනහිර ඉන්දියා කොදෙව්වලට "දේශපාලනමය හා ජාතික නිදහස" වහාම දිය යුතු යැයි ඉල්ලමින් නිරවද්‍ය ලෙස එය උපයෝගී කරගන්නා අතර ඒ සඳහා සටන් කිරීම ප්‍රතික්ෂේප කරන ඕලන්ද අවස්ථාවාදීන් හෙළිදරවු කරයි.

ත්‍රවාදී ව්‍යාපාරවල ඉතා විප්ලවවාදී කොටස්වලට ආධාර දීමත්, ඒවා පාගාදමන අධිරාජ්‍යවාදී බලවතුන්ට විරුද්ධව නැගී සිටීමට එම ව්‍යාපාරවලට ආධාර සැපයීමත්, එසේත් නැතිනම් විප්ලවවාදී යුද්ධයක් ඇතිවුවහොත් එයට ආධාර දීමත් සඳහා සමාජවාදීහු ඉදිරිපත් විය යුත්තාහ.

## 7. සමාජ-ජාත්‍යොන්මාදවාදය සහ ජාතීන්ගේ ස්වයං නිර්ණයනය

අධිරාජ්‍යවාදී වකවානුව සහ 1914—1916 යුද්ධය ජාත්‍යොන්මාදවාදයට සහ ප්‍රධාන රටවල ජාතිකවාදයට විරුද්ධව ගෙනයන අරගලය විශේෂයෙන් පෙරමුණට ඇද දැමීය. ජාතීන්ගේ ස්වයං නිර්ණයනය සතු අයිතිය පිළිබඳව සමාජ-ජාත්‍යොන්මාදවාදීන් අතර එනම් අවස්ථාවාදීන් හා කෞට්ස්කිවාදීන් අතර ප්‍රවණතා දෙකක් ඇත. මොවුහු පිතෘභූමිය ආරක්ෂා කිරීම නැමති සංකල්පය යොදමින් යුද්ධයේ අධිරාජ්‍යවාදී සහ ප්‍රතිගාමී ස්වරූපය සඟවාලති.

එක් අතකින් ධනපති පංතියේ විවෘත සේවකයින් අපි දකිමු. අධිරාජ්‍යවාදය හා දේශපාලනමය සංකේන්ද්‍රණය ප්‍රගතිගාමී යැයි කියන මොවුහු ඒ මුවාවෙන් රටවල් ඈඳා ගැනීමට පක්ෂ වෙති. එමෙන්ම මොවුහු ජාතීන් සතු ස්වයං නිර්ණයනය, මනෝරාජික මායා කාරී, සුළු ධනවාදී යැයි ආදී වශයෙන් නම්කරති. මේ වර්ගයට කුනොව්, පාර්වුස් සහ ජර්මනියේ අන්ත අවස්ථාවාදීන්ද, එංගලන්තයේ සමහර ෆේබියන්වාදීන්[89] සහ වෘත්තීය සමිති නායකයින්ද, රුසියාවේ අවස්ථාවාදීන් වන සෙම්කොව්ස්කී, ලිබ්මාන් සහ යුර්කේවිච් ආදීන්ද අයත්ය.

එක් අතකින් වන්දෙර්වෙල්ද්, රෙනොදේල් බ්‍රිතාන්‍යයේ සහ ප්‍රංශයේ බොහෝ ශාන්තිවාදීන් ඇතුළු කෞට්ස්කිවාදීන්ද වෙනත් පුද්ගලයින්ද දකිමු. ඔවුන් — මුලින් කී කොටස සමග සමගියට පක්ෂ අතර ව්‍යවහාරික වශයෙන් ඔවුන් සමග පූර්ණ සර්වසමතාවයක් දරයි. ඔවුහු කුහකලෙස සහ, වචන වලින් පමණක් ජාතීන් සතු ස්වයං නිර්ණයනයට පක්ෂ පාත වෙති. ස්වාධීන දේශපාලනමය ඉවත්වීමක් ''අධික දෙයක්'' ("Zu viel verlangt": Kautsky, "Neue Zeit", 1915 මැයි 21 ද) ලෙස ඔවුහු සලකති. ඔවුහු පීඩිත ජාතීන්ට අයත් සමාජවාදීන් විසින් විප්ලවවාදී උපක්‍රම අනුගමනය කිරීමේ අවශ්‍යතාවයට පක්ෂ නොවන අතර එයට පටහැණිව ඔවුන්ගේ විප්ලවවාදී යුතුකම් ඇඳිරි කර දමති, ඔවුන්ගේ අවස්ථාවාදය යුක්ති යුක්තයැයි පෙන්වති, ඔවුන් විසින් ජනතාව මුළා කර දැමීම ලෙහෙසි කරවති, හීනවරප්‍රසාද සහිත ජාතීන් එක් රටක දේශසීමාවන් තුළ බලාත්කාරයෙන් තබාගැනීම පිළිබඳ එම ප්‍රශ්නය ආදිය මඟහරිති.



මේ දෙගොල්ලම එක හා සමාන අවස්ථාවාදීහුය. නිදසුනක් වශයෙන් අයර්ලන්තය ඉදිරිපත් කරමින් මාක්ස් පෙන්වා දුන් න්‍යායික වෙසෙස් බව සහ උපක්‍රමවල ව්‍යවහාරික ක්ෂණිකතාවය අවබෝධ කරගැනීමේ සියලු හැකියාවන් නැතිකරගත් මොවුහු මාක්ස්වාදය පණ්‍යා වෘත්තියක් බවට හරවති.

රටවල් ඈඳා ගැනීම සම්බන්ධයෙන් නම්, යුද්ධය නිසා මේ ප්‍රශ්නය වඩාත් විශේෂ හදිසිතාවයක් දරයි. එහෙත් ඈඳා ගැනීම යනු කුමක්ද? ඈඳා ගැනීමට එදිරිව කරන විරුද්ධත්වය ප්‍රකාශ කිරීම එක්කෝ ජාතීන් සතු ස්වයං නිර්ණයනය පිළිගැනීමක් නැතිනම් පැවති තත්ත්වය ආරක්ෂා කරන ශාන්තිවාදී වාක්‍ය ඛණ්ඩයක් සහ විප්ලවවාදී හිංසනය ඇතුළුව සියලු හිංසනවලට විරුද්ධ දෙයක් මත පදනම් වූවක් දක්වා සීමාවන බව ලෙහෙසියෙන් වටහා ගත හැකිය. මෙවැනි වාක්‍ය ඛණ්ඩයක් මූලික වශයෙන් ව්‍යාජ වන අතර එය මාක්ස් වාදය සමග කොහෙත්ම නොගැළපෙයි.

## 8. නුදුරු අනාගතයේදී නිර්ධන පංතියේ නියත කාර්ය භාරයන්

මැත නුදුරු අනාගතයේදී සමාජවාදී විප්ලවය ආරම්භවීමට හැකියාවක් ඇත. එවැනි අවස්ථාවකදී වහාම ආණ්ඩු බලය අල්ලා ගැනීමද, බැංකු පවරාගැනීමද, වෙනත් අඬදයී පියවරයන් ගැනීමද ඉටුකරලීමට නිර්ධන පංතියට සිදුවනු ඇත. ධනපති පංතියත් — විශේෂයෙන්ම ෆේබියන් සහ කෞට්ස්කිවාදී වර්ගයේ බුද්ධිමතුනුත් — එවැනි අවස්ථාවකදී සීමාසහිත ප්‍රජාතන්ත්‍රවාදී අරමුණු ඉදිරිපත් කරමින් විප්ලවය දෙකඩ කිරීමට, සහ එය මැඩලීමට උත්සාහ ගනු ඇත්තාහ. ධනවාදී බලයේ පවුරු පදනම්වලට පහරදීමට නිර්ධන පංතිය ආරම්භ කරන විට, හුදු ප්‍රජාතන්ත්‍රික සියලු ඉල්ලීම් එක්තරා විධියකින් විප්ලවයට බාධා කරති නම්, නිදසුනක් වශයෙන් 1848 දී ජර්මනියේදී හෝ 1905 දී රුසියාවේදී හෝ මෙන් ධනපති ප්‍රජාතන්ත්‍රික විප්ලවයේ ජයග්‍රහණය සඳහා වැදගත් වූ පරිදිම, පීඩිත සියලුම ජනතාවට නිදහස (එනම් ඔවුන් සතු ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය) ප්‍රකාශ කිරීමේ හා ක්‍රියාවට යෙදවීමේ අවශ්‍යතාවය සමාජවාදී විප්ලවයේදී ද ඉතා හදිසි වන්නේය.

කෙසේවුවද, සමාජවාදී විප්ලවය ආරම්භ වීමට තවත් වසර පහක්, දහයක් හෝ ඊටත් වඩා වැඩි කාලයක් ගත විය හැකිය. සමාජවාදී ජාත්‍යොන්මාද වාදීන්ට සහ අවස්ථාවාදීන්ට කම්කරු පංතික පක්ෂයට අයත්වීමට නොහැකිවන අන්දමට සහ 1914—1916 දී මෙන් ඔවුන්ට ජය ගැනීමට නොහැකි වන අන්දමට පොදු ජනතාවට විප්ලවවාදී ජීව ගුණයකින් යුත්

අධ්‍යාපනයක් ලබාදීම සඳහා මේ කාලය යෙදවිය යුතුය. යටත් විජිත වලට සහ අයර්ලන්තයට ඉවත්වීමේ නිදහස ඉල්ලන්නේ නැති බ්‍රිතාන්‍ය සමාජවාදීන්ද, යටත් විජිත වලට ඉවත්වීමේ නිදහස ඉල්ලන්නේ නැති ජර්මන් සමාජ වාදීන්ද ජාතික පීඩනයට විරුද්ධව අරගල කරන ක්ෂේත්‍රයට සිය විප්ලවවාදී ප්‍රචාරය විස්තීර්ණ නො කරන අල්සාටියන්වරුන්, ඩෙන්මාක්වරුන් හා පෝලන්තයින්ද, එසේත් නැතිනම්, මහා මාර්ගවල පෙළපාලි සහ පොදු ජන විප්ලවවාදී ක්‍රියාකාරීත්වය සඳහාත්, පීඩක ජාතීන්ට අයත් නිර්ධන පංතිය අතර ඉතා පුළුල් නීති විරෝධී ප්‍රචාරයන් සඳහාත් ටසාබර්ග් සිද්ධිය වැනි සිද්ධීන් පාවිච්චි නොකරන උදවියද, පින්ලන්තයට, පෝලන්තයට, උක්රයිනයට ආදියට ඉවත්වීමේ නිදහස ඉල්ලා නොසිටින රුසියානු සමාජවාදීන්ද, ඇතුළු එවැනි සමාජවාදීන්ද, ජාත්‍යෝන්මාද වාදීන් හැටියටත්, ලේ තැවුරුණු සහ අපවිත්‍ර අධිරාජ්‍යවාදී රාජාණ්ඩුවල සහ අධිරාජ්‍යවාදී ධනපති පංතියේ මෙහෙකරුවන් හැටියටත් ක්‍රියාකරන බව, සමාජවාදියෝ විස්තර කළ යුත්තාහ.

## 9. රුසියානු සහ පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සහ දෙවැනි ජාත්‍යන්තරය ස්වයං නිර්ණයනය කෙරෙහි දක්වන ආකල්පය



ස්වයං නිර්ණයනය පිළිබඳ ප්‍රශ්නය අරභයා රුසියාවේ විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සහ පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතර මතභේදය පිටතට ප්‍රකාශ වුණේ 1903 තරම් ඈත කාලයෙක රු. ස. ප්‍ර. ක පක්ෂයේ වැඩ පිළිවෙළ පිළිගත් පක්ෂ සමුළුවේදීය. පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ නියෝජිත මණ්ඩලයේ විරුද්ධත්වය නොතකා ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය පිළිගන්නා වූ 9 වැනි ඡේදය මෙහිදී වැඩ පිළිවෙළට ඇතුළු කරන ලදී. එතැන් සිට පෝලන්ත සමාජ- ප්‍රජාතන්ත්‍රවාදීන් ඔවුන්ගේ පක්ෂයේ නාමයෙන්, අපේ පක්ෂයේ වැඩ පිළිවෙළින් 9 වැනි ඡේදය ඉවත්කරලීමට හෝ වෙනත් සූත්‍රයක් ඒ වෙනුවට යෙදීමට හෝ කිසිම අවස්ථාවෙක යෝජනා ඉදිරිපත් කර නැත.

රුසියාවේ, ජනගහනයෙන් සියයට 57 කට නො අඩු හෙවත් දස කෝටියකට වැඩි සංඛ්‍යාවක් පීඩිත ජාතීහු වාසය කරති, මොවුන්ගෙන් වැඩි දෙනෙක් දේශසීමා පෙදෙස්වල ජීවත් වෙති, මොවුන්ගෙන් සමහර දෙනෙක් මහ රුසියානුන්ට වඩා උසස් සංස්කෘතියෙකින් හෙබි අය වෙති, මෙහි දේශපාලන ක්‍රමය විශේෂයෙන්ම වනචාරී සහ මධ්‍යකාලීනය, මෙහි ධනපති ප්‍රජාතන්ත්‍රික විප්ලවය තවමත් සම්පූර්ණ වී නැත. මෙවැනි රටක් වන රුසියාවේ සාර්වාදය විසින් පීඩනයට පත් කොට තිබෙන



ජාතීන්ට රුසියාවෙන් නිදහස් ලෙස ඉවත්වීමේ අයිතිය පිළිගැනීම සියලු ප්‍රජාතන්ත්‍රවාදී සහ සමාජවාදී පරමාර්ථවල නාමයෙන් සියලු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට නිරපේක්ෂ ලෙස අනිවාර්ය වන්නේය. 1912 ජනවාරි මාසයේදී යළි ස්ථාපිත කළ අප පක්ෂය, ඉහත සටහන් මූර්ත අදහස නියත ලෙසම පැහැදිලි කරමින්, ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය යළි තහවුරු කරමින්, 1913 දී යෝජනාවක්[90] සම්මත කළාය. 1914–1916 වසරවලදී ධනපතීන් අතර සහ අවස්ථාවාදී සමාජවාදීන් අතරත් (රුබානවිච්, ප්ලෙහානව් නාෂෙ ද්යෙලො[91]) පැන නැගී මහා රුසියානු ජාත්‍යෝන්මාදවාදී කාල ගෝට්ටිය නිසා මෙම ඉල්ලීම ගැන වඩාත් බලකර සිටීමට සහ එය ප්‍රතික්ෂේප කරන්නන් මහා රුසියානු ජාත්‍යෝන්මාද-වාදයේ සහ සාර්වාදයේ සැබෑ ආධාරකරුවන් ලෙස සැලකීමටත් අපට වැඩි හේතුන් දී තිබේ. ස්වයං නිර්ණයනයට විරුද්ධව කරන එවැනි ක්‍රියා ගැන කිසිදු වගකීමක් භාර ගැනීම අප පක්ෂය ඉතා ස්ථිර ලෙස හා තීරණාත්මක ලෙස ප්‍රතික්ෂේප කරන බව ප්‍රකාශ කරයි.

ජාතික ප්‍රශ්නය පිළිබඳව, පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ ස්ථාවරයේ නවතම සූත්‍රය (ටිසිමර්වොල්ඩ් සාකච්ඡාවේදී පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ ප්‍රකාශනය[92]) පහත සටහන් නිවේදනයේ අඩංගු වී ඇත:

''පෝලන්ත ජනතාවට ස්වකීය ඉරණම තීරණය කිරීමේ අවස්ථාව ප්‍රතික්ෂේප කරමින්'', වන්දි ගෙවීම පිළිබඳව ළඟදී පැවැත්වෙන ක්‍රීඩාවේදී, ''පෝලන්ත ප්‍රදේශ'' ඉත්තකු හැටියට පාවිච්චි කිරීමට, කල්පනා කරන ජර්මන් සහ අනිකුත් ආණ්ඩු මේ ප්‍රකාශනය හෙළා දකී. ''මුළු මහත් රටක් යළි බෙද ගැනීම හා ඛණ්ඩනය කිරීමට විරුද්ධව'' පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු තීරණාත්මක ලෙසත්, ගම්භීර ලෙසත් විරුද්ධත්වය ප්‍රකාශ කරති... පීඩිත ජනතාව නිදහස් කිරීමේ කාර්යය ගොගෙන්සොලර්න්ලාට භාර දුන් සමාජවාදීන්ට ඔවුහු ඉතා දරුණු ලෙස දෙස් පවරති. ''ජාතික පීඩනයේ යදම් බිඳ දැමීමත් සහ සියලු අන්දමේ විදේශීය පාලනය විනාශ කර ලීමත්, ජාතීන්ගේ සන්ධානයක් තුළ සමාන සාමාජිකයකු හැටියට නිදහස් අංග සම්පූර්ණ සංවර්ධනයක් ලබාගැනීමට පෝලන්ත ජනතාවට හැකියාව සහතික කිරීමත්, කළ හැක්කේ ජාත්‍යන්තර නිර්ධන පංතිය විසින් එළැඹෙමින් පවතින අරගලයට, සමාජවාදය සඳහා අරගලයට සහභාගී වීමෙන් පමණක්ය'' යන දැඩි විශ්වාසය ඔවුහු ප්‍රකාශ කරති. පෝලන්ත ජනතාවට නම් යුද්ධය ''ද්වි ගුණක භ්‍රාතෘ ඝාතනයක්'' වනු ඇතැයි යන ප්‍රකාශනය පිළිගනී (ජාත්‍යන්තර සමාජවාදී කමිටුවේ බුලටිනය, 1915 සැප්තැම්බර් 27, අංක 2; 15 වැනි පිටුව. 'ජාත්‍යන්තරය සහ යුද්ධය' කෘති එකතුවේ රුසියන් මුද්‍රණය, 97 වැනි පිටුව).

දෙවැනි ජාත්‍යන්තරයේ[93] වැඩපිළිවෙළවල් සහ යෝජනාවල් වැඩි හරියකට වඩා මෙම යෝජනාවෙහි දේශපාලන සූත්‍රයන් වඩාත් අස්ථිර හා වඩාත් අනියත වුවද ස්වයං නිර්ණයනය සඳහා ජාතීන් සතු අයිතිය පිළිගැනීමෙන් මෙම යෝජනාව එහි හරය අනුව වෙනස් නොවේ. මෙම සංකල්ප නියත දේශ පාලන සූත්‍ර හැටියට ප්‍රකාශ කිරීමට යත්න දැරීම සහ ධනපති ක්‍රමයට හෝ නැතිනම් සමාජවාදී ක්‍රමයට පමණක් හෝ ව්‍යවහාරික ලෙස මේවා යෙදිය හැකි යැයි විග්‍රහ කිරීම, ස්වයං නිර්ණයනය පිළිබඳ ජාතීන් සතු අයිතිය ප්‍රතික්ෂේප කිරීමෙන් පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් කරන වරද වඩාත් පැහැදිලි ලෙස පෙන්වා දෙයි.

ස්වයං නිර්ණයනය පිළිබඳ ජාතීන් සතු අයිතිය පිළිගන්නා 1896 ලන්ඩන් ජාත්‍යන්තර සමාජවාදී සමුළුවේ තීරණය, ඉහත සටහන් තීසිසය අනුව පරිපූරක කළ යුත්තේ මෙසේය: 1) අධිරාජ්‍යවාදය යටතේ මෙම ඉල්ලීමේ ඇති විශේෂ අවශ්‍යතාවය. 2) සාකච්ඡාවට භාජනය කර තිබෙන ඉල්ලීම ඇතුළුව, දේශපාලනමය ප්‍රජාතන්ත්‍රවාදයේ සියලු ඉල්ලීම් වල දේශපාලනික සම්මුතිකත්වය සහ පන්තිමය හරය. 3) පීඩක ජාතීන්ට අයත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සහ පීඩිත ජාතීන්ට අයත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ මූර්ත කාර්ය භාරයන් වෙන්කර හැඳින්වීමේ අවශ්‍යතාවය. 4) අවස්ථාවාදීන් සහ කෞට්ස්කිවාදීන් විසින් ස්වයං නිර්ණයනය අස්ථිර ලෙසත් හුදු වාචික ලෙසත් පිළිගැනීම, මේ හේතුව නිසා එය දේශපාලනික කුහක පිළිගැනීමක්වීම. 5) යටත් විජිතවලට සහ ''තමන්ගේම'' ජාතීන් විසින් පීඩා කරනු ලබන ජාතීන්ට ඉවත්වීමේ නිදහස දිය යුතුයැයි පිළිනොගන්නා වූ විශේෂයෙන්ම මහා ජාතීන්ට අයත් (මහා රුසියානු, ඇන්ග්ලෝ-ඇමෙරිකානු, ජර්මන්, ප්‍රංශ, ඉතාලි, ජපන් ආදී) ජාතෝන්මාදවාදීන් සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතර සැබෑ අනන්‍යතාවයක් තිබීම. 6) අපේ සාකච්ඡාවට භාජනය වී තිබෙන ඉල්ලීම් සහ දේශපාලන ප්‍රජාතන්ත්‍රවාදයේ සියලු මූලික ඉල්ලීම් සඳහා අරගල ධනපති ආණ්ඩු පෙරළාදැමීම සහ සමාජවාදය දිනාගැනීම සඳහා ගෙනයන විප්ලවවාදී පොදු ජන අරගලයට එකළල්ලේම යටපත්කැරැලීමේ අවශ්‍යතාවය.

ජාතිකවාදී උද්යෝගපාය ඉදිරිපත් කරමින් ජනතාව මුලා කරන පෝලන්ත ධනපති පංතියට විරුද්ධව කළ සටන්වලදී, ස්වයං නිර්ණයනය ප්‍රතික්ෂේප කිරීමේ, වරදට වැටුණු පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ඇතුළු සමහර කුඩා ජාතීන්ගේ ස්ථාවරයන් ජාත්‍යන්තරයට ඉදිරිපත් කිරීම න්‍යායික වරදක් වනු ඇත; මාක්ස්වාදය වෙනුවට ප්රූදෝංවාදය ආදේශ කිරීමක් වනු ඇත; අති භයානක ජාත්‍යෝන්මාදවාදය සහ මහ



බලවත් ජාතීන්ගේ අවස්ථාවාදයට අනිච්ඡානුගත ආධාරයක් ව්‍යවහාරික වශයෙන් දීම ඇඟවීමක් වනු ඇත.

රුසියන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ මධ්‍යම පුවත්පත වන සොක්සියාල් දෙමොක්‍රාත් හි කර්තෘ මණ්ඩලය.

අනුලේඛය : — මේ දැන් පළකරන ලද 1916 මාර්තු 3 ද "Die Neue Zeit" පුවත්පතෙහි කෞට්ස්කි අති නින්දිත ජර්මන් ජාත්‍යෝන්මාදවාදයේ නියෝජිතයකු වන අවුස්තර්ලිට්ස්ට සමාශ්‍රීකරණයේ ක්‍රිස්තියානි හස්තය දිගු කරමින්, ඔස්ත්‍රියාවේ හාප්ස්බුර්ග් පීඩිත ජාතීන්ට ඉවත්වීමේ නිදහස ප්‍රතික්ෂේප කරයි. එහෙත් හින්දන්බුර්ග්ට සහ දෙවැනි විල්හෙල්මට දාසයකු ලෙස සේවය කරමින් එම නිදහස රුසියානු පෝලන්තයට තිබෙන බව පිළිගනී. කෞට්ස්කිවාදයේ මීට වඩා හොඳ ස්වයං හෙළිදරව්වීමක් කෙනෙකුට පැතීමට පවා නොහැකිය.

1916 ජනවාරි-පෙබරවාරි මාස වලදී ලියනලදී.

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම, 27 පිටු 252—266

# ස්වයං නිර්ණයනය පිළිබඳ විවාදයේ ප්‍රතිඵල

ජාතීන් සතු ස්වයං නිර්ණයනයට විරුද්ධව සහ පක්ෂව තීසිස අපේ මධ්‍යම පුවත්පත වන සොත්සියල් දෙමොක්‍රාත්[94] හි කර්තෘ මණ්ඩලයේ අත්සනින් සහ පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී විරුද්ධ පක්ෂයේ පුවත්පත වන ගස්යෙතා රබොත්නිචෙයි කර්තෘ මණ්ඩලයේ අත්සනින්, ට්සිමර්වොල්ඩ් වාමාංශිකයින්ගේ මාක්ස්වාදී සඟරාව වන ප්‍රකාශකයා ("vorbote")[95] 1916 අප්‍රේල් 2 ද), හි අංක දෙක කලාපයේ පළවිය.[96] පළමුවැනි තීසිසය සහ දෙවැනි තීසිසයේ පරිවර්තනයක් පාඨකයාට ඉහත දක්නට ලැබෙන්නට ඇත. ජාත්‍යන්තර ක්ෂේත්‍රයේ මෙතරම් විස්තීර්ණ ලෙස මෙම ප්‍රශ්නය ඉදිරිපත් කළ පළමුවැනි වාරය මෙය යැයි කිව හැකි තරම් ය. මේ ප්‍රශ්නය පෝලන්තයට පමණක් සීමා කරමින්, මීට විසි වසරකට පෙර, 1896 ලන්ඩන් ජාත්‍යන්තර සමාජවාදීන්ගේ සමුළුවට පෙර 1895—1896 දී "Neue Zeit" මාක්ස්වාදී සඟරාව විසින් අරඹන ලද සාකච්ඡාවට රෝසා ලුක්සම්බුර්ග්ද, කාල් කෞට්ස්කි සහ පෝලන්ත ''ස්වාධීනයෝ'' (පෝලන්තයේ ස්වාධීනත්වයට පක්ෂවූවෝ, පෝලන්ත සමාජවාදී පක්ෂය පි. ජී. එස්) සහභාගි වූහ. මේ තෙගොල්ල ස්ථාවරයන් තුනක් දැරූහ.[97] මෙතෙක් අප දන්නා තරමින්, ස්වයං නිර්ණයනය පිළිබඳ ප්‍රශ්නය ගැන ක්‍රමානුකූලව සාකච්ඡා කර ඇත්තේ ඕලන්ද සහ පෝලන්ත ජාතිකයින් පමණකි. බ්‍රිතාන්‍ය, ඇමෙරිකන්, ප්‍රංශ, ජර්මන් සහ ඉතාලියානුවන් අතර අද ඉතා හදිසි ප්‍රශ්නයක් වන මෙය, යහපත් ලෙස සාකච්ඡා කිරීමට "Vorbote" සඟරාව ගන්නා තැත සාර්ථක වේවායි පතමු. ''තම තමන්ගේ'' ආණ්ඩුවල ආධාර කරුවන් බවට පත්වී සිටින, ප්ලෙහානව්ලාද දවීද් සහ සමාගමද විසින් නියෝජනය කරනු ලබන නිල සමාජවාදය සහ අවස්ථාවාදයේ, කෞට්ස්කිවාදයේ යටිකුට්ටු ආරක්ෂකයින් (ඔවුන් අතර අක්සල්රොද්, මාර්තව් සහ චෙහීද්සේ සහ අනිකුත් අය) මේ ප්‍රශ්නය ගැන කොතරම් බොරු ගොඩක් ඇද බා තිබේදයත්, එක් අතකින් මේ ප්‍රශ්නය ගැන නිහඬවීමට සහ එය මග හැරීමටද, අනික් අතින්, මේ ''ශාපලත්'' ප්‍රශ්නවලට ඍජු පිළිතුරු ඉල්ලන කම්කරු ඉල්ලීම් ගැන නිහඬවීමට සහ මඟ හැරීමට ද දීර්ඝ කාලයක් තිස්සේ අනිවාර්ය ලෙස වැර දරනු ඇත. මෙම අරගලයේදී පිටරටවල සමාජවාදීන් අතර ඇති වන විවිධ මත ගැන අපේ පාඨකයින්ට දන්වීමට අපි මහන්සි ගනිමු.

රුසියන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වන අපට මේ ප්‍රශ්නය අති විශේෂ වැදගත් කමක් දරයි. 1903 සහ 1913 කාලයේදී[98] හටගත් විවාදයේ අවිච්ඡින්නයකි වත්මන් සාකච්ඡාව; යුද්ධ කාලයේදී මෙම ප්‍රශ්නය අපේ පක්ෂයේ සමාජිකයින් තුළ එක්තරා අස්ථිර තාවයකට[99] තුඩු දුන්නේය. ග්වස්ද්යොව්වාදී[100] නැතිනම් ජාතෝන්මාදවාදී කම්කරු පක්ෂයේ ප්‍රමුඛ නායකයින් වන මාර්තව් සහ චෙහීද්සේ හරය වශයෙන් මෙම ගැටළුව මඟහැරලීමට ප්‍රයත්න දරමින් කරන කපටිකම් නිසා මෙය වඩාත් උග්‍රවී ඇත. මෙම හේතූන් නිසා ජාත්‍යන්තර ක්ෂේත්‍රයේ පටන් ගන්නා ලද සාකච්ඡාවේ මූලික ප්‍රතිඵල වුවද සම්පිණ්ඩනය කිරීම වැදගත්ය.

නිදසුනක් වශයෙන් මාක්ස්වාදය සහ ප්‍රැදොංවාදය වැනි වූ අපේ සමහර තර්ක වලට, අපේ පෝලන්ත සහෝදරවරුන් ඍජු පිළිතුරු සපයන බව, මින් පෙනේ. එසේවුවද බොහෝ අවස්ථාවලදී ඔවුහු අපට ඍජු පිළිතුරු නො දෙමින් වක්‍ර ලෙස අපේ මත වලට විරුද්ධව ඔවුන්ගේ මත ඉදිරිපත් කරති. අපි ඔවුන්ගේ ඍජු සහ වක්‍ර පිළිතුරු පිරික්සා බලමු.

## 1. සමාජවාදය සහ ජාතීන්ගේ ස්වයං නිර්ණයනය

සමාජවාදය යටතේ ජාතීන් සතු ස්වයං නිර්ණයනය ක්‍රියාවට යෙදවීම ප්‍රතික්ෂේප කිරීම සමාජවාදය පාවාදීමක් බව අපි තරයේ ප්‍රකාශ කළෙමු. ''සමාජවාදී සමාජයකට ස්වයං නිර්ණයනයේ අයිතිය ව්‍යවහාරික නොවන'' බව අපට පිළිතුරු වශයෙන් දන්වා සිටිති. මෙය මූලික වෙනසකි. මෙය පැන නගින්නේ කොහින්ද?

''සමාජවාදය ජාතික පීඩනයට මග පාදන පංති අවශ්‍යතාවයන් අහෝසිකරන බැවින් එය සියලු අන්දමේ ජාතික පීඩනයන් නැති කර දමන බව අපි දනිමු.'' යි අපේ විරුද්ධ කරුවෝ තර්ක කරති. එක් ආකාරයක දේශපාලන පීඩනයක්, එනම් එක් ජාතියක් තවත් ජාතියක රාජ්‍ය සීමාවන් තුළ බලාත්කාරයෙන් තබා ගැනීම පිළිබඳ විවාදයකදී, ජාතික පීඩනය අහෝසි කරලීම සඳහා අප ඉතා හොඳින් දන්නා සහ නිසැක ලෙස පිළි ගැනෙන ආර්ථික පූර්වාවයන් ගැන කරන මේ තර්කය කුමක්ද?

මෙය දේශපාලන ප්‍රශ්න මඟ හැරීමට කරන ප්‍රයත්නයක් මිස අන් කිසිවක් නොවේ. අපේ නිගමනය නිවැරදි බව තවත් දුර ඒ ගැන තර්ක කිරීමේදී අපට ඒ ගැන ඔප්පුවේ:

"සමාජවාදී සමාජයක් තුළ ජාතීය, ආර්ථික හා දේශපාලන ඒකකයක් වශයෙන් පවතී යැයි විශ්වාස කිරීමට අපට හේතු නොමැත. සියලු හේතුන් අනුව එය සංස්කෘතික සහ භාෂාමය ඒකකයක ස්වරූපයක් පමණක් ගැනීමට ඉඩ ඇති බැවිනි. මන්දයත්, සමාජවාදී සංස්කෘතික පෙදෙසක, භෞමික බෙදීමක්, කෙසේ හෝ ක්‍රියාවට යෙදවුවොත් කළ හැක්කේ නිෂ්පාදන අවශ්‍යතාවයන් අනුව පමණක් වන බැවිනි. තවදුරටත් එවැනි බෙදීම් ස්වාභාවික ලෙස පූර්ණ පරමාධිපත්‍යය සතු එක් ජාතියක් විසින් පමණක් තීරණය නොකරන අතර (ස්වයං නිර්ණයනය විසින් එය ඉල්ලා සිටින පරිදි) එයට අදළ සියලු පුරවැසියන් විසින් එක්ව නිර්ණයනය කරනු ලැබේ..."

ස්වයං නිර්ණයනය වෙනුවට ඒකාබද්ධ නිර්ණයනය පිළිබඳ අවසාන තර්කයට අපේ පෝලන්ත සගයින් බොහෝ කැමති අතර ඔවුන්ගේ තීසිසයෙහි ඔවුහු එය තෙවරක්ම සඳහන් කළහ. කෙසේවුවද, පුනරුච්චාරනයෙහි බහුලතාවය නිසා මේ ඔක්තෝබර්වාදී සහ ප්‍රතිගාමී තර්කය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී තර්කයකට පරිවර්තනය නොවේ. මන්දයත් කිසියම් නියමිත රජයක දේශසීමා තුළ බලාත්කාරයෙන් රඳවා සිටින, ජාතීන්ට පොදු පාර්ලිමේන්තුවක් තුළින්, තම ඉරණම "ඒකාබද්ධව නිර්ණයනය" කිරීමට සියලු ප්‍රතිගාමීන් සහ ධනපතීන් ඉඩ දෙන බැවිනි. පොදු ජර්මන් පාර්ලිමේන්තුවක් තුළින් ජර්මන් අධිරාජ්‍යයේ ඉරණම "ඒකාබද්ධව විසඳාලීමට" දෙවැනි විල්හෙල්ම් පවා බෙල්ජියම් වරුන්ට බලය දෙයි.

විවාදයට ලක්වී ඇති එකම කරුණ, සාකච්ඡාවට භාජනයවී තිබෙන නියත කරුණ එනම් ඉවත්වීමේ අයිතිය මගහැරලීමට අපේ විරුද්ධවාදියෝ උත්සාහ ගනිති. එය මෙතරම් ඛේද ජනක නොවීණි නම්, හාස්‍ය ජනක වීමට ඉඩ තිබිණි.

පීඩිත ජනතාව නිදහස් කරලීම, දේශපාලන ක්ෂේත්‍රයේ දෙයාකාර පරිණාමනයක් අඟවන බව අපේ මුල් තීසිසයෙන් කියැවිණි. 1) ජාතීන්ගේ පූර්ණ සමානතාවය. මෙය විවාදයට භාජනය නොකරන අතර රාජ්‍යයක් තුළ සිදුවන දෙයට පමණක් එය බලපායි. 2) දේශපාලනමය ඉවත්වීමකට ඇති නිදහස.* රාජ්‍ය දේශසීමා සලකුණු කිරීමට මෙය සමුද්දේශ කරයි. විවාදයට භාජනය වී ඇත්තේ මෙය පමණකි. අපේ විරුද්ධවාදීන් ස්ථිර වශයෙන්ම නිහඬව සිටින්නේද මේ ගැනය. එක්කෝ රාජ්‍ය දේශ සීමා

* මේ පොතේ 120—121 පිටු බලන්න. — සංස්කාරක



ගැන හෝ නැතිනම් රාජ්‍යයක් ගැන වුවද සිතීමට ඔවුන් සූදනම් නැත. මෙය 1894—1902 පැරණි "ආර්ථිකවාදයට"[101] සමාන එක්තරා වර්ගයක "අධිරාජ්‍යවාදී ආර්ථිකවාදයකි." එය මෙලෙස තර්ක කළේය: ධනවාදය ජයග්‍රාහී විය. එම නිසා දේශපාලන ප්‍රශ්න කාලය නාස්ති කිරීමකි! මෙවැනි අදේශපාලනික න්‍යායයක් මාක්ස්වාදයට හාත්පසින්ම සතුරුය.

ගෝතා වැඩ පිළිවෙලේ විවේචනයෙන් මාක්ස් මෙසේ ලියුවේය: "ධනපති හා කොමියුනිස්ට් සමාජය අතර එකක් අනික දක්වා විප්ලවීය ලෙස පරිවර්තනය වීමේ අවධියක් ඇත්තේය. මෙයට අනුරූපව දේශපාලනික පරිවර්තන අවධියක් ඇත. එම අවධියේදී රජය අනිකක් නොව, නිර්ධන පංතියේ විප්ලවවාදී ආඥාදායකත්වයක් පමණකි." මේ වන තුරු මෙම සත්‍යය සමාජවාදීනට අවිවාදිත විය. ජයග්‍රාහී සමාජවාදය පූර්ණ කොමියුනිස්ටවාදය දක්වා වර්ධනය වන තුරු රාජ්‍යය පවතින්නේය යන සත්‍යය පිළිගැනීමද එයට ඇතුළත් විය. රාජ්‍යය අභාවයට යාම පිළිබඳව එංගල්ස්ගේ සිද්ධාන්තය බොහෝ ප්‍රසිද්ධය. ප්‍රජාතන්ත්‍රවාදය රාජ්‍යමය විධියක් බවත්, රාජ්‍යය අභාවයට යන විට ප්‍රජාතන්ත්‍රවාදයද අභාවයට යන බවත් පළමුවැනි තීසිසයේදී අපි වුවමනාවෙන්ම අවධාරණය කළෙමු. අපේ විරුද්ධකරුවන් මාක්ස්වාදය, යම්කිසි 'රාජ්‍යමය නොවන" දෘෂ්ටි කෝණයකින් වෙනස් කරන තුරු ඔවුන්ගේ තර්ක අති විශාල වරදකින් යුක්ත වනු ඇත.

රාජ්‍යයක් ගැන කතා කරනු වෙනුවට, (මෙහි තේරුම එහි දේශසීමා සටහන් කිරීමය) ඔවුහු "සමාජවාදී සංස්කෘතික ප්‍රදේශ" ගැන කතා කරති. එනම් සියලු රාජ්‍ය ප්‍රශ්නයන් ඈදිරි කිරීමේ අර්ථය ඇති අනියත ප්‍රකාශනයක් ඔවුහු වුවමනාවෙන්ම තෝරා ගනිති. ඒ අනුව අපට මුග්ධ පුනර් වාචකයක් ලැබෙයි: රාජ්‍යයක් නැතිනම් සත්තකින්ම, දේශසීමා පිළිබඳ ප්‍රශ්නයක්ද ඇතිවිය නොහැකිය. එවිට මුළු මහත් ප්‍රජාතන්ත්‍රවාදී-දේශපාලන වැඩ පිළිවෙළ අවශ්‍ය නොවනු ඇත. රජය "අතුරුදහන් වන" විට, සමූහාණ්ඩුවක්ද නොපවතිනු ඇත.

තීසස 5 (සටහන බලන්න*) අප සටහන් කළ කොටස් වල ජර්මන් ජාත්‍යෝන්මාදවාදී ලෙන්ච්, එංගල්ස්ගේ "පෝ සහ රයින් නැමති" ලිපියෙන් වැදගත් කොටසක් උපුටා දක්වයි. එංගල්ස් මෙම ලිපියෙන් අනිකුත් දේ අතර කුඩා සහ ජීව්‍ය ශක්තියක් නොමැති ජාතීන් සංඛ්‍යාවක් ගිලගත් ඓතිහාසික සංවර්ධන ක්‍රියාදමයේදී, "මහා සහ ජීව්‍ය යුරෝපීය ජාතීන්ගේ දේශසීමා" ජනගහනයේ භාෂාව සහ අනුවේදනය අනුව වැඩි වැඩියෙන් නිර්ණයනය කළ බව පවසයි. එංගල්ස් මෙම දේශසීමා ස්වාභා-

* මේ පොතේ 127—128 පිටු බලන්න.

වික බව හඳුන්වයි. දළ වශයෙන් 1848 සිට 1871 දක්වා කාලය තුළ යුරෝපයේ පුරෝගාමී ධනපති අවධිය මෙසේ විය. අද, ප්‍රජාතන්ත්‍රවාදී ලෙස නිර්ණයනය කරන ලද මේ දේශසීමා ප්‍රතිගාමී, අධිරාජ්‍යවාදී ධනපති ක්‍රමය විසින් වඩාත් නිතරපාහේ කඩා බිඳ දමා ඇත. වඩාත් අඩු ප්‍රජාතන්ත්‍රවාදී දේශසීමා, යුරෝපයේ හා ලෝකයේ අනිත් පෙදෙස්වල ඇඳා ගැනීම් සංඛ්‍යාවක් අධිරාජ්‍යවාදය විසින් සිය අනුප්‍රාප්තයා වන සමාජවාදයට දායාද වශයෙන් තබා යන බවට සෑම සාක්ෂියක්ම ඇත්තේය. ඉතින් මොකද? ජයග්‍රාහී සමාජවාදය මුල සිට අග දක්වා පූර්ණ ප්‍රජාතන්ත්‍රවාදයක් අනුගමනය කරමින්, රාජ්‍ය දේශසීමා ප්‍රජාතන්ත්‍රික ලෙස නිර්ණයනය කිරීමෙන් වළකින්නේද? ජනගහනයේ ''අනුවේදනීය හැඟීම්'' නොසලකා හරින්නේද? අපේ පෝලන්ත සගයින් මාක්ස්වාදයේ සිට ''අධිරාජ්‍යවාදී ආර්ථික වාදය'' දක්වා ඇදවැටී තිබෙන බව පැහැදිලි ලෙස පෙන්වාදීම පිණිස මේ ප්‍රශ්න ඉදිරිපත් කිරීම සෑහේ.

මාකස්වාදය විකට චිත්‍රයකට හැරවූ පැරණි ආර්ථිකවාදියෝ, මාක්ස්වාදීන් ආර්ථික දේ පමණක් වැදගත් ලෙස සිතන බව කම්කරුවන්ට පැවසූහ. ජයග්‍රාහී සමාජවාදයේ ප්‍රජාතන්ත්‍රික රාජ්‍යය, එක්කෝ දේශසීමා රහිතව (ද්‍රව්‍ය රහිත ''සංවේදනාවන්ගේ සංකීර්ණයක්'' ලෙස) පවතී යැයිද නැතිනම් නිෂ්පාදනයේ අවශ්‍යතාවයන් අනුව ''පමණක්'' දේශසීමා සටහන් කරනු ඇතැයිද නව ආර්ථික වාදීන් සිතන බව පෙනේ. එහෙත් ඇත්ත වශයෙන් එහි දේශ සීමා ප්‍රජාතන්ත්‍රවාදී ලෙස, එනම් ජනගහනයේ අභිප්‍රාය සහ ''අනුවේදනා'' අනුව සටහන් කරනු ඇත. මෙම අනුවේදනීය හැඟීම් පාගාදමන ධනපති ක්‍රමය, ජාතීන්ගේ සමගි සන්ධානයට බාධා වැඩියෙන් එකතු කරයි. සමාජවාදය පංති පීඩනය රහිතව නිෂ්පාදනය සංවිධානය කරමින්, රාජ්‍යයේ සියලු සාමාජිකයින්ගේ සමෘද්ධිය සහතික කරලමින්, ජනගහනයේ අනුවේදනීය හැඟීම්වලට පූර්ණ ඉඩ කඩ ලබා දෙයි. එමගින් ජාතීන්ගේ සමීපවීම සහ ඒකාබද්ධවීම ඉමහත් වේගයකින් වර්ධනය කොට, වේගවත් කරයි.

බරැති සහ අශෝභන ආර්ථික වාදයෙන් පාඨකයාට විවේකයක් දෙනු පිණිස අපේ විවාදයට පිටතින් සිටින සමාජවාදී ලේඛකයෙකුගේ තර්ක උපුටා දක්වමු. එම ලේඛකයා ඔතෝ බවර්ය, ඔහුට ඔහුගේම ''මනහර කරුණක්'' ඇත. එය නම් සංස්කෘතික-ජාතික ස්වෛරීත්වයයි. එසේවුවද, ඔහු ඉතා වැදගත් ප්‍රශ්න විශාල සංඛ්‍යාවකදී, ඉතා නිවැරදි ලෙස තර්ක කරයි. නිදසුනක් වශයෙන් ඔහු විසින් ලියන ලද ජාතික ප්‍රශ්නය හා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය නැමැති පොතේ විසිනව වැනි පරිච්ඡේදයෙන්, අධිරාජ්‍යවාදී ප්‍රතිපත්ති වසන් කිරීමට, ජාතික දෘෂ්ටිය පාවිච්චි කරතියි



කියනවිට ඔහු සම්පූර්ණයෙන්ම නිවැරදිය. 'සමාජවාදය හා ජාතිකත්වයේ මූලධර්ම' නැමැති 30 පරිච්ඡේදයෙන් ඔහු මෙසේ පවසයි:

''හිංසනය පාවිච්චි කරමින් සිය සංයුතියට මුළු මහත් ජාතීන් ඇතුළු කිරීමට සමාජවාදී සමූහය කිසිකලෙක සමත් නොවනු ඇත. ජාතික සංස්කෘතියේ සියලු වරප්‍රසාද භුක්ති විඳින, ව්‍යවස්ථාපනයේ සහ ආණ්ඩුවේ කටයුතු වලට පූර්ණ සහ ක්‍රියාශීලි ලෙස සහභාගි වන, ජනතාවකට අවසානයේදී අවි සපයන ලදැයි සිතා ගනිමු. එවිට, එවැනි ජාතියක් විදේශීය සමාජයික බලවේගයකට බලාත්කාර ලෙස යටපත් කරලීමට හැකි වන්නේද? සියලු රාජ්‍ය බලය අවිවල ශක්තිය මත රඳා පවතී. අද්‍යතන මහජන හමුදව, එහි විචක්ෂණ යන්ත්‍රනයට පින් සිදුවන්නට, අතීතයේ රදළ සෙනවිවරුන්ගේ සේනා සහ අගම්පඩි සේනා මෙන්, එක් නියත පුද්ගලයකුට, පවුලකට හෝ පංතියකට අයත් මෙවලමක් ලෙස තවමත් පවතී. සමාජවාදී සමාජයක, ප්‍රජාතන්ත්‍රවාදී සමූහයකගේ යුද්ධ හමුදව, අන් කිසිවක් නොව, අවිගත් පොදු ජනතාවය. මන්දයත්, සමාජ සන්තක කරන ලද කම්හල් වල බලකිරීමකින් තොරව වැඩ කරන, දේශපාලන ජීවිතයේ සියලු ක්ෂේත්‍රවල පූර්ණ ක්‍රියාකාරීත්වයක යෙදී සිටින, උසස් සංස්කෘතියකින් හෙබි, මිනිසුන්ගෙන් එය සංයුක්ත බැවිනි. එවැනි තත්ත්වයන් යටතේ, පිටස්තර පාලනයේ සියලු හැකියාවන් අතුරුදන් වෙයි.''

මෙය සත්‍යයකි. ධනපති ක්‍රමය යටතේ ජාතික (නැතිනම් වෙනත් දේශපාලනික) පීඩනය අහෝසි කළ නොහැකිය. මන්දයත් මෙය සඳහා. පංති අහෝසි කරලීම එනම්, සමාජවාදය ඉදිරිපත් කිරීම අවශ්‍ය වන බැවිනි. එහෙත් සමාජවාදය ආර්ථිකය මත පදනම් වුවද, එය ආර්ථිකයට පමණක් ලඝු කළ නොහැකිය. ජාතික පීඩනය අහෝසි කිරීම සඳහා පදනමක් — සමාජවාදී නිෂ්පාදනයක් — අවශ්‍යයය. එහෙත් මෙම පදනමට තවත්, ප්‍රජාතන්ත්‍රවාදී ලෙස සංවිධානය වූ රාජ්‍යයක් ද, ප්‍රජාතන්ත්‍රවාදී යුද්ධ හමුදවක් ආදියද අවශ්‍ය වේ. ධනවාදය, සමාජවාදය දක්වා පරිවර්තනය කිරීමෙන් ජාතික පීඩනය අහෝසි කර ලීමේ හැකියාව නිර්ධන පංතිය බිහිකරයි. මෙම හැකියාව යථා තත්ත්වයක් බවට පත්වන්නේ, ජනතාවගේ ''අනුවේදනීය හැඟීම්'' අනුව රාජ්‍ය දේශ සීමා සළකුණු කිරීමද ඇතුළුව, ඉවත්වීමට පූර්ණ නිදහසද ඇතුළුව, සියලු ක්ෂේත්‍රවල පූර්ණ ප්‍රජාතන්ත්‍රවාදය පිහිටුවාලීමෙන් ''පමණකි'' අන්න එවිට ''පමණකි!'' ඉතා සුළු ජාතික ගැටීම් සහ ඉතා සුළු ජාතික අවිශ්වාසයන් පවා ව්‍යවහාරික ලෙස සම්පූර්ණයෙන්ම අහෝසිකර දැමීම වර්ධනය කිරීම සඳහා ද රාජ්‍යය අතුරුදහන් වූ පසු ජාතීන්ගේ එක්වීම සහ බද්ධවීම වේගවත් කිරීම සඳහාද පදනමක් මෙන් මෙය සේවය කරනු ඇත. මාක්ස්වාදී න්‍යායය මෙයය, අපේ පෝලන්ත සගයින් සාවද්‍ය ලෙස ඈත් වී තිබෙන න්‍යායය ද මෙය වන්නේය.

## 2. අධිරාජ්‍යවාදය යටතේ ප්‍රජාතන්ත්‍රවාදය ''ක්‍රියාවෙහි යෙදවිය'' හැකි ද?

ස්වයං නිර්ණයනය පිළිබඳව ජාතීන් සතු අයිතියට විරුද්ධව පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ගෙනගිය පැරණි විවාදය එහෙම පිටින්ම පදනම් වූයේ, එය ධනපති ක්‍රමය යටතේ ''ක්‍රියාවෙහි යෙදවිය නොහැකිය'' යන තර්කය මතය. 1903 තරම් ඈත කාලයකදී ඉස්ක්‍රාවාදීන්වූ අපි රු: ස: ප්‍ර: ක: පක්ෂයේ දෙවැනි සමුළුවේ වැඩ පිළිවෙළ පිළිබඳ කමිසුමේදී මෙම තර්කය සිනාහවට ලක් කළෙමු. මෙය මාක්ස්වාදය විකෘති කළ ආර්ථිකවාදීන්ගේ (බෙදවාචී මතකයකි) දෙසුමක පුනර් වාචකයකියි අපි එද කියුවෙමු. අපේ තීසසය මගින් මෙම සාවද්‍යතාවය ගැන විශේෂ විමර්ශනයක් කළෙමු. මුළු මහත් මතබේදයේ න්‍යායික පදනම රැඳී තිබෙන මෙම කරුණ අරභයා අප ඉදිරිපත් කළ එකද තර්කයකට වත් පිළිතුරු සැපයීමට පෝලන්ත සහෝදවරු අකමැති වූහ (නැතිනම් අසමත් වූහ).

යන්ත්‍ර තහනම් කිරීම නැතිනම් ශ්‍රමික මුදල්[102] ඉදිරිපත් කිරීම ආදිය තහනම් කිරීම ක්‍රියාවෙහි යෙදවිය නොහැකි දෙයක් ලෙස අප ඔප්පු කළ ආකාරයට, ස්වයං නිර්ණයනයේ ආර්ථික නොහැකිතාවය ඔප්පු කිරීමට ආර්ථික විශ්ලේෂණයක් අවශ්‍ය වේ. මෙවැනි විශ්ලේෂණයක් කිරීමට කිසිවෙක් තැත් කර නැත. එක රටක හෝ ''විශේෂිතයක් ලෙස,'' ධනපති ක්‍රමය යටතේ ශ්‍රමික මුදල් ඉදිරිපත් කිරීම කළ හැකි දෙයකැයි කිසිවෙක් නොකියති. ක්‍රියාවෙහි යෙදවිය නොහැකි මේ ස්වයං නිර්ණයනය, යුද්ධයක් හෝ විප්ලවයක් හෝ නැතිව ''විශේෂිතයක් හැටියට'', වියරු අධිරාජ්‍ය වාදී යුගයේදී (නෝර්වේය, 1905) එක් කුඩා රටක හෝ විශේෂිතයක් ලෙස ධනපති ක්‍රමය යටතේ ශ්‍රමික මුදල් ක්‍රියාවේ යෙදවිය හැකියැයි කිසිවෙක් නොකියති.

පොදුවේ දේශපාලන ප්‍රජාතන්ත්‍රවාදය, ධනපති ක්‍රමයට ඉහළින් ඇති විය හැකි (මෙය පිරිසුදු ධනපති ක්‍රමයට න්‍යායික වශයෙන් සාමාන්‍ය වුවද) අධි ව්‍යුහයන්ගේ එක් ආකාරයක් පමණකි. ධනපති ක්‍රමය සහ අධිරාජ්‍ය ක්‍රමය ඕනෑම දේශපාලන ආකාරයක රාමුව තුළින් වර්ධනය වී ඒවා සියල්ල යටත් කර ගන්නා බව සත්‍ය සිද්ධීන් පෙන්වා දෙයි. මේ හේතුව නිසා, ප්‍රජාතන්ත්‍රවාදයේ එක් ආකාරයක් සහ එක් ඉල්ලීමක් ක්‍රියාවෙහි යෙදවිය නොහැකි යැයි කීම මූලික න්‍යායික සාවද්‍යතාවයකි.

මේ තර්කවලට අපේ පෝලන්ත සගයින් පිළිතුරු නොදීම නිසා මේ කරුණ අනුව සාකච්ඡාව අවසන් වී ඇතැයි සිතීමට අපට බල කෙරේ. වත්මන් යුද්ධයේ උපක්‍රමශීලි සහ අනිකුත් අංශවලට පෝලන්තය පරාධීනව ඇතැයි කියමින්, එහි පුනඃස්ථාපනය ක්‍රියාවේ යෙදවීම ප්‍රතික්ෂේප



කිරීම ''හාස්‍ය ජනකය'' යන මූර්ත ප්‍රකාශනය අප ඉදිරිපත් කළේ සිත් කාවදින සේ විස්තර කිරීමටය. පිළිතුරු නොලැබිණි!

පෝලන්ත සහෝදරවරුන් පැහැදිලි ලෙසම සාවද්‍ය ප්‍රකාශනයක් යළිත් (II, §1) ඉදිරිපත් කළේ මෙසේය: ''විදේශීය ප්‍රදේශ ඈඳා ගැනීමේ ප්‍රශ්නයේදී දේශපාලනමය ප්‍රජාතන්ත්‍රවාදී රූපාකාර පැත්තකට දමා ඇත; විවෘත හිංසනය තීරණය කරයි... ස්වකීය රාජ්‍ය දේශසීමා පිළිබඳ ප්‍රශ්නය ජනතාවට තීරණය කිරීමට ප්‍රාග්ධනය කිසිකලෙක ඉඩ නොදෙනු ඇත...'' ''මහජනතාවට සිය සිවිල් සේවකයින්, අධිරාජ්‍යවාදයේ සේවකයින් ''තෝරාගැනීමට'' ''ප්‍රාග්ධනයට'' ඉඩදිය හැකිවාක් මෙනි!..'' රාජාණ්ඩුව වෙනුවට සමූහාණ්ඩුවක් ස්ථාපිත කිරීම වැනි, නිත්‍ය යුද්ධ හමුදවක් වෙනුවට මහජන මිලීෂියාවක් සෑදීම වැනි, වැදගත් ප්‍රජාතන්ත්‍රික ප්‍රශ්න පිළිබඳව බැරෑරුම් තීරණ ගැනීම, පොදුවේ ''විවෘත හිංසනයෙන්'' තොරව, සිතාගත හැකිවාක් මෙනි. මනෝමූලික වශයෙන් නම් පෝලන්ත සහෝදරවරුන්ට මාක්ස්වාදය ''වඩාත් අරුත්සරු'' කිරීමට අවශ්‍ය වී ඇත. එහෙත් ඔවුහු එය ඉතා අසාර්ථක ලෙස කරති. විෂය මූලික වශයෙන් නම් ක්‍රියාවෙහි යෙදවිය නොහැකිය යන ඔවුන්ගේ වාක්‍ය ඛණ්ඩය අවස්ථාවාදීය, මන්දයත්, ඔවුන්ගේ නිහඬ නිගමනය මෙසේ වන බැවිනි: අධිරාජ්‍යවාදය යටතේ ප්‍රජාතන්ත්‍රවාදයද සමස්තයක් වශයෙන්ද, ඒකරාශී කළ එහි සියලු ඉල්ලීම්ද ක්‍රියාවෙහි යෙදවිය නොහැකිවාක් මෙන්ම, විප්ලව කීපයක් නොමැතිව මෙයද ''ක්‍රියාවෙහි යෙදවිය නොහැකිය.''

ඡේදය II, §1, සාකච්ඡාවේ අගදී, ඇල්සාස් ගැන සාකච්ඡා කරන විටදී පමණක්, ''අධිරාජ්‍යවාදී ආර්ථිකවාදයේ'' ස්ථාවරය අත හැර දැමූ පෝලන්ත සහෝදරවරුන් ප්‍රජාතන්ත්‍රවාදයේ එක් ආකාරයක් පිළිබඳ ප්‍රශ්නය වෙත ළඟා වුණේ ''ආර්ථික'' පිළිබඳව පොදු සමුද්දේශ ඉදිරිපත් කරමින් නොව, මූර්ත පිළිතුරක් සහිතවය. නියත වශයෙන්ම සාවද්‍ය වූයේද මේ එළැඹීමය! ඇල්සාස් එක් කොටසක් ජර්මනුන් වෙත ඈදී ගියද, ප්‍රංශ ජාතිකයින්ගෙන් අසන්නේ නැතිව ඇල්සාසය ප්‍රංශය සමග එක් කරලීමට සමහර ඇල්සාස්වරුන් කැමති වීම, ''විශේෂිතවාදයක්, ප්‍රජාතන්ත්‍රික නොවීමක්'' වනු ඇතැයිද, එයින් යුද්ධ තර්ජනයක් ඇති වෙති!!! යනුවෙන්ද ඔවුහු ලියූහ. මේ ව්‍යාකූලත්වය ඇත්තෙන්ම හාස්‍යජනකය: ස්වයං නිර්ණයනය (මෙය ඉතා පැහැදිලිය, මේ ගැන විශේෂ අවධාරණයක් අපි අපේ තීසිසය මගින් ඉදිරිපත් කර ඇත්තෙමු,) පීඩක රාජ්‍යයෙන් ඉවත්වීමේ නිදහස ගැන පූර්ව ඇඟවීමක් කරයි. එහෙත් රාජ්‍යයක් සමග ඒකාබද්ධ වීමේදී එම රාජ්‍යයේ අනුමැතිය කලින් ඇඟවීම දේශපාලනයෙහි ''සිරිතක් වශයෙන් සටහන් නොකරන'' දෙයකි. එය ආර්ථිකයෙහි

ධනපතියා ලාභය ලැබීම ගැන සහ කම්කරුවා වැටුප් ලැබීම ගැන කැමැත්ත ප්‍රකාශ කිරීමේ සිරිත කලින් නොඇඟවීමට සමානය.

කෙනෙක් මාක්ස්වාදී දේශපාලනඥයකු වීමට කැමති නම්, අල්සාසය ගැන කතා කරන විට, අල්සාසය සතු ඉවත්වීමේ නිදහස සඳහා ජර්මන් සමාජවාදී අධමයින් සටන් නොකිරීම ගැන ඔවුන්ටත්, මුළු අල්සාසයම බලෙන් ඇඳා ගැනීමට ඉදිරිපත් වී සිටින ප්‍රංශ ධනපති පංතිය සමග සමාදන වූ ප්‍රංශ සමාජවාදී අධමයින්ටත් විරුද්ධව පහර ගැසිය යුතුය. මේ දෙවර්ගයම ''තම තමන්ගේ'' රටවල අධිරාජ්‍යවාදයට බැල මෙහෙවර කරති; කුඩා වුවද, වෙන්වූ රාජ්‍යයකට බියවෙති. මෙතැනදී ප්‍රධාන කරුණ ස්වයං නිර්ණයනය පිළිගන්නා සමාජවාදීන් අල්සාස් ජනතාවගේ අභිප්‍රායයට විරුද්ධ නොවී, සති කීපයකින් එම ගැටළුව විසඳාලන සැටි පෙන්වාදීමය. ඒ වෙනුවට ප්‍රංශ අල්සාස් වරුන් ප්‍රංශ මත බලපෑමෙන් ඇතිවන ඉමහත් අවදානම ගැන තර්ක කිරීම අපූරු විකාරයකි.

## 3. ඇඳාගැනීම යනු කුමක් ද?

මේ ප්‍රශ්නය අපි ඉතා නියත ලෙස අපේ තීසිසයේ (7 වැනි කොටසින්*) ඉදිරිපත් කළෙමු. පෝලන්ත සහෝදරවරු එයට පිළිතුරු නොදුන්හ. ඔවුහු එය මග හරිමින් මෙසේ අවධාරණය කළහ: 1) ඔවුන් ඇඳාගැනීම් වලට විරුද්ධ බවත්, 2) ඔවුන් ඇඳාගැනීම්වලට විරුද්ධ මන්ද යන්නත් විස්තර කිරීමය. මේවා ඉතා වැදගත් ප්‍රශ්න බව නම් සැබවි. එහෙත් මේවා වෙනත් වර්ගයකට අයත් ප්‍රශ්නයන්ය. අපේ මූලධර්ම න්‍යායික වශයෙන් යහපත් වීමට අප කැමති නම් ඒවා නියත සහ පැහැදිලි ලෙස සූත්‍රගත කිරීමට අප කැමති විය යුතුය. ඇඳාගැනීම නැමැති සංකල්පය අපේ දේශපාලන ප්‍රචාරයේ සහ උද්ඝෝෂණයේ භාවිතා වන බැවින්, ඇඳාගැනීම කුමක්ද යන ප්‍රශ්නය මඟහැරීමට අපට නොහැකිය. සගයින් අතර සාකච්ඡාවකදී මෙම ප්‍රශ්නය මඟහැරීම කෙනෙක් සිය ස්ථාවරය අතහැරයාමක් ලෙස විනා අන් කවර විදිහකින් හෝ එය විස්තර කළ නොහැකිය.

අප මේ ප්‍රශ්නය ඉදිරිපත් කළේ මන්ද? මෙය ඉදිරිපත් කළ විට අපි එය විස්තර කළෙමු. ''ඇඳා ගැනීමට එදිරිව විරුද්ධත්වය ප්‍රකාශ කිරීම අන් කිසිවක් නොව, ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය පිළිගැනීමක් වන බැවිනි.'' ඇඳාගැනීම නැමැති සංකල්පයට අයත් දේ මේවාය: 1) බලය පාවිච්චි කිරීමේ සංකල්පය (බලය පාවිච්චි කිරීමෙන් ඇඳා ගැනීම);

* මේ පොතේ130—131 පිටු බලන්න.



2) තවත් ජාතියක් විසින් පීඩනය කිරීමේ සංකල්පය (පිටස්තර ප්‍රදේශ ඇඳාගැනීම ආදිය), එමෙන්ම සමහර විට 3) status quo උල්ලංඝණය කිරීමේ සංකල්පය. අපේ තීසිසය මගින් අප මෙය පෙන්වා දුන් නමුදු, එයට විරුද්ධව විවේචන එල්ල නොවීය.

හිංසනයට විරුද්ධව සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට පොදුවේ නැගී සිටිය හැකිද? යනුවෙන් ප්‍රශ්න කරති. නොහැකි බව පැහැදිලිය. ඇඳාගැනීම් වලට අප විරුද්ධ වන්නේ එයට හිංසනය අඩංගු නිසා නොව, වෙනත් හේතූන් නිසා බව මින් පැහැදිලිය. එමෙන්ම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට Status quo වලට ද පක්ෂපාත විය නොහැකිය. කෙතරම් අර්ථ නිරූපන දීමට උත්සාහ දැරුවද, ඇඳාගැනීම යනු ජාතියක් සතු ස්වයං නිර්ණයනය උල්ලංඝණය කිරීමකි, ජනගහනයේ අභිප්‍රායට විරුද්ධව රාජ්‍ය දේශ සීමා ස්ථාපිත කිරීමකි.

ඇඳාගැනීමට විරුද්ධවීම යනු ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතියට පක්ෂ වීමකි. යම්කිසි නියමිත රාජ්‍යයක දේශසීමා තුළ ඕනෑම ජාතියක් බලාත්කාරයෙන් තබා ගැනීමට විරුද්ධ වීමත් (එම අදහසටම අයත් යම්තමින් වෙනස් කරන ලද මේ සූත්‍රය අපේ තීසිසයේ* හතරවැනි කොටසට අපි වුවමනාවෙන් ඇතුළු කළෙමු. ඇඳා ගන්නා රාජ්‍යයේ දේශ සීමා තුළ පීඩිත ජාතීන් බලාත්කරයෙන් නවත්වා ගැනීමට තමන් විරුද්ධ බව කියැවෙන ඔවුන්ගේ § 1, 4 මගින් පෝලන්ත සහෝදරවරු පූර්ණ පැහැදිලිතාවයකින් යුතුව අපට පිළිතුරු දුන්හ.'') — ජාතීන්ගේ ස්වයං නිර්ණයනයට පක්ෂ පාත වීමත් එකම දෙයකි.

වචන ගැන හෙට්ටු කිරීමකට අප සූදානම් නැත. යම්කිසි පක්ෂයක් සිය වැඩ පිළිවෙල මගින් (එසේත් නැතිනම් සියලු දෙනා මත බලපාන යෝජනාවක් මගින් — ආකාරය කුමක් වුවද කම් නැත) ඇඳා ගැනීම්වලට** විරුද්ධව, තම රාජ්‍යයේ සීමාවන් තුළ පීඩිත ජාතීන් බලාත්කාරයෙන් තබා ගැනීමට විරුද්ධව, ප්‍රකාශ කරන්නේ නම් එම පක්ෂය සමග මූලධර්ම වශයෙන් අපි සම්පූර්ණයෙන් එකඟ බව ප්‍රකාශ කරමු. ස්වයං නිර්ණයනය නැමැති වචනය දැඩිලෙසම ඉල්ලා සිටීම විකාරයක් වනු ඇත. මෙම ජීවගුණය අනුව වචන මාරු කිරීමට අප පක්ෂයේ අයට වුවමනා නම්, අප පක්ෂයේ වැඩපිළිවෙළේ නව වැනි කොටස සංශෝධනය කිරීමට වුවමනා නම්, එවැනි සහෝදරවරුන් සමග අපේ ඇති මතභේදය ප්‍රතිපත්ති මූලක නොවන බව අපි කල්පනා කරමු.

* මේ පොතේ 125 පිටු බලන්න. — සංස්කාරක

** කාල් රාදෙක් "Berner Tagwacht[103] හී එක් ලිපියක් මගින් ''පැරණි සහ අළුත් ඇඳාගැනීම් වලට විරුද්ධ'' යනුවෙන් මෙය සූත්‍රගත කර ඇත.

එකම වැදගත් දේ නම්, අපේ උද්යෝග පාඨවල දේශපාලන සුපැහැදිලිතාවය සහ න්‍යායික දූරදර්ශී භාවය ය.

මේ ප්‍රශ්නය ගැන වාචික ලෙස සාකච්ඡා කරන විට — විශේෂයෙන්ම දැන් යුද්ධය නිසා මෙහි වැදගත් කම කිසිවෙක් ප්‍රතික්ෂේප නොකරනු ඇත — අපට මෙවැනි තර්කයක් මුණ ගැසිණි. (එය මුද්‍රණය කර තිබෙන බවක් අපි නොදුටුමු): ප්‍රසිද්ධ දුෂ්ටත්වයට එදිරිව විරුද්ධත්වය ප්‍රකාශ කිරීම, එම දුෂ්ටත්වය නිවාරණය කරන සක්‍රිය සංකල්පයක් පිළිගැනීම අනිවාර්යයෙන් තේරුම් නොකරයි. මෙය පැහැදිලි ලෙසම පදනමක් නැති තර්කයකි. මෙය මුද්‍රණය වී නැත්තේ ඒ නිසා විය යුතුය. ඈඳා ගන්නා රාජ්‍යයේ දේශසීමා තුළ පීඩිත ජාතියක් බලාත් කාරයෙන් රඳවා ගැනීමට විරුද්ධව සමාජවාදී පක්ෂයක් ප්‍රකාශ කරන්නේ නම්, එම පක්ෂය බලයට පැමිණි පසු බලාත්කාරයෙන් රඳවාගැනීම ප්‍රතික්ෂේප කිරීමට එමගින් එය බැඳී සිටී.

හෙට වන විට හින්ඩන්බුර්ග්ට රුසියාව පරදවා අර්ධ ජයග්‍රහණයක් ලබාගත හැකි නම්, සහ මෙම අර්ධ ජයග්‍රහණය ධනවාදයේ සහ අධිරාජ්‍යවාදයේ ආර්ථික නියාමයන්ගේ ස්ථාවරය අනුව "ක්‍රියාවේ යෙදවිය හැකි" නව පෝලන්ත රාජ්‍යයක් ඇතිවීමෙන් ප්‍රකාශ වන්නේ නම් (සාර්වාදය යම්තමින් දුර්වල කරලීමට බ්‍රිතාන්‍යයේ සහ ප්‍රංශයේ අභිප්‍රායයට සම්බන්ධව) එමෙන්ම අනිද්දට පෙත්රොග්‍රාද්, බර්ලින් සහ වෝසෝ නගරවල සමාජවාදී විප්ලවය ජයග්‍රහණය කරති නම්, පෝලන්ත සමාජවාදී ආණ්ඩුවද, රුසියන් සහ ජර්මන් සමාජවාදී ආණ්ඩු මෙන්ම, "පෝලන්ත රාජ්‍යයේ දේශසීමා තුළ වාසය කරන උක්රයින ජාතිකයින් වැනි අය "බලාත්කාරයෙන් රඳවා ගැනීම" ප්‍රතික්ෂේප කරනවාට අපි මොහොතකට හෝ සැක නොකරමු. "රබෝත්නිත්සා"[104] පුවත්පතේ කර්තෘ මණ්ඩලයේ සාමාජිකයින් එම ආණ්ඩුවේ සිටිති නම්, ඔවුන් ඔවුන්ගේ "තීසිසය" පරිත්‍යාග කරනවාට කිසිදු සැකයක් නැත. එමගින් ඔවුන් "සමාජවාදී සමාජයක් තුළ ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය ක්‍රියාවේ යෙදවිය නොහැකිය" යන "න්‍යායය", නිෂ්ප්‍රභා කරනු ඇත. අපි මෙලෙස නොසිතමු නම්, වැඩ පිළිවෙළ ගැන පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සහෝදරවරුන් සමග සහෝදරාත්මක සාකච්ඡාවක් නොකරමු. එහෙත් ජාත්‍යෝන්මාදවාදීන් හැටියට ඔවුන්ට විරුද්ධව සමාව නොදෙන අරගලයක් කරන්නෙමු.

මිනිහකු වහලකු ලෙස මිලදී ගැනීමට මට අවසර නොදුන්නේ යැයි ප්‍රසිද්ධියේ "විරුද්ධත්වය ප්‍රකාශ කරමින්" මා යුරෝපයේ ඕනෑම නගරයක ගමන් කළහොත්, පසුව මා එම විරුද්ධත්වය පුවත්පත්වල පළ කළහොත් කුමක් සිදුවේද. එවිට මා වහල් හිමියකු හැටියටත්, ඔබ කැමති



නම්, වහල් ක්‍රමයට නැතිනම් වහල් ප්‍රතිපත්තියට පක්ෂපාත වූවකු හැටියටත් මිනිසුන් මට සළකනවාට සැක නැත. වහල් ක්‍රමයට මගේ ඇති පක්ෂපාතභාවය, විරුද්ධත්වය ප්‍රකාශ කිරීමේ නිෂ්ක්‍රීය ආකාරයකින් මිස සක්‍රීය ආකාරයකින් ("මා වහල් ක්‍රමයට පක්ෂ පාතය") නොකළැයි කියා කිසිවකු රැවටෙන්නේ නැත. දේශපාලනමය වශයෙන් විරුද්ධත්වය "ප්‍රකාශ කිරීමක්" දේශපාලන වැඩ පිළිවෙළට පූර්ණ ලෙස සමාන වෙයි. මෙය කොතරම් පැහැදිලි කරුණක්දයත්, එය විස්තර කිරීමට සිදුවීම ගැන වුවද කෙනෙකුට නොරිසි ගතියක් ඇතිවේ. දේශපාලනමය විරුද්ධත්වය ප්‍රකාශ කිරීමක් දේශපාලනමය වැඩ පිළිවෙළකින් වෙන්කර හඳුනා ගැනීමට ඉදිරිපත් වන, එකක් අනිකට ප්‍රති විරුද්ධව ඉදිරිපත් කරන ආදිය කිරීමෙහි සමත් අයට තෙවැනි ජාත්‍යන්තරය තුළ ඉඩක් නැතැයි අප කියන විට, ට්සිමර්වොල්ඩ් වාමාංශිකයින්[105] අතර — අප ට්සිමර්වොල්ඩ් කණ්ඩායම ගැන සමස්තයක් වශයෙන් කතා නොකරන්නේ එහි මාර්තව් සහ වෙනත් කෞට්ස්කිවාදීන් සිටින බැවිනි — එයට විරුද්ධවීමක් පැන නොනගින බව අපට විශ්වාස බැවිනි.

පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අප පක්ෂයේ වැඩ පිළිවෙළින් (මෙය එමෙන්ම ඔවුන්ගේ වැඩ පිළිවෙළද වේ) නව වැනි කොටසද, එමෙන්ම ජාත්‍යන්තරයේ වැඩ පිළිවෙළින් ඊට අදාළ කොටසද (1896 ලන්ඩන් සමුළුවේ යෝජනාව) කපා හැරීම සඳහා ඉතා ඉක්මණින් නිල වශයෙන් ඔවුන්ගේ යෝජනා සූත්‍ර ගත කරනු ඇතැයිද, එමෙන්ම "පැරණි සහ අළුත් ඈඳා ගැනීමේද", "ඈඳා ගන්නා රාජ්‍යය තුළ පීඩිත ජාතියක් බලාත්කාරයෙන් තබා ගැනීමේද" දේශපාලන සංකල්පවලට අදාළ ස්වකීයම වූ අර්ථ නිරූපණයන් ඉදිරිපත් කරනු ඇතැයිද, වචන ගැන හෙට්වූ කිරීමේ අභිලාෂයකින් තොරව, අපේ අවංක බලාපොරොත්තුව ප්‍රකාශ කිරීමට අපි ඉඩ ප්‍රස්තාව ලබමු. දැන් ඉතින් අපි ඊළඟ ප්‍රශ්නය සළකා බලමු.

## 4. ඈඳා ගැනීම්වලට පක්ෂද නැතිනම් විරුද්ධද?

පෝලන්ත සහෝදරවරු ඔවුන්ගේ තීසිසයේ පළමුවැනි කොටසේ තෙවැනි ඡේදය මගින්, ඔවුන් ඕනෑම වර්ගයක ඈඳා ගැනීම්වලට විරුද්ධ බව නියත ලෙස ප්‍රකාශ කරති. අවාසනාවකට මෙන්, එම කොටසේ හතරවැනි ඡේදයෙහි සඳහන් දේ ඈඳාගැනීම්වාදී ලෙස අප විසින් පිළිගත යුතුය. එය මෙසේ ආරම්භ වෙයි... එය වඩාත් මෘදු ලෙස කියන්නේ කෙසේද?.. අපූරු කොටස මෙසේය...

ඈඳා ගැනීම්වලට විරුද්ධව, ඈඳා ගන්නා රාජ්‍යයේ දේශසීමා තුළ, පීඩිත ජාතීන් තබා ගැනීමට විරුද්ධව, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ගෙනයන අරගලයේ ආරම්භක ලක්ෂ්‍යය නම්, පිතෘභූමිය ආරක්ෂා කිරීමේ සියලු

විධි ප්‍රතික්ෂේප කිරීමය (යටි ඉරිගැසීම කර්තෘ විසිනි). මෙය අධිරාජ්‍යවාදී යුගයේදී විදේශීය ජනතාව පෑගීමට හා කොල්ල කෑමට ස්වකීය ධනපති පංතියට ඇති අයිතිය ආරක්ෂා කිරීමකි.

මෙය කුමක්ද? මෙය ගළපා ඇත්තේ කෙසේද?

''ඈඳාගැනීම් වලට විරුද්ධව කරන අරගලයේ ආරම්භක ලක්ෂ්‍යය පීතෘභූමිය ආරක්ෂා කිරීමේ සියලු විධියක්ම ප්‍රතික්ෂේප කිරීමය. ''එහෙත් ඕනෑම ජාතික යුද්ධයක්ද සහ ජාතික කැරැල්ලක්ද පීතෘභූමිය ආරක්ෂා කිරීම යනුවෙන් හැඳින්විය හැකිය.'' මේ වනතෙක් එය පොදු වශයෙන් එලෙස පිළිගෙන තිබිණි! අපි ඈඳාගැනීම්වලට විරුද්ධ වමු. එහෙත් ... ඔවුන් ඈඳාගැනීමෙන් නිදහස් කරනු පිණිස ඈඳාගත්තවුනට විරුද්ධව කරන යුද්ධයකට අපි විරුද්ධ වමු. ඈඳාගැනීමට හසුවූවන් ඈඳා ගත්තවුනට විරුද්ධව සිය නිදහස සඳහා ගෙනයන කැරැල්ලට අපි විරුද්ධ වමු! මෙය ඈඳාගැනීම්වාදී ප්‍රකාශනයක් නොවේද?

''අධිරාජ්‍යවාදී යුගයේදී'' පීතෘභූමිය ආරක්ෂා කිරීම, විදේශීය ජනතාව පෑගීමට හා කොල්ල කෑමට ස්වකීය ධනපති පංතියට ඇති අයිතිය ආරක්ෂා කිරීමකියි යන පුදුම සහගත ප්‍රකාශනය තීසිසයේ කර්තෘවරු අභිප්‍රේරණ කරති... එහෙත් මෙය සත්‍යය වන්නේ අධිරාජ්‍ය වාදී යුද්ධයක් සම්බන්ධයෙන් පමණකි, එනම්, යුද්ධකාමී බලවතුන් දෙදෙනෙක් විදේශීය ජනතාව පීඩනය කරනවා පමණක් නොව, විදේශීය ජනතාව පීඩනය කිරීමේදී වැඩි කොටස ලැබිය යුත්තේ කාටද යන්න තීරණය කිරීම සඳහා යුද්ධ කරන අධිරාජ්‍ය වාදී බලවේගයන් අතර හෝ බලවේගයන්ගෙන් සැදුම්ලත් කණ්ඩායම් අතර හෝ කෙරෙන යුද්ධයකදී පමණකි!

අප පක්ෂය විසින් ඉදිරිපත් කරන ලද ආකාරයට වඩා බොහෝ වෙනස් විධියකට ''පීතෘභූමිය ආරක්ෂා කිරීමේ'' ප්‍රශ්නය කර්තෘවරුන් ඉදිරිපත් කරන බව පෙනේ. අධිරාජ්‍යවාදී යුද්ධයකදී ''පීතෘභූමිය ආරක්ෂා කිරීම'' අපි හෙළා දකිමු. මෙය හැකි තරම් පැහැදිලි ලෙස අප පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ ප්‍රකාශනය මගින්ද බර්න්හි යෝජනා* මගින්ද ප්‍රකාශ කොට ඇත. ''සමාජවාදය සහ යුද්ධය'' යන මැයෙන් ජර්මන් සහ ප්‍රංශ භාෂාවලින් මෙය පොත් පිංචක් ලෙස මුද්‍රණය කර ඇත. මෙය අපේ තීසිසය මගින් දෙවරක්ම අවධාරණය කළෙමු (4 සහ 6 කොටස්වලට අධෝලිපි)** පෝලන්ත තීසිසයේ කතුවරුන් පොදුවේ පීතෘභූමිය ආරක්ෂා කිරීම, එනම් ''අධිරාජ්‍යවාදී යුගයේදී'' ජාතික යුද්ධ කළ නොහැකිය

* වී. අයි. ලෙනින්, ''යුද්ධය සහ රුසියන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය.'' — සංස්කාරක

** මේ පොතේ 126—128 පිටු බලන්න.



යන මතය සමහර විට විශ්වාස කරමින්, එමෙන්ම ජාතික යුද්ධ සඳහාද පීතෘභූමිය ආරක්ෂාකිරීම ප්‍රතික්ෂේප කරති. අප මෙසේ කියන්නේ ''සමහර විට'', ඔවුන්ගේ තීසිසයෙන්, පෝලන්ත සහෝදරවරුන් ඔවුන්ගේ මතය ප්‍රකාශ නොකළ නිසා විය යුතුය.

මෙවැනි මතයක් ඉතා පැහැදිලි ලෙස ජර්මන් ජාත්‍යන්තර කණ්ඩායමේ[106] තීසිසය මගින්ද යුනියුස්ගේ* පොත් පිංච මගින්ද ප්‍රකාශ කොට ඇත. පොත් පිංච ගැන අපි විශේෂ ලිපියක් ලියා ඇත්තෙමු. එහි කියා ඇති දෙයට අමතරව, ඈඳාගත් රටකට විරුද්ධව, ඈඳාගනු ලැබූ පෙදෙසක් හෝ රටක් හෝ විසින් ගෙනයන ජාතික කැරැල්ල පැහැදිලි ලෙසම යුද්ධයක් හැටියට නොව, කැරැල්ලක් ලෙස නම්කළ හැකිය (අපි එවැනි විරුද්ධත්වයක් අසා ඇති හෙයින්, මෙහිදී ගෙනහැර දක්වමු. එසේවුවද නාමාවලිය පිළිබඳ එම මතභේදය බැරෑරුම් එකක් නොවේ). කෙසේවුවද, ඈඳාගැනීමට භාජනව සිටින බෙල්ජියම, සර්බියාව, ගැලීසියාව සහ ආර්මේනියාව එම රටවල් ඈඳාගත් රටවලට විරුද්ධව ගෙනයන 'කැරැල්ල' ''පීතෘභූමිය ආරක්ෂා කිරීම'' හැටියට හඳුන්වන්නේ නැත. එමෙන්ම එම ඈඳාගැනීම සාධාරණ ක්‍රියාවක් ලෙස කිසිවකු පිළිගන්නේද නැත. මෙලෙස ඈඳාගැනීමට භාජනයවී ඇති රටවල්වල විදේශීය ජනතාවට පීඩාකරන ධනපති පංතියක් සිටින නිසා, එසේත් නැතිනම් වඩාත් නිවැරදිව ප්‍රශ්නය ''පීඩනය කිරීමේ අයිතිය'' ගැන නිසා, එම පංතියට ඔවුන් පෑගීමට පුළුවන් බැවින්, එය පදනම් කර ගෙන මේ වර්ගයේ කැරළිවලටත් පෝලන්ත සහෝදරවරු විරුද්ධ වෙති. ඒ අනුව, නියමිත යුද්ධයක් හෝ කැරැල්ලක් හෝ තක්සේරු කරන්නේ එහි සැබෑ සමාජමය හරයේ ශක්තිය අනුව නොව (තම නිදහස සඳහා පීඩිත ජාතිය පීඩක ජාතියට විරුද්ධව කරන අරගලය) පීඩනයට භාජනය වූ අද්‍යතන ධනපති පංතිය විසින් ''පීඩනය කිරීමේ අයිතිය'' ක්‍රියාත්මක කිරීමට ඇති හැකියාවද අනුවය. නිදසුනක් වශයෙන් 1917 දී ජර්මනිය විසින් බෙල්ජියම ඈඳාගනු ලැබුවේ නම්, 1918 දී බෙල්ජියම සිය විමුක්තිය සඳහා කැරළි ගැසුවේ නම්, ''විදේශීය ජනතාව පෑගීමට'' බෙල්ජියම් ධනපති පංතියට නිදහස තිබේය යන පදනම මත පෝලන්ත සහෝදරවරුන් එම කැරැල්ලට විරුද්ධ වනු ඇත.

මෙම තර්කයේ මාක්ස්වාදී පමණක් නොව, විප්ලවවාදී හරයක් පවා නොමැත. සමාජවාදය පාවාදීමට අපට වුවමනා නැතිනම්, අපේ ප්‍රධාන සතුරා වන, විශාල රාජ්‍යවල ධනපති පංතියට විරුද්ධව ගසන හැම කැරැල්-

* යුනියුස්ගේ පොත ගැන... වී. අයි. ලෙනින්, ''පෙරදිග ලෝකයේ ජාතික විමුක්ති ව්‍යාපාරය'', පිටු 211-217, සිංහල මුද්‍රණය. — සංස්කාරක

ලටකම ආධාරදීම අපේ යුතුකම වන්නේය. එයද ඒවා ප්‍රතිගාමී පංතියේ කැරලි නොවන විටය. ඇඳාගත් ප්‍රදේශවල කැරළිවලට ආධාරදීමට ප්‍රතික්ෂේප කිරීමෙන් අපි විෂයබද්ධ වශයෙන් ඈඳාගැනීම්වාදීන් වන්නෙමු. සමාජ විප්ලවවල ආරම්භක යුගය වන, ''අධිරාජ්‍යවාදී යුගයේදී'' නිර්ධන පංතිය, ඈඳාගත් ප්‍රදේශවල ඕනෑම කැරැල්ලකට ධෛර්‍යවත් ආධාර විශේෂයෙන්ම අද දෙනු ලබන්නේ, කැරැල්ල නිසා දුර්වල වන ''මහා'' බලවතකුගේ ධනපති පංතියට හෙට නැතිනම් එකවර පහර දෙනු සඳහාය.

කෙසේවුවද, පෝලන්ත සහෝදරවරු තම ඈඳාගැනීම්වාදයේදී තවත්දුර ඉදිරියට යති. ඈඳාගනු ලැබූ ප්‍රදේශවල ඕනෑම කැරැල්ලකට ඔවුන් විරුද්ධවනවා පමණක් නොවේ. සාමකාමී නිදහසක් ඇතුළු ඕනෑම වර්ගයේ නිදහසක් පුනඃස්ථාපනය කිරීමටද ඔවුන් විරුද්ධය! මෙයට සවන් දෙන්න:

අධිරාජ්‍යවාදය විසින් ගෙනයන පීඩක ප්‍රතිපත්තියේ විපාකයන් පිළිබඳ සියලු වගකීම් ප්‍රතික්ෂේප කරන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය ඒවාට විරුද්ධව තියුණු අරගලයක්ද ගෙනයමින්, යුරෝපයේ අළුත් දේශසීමා ස්ථාපිත කිරීමකට හෝ අධිරාජ්‍යවාදය විසින් අහෝසි කළ දේශසීමා යළි ස්ථාපිත කිරීමට හෝ කොහෙත්ම පක්ෂ පාත නොවෙයි'' (යටි ඉරි ගැසීම කර්තෘ විසිනි).

ජර්මනිය හා බෙල්ජියම අතරත්, රුසියාව සහ ගැලීසියාව අතරත්, ''ඇති දේශසීමා අධිරාජ්‍යවාදය විසින්'' අද ''අතුගා දමා ඇත''. කොයි ආකාරයකින් වුවද, පොදුවේ මේවා යළි ස්ථාපිත කිරීමට ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය විරුද්ධ විය යුතු බව කියති. 1905 දී ''අධිරාජ්‍යවාදී යුගයේදී'' නෝර්වේහි ස්වෛරී ධයට් සභාව ස්වීඩනයෙන් ඉවත්වූ බව ප්‍රකාශකළ විට, ස්වීඩනයේ ප්‍රතිගාමීන් දේශනා කළ පරිදි නෝර්වේයට විරුද්ධව ස්වීඩනය යුද්ධාරම්භ නොකළාය. එය එසේ වූයේ ස්වීඩන් කම්කරුවන්ගේ ප්‍රතිරෝධක ශක්තිය සහ ජාත්‍යන්තර අධිරාජවාදයේ තත්ත්වය නිසාය. නෝර්වේහි ඉවත්වීමට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය විරුද්ධ විය යුතුව තිබිණි. මන්දයත්, ''යුරෝපයේ නව දේශසීමා ඇති කිරීමක් ඉන් නිසැක ලෙසම තේරුම් යන බැවිනි''!!

මෙය සෘජු, විවෘත ඈඳාගැනීම්වාදයකි. එය නිෂ්ප්‍රභ කිරීමට අවශ්‍යතාවයක් නොමැත, මන්දයත් එය විසින්ම එය නිෂ්ප්‍රභ කරන බැවිනි. මෙවැනි ස්ථාවරයක් ගැනීමට කිසිදු සමාජවාදී පක්ෂයක් තීරණය නොකරනු ඇත: ''පොදුවේ අපි ඈඳාගැනීම්වලට විරුද්ධ වමු. එහෙත් අපි යුරෝපය සඳහා ඈඳාගැනීම් වලට පක්ෂ වමු, නැතිනම් එවැනි ඈඳාගැනීම් ඇති වූ පසු ඒවා ඉවසා ගනිමු...''



අපේ පෝලන්ත සහෝදරවරුන් එවැනි ස්වයං පැහැදිලිතාවයකට,... ''නොහැකියාවකට'' ඇදදමූ සාවද්‍යතාවයේ න්‍යායික මූලාශ්‍රයන් ගැන පමණක් අප විභාග කර බැලිය යුතුය. යුරෝපය සඳහා විශේෂිතයන් කිරීමට හේතු නැත්තේ මන්ද යනු අපි පසුව සඳහන් කරමු. තීසිසයෙන් ගන්නා ලද පහත සටහන් කොටස් දෙකෙන් එම සාවද්‍යතාවයේ මූලාශ්‍රය හෙළිවෙයි:

''සකස්වී අවසාන වූ ධනපති රාජ්‍යයක් අධිරාජ්‍යවාදී රෝදය විසින් යටකර සහ පාගාදමා ඇති හැමතැනකම, සමාජවාදී මාවතට ඉඩ සලසා දෙමින්, ධනපති ලෝකයේ දේශපාලන සහ ආර්ථික සංකේන්ද්‍රණය අධිරාජ්‍යවාදී පීඩනය මෘග ආකාරයකින් ක්‍රියාවේ යෙදෙයි...''

ඈඳාගැනීම් යුක්ති යුක්ත යැයි මෙලෙස පෙන්වීම මාක්ස්වාදය නොව ස්ත්රුවේ වාදයය. රුසියාවේ 1890 ගණන් පිළිබඳව මතක ඇති රුසියන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට මාක්ස්වාදය විකෘති කිරීමේ මෙම ක්‍රමය ගැන හොඳ දැනීමක් ඇත. මෙය ස්ත්රුවේ, කුනෝව්, ලේගින් සහ සමාගමට පොදුවූ දෙයකි. පෝලන්ත සහෝදරවරුන්ගේ වෙනත් තීසිසයකින්, (II, 3) විශේෂයෙන් ජර්මන් ස්ත්රුවේවාදීන් ගැන, ඊනියා ''සමාජ-අධිරාජ්‍යවාදීන්'' ගැන අප මෙසේ කියවමු.

''' (ස්වයං නිර්ණයනය නැමැති උද්යෝග පාඨය ජාතික පීඩනයට විරුද්ධව අපේ අරගලය ඓතිහාසික වශයෙන් පදනම් විරහිත අනුරාගික හැඟීමක් ලෙස නියෝජනය කිරීමට, එම උද්යෝග පාඨයේ මායාකාරී ස්වභාවය විදහා පාමින්, සමාජ-අධිරාජ්‍යවාදීන්ට අවස්ථාවක් ලබාදෙයි. එමගින් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී වැඩ පිළිවෙළේ විද්‍යාත්මක වලංගුතාවය කෙරෙහි නිර්ධන පංතියේ විශ්වාසය පිරිහෙළයි...''

ජර්මන් ස්ත්රුවේවාදීන්ගේ ස්ථාවරය ''විද්‍යාත්මක'' ලෙස කර්තෘවරුන් කල්පනා කිරීම මෙහි තේරුමය! අපි ඔවුන්ට සුභ පතමු!

අප සමග සංසන්දනය කරන විට, ලෙන්ච්ලා, කුනොව්ලා, පර්වුස්ලා නිවැරදි යැයි පෙන්වීමට තර්ජනය කරන මේ පුදුමාකාර තර්කය එක් ''නොවැදගත්'' කරුණක් විසින් නිෂ්ප්‍රභ කරයි: එනම් එම ලෙන්ච්ලාම ඔවුන්ට ආවේණික වූ මගක් අනුව, සංසගතික මිනිසුන් වීම හා ජර්මන් ජාත්‍යෝන්මාදවාදී ''සීනුව'' සඟරාවේ අංක 8 සහ 9 කලාපවලින් — මෙය අපි වුවමනාවෙන්ම අපේ තීසිසවලදී උපුටා දක්වූයෙමු — ලෙන්ච් ස්වයං නිර්ණයනය නැමැති උද්යෝග පාඨයේ ''විද්‍යාත්මක අවලංගුතාවය'' (ලෙන්ච්ගේ මේ පළමුවැනි තර්කය නිෂ්ප්‍රභ නොකළ හැකියැයි පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අපට පෙනෙන හැටියට කල්පනා කරන බව, අප විසින් උපුටා දක්වන ලද ඔවුන්ගේ තර්ක වලින් පෙනේ.) සහ ඈඳාගැනීම්වලට විරුද්ධ උද්යෝග පාඨයේ ''විද්‍යාත්මක අවලංගුතාවය'' එකවර පෙන්වා දීමය!!

මන්දයත්, අප විසින් පෝලන්ත සගයින්ට පෙන්වා දෙනලද ඒ සරළ සත්‍යය ගැන ලෙන්වී ඉතා අනර්ඝ දැකීමකින් යුක්තව සිටි අතර අපේ ප්‍රකාශනයට පිළිතුරු සැපයීමට ඔවුන් අභිප්‍රායයක් නොපෙන්වූ බැවිනි: ස්වයං නිර්ණයනය පිළිගැනීමත් ඈඳාගැනීම්වලට එදිරිව "විරුද්ධත්වය ප්‍රකාශ කිරීමත්" අතර "දේශපාලන හෝ ආර්ථික" හෝ පමණක් නොව තාර්කික පවා වෙනසක් නොමැත. ස්වයං නිර්ණයනයට විරුද්ධව ලෙන්විලාගේ තර්ක පෝලන්ත සහෝදරවරුන් නිෂ්ප්‍රභ නොකළ හැකියැයි නිගමනය කරති නම්, එක් සත්‍යයක් ලෙස පිළිගත යුතුය: එනම් ඈඳාගැනීම් වලට විරුද්ධව ගෙනයන අරගලයට එරෙහිවීම සඳහා මේ සියලු තර්ක ලෙන්විලා විසින් පාවිච්චි කිරීමය.

අපේ පෝලන්ත සගයින්ගේ සියලු තර්ක වලට පදනම් වී තිබෙන, න්‍යායික සාවද්‍යතාවය විසින් ඔවුන් අස්ථිර ඈඳාගැනීම්වාදීන්ගේ තත්ත්වයට ඇද දමා ඇත.

## 5. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ඈඳාගැනීම් වලට විරුද්ධ මන්ද?

අපේ ස්ථාවරය අනුව පිළිතුර පැහැදිලිය: මන්දයත්, ඈඳාගැනීම ජාතීන්ගේ ස්වයං නිර්ණයනය උල්ලංඝණය කරන බැවිනි. වෙනත් වචන වලින් කියතොත් එය ජාතික පීඩනයේ එක් ක්‍රමයකි.

පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ ස්ථාවරයේ හැටියට අප ඈඳාගැනීම්වලට විරුද්ධ වන්නේ මන්ද යන්න ගැන විශේෂ විස්තර කිරීම් අවශ්‍ය වෙයි. එමෙන්ම ඒ පැහැදිලි කිරීම් (තීසිසයේ I, 3) නිසා නිරායාසයෙන්ම කතුවරුන් ප්‍රතිවිරෝධීතා වැළක තවත් පටලැවෙයි.

ඈඳාගැනීම්වලට අපේ ඇති (ලෙන්විලාගේ විද්‍යාත්මක වශයෙන් වළංගු තර්කයට පටහැනිව) විරුද්ධත්වය "යුක්ති යුක්තයැ" යි පෙන්වා දීමට ඔවුහු හේතු දෙකක් දක්වති. පළමුවැන්න:

> "ජයග්‍රාහී අධිරාජ්‍යවාදී රාජ්‍යයක මිලිටරි ආරක්ෂාව සඳහා යුරෝපයේ ඈඳාගැනීම් අවශ්‍යය යන ප්‍රකාශනයට, ප්‍රතිවිරුද්ධව සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ඉදිරිපත් කරන සත්‍යයක් නම්, ප්‍රතිසත්තතාවයන් තියුණු වීමට ඈඳාගැනීම් සේවය කිරීමත්, එමගින් යුද්ධයේ අවදානම වැඩිවීමත් යන්නය..."

ලෙන්විලාට දෙන මේ පිළිතුර ප්‍රමාණවත් නොවේ; මන්දයත්, ඔවුන්ගේ ප්‍රධාන තර්කය ඈඳාගැනීම් යුද්ධමය අවශ්‍යතාවයක් නොව, අධිරාජ්‍යවාදය යටතේ සංකේන්ද්‍රගත කිරීමක් ඇති කිරීම අදහස්වන ඈඳාගැනීමේ ආර්ථික පුරෝගාමීත්වය වන බැවැනි. එක වරම පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අධිරාජ්‍යවාදය විසින් යුරෝපයේ අතුගා දමන ලද



දේශසීමා යළි පිහිටුවාලීමට ප්‍රතික්ෂේප කරමින් එවැනි සංකේන්ද්‍රණගත කිරීමක පුරෝගාමී ස්වරූපයක් පිළිගන්නේනම් සහ ඈඳාගැනීම්වලට එරෙහිව විරුද්ධත්වය ප්‍රකාශ කරන්නේ නම් මෙතැන ඇති තර්ක ශාස්ත්‍රය කුමක්ද?

එපමණක්ද නොව, කිනම් යුද්ධයක අවදානම ඈඳාගැනීම නිසා වැඩි වන්නේද? අධිරාජ්‍යවාදී යුද්ධ නොවේ. මන්දයත්, ඒවාට වෙනත් හේතුන් ඇති බැවිනි. අද්‍යතන අධිරාජ්‍යවාදී යුද්ධයේ ප්‍රධාන ප්‍රතිසත්තතාවය නිසැක ලෙසම ජර්මනිය හා බ්‍රිතාන්‍යය අතරත් සහ ජර්මනිය සහ රුසියාව අතරත් ඇති ප්‍රතිසත්තතාවය ය. මෙහි ඈඳාගැනීමක් නැත, තිබුණේද නැත. වැඩිවී ඇත්තේ ජාතික යුද්ධවල සහ ජාතික කැරළිවල අවදානමය. එහෙත් එක් අතකින්, "අධිරාජ්‍යවාදී යුගයේදී", ජාතික යුද්ධ ඇති වීමක ඉඩක්නැතැයි ප්‍රකාශකරන අතර අනිත් ජාතික යුද්ධවල "අවදානම" ගැන කතා කරන්නේ කෙසේද? මෙය තාර්කික නොවේ.

දෙවැනි තර්කය මෙසේය:

> ඈඳාගැනීම් විසින් "පාලක ජාතියේ නිර්ධන පංතිය සහ පීඩිත ජාතීන්ගේ නිර්ධන පංතිය අතර පරතෙරයක් ඇති කරයි..." "පීඩිත ජාතියේ නිර්ධන පංතිය සිය ධනපති පංතිය සමග එකතුවී පාලනය කරන ජාතියේ නිර්ධන පංතිය සිය සතුරා ලෙස සලකයි. ජාත්‍යන්තර ධනපති පංතියට විරුද්ධව නිර්ධන පංතියේ ජාත්‍යන්තර අරගලය වෙනුවට එහි භේදවීමක් සහ දෘෂ්ටිමය දූෂණයක් ඇතිවන්නේය..."

මේ නිගමනයන් සමග අපි සම්පූර්ණයෙන් එකඟ වමු. එකක් විසින් අනික අවලංගු කරන තර්ක දෙකක් එකවර එකම ප්‍රශ්නයකට ඉදිරිපත් කිරීම තාර්කිකද? තීසිසයේ පළමුවැනි කොටසේ තුන්වැනි ඡේදයේ ඈඳාගැනීම් නිර්ධන පංතිය භේද කරන හේතුවක් හැටියට හඳුන්වන ඉහත සටහන් තර්ක අපි දකිමු, හතරවැනි ඡේදයෙන් දැනටමත් යුරෝපයේ ක්‍රියාවේ යොදවා ඇති ඈඳාගැනීම් නැතිකර ලීමට අප විරුද්ධ විය යුතුයැයිද, "පීඩිත හා පීඩක ජාතීන්ගේ වැඩකරන බහු ජනතාවට අරගලයේ සහයෝගතාවයේ ආස්වාදයකින් යුතුව අධ්‍යාපනයක් දීමට" පක්ෂ විය යුතුයැයිද අපට පවසා ඇත. ඈඳාගැනීම් නැතිකරලීම ප්‍රතිගාමී "සංවේදීතාවයක්" නම්, ඈඳාගැනීම් "නිර්ධන පංතික" කොටස් අතර "පරතෙරක්" ඇතිකරන්නේයැයිද, එය "භේදවීම්" ඇති කරන්නේයැයිද ආදී තර්ක ඉදිරිපත් නොකළ යුතුය. එහෙත් ඒ වෙනුවට විවිධ ජාතීන්ට අයත් නිර්ධන පංතිය එකට එක් කරන කොන්දේසියක් ලෙස ඈඳාගැනීම් සැලකිය යුතුය.

අපි මෙසේ පවසමු: සමාජවාදී විප්ලවය සපුරාලීමට සහ ධනපති පංතිය බලයෙන් නෙරපාලීමට ශක්තිය ලබාගනු පිණිස කම්කරුවෝ

වඩාත් සමීප ලෙස එක්සත් විය යුත්තාහ. මේ සමීප සන්ධානය ස්වයං නිර්ණයනය සඳහා අරගලය එනම් ඇඳාගැනීම්වලට විරුද්ධ අරගලය මගින් ශක්තිමත් කෙරේ. අපි සසංගත ලෙස ක්‍රියා කරමු. එහෙත් යුරෝපීය ඇඳාගැනීම් "නැතිකරලිය නොහැකිය", ජාතික යුද්ධ "සිදුවිය නොහැකිය" කියන පෝලන්ත සහෝදරවරු ජාතික යුද්ධ පිළිබඳ තර්ක පාවිච්චි කරමින්, ඇඳාගැනීම් වලට "විරුද්ධව" විවාද කරමින් තමන්ව පරාජය කර ගනිති. විවිධ ජාතීන්ට අයත් කම්කරුවන් සමගි කිරීමට හා ඒකරාශී කිරීමට ඇඳාගැනීම් බාධාකරන බව මේ තර්ක සනාථ කරයි.

වෙනත් වචන වලින් කියතොත්, ඇඳාගැනීම්වලට විරුද්ධත්වය ප්‍රකාශ කරනු වස්, පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට තමන් විසින්ම මූලධර්ම වශයෙන් ප්‍රතික්ෂේප කරන න්‍යායික භාණ්ඩාගාරයෙන් තර්ක ඉදිරිපත් කිරීමට සිදුවී ඇත.

යටත් විජිත පිළිබඳ ප්‍රශ්නය මෙය වඩාත් පැහැදිලිව පෙන්වා දෙයි.

## 6. මෙම ප්‍රශ්නයේදී "යුරෝපය" යටත් විජිත සමග පිළිසැසඳීම නිවැරදිද?

ජාතීන් සතු ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය, ජනතාව විසින් රජයේ සිවිල් සේවකයින් තෝරාපත් කැරගැනීම, ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් සහ එවැනි වෙනත් ඉල්ලීම් මෙන්ම, ධනේශ්වර ක්‍රමය යටතේ වහාම යටත් විජිත නිදහස් කරලීමේ ඉල්ලීමද "ක්‍රියාත්මක නොකළැකි" බව (එනම්, විප්ලව කීපයක් නොමැතිව එය සපුරාලිය නොහැකි බව සහ සමාජවාදය රහිතව එය ස්ථායි නොවන බව) අපේ තීසිස වලින් පවසා ඇත. අනිත් අතින්, යටත් විජිත නිදහස් කරලීමේ ඉල්ලීම, "ජාතීන් සතු ස්වයං නිර්ණයනය පිළිබඳ අයිතිය පිළිගැනීම" හැර අන් කිසිවක් නොවේ.

පෝලන්ත සහෝදරවරු මෙම තර්ක එකකටවත් පිළිතුරු දී නැත්තාහ. යුරෝපය සහ යටත් විජිත අතර ප්‍රභේදනයක් ඇති කිරීමට ඔවුහු ප්‍රයත්න දැරූහ. රටවල් ඇඳාගත් පසු, එම ඇඳාගැනීම් අවලංගු කිරීමට ප්‍රතික්ෂේප කිරීමෙන් ඔවුහු යුරෝපයේදී පමණක් චපල ඇඳාගන්නන් බවට පත්වෙති. යටත් විජිත සම්බන්ධයෙන් නම් ඔවුහු කොන්දේසි විරහිතව "යටත් විජිතවලින් ඉවත්වනු!" යි ඉල්ලා සිටිති.

රුසියන් සමාජවාදීහු මෙම ඉල්ලීම ඉදිරිපත් කළ යුත්තාහ: "තුර්කිස්ථාන්, හීවා, බුහාරා ආදි ප්‍රදේශවලින් ඉවත් වෙයව්," එහෙත් ඔවුන් පෝලන්තයට, පින්ලන්තයට, උක්රේනියාවට ආදී රටවලට එවැනිම ඉවත්වීයාමේ නිදහසක් ඉල්ලා සිටියහොත් ඔවුන් "මනෝරාජිකවාදයේ" "අවිද්‍යාත්මක අනුරක්තවාදයේ" සාවද්‍යතාවයට ඇද වැටෙතැයි කියති. බ්‍රිතාන්‍ය සමාජවාදියෝ මෙසේ ඉල්ලා සිටිය යුත්තාහ: "අප්‍රිකාවෙන්, ඉන්දියාවෙන්, ඕස්ට්‍රේලියාවෙන් ඉවත් වෙයව්!" එසේවුවද අයර්ලන්තයෙන් නොවේ. මෙවැනි පැහැදිලි ලෙස පෙනෙන සාවද්‍ය වෙනසක් කිරීමට ඇති න්‍යායික හේතු මොනවාද? මෙය මඟ හැරිය නොහැකි ප්‍රශ්නයකි.

ස්වයං නිර්ණයනයට විරුද්ධ පුද්ගලයින් දක්වන ප්‍රධාන "පදනම" නම් එය "ක්‍රියාත්මක නොකළැකි" බවය. එම මතය සුළු වෙනසක් සහිතව, "ආර්ථික හා දේශපාලන සංකේන්ද්‍රනය" අරභයා සඳහන් කිරීමෙන් ප්‍රකාශ කරනු ලැබේ.

යටත් විජිත ඇඳාගැනීමෙන්ද සංකේන්ද්‍රනය වීමක් ඇතිවන බව පැහැදිලිය. මීට පෙර යටත් විජිත සහ යුරෝපීය ජනතාවන් අතර — යටත් පිරිසෙයින් පසු කී අයගේ බහුතරය අතර — ප්‍රභේදනයක් තිබිණි. යටත් විජිත වෙළඳ භාණ්ඩ හුවමාරුව ඇද ගත් නමුදු ධනපති නිෂ්පාදනයට සම්බන්ධ නොකර ගන්නා ලදී. අධිරාජ්‍යවාදය විසින් මෙය වෙනස් කැරිණි. අධිරාජ්‍යවාදයට ආවේණික ලක්ෂණයකි, ප්‍රාග්ධන අපනයනය. වඩාත් වැඩිවන වේගයකින් ධනපති නිෂ්පාදනය යටත් විජිත වලට ගෙනගොස් එහි බද්ධ කරනු ලැබේ. ඒවාට යුරෝපීය මූල්‍ය ප්‍රාග්ධනයේ පරාධීනත්වයෙන් මිදීමට නොහැකිය. යුද්ධමය ස්ථාවරයත්, ව්‍යාප්තියේ (පුළුල්වීමේ) ස්ථාවරයත් අනුව බලන විට, පොදු නීතියක් වශයෙන් යටත් විජිත වලට ඉවත්වීයාමේ හැකියාව ලැබෙන්නේ සමාජවාදය යටතේ පමණකි. ධනපති ක්‍රමය යටතේ එය ක්‍රියාවට යෙදවිය හැක්කේ විශේෂිතයක් හෝ යටත් විජිත සහ අග්‍රරාජ්‍යවල කැරළි හෝ විප්ලව මාලාවක් හෝ ඇතිවීමෙන් පමණකි.

යුරෝපයේ පරාධීන ජාතීන්ගෙන් වැඩි කොටසක් (එහෙත් හැම දෙනම නොවේ: ඇල්බේනියානුන් සහ රුසියාවේ වාසය කරන රුසියානු නොවන ජනතාව හැර) ධනපති ක්‍රමය අනුව, යටත් විජිතවලට වඩා වැඩි දියුණුවක් ලැබ සිටිති. එහෙත් ජාතික පීඩනයට සහ රටවල් ඇඳාගැනීමට විරුද්ධව වැඩි ප්‍රතිරෝධනයක් ජනිත කරන්නේ මෙයමය. පැහැදිලි ලෙසම මෙම හේතුව නිසා ඕනෑම දේශපාලන තත්ත්වයක් යටතේ, ඉවත්වීමේ තත්ත්වය යටතේ පවා, යුරෝපයේ ධනේශ්වර ක්‍රමය සංවර්ධනය කිරීම, එය යටත් විජිතවල සංවර්ධනය කරනවාට වඩා සුරක්ෂිතය... යටත් විජිත ගැන පෝලන්ත සහෝදරවරු මෙසේ කියති: (I, 4) එහි නිෂ්පාදන බලවේගයන් ස්වාධීන ලෙස සංවර්ධනය කිරීමේ කර්තව්‍යයට ධනපති ක්‍රමයට මුහුණ දීමට තවමත් සිදුවී ඇත..." යුරෝපය තුළ මෙය වඩාත් පැහැදිලි

ලෙස දක්නට ඇත. ධනපති ක්‍රමය නිසැක ලෙසම, ඉන්දියාව, තුර්කිස්ථානය, ඊජිප්තුව සහ අනිකුත් පවිත්‍ර යටත් විජිත හැටියට ගැනෙන රටවලට වඩා බලසම්පන්න ලෙසත්, සීඝ්‍රලෙසත්, ස්වාධීන ලෙසත් පෝලන්තයේ, ෆින්ලන්තයේ, උක්රේනියාවේ සහ ඇල්සාස්හි ධනවාදී නිෂ්පාදන බලවේග සංවර්ධනය කරයි. වාණිජ භාණ්ඩ නිපදවන සමාජයෙක, ප්‍රාග්ධනය රහිතව කිසිදු ස්වාධීන සංවර්ධනයක් හෝ කිසිදු වෙනත් සංවර්ධනයක් හෝ ඇති විය නොහැකිය. යුරෝපයේ පරාධීන රටවලට ස්වකීය ප්‍රාග්ධනයක් තිබෙන අතර, විවිධ කොන්දේසි යටතේ එය ලබාගැනීමේ ලිහිල් හැකියාවක්ද ඇත්තේය යටත් විජිතවලට එක්කෝ ස්වකීය ප්‍රාග්ධනයක් නැත, නැතිනම් සෑහෙන ප්‍රාග්ධනයක් නැත. මූල්‍ය ප්‍රාග්ධනය යටතේ දේශපාලනමය වශයෙන් යටත්වීමේ කොන්දේසිය අනුව මිස කිසිම යටත් විජිතයකට ප්‍රාග්ධනය ලබා ගත නොහැකිය. මේවා සියල්ලම මෙසේ වන බැවින් යටත් විජිත වහාම කොන්දේසි විරහිතව නිදහස් කරන ලෙස ඉල්ලා සිටීමේ තේරුම කුමක්ද? වචනයේ විකට රූප මාක්ස්වාදී ග්‍රාම්‍ය අර්ථයෙන් ''මනෝරාජික'', අවාසනාවකට මෙන් පෝලන්ත සහෝදර වරුන් විසින්ද අනුගමනය කරනු ලබන, ස්ත්‍රැවේ, ලෙන්ච්, කුනොව්ලා එය යොදු ගන්නා අර්ථයෙන් එම ඉල්ලීම වඩාත් ''මනෝරාජික'' බව පැහැදිලි නොවේද? සාමාන්‍ය දෛනික දෙයින් අපගමනය වන සහ එමෙන්ම විප්ලවවාදී හැම දෙයකටම මෙහිදී ''මනෝරාජිකවාදී'' ලේබලය ගසනු ලැබේ. එහෙත් ජාතික ව්‍යාපාර ඇතුළු සියලු වර්ගවල විප්ලවවාදී ව්‍යාපාරවලට යටත් විජිත වලට, වඩා වැඩි ඉඩකඩක්ද, ප්‍රායෝගිකත්වයක්ද වඩාත් වැඩි දෑඩි ගතියක්ද, වඩාත් වැඩි සවිඥනකත්වයක්ද, පරාජය කිරීමට වඩාත් අමාරු තත්වයක්ද යුරෝපයේ ඇත්තේය.

''යටත් විජිතවල නොදියුණු ජනතාව සිය පාලනයට යටත් නොකර ගෙන, ඔවුනට ආත්මාර්ථයෙන් තොර වූ සංස්කෘතික ආධාර දීමට සමාජවාදය සමත් වනු ඇතැයි'' පෝලන්ත සහෝදර වරු (I, 3), කියති. මෙය සර්වසාධාරණය. එහෙත් සමාජවාදය වැළඳගන්නා මහා ජාතියක්, විශාල රාජ්‍යයක්, ''ආත්මාර්ථයෙන් තොර සංස්කෘතික ආධාර'' මගින්, යුරෝපයේ කුඩා, පීඩිත ජාතීන් ආකර්ෂණය කැර ගැනීමට අසමත් වෙතියි සිතීමට ඇති හේතු මොනවාද? යුරෝපයේ තිබෙන කුඩා, එනමුදු සංස්කෘතික වශයෙන් දියුණු දේශපාලනමය වශයෙන් දෑඩි, පීඩිත ජාතීන් මහා සමාජවාදී රාජ්‍යයක් සමග එක්වීමට ආකර්ෂණය වනු ඇත්තේ පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් යටත් විජිත වලට ''ප්‍රදානය කරන'' ඉවත්වීමේ නිදහස මගිනි. මන්දයත්, සමාජවාදය යටතේ මහා රාජ්‍යයක තත්ත්වය මෙසේ වන බැවිනි: දිනකට වැඩකරන පැය ගණන මෙතරම් අඩුවන අතර දිනකට ලැබෙන වැටුප මෙතරම් වැඩිවන බැවිනි. වැඩ කරන පොදු ජනතා කොටස්, ඔවුන් ධනපති වියගහෙන් නිදහස් වනවාත් සමගම ඒ ''සංස්කෘතික ආධාරය'' ලබා ගනුවස් විශාල සහ පුරෝගාමී සමාජවාදී ජාතීන් සමග එක්වීමට සහ අනුකලනය වීමට මුළු මහත් ශක්තියම යොදු ඉදිරියට ඇදී එනු ඇත්තාහ. එසේවුවද, එලෙස ඉදිරියට ඇදී එනු ඇත්තේ දීර්ඝ කාලයක් පීඩිතව සිටි ජාතීන් තුළ, තියුණු ලෙස වර්ධනය වී තිබෙන ආත්ම ගරුත්වය පිළිබඳ ප්‍රජාතන්ත්‍රවාදී හැඟීම් ඊයේ වනතුරු පීඩකයන් වැ සිටියවුන් විසින් නින්දු අවමානයට පාත්‍ර නොකළහොත් පමණකි. රාජ්‍යය ඉදිකිරීම ඇතුළුව, එනම් ස්වකීය රාජ්‍ය සංවිධානය කැර ගැනීමේ පළපුරුද්ද ඇතුළුව, සියලු කටයුතු වලදී ඔවුනට සමානත්වයක් දෙන්නේ නම් පමණකි. ධනපති ක්‍රමය යටතේ මෙම ''පළපුරුද්ද'' යනු යුද්ධය, හුදකලාභාවය, වෙන්කිරීම, සහ වරප්‍රසාද භුක්ති විඳින කුඩා ජාතීන්ගේ (ඕලන්දය සහ ස්විට්සර්ලන්තය) පටු ආත්මාර්ථවාදයය. සමෘධිමත් ආර්ථික ජීවිතයක පදනමද, වඩාත් වැඩිවන සීඝ්‍රතාවයකින් ජාතීන් ස්වේච්ඡානුගතව, එකට එක්වීම හා අනුකලනය වන බවට පදනමද වන්නේ, විවිධ දේශපාලන ආකෘති, ඉවත්වීමේ නිදහස, රාජ්‍ය ඉදිකිරීමේ පළපුරුද්ද යන මේවා — රජයේ සෑම ස්වරූපයක්ම අහෝසි වී යනතුරු මේවා සියල්ල එලෙසම පවතිනු ඇත — වන අතර, හුදෙක් ඉහත සටහන් ආර්ථික චේතනා පමණක් සඳහා සමාජවාදය යටතේ වැඩ කරන ජනතාව කිසි කලෙකත් හුදකලාවීමකට එකඟ නොවනු ඇත්තාහ.

යටත් විජිත පසෙක තැබීමෙන්ද, ඒවා යුරෝපය සමග පිළිසැසඳීමෙන්ද පෝලන්ත සහෝදරවරු තමන්ගේ මුළු තර්කය එකවරම විනාශ කරදමන ගැඹුරු ප්‍රතිවිරෝධීතාවයකට ඇද වැටෙති.

## 7. මාක්ස්වාදයද නැතිනම් ප්රූදොංවාදයද?

විශේෂිතයක් වශයෙන් අපේ පෝලන්ත සහෝදර වරු අයර්ලන්තය ඉවත්වීම පිළිබඳ මාක්ස්ගේ ආකල්පය ගැන අපේ සමුද්දේශය වක්‍රව නොව ඍජු ලෙස මඟ හරිති. ඔවුන්ගේ විරුද්ධත්වයේ හරය කුමක්ද? 1848 සිට 1871 දක්වා කාලය තුලදී මාක්ස්ගේ ස්ථාවරය සමුද්දේශ කිරීම ''කිසිදු වැදගැම්මකට නැති දෙයකැයි'' ඔවුහු කියති. මෙම අසමාන්‍ය කෝපාන්විත සහ තීරණාත්මක ගර්විතයට පක්ෂව ඔවුන් ඉදිරිපත් කරන තර්කයක් නම්, මාක්ස් ''එකවරම'' ''චෙක් ජාතිකයින්ගේ, දක්ෂිණ ස්ලාව් ජාතිකයින්'' ආදීන්ගේ[107] ස්වාධීන අපේක්ෂාවන්ට විරුද්ධ වූබවය.

මෙම තර්කය අතිශයින්ම කෝපාන්විත වන්නේ එය එමෙන්ම අතිශයින්ම පදනම් විරහිත බැවිනි. පෝලන්ත මාක්ස්වාදීන් අනුව නම්, මාක්ස් ''එක හුස්මට'' එකිනෙකට ප්‍රතිපක්ෂ දේ ප්‍රකාශ කරන, කරුණු පටලවා ගත්තෙකි! මෙය සම්පූර්ණයෙන්ම අසත්‍යයකි, එමෙන්ම එය කිසිසේත්ම මාක්ස්වාදය නොවන්නේය. අපේ පෝලන්ත සහෝදරවරුන් ඉල්ලා සිටින, එනමුදු, ඔවුන් විසින් ව්‍යවහාරික ලෙස භාවිතා නොකරන, ''මූර්ත'' විශ්ලේෂණයේ අවශ්‍යතාවය, නිසාම, විවිධ මූර්ත ''ජාතික'' ව්‍යාපාරයන් කෙරෙහි මාක්ස්ගේ විවිධ ආකල්ප එකම සමාජ දර්ශනයකින් පැන නොනැගුණේදැයි විභාග කර බැලීමට අපට සිදුවී ඇත.

අප දන්නා පරිදි මාක්ස් පෝලන්තයේ නිදහසට පක්ෂ වූයේ, බලයට හා බලපෑමට විරුද්ධව අරගලයන් ගෙනගිය යුරෝපීය ප්‍රජාතන්ත්‍රවාදයේ වුවමනාවන්ගේ නාමයෙනි නැතිනම්, සාර්වාදයේ සර්වබලධාරී සහ ප්‍රධාන වශයෙන් ප්‍රතිගාමී බලපෑමට විරුද්ධව බව කිව හැකිය. මෙම ආකල්පය නිවැරදි බව, 1849 දී රුසියානු ප්‍රචණ්ඩදස යුද්ධ හමුදව හංගේරියාවේ ජාතික විමුක්ති සහ විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රික කැරැල්ල විනාශ කර දැමීමෙන් ඉතා පැහැදිලි ලෙසත් ව්‍යවහාරික ලෙසත් පෙන්වා දෙනලදී. එද සිට මාක්ස්ගේ මරණය දක්වාත්, ඉන් පසුව වුවද, 1890 දක්වා සාර්වාදය ප්‍රංශය සමග එකතු වී, අධිරාජ්‍යවාදී නොවන එහෙත් ජාතික ස්වාධීන ජර්මනියට විරුද්ධව ප්‍රතිගාමී යුද්ධයක් කිරීමේ අනතුර ඇති වූ විට, එංගල්ස් ප්‍රථමයෙන් හා ප්‍රධාන වශයෙන් සාර්වාදයට විරුද්ධව අරගලයක් සඳහා නැගී සිටියේය. මෙන්න මේ හේතුව නිසා, විශේෂයෙන්ම මෙන්න මේ හේතුව නිසා පමණක් මාක්ස් හා එංගල්ස් චෙක් සහ දක්ෂිණ ස්ලාව් ජාතිකයින්ගේ ජාතික ව්‍යාපාරවලට විරුද්ධ වූහ. ඒ කාලයේදී මාක්ස් සහ එංගල්ස් යුරෝපයේ ''රුසියන් මුර පොළවල්'' හැටියට, සේවය කළ ''ප්‍රතිගාමී ජාතීන් සමූහය'' සහ විප්ලවවාදී ජාතීන් එනම් ජර්මනුන්, පෝලන්තයින් හා මජ්යාර් වරුන් අතර පැහැදිලි සහ නියත වෙනසක් පෙන්වා දුන් බව, මාක්ස්වාදය ඉවතලෑමේ චේතනාවෙන් නොව, මාක්ස්වාදය ගැනු සැබෑ උනන්දුවක් දක්වන අයට, 1848 සහ 1849 වසර මාක්ස් සහ එංගලස් ලියූ දේ ගැන සරළ සමුද්දේශයක් කිරීමෙන් පෙනේ. මෙය සත්‍යයකි. එවකට එය විවාද රහිත සත්‍යයක් ලෙස පිළිගැනිණි: 1848 දී විප්ලවවාදී ජාතීහු නිදහස සඳහා සටන් කළහ. මේ ජාතීන්ගේ ප්‍රධාන සතුරා සාර්වාදය විය. එනමුදු චෙක් ආදී ජාතීන් සැබවින්ම ප්‍රතිගාමී වූ අතර සාර්වාදයේ මුරපොළවල් බවට පත්වී තිබිණි.

මාක්ස්වාදය කෙරෙහි අවංක වීමට කෙනෙකුට කැමැත්තක් තිබෙනම්, මූර්ත ලෙස විශ්ලේෂණයට භාජනය කළ යුතු මේ මූර්ත නිදසුනෙන් ලබාගත හැකි පාඩම කුමක්ද? මෙය පමණකි: 1) යුරෝපයේ විශාල සහ



අති විශාල ජාතීන් ගණනාවකගේ විමුක්තියේ වුවමනාවන් කුඩා ජාතීන්ගේ විමුක්තිය සඳහා ගෙනයන ව්‍යාපාරවල වුවමනාවන්ට වඩා ඉහළින් ගණන් ගැනීමය. 2) ප්‍රජාතන්ත්‍රවාදය සඳහා ඉදිරිපත් කරන ඉල්ලීම හුදකලාව නොව, සමස්ත යුරෝපීය — අද සමස්ත ලෝක — පරිමාණයකින් කල්පනා කළ යුතු බවය.

මෙයට වඩා වැඩි යමක් නොවේ. මෙතැනදී පෝලන්ත සහෝදරවරුන් අමතක කරන එම සමාජවාදී මූලධර්ම වල සේයාව පවා උල්ලංඝනය කිරීමක් සිදුවී නැත. අනික් අතට මාක්ස් එම මූලධර්මවලට හැමදම අවංක ලෙස සේවය කළේය. යම්කිසි ජාතියක් තවත් ජාතීන්ට පීඩා කරති නම්, එම ජාතියට නිදහස ලැබිය නොහැකිය.[108] සාර්වාදය ජාත්‍යන්තර දේශපාලනයට බලපෑ කාලයේදී මාක්ස් ඉදිරියේ තිබූ මූර්ත දේශපාලන තත්ත්වය යළිත් වරක් එලෙසම ඇති වන්නේ නම්, නිදසුනක් වශයෙන්, ජාතීන් කීපයක් සමාජවාදී විප්ලවය ආරම්භ කිරීමේ (1848 දී යුරෝපයේ ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයක් පටන්ගත් පරිදි) එහෙත් අනිකුත් ජාතීන් ධනපති ප්‍රතිගාමීත්වයේ ප්‍රධාන බලපවුර හැටියට ක්‍රියා කිරීමේ තත්ත්වයක් ඇතිවන්නේ නම්, එවිට පසුකී රටවල් වලට විරුද්ධව විප්ලවවාදී යුද්ධයක් සඳහාත්, ඒවා ''පාගා දැමීම'' සඳහාත්, ඒවායේ කුඩා ජාතික ව්‍යාපාරයන් ඇතිවීම ගැන නොතකා ඒවායේ සියලු මුරපොළවල් විනාශ කරලීම සඳහාත් අපට පක්ෂ පාත වීමට සිදුවෙයි. ඒ අනුව අප විසින් කළ යුත්තේ මාක්ස්ගේ උපක්‍රම වල නිදර්ශනයන් ප්‍රතික්ෂේප කිරීම නොවේ, එහි තේරුම වන්නේ එවිට වචනයෙන් මාක්ස්වාදයට පක්ෂ වීම සහ ක්‍රියාවෙන් එය බැහැර කරලීමය. අප කළ යුත්තේ එම උපක්‍රම මූර්ත ලෙස විශ්ලේෂණයට භාජනය කොට, අනාගතය සඳහා ඉන් මහඟු පාඩම් ලබා ගැනීමය. ස්වයං නිර්ණයනය ඇතුළුව ප්‍රජාතන්ත්‍රවාදී ඉල්ලීම් කීපයක්ම නිරපේක්ෂ ඒවා නොවේ, පොදු ප්‍රජාතන්ත්‍රික (දැන්: පොදු සමාජවාදී) ජගත් ව්‍යාපාරයේ කුඩා කොටසක් පමණකි. වෙන් වෙන් මූර්ත අවස්ථාවලදී, කුඩා කොටස සමස්තයට ප්‍රතිවිරුද්ධ වීමට ඉඩ ඇත. එසේනම්, එවිට එය ප්‍රතික්ෂේප කළ යුතුය. යම්කිසි රටක සමූහාණ්ඩු ව්‍යාපාරයක්, වෙනත් රටවල්වල පූජක නැතිනම් මූල්‍ය-රාජාණ්ඩුවාදී කුමන්ත්‍රණවල හුදු අතකොලුවක් වීමට ඉඩ ඇත්තේය. එසේනම්, ඒ විශේෂ මූර්ත ව්‍යාපාරයට අප ආධාර නොකළ යුතුය. එහෙත් මෙය පදනම් කැරගෙන ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ වැඩපිළිවෙලින් සමූහාණ්ඩුව සඳහා ඉල්ලීම කපාහැරීම මුග්ධ ක්‍රියාවක් වනු ඇත.

1848 සහ 1871 දක්වා වූ කාලය සහ 1898-1916 දක්වා වූ කාලය අතර මූර්ත තත්ත්වය කෙසේ වෙනස් වී තිබේද (අවධියක් වශයෙන් අධිරාජ්‍යවාදයේ ඉතා වැදගත් සිද්ධීන් මම ඉදිරිපත් කරමි: ස්පාඤ්ඤ-ඇමෙරිකන්

අධිරාජ්‍යවාදී යුද්ධයේ සිට යුරෝපීය අධිරාජ්‍යවාදී යුද්ධය දක්වා) ? සාර්වාදය ප්‍රසිද්ධ ලෙසත්, අවිවාදිත ලෙසත්, ප්‍රතිගාමීත්වයේ ප්‍රධාන බලධරයා වීම අහෝසි වී ඇත. මන්දයත්, ප්‍රථමයෙන්ම එයට ජාත්‍යන්තර මූල්‍ය ප්‍රාග්ධනයේ විශේෂයෙන් ප්‍රංශ මූල්‍ය ප්‍රාග්ධනයේ ආධාර ලැබී තිබෙන බැවිනි. දෙවනුව, 1905 හේ සිද්ධීන් නිසාය. ඒ කාලයේදී සාර්වාදය නොතකා මහා ජාතික රාජ්‍යයන්ගේ පද්ධතිය — යුරෝපයේ ප්‍රජාතන්ත්‍රවාදී රටවල් — ලෝකයට ප්‍රජාතන්ත්‍රවාදය සහ සමාජවාදය ගෙනෙමින් තිබිණි*. අධිරාජ්‍යවාදී යුගය දැකීමට මාක්ස් හා එංගල්ස් ජීවත් නොවූහ. දැන් තිබෙන ක්‍රමය නම්, අධිරාජ්‍යවාදී ''මහා'' බලවතුන්ගේ අතලොස්සක් (සංඛ්‍යාවෙන් පහක් හෝ හයක්) එකා බැගින් වෙනත් ජාතීන් පෑගීමය. මෙම පෑගීම ධනවාදයේ බිඳවැටීම, කෘත්‍රිම ලෙස නවත්වාලීමේ මූලාශ්‍රයකි, ලෝකය මත බලපාන අධිරාජ්‍යවාදී ජාතීන්ගේ අවස්ථාවාදයට සහ සමාජ-ජාත්‍යාන්මාදවාදයට කෘත්‍රිම ආධාරයකි. ඒ කාලයේදී බටහිර යුරෝපීය ප්‍රජාතන්ත්‍රවාදය, විශාල ජාතීන් මුදවා ලමින් ප්‍රතිගාමී අරමුණු සඳහා සමහර කුඩා ජාතික ව්‍යාපාර උපයෝගී කර ගත් සාර්වාදයට විරුද්ධ විය. අද, එක් අතකින්, ජාත්‍යෝන්මාදවාදීන් සහ සමාජ-අධිරාජ්‍යවාදීන් ලෙසද, අනිත් අතින්, විප්ලවවාදීන් ලෙසද බෙදී සිටින සමාජවාදී නිර්ධන පංතිය, සාර්වාදී අධිරාජ්‍යවාදය සහ යුරෝපයේ දියුණු ධනවාදී අධිරාජ්‍යවාදය අතර ඔවුන් විසින් ජාතීන් ගණනාවක්ම පෑගීම පදනම් කරගෙන ගොඩ නගා ඇති සන්ධානයකට එදිරිව මුහුණ ලා සිටී.

තත්ත්වයෙහි ඇතිවී තිබෙන මූර්ත වෙනස්කම් මේවාය. මූර්ත වීමට ඔවුන් විසින් දෙන ලද පොරොන්දුව නොතකා පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අමතක කරන්නේද මෙන්න මේ වෙනස්වීමය! මෙම හේතුව

* රියසානව් ග්‍රැන්බර්ග්ගේ සමාජවාදයේ ඉතිහාසය පිළිබඳ ලේඛණාගාරය නැමැති සඟරාවේ (1916, I) පෝලන්ත ප්‍රශ්නය ගැන එංගල්ස් විසින් ලියන ලද ඉතා වැදගත් ලිපියක් පළ කළේය. නිර්ධන පංතිය යුරෝපයේ විශාල හා ප්‍රධාන ජාතීන්ගේ දේශපාලන ස්වාධීනත්වය සහ ස්වයං නිර්ණයනය (the right to dispose of itself) පිළිගත යුතුයැයි එහි එංගල්ස් අවධාරණය කරයි. එමෙන්ම ඔහු ජාතීන්ගේ මූලධර්මයෙහි (විශේෂයෙන්ම එහි බොනපාට්වාදී ව්‍යවහාරයෙහි) එනම් ඕනෑම කුඩා ජාතියක් විශාල ජාතීන්ගේ මට්ටමෙහි ලා සැළකීමෙහි ඇති හාස්‍යජනකත්වය පෙන්වා දෙයි. එංගල්ස් මෙසේ ලියයි: ''රුසියාව ගැන සඳහන් කළ හැක්කේ අති විශාල දේපොළ සම්භාරයක් (එනම් පීඩිත ජාතීන්) සොරාගත් රටක් හැටියටය. විපාක වින්ද යුතු දවසේදී මේවා මුදහැරීමට රුසියාවට සිදු වනු ඇත.''[109] බොනපාට් වාදය සහ සාර්වාදය, යුරෝපීය ප්‍රජාතන්ත්‍රවාදයට විරුද්ධව, තමන්ගේ වාසිය පිණිස, කුඩා ජාතික ව්‍යාපාර උපයෝගී කැරැ ගනිති.



නිසා එකම සමාජවාදී මූලධර්මයක්, ක්‍රියාවට යෙදවීමේදී මූර්ත වෙනස්කමක් ඇතිවී තිබේ: ඉස්සර ප්‍රධාන දෙය වූයේ ''සාර්වාදයට විරුද්ධව'' සහ (ප්‍රජාතන්ත්‍රවාදී නොවන අරමුණු සඳහා පාවිච්චි කළ සමහර කුඩා ජාතික ව්‍යාපාර වලට විරුද්ධවද) බටහිර මහා ජාතික වඩාත් විප්ලවවාදී ජනතාවට පක්ෂවද සටන් කිරීමය. අද ප්‍රධාන දෙය නම්, අධිරාජ්‍යවාදී බලවේගයන්ගේ අධිරාජ්‍යවාදී ධනපති පංතියේ සහ සමාජ-අධිරාජ්‍යවාදීන්ගේ එක්සත්, මිත්‍ර පෙරමුණට විරුද්ධවද, සමාජවාදී විප්ලවයේ කර්තව්‍යය සඳහා අධිරාජ්‍යවාදයට විරුද්ධව, සියලු ජාතික ව්‍යාපාරයන් ප්‍රයෝජනයට ගැනීම සඳහාද නැගිට සිටීමය. පොදු අධිරාජ්‍යවාදී පෙරමුණට විරුද්ධව, නිර්ධනීන් ගෙනයන අරගලය කෙතරම් දුරට පිරිසුදු වන්නේද, එතරම් දුරට, ජාත්‍යන්තර මූලධර්මය වඩාත් ජීවදායී වන්නේය: ''යම්කිසි ජාතියක් වෙනත් ජාතීන් පාගන්නේද, එම ජාතියටද නිදහස් විය නොහැකිය.''

සමාජ විප්ලවය පිළිබඳ තමන්ගේ ආධානග්‍රාහී සංකල්පයේ නාමයෙන් ප්රුදොං වාදියෝ පෝලන්තයේ ජාත්‍යන්තර ක්‍රියා කොටස අමතක කරදමමින් ජාතික ව්‍යාපාරද ඉවත ලූහ. සමාජ අධිරාජ්‍යවාදීන්ට විරුද්ධව, ජාත්‍යන්තර අරගලයේ පෙරමුණ කඩා බිඳ දමන සහ ඈඳාගැනීම් පිළිබඳ ප්‍රශ්නයේදී අස්ථිර ගති පාමින් (වාස්තවික ලෙස) පසුකී අයට උදව් කරන පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ ආකල්පයද එලෙසම ආධානග්‍රාහීය. මන්දයත්, අරගලයේ ජාත්‍යන්තර නිර්ධන පංතික පෙරමුණ, කුඩා ජාතීන්ගේ මූර්ත ස්ථාවරයට සම්බන්ධව පැහැදිලි ලෙසම වෙනස්වී ඇති බැවිනි: ඒ කාලයේදී (1848-1871) කුඩා ජාතීන් ''බටහිර ප්‍රජාතන්ත්‍රවාදයේ'' සහ විප්ලවවාදී ජාතීන්ගේ මිතුරන් හැටියට, නැතිනම් සාර්වාදයේ ශක්‍යතා මිතුරන් හැටියට වැදගත්කමක් දැරීය. දැන් (1898-1914) එය තව දුරටත් එසේ නොවේ. අද ඒවා වැදගත් වන්නේ පරපෝෂිතවාදයේ පෝෂිත මාධ්‍යයක් හැටියටය, එමෙන්ම ඒ නිසා ''බලගතු ජාතීන්ගේ'' සමාජ-අධිරාජ්‍යවාදයේ පෝෂිත මාධ්‍යයන් හැටියටය. සමාජවාදී විප්ලවයට පෙර, කුඩා ජාතීන්ගෙන් පනහෙන් කොටසක් හෝ සියයෙන් කොටසක් හෝ නිදහස් කිරීම වැදගත් දේ නොවන අතර, අධිරාජවාදී යුගයේදී වාස්තවික හේතූන් නිසා නිර්ධන පංතිය ජාත්‍යන්තර කඳවුරු දෙකකට බෙදී සිටීමත්, මින් එක් කඳවුරක්, අධිපති පංතිය විසින්, වෙනත් දේවලට අමතරව, කුඩා ජාතීන් දෙගුණයකින් හෝ තෙගුණයකින් සූරා කෑම නිසා ලබාගන්නා දේ වලින් ඉතා කුඩා කොටසක් දෙමින් දූෂණය කර තිබීමත්, අනික් කඳවුරට, කුඩා ජාතීන් නිදහස් කරන්නේ නැතිව, පොදුජනතාවට ජාත්‍යෝන්මාදවාද විරෝධී, එනම් ඈඳාගැනීම් විරෝධී, එනම් ''ස්වයං නිර්ණයවාදී ජීවගුණයකින් අධ්‍යාපනයක් ලබානොදී තමන්ව නිදහස් කැරැ ගැනීමට නොහැකිවීමත් සත්‍යයකි.

අපේ පෝලන්ත සහෝදරවරු ප්‍රශ්නයේ ඉතා වැදගත් කොටස අමතක කර දමති. ඔවුහු අධිරාජ්‍යවාදී යුගයේදී ප්‍රධාන ස්ථාවරය ජාත්‍යන්තර නිර්ධන පංතිය කඳවුරු දෙකකට බෙදීමේ දෘෂ්ටි කෝණයෙන් නොබලති.

ඔවුන්ගේ ජරුදෙංවාදය පිළිබඳ තවත් මූර්ත නිදසුන් වලින් සමහරක් මෙසේය: 1) 1916 අ ර්ලන්ත ජාතික කැරැල්ල පිළිබඳ ඔවුන්ගේ ආකල්පය. ඒ ගැන පසුව සඳහන් කරමු. 2) සමාජවාදී විප්ලවය නැමැති උද්යෝග පාඨය ''වෙනත් කිසි දෙයකින් නොවැසිය යුතුයැ'' යි කියන තීසිසයේ ප්‍රකාශනය (II, 3 සහ තෙවැනි පරිච්ඡේදයේ අවසානය). ජාතික ප්‍රශ්නය ඇතුළු, සියලු ප්‍රශ්න ගැන ස්ථිරසාර විප්ලවවාදී ස්ථාවරයක් සහිතව, සමාජවාදී විප්ලවය වසා දැමිය හැකිය යන සංකල්පය එයට ඈඳාලීම ගැඹුරු ලෙස මාක්ස් වාදී විරෝධීය.

පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෝ අපේ වැඩ පිළිවෙළ ''ජාතික-ප්‍රතිසංස්කරණවාදී'' ලෙස සළකති. මේ ප්‍රායෝගික යෝජනා දෙක සන්සන්දනය කරන්න. 1) ස්වෛරීත්වය සඳහා (පෝලන්ත තීසිය III, 4) සහ 2) ඉවත්වීමේ නිදහස සඳහා. මෙයින් සහ මෙයින් පමණකි අපේ වැඩ පිළිවෙලවල් වෙනස් වන්නේ! ප්‍රතිසංස්කරණවාදී වන්නේ දෙවැන්නට වඩා වෙනස්ව පළමුවැනි වැඩ පිළිවෙළ බව පැහැදිලි නැතිද? ප්‍රතිසංස්කරණවාදී වෙනස්වීමක් යනු ආණ්ඩු කරන පංතියේ බලයේ පදනම් නොබිඳ අතහැරීම සහ එහි බලයට හානි නොකර වාසිදීමක් පමණකි. විප්ලවවාදී වෙනස් වීමක් විසින් බලයේ පදනම් දෙදරුම් කවනු ලැබේ. ප්‍රතිසංස්කරණවාදී ජාතික වැඩ පිළිවෙළ පාලනය කරන ජාතියේ සියලු බලතල අහෝසි නොකරයි; එය පූර්ණ සමානත්වය ඇති නොකරයි; එය ජාතික පීඩනයේ සියලු ආකාරයන් අහෝසි නොකරයි. ''ස්වෛරී'' ජාතියක් ''පාලනය කරන'' ජාතියේ අයිතිවාසිකම් වලට සමාන අයිතියක් භුක්ති නොවිඳියි. අපේ පෝලන්ත සහෝදරවරුන් (අපේ පැරණි ආර්ථිකවාදීන් මෙන්[110]) දේශපාලන සංකල්ප සහ පදර්ථ විශ්ලේෂණය කිරීම උද්දච්ච ලෙස මඟ හැරියේ නැතිනම්, මෙය දැකීමට අපොහොසත් නොවනු ඇත. 1905 වන තුරු ස්වෛරී නෝර්වේය ස්වීඩනයේ කොටසක් හැටියට ඉතා පුළුල් ස්වෛරීත්වයක් භුක්ති වින්දය. එහෙත් නෝර්වේය ස්වීඩනයට සමාන නොවූවාය. නෝර්වේය සමානතාවය ව්‍යවහාරික ලෙස ප්‍රකාශ වූයේත්, ඔප්පු වූයේත් එම රට නිදහසේ ඉවත්වීමෙන් පමණකි (එමෙන්ම අපි වරහන් තුළ මෙසේද සටහන් කරමු. අයිතිවාසිකම්වල සමානත්වය මත පදනම් කැරුගත් වඩාත් සමීප සහ වඩාත් ප්‍රජාතන්ත්‍රික සමාගමයක් සඳහා පදනම් බිහිකළේ මේ නිදහස් ඉවත්වීම විසිනි). නෝර්වේය හුදු ස්වෛරීත්වය භුක්ති වින්ද තාක් කල් ස්වීඩනයේ ප්‍රභූ පෙළැන්තියට එක් අමතර වරප්‍රසාදයක් තිබිණි. එමෙන්ම ඉවත්වීම විසින් මේ වරප්‍රසාදය ''සැහැල්ලු'' නොකරන ලදී. (ප්‍රතිසංස්කරණවාදයේ හරය නම් දුෂ්ටත්වය විනාශ කරලීම නොව එය සැහැල්ලු කරලීමය) එහෙත් එය සම්පූර්ණයෙන්ම ඉවත් කරන ලදී (වැඩ පිළිවෙළක විප්ලවවාදී ස්වරූපයේ ප්‍රධාන උපමානය මෙය ය).

ආනුෂංගික වශයෙන්, ස්වෛරීත්වය ප්‍රතිසංස්කරණයක් හැටියට, ඉවත්වීමේ නිදහසට විප්ලවවාදී පියවරක් ලෙස මූලධර්ම වශයෙන් වෙනස් වෙයි. මෙය විවාද රහිතය. එහෙත් ව්‍යවහාරයේදී ප්‍රතිසංස්කරණයක් යනු විප්ලවය කරා තබන ඉදිරි පියවරක් පමණක් බව හැම දෙනෙක්ම දනිති. නියමිත රාජ්‍යයක සීමාවන් තුළ ජාතියක් හැටියට කැටි ගැසීමටත්, එක්වී තම බලමුළු තක්සේරු කිරීමට හා සංවිධානය කිරීමටත් ප්‍රකාශනයක් සඳහා ඉතා උචිත අවස්ථාව තෝරාගැනීමටත් ජාතියකට ඉඩ කඩ සලසන්නේ ස්වෛරීත්වයයි... නෝර්වීජියානු ජීවගුණය අනුවය: අසුවල්, අසුවල් ජාතියේ නැතිනම් අසුවල්, අසුවල් ප්‍රදේශයේ මන්ත්‍රණ සභාව වන අපි සමස්ත රුසියාවේ අධිරාජයා පෝලන්තයේ රජු හැටියට තව දුරටත් නොපිළිගන්නා බව ප්‍රකාශ කර සිටුමු, ආදී වශයෙනි. මෙයට එදිරිව ඉදිරිපත් කරන ''විරුද්ධත්වය'' නම්, මෙවැනි ප්‍රශ්න තීරණය කරන්නේ යුද්ධ මගින් මිස ප්‍රකාශ මගින් නොවේය යනුයි. සත්‍යයකි: සිද්ධීන් අධි බහුතරයකදී ඒවා යුද්ධ මගින් තීරණය කරනු ලැබේ (විශාල රාජ්‍යයන්ගේ ආණ්ඩු ක්‍රම පිළිබඳ ප්‍රශ්නවල සිද්ධීන් පිළිබඳ අධිබහුතරයකදී ඒවා යුද්ධ හා විප්ලව මගින් පමණක් තීරණය කරන්නාක් මෙනි). ඒ කෙසේ වුවද, විප්ලවවාදී පක්ෂයක දේශපාලන වැඩ පිළිවෙළට විරුද්ධව එවැනි ''විරුද්ධවීම්'' තර්කාන්විතද යන්න කල්පනා කර බැලීම බාධාවට කරුණක් නොවේ? සාධාරණත්වය සඳහාත්, නිර්ධන පංතියට ප්‍රයෝජනවත් වූත්, ප්‍රජාතන්ත්‍රවාදය සඳහාත්, සමාජවාදය සඳහාත් කරන යුද්ධවලට සහ විප්ලවවලට අපි විරුද්ධ වමුද?

''එහෙත් විශාල ජාතීන් අතර යුද්ධයකට පක්ෂ වීමටත්, සමහර විට කෝටියක හෝ දෙකෝටියක හෝ ජනගහනයෙන් යුත් කුඩා ජාතියක ගැටළු සහිත විමුක්තිය සඳහා දෙකෝටියක් ජනතාව මරා දැමීමට පක්ෂවීමටත් අපට නොහැකිය! සත්තකින්ම නොහැකිය. අපේ වැඩ පිළිවෙළින් පූර්ණ ජාතික සමානත්වය අප වීසිකර දමන බවත් ඉන් කොහෙත්ම අදහස් නොකෙරේ. එහි තේරුම නම් එක් රටක ප්‍රජාතන්ත්‍රික වුවමනාවන් රටවල් ගණනක හෝ සියලු රටවල ප්‍රජාතන්ත්‍රික වුවමනාවන්ට යටවිය යුතු බවය. විශාල රාජාණ්ඩු දෙකක් අතර කුඩා රාජාණ්ඩුවක් තිබෙන බවත්, මේ කුඩා රාජාණ්ඩුව ලේ නෑකම් සහ වෙනත් සම්බන්ධකම් අනුව විශාල රාජාණ්ඩු දෙකට නන් අයුරින් ''ඇඳී'' තිබෙන බවත් සිතා ගනිමු.

මේ කුඩා රට සමූහාණ්ඩුවක් බවට පත්කොට, එහි රජු පන්නා දැමීම නිසා එම රටෙහි එම රජ හෝ වෙනත් රජකු යළි සිංහාසනාරූඪ කරනු වස් අසල් වැසි විශාල රාජාණ්ඩු දෙක අතර යුද්ධයක් ඇති වුණැයි අපි සිතමු. මෙ සිද්ධියේදී රාජාණ්ඩුවක් වෙනුවට සමූහාණ්ඩුවක් ආදේශ කිරීමට විරුද්ධව, මුළු මහත් ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයද, එමෙන්ම එම කුඩා රටේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ සැබෑ ජාත්‍යන්තර කොටසද නැගී සිටිනවාට කිසිදු සැකයක් නැත. රාජාණ්ඩුවක් වෙනුවට සමූහාණ්ඩුවක් ආදේශ කිරීම වූකලී සමස්ත ප්‍රජාතන්ත්‍රවාදයට යටත් වන එක් ප්‍රජාතන්ත්‍රික ඉල්ලීමක් මිස නිරපේක්ෂයක් නොවේ (මෙය සමාජවාදී නිර්ධන පංතියට වඩාත් වැඩියෙන් බලපායි). බොහෝවිට මෙවැනි සිද්ධියක් නිසා, කිසිම රටක සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතර ඉතා සුළු හෝ මත භේදයක් ඇති නොවේ. එහෙත් මේ පදනම් මත සමූහාණ්ඩුවක් සඳහා ඉල්ලීම ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී වැඩ පිළිවෙළින් කපා හැරිය යුතු යැයි යම්කිසි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක් ඉල්ලා සිටියහොත්, ඔහු සත්තකින්ම පිස්සකු හැටියට ගණන් ගනු ඇත. කෙසේවූවද පොදු හා විශේෂය අතර ඇති මූලික තර්කානුකූල වෙනස අමතක නොකළ යුතුයැයි ඔහුට කියනු ඇත.

මේ නිදසුන, වෙනත් අංශයකින් කම්කරු පංතියේ ජාත්‍යන්තර අධ්‍යාපනය පිළිබඳ ප්‍රශ්නය වෙත අප ගෙනයයි. මෙවැනි අධ්‍යාපනයක් — මෙවැනි අධ්‍යාපනයක අවශ්‍යතාවය සහ හදිසි වැදගත්කම ගැන ට්සිමර්-වොල්ඩ් වාමාංශිකයින් අතර විවිධ මතභේද ඇති වීම සිතා ගැනීමට පවා උගහටය — විශාල පීඩක ජාතීන්ට හා කුඩා පීඩිත ජාතීන්ටද, ඈඳාගන්නා ජාතීන්ට සහ ඈඳාගනුලබන ජාතීන්ටද සර්වසම විය හැකිද?

සත්තකින්ම නැත. පොදු අරමුණ සඳහාවූ මාර්ගය — පූර්ණ එකහතාවය, සමීප සමාගමය සහ සියලු ජාතීන්ගේ එක්වීම කරා — පැහැදිලි ලෙසම, එක් එක් මූර්ත සිද්ධියේදී වෙන් වෙන්ව වර්ධනය වෙයි. නිදසුනක් වශයෙන් මේ පොතේ පිටුවක මැද ඇති යම් තිතක් වෙත වැටී ඇති මාර්ගය එම පිටුවේ එක් අතකින් වම් පසින්ද අනික් අතින් දකුණු පසින්ද වැටී ඇතිවාක් මෙනි. මහා, පීඩක, ඈඳාගන්නා ජාතියකට අයත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක් පොදුවේ ජාතීන් එක්වීම ගැන දේශනා කරන අතර, ''තමාගේ'' දෙවැනි නිකොලායි, ''තමාගේ'' විල්හෙල්ම්, ජෝර්ජ්, පූවන්කාරෙ සහ අනිකුත් අයද කුඩා ජාතීන් සමග එක්වීමට පක්ෂ බව (ඈඳාගැනීමේ මාධ්‍යයෙන්) — දෙවැනි නිකොලායි ගැලීසියාව සමග ''එක්වීමටත්'' දෙවැනි විල්හෙල්ම් බෙල්ජියම සමග ''එක් වීමටත්'' ආදී වශයෙනි — අමතක කරන්නේ නම්, එවැනි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක්



න්‍යායික වශයෙන් ආධානග්‍රාහීයකු වන අතර ක්‍රියාවෙන් අධිරාජ්‍යවාදයේ ආධාර කරුවකු වනු ඇත.

පීඩක රටවල කම්කරුවන්ට ජාත්‍යන්තරවාදී අධ්‍යාපනයක් ලබාදීමේදී ප්‍රධාන අවධානය යොමු කළ යුත්තේ පීඩිත රටවල ඉවත්වීමට නිදහස ලබාදීමත් සහ ඔවුන් ඒ සඳහා සටන් කිරීමත්ය. මෙය නැතිව ජාත්‍යන්තරවාදයක් තිබිය නොහැකිය. මෙවැනි ප්‍රචාරයක් ගෙනයාමට අසමත්වන පීඩක ජාතීන්ගේ සෑම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක්ම අධිරාජ්‍යවාදියකු ලෙසත්, නීචයකු ලෙසත් සැලකීම අපේ අයිතිය සහ යුතුකම වෙයි. සමාජවාදය ඇතිවීමට පෙර ඉවත්වීමේ අවස්ථාවට හැකියාවක් සහ එය ක්‍රියාවේ යෙදවීමේ ඉඩකඩ දහසකින් එකක් වුවද මෙය නිර්පේක්ෂ ඉල්ලීමකි.

ජාතික විශේෂතාවයන්ට ''උදසීන'' ලෙස සැලකීමට කම්කරුවන්ට උගැන්වීම අපේ යුතුකම විය යුතුය. මේ ගැන සැකයක් නැත. එහෙත් එය ඈඳාගැනීම්වාදීන්ගේ උදසීනත්වයක් නොවිය යුතුය. පීඩක ජාතියට අයත් සාමාජිකයෙක් ''උදසීන'' විය යුත්තේ කුඩා ජාතීන් තමාගේ රාජ්‍යයට අයිතිද, නැතිනම් අසල්වැසි රාජ්‍යයට අයිතිද යන්න ගැනය, නැතිනම් ඔවුන්ගේ සිතැගියාවන් අනුව, ඔවුන් අයිති ඔවුන්ටමද යන්න ගැනය. එවැනි ''උදසීනත්වයක්'' නැතිනම් ඔහු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක් නොවේ. ජාත්‍යන්තරවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියකු වීමට නම් කෙනෙකු ස්වකීය ජාතිය ගැන පමණක් නොසිතිය යුතුය, එහෙත් ඒ වෙනුවට සියලු ජාතීන්ගේ වුවමනාවන්, ඔවුන්ගේ පොදු නිදහස සමානත්වය ස්වකීය ජාතියට වඩා ඉහළින් තැබිය යුතුය. හැම කෙනෙක්ම මෙය න්‍යායික වශයෙන් පිළි ගනිති. එහෙත් ව්‍යවහාරික වශයෙන් ඈඳාගැනීම්වාදී උදසීනත්වයක් පළ කරති. දුෂ්ටත්වයේ මූල මෙයය.

අනිත් අතින් කුඩා ජාතියකට අයත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක් ඔහුගේ උද්ඝෝෂණයේදී අපේ පොදු සූත්‍රයේ දෙවැනි වචනය අවධාරණය කළ යුතුය: ජාතීන්ගේ ''ස්වේච්ඡානුගත අනුකලනය''. ජාත්‍යන්තරවාදියකු හැටියට ඔහු සිය යුතුකම් නොපිරිහෙළා ඉටුකරමින්, ඔහුට සිය ජාතියේ දේශපාලන ස්වාධීනත්වයට සහ එය අසල්වැසි x, y, z ආදී රාජ්‍යයන් සමග අනුකලනයවීම යන දෙකටම පක්ෂපාත විය හැකිය. එහෙත් හැම අවස්ථාවකදීම, ඔහු කුඩා ජාතික පටු බුද්ධියට, හුදකලාබවට සහ කොන්වීමට විරුද්ධව සටන් කළ යුතුය. සමස්තය හා පොදු දේ ගැන කල්පනා කළ යුතුය. විශේෂ වුවමනාව පොදු වුවමනාවට යට කළ යුතුය.

පීඩක ජාතීන්ට අයත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ''වෙන්වීමට නිදහස'' ඉල්ලා සිටීමද ඒ අතර පීඩිත ජාතීන්ට අයත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අනුකලනයවීමට නිදහස ''ඉල්ලා සිටීමද පරස්පර විරෝධීයැයි ප්‍රශ්නය

ගැන ගැඹුරු ලෙස සලකා නොබැලූ අය සිතති. එහෙත් මේ ගැන යම්තම් හෝ සිතාබලන විට, ජාත්‍යන්තරවාදයට සහ ජාතීන්ගේ එක්වීමට වෙනත් මාර්ගයක් තිබිය නොහැකි බවත්, මේ තත්ත්වය යටතේ මේ අරමුණ වෙතට වෙනත් අන් කිසි මගක් නැති බවත් පෙනීයන්නේය.

දැන් අපි ඕලන්ද සහ පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ විශේෂිත තත්ත්වය වෙත එළැඹෙමු.

## 8. ඕලන්ද සහ පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රික ජාත්‍යන්තරවාදීන්ගේ තත්ත්වයෙහි විශිෂ්ටය සහ සාමාන්‍යය

ස්වයං නිර්ණයනයට විරුද්ධ ඕලන්ද හා පෝලන්ත මාක්ස්වාදීන් ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ඉතාම හොඳ විප්ලවවාදී සහ ජාත්‍යන්තරවාදී කොටස් වලට අයත් බවට කිසිදු සැකයක් නැත. එසේනම් අප දුටු පරිදි ඔවුන්ගේ න්‍යායික තර්ක වැරදි ගොඩක් බවට පත්වූයේ කෙසේද? එකද නිවැරදි පොදු තර්කයක් වත් නැත. "අධිරාජ්‍යවාදී ආර්ථිකවාදය" හැර අන් කිසිවක් නැත!

මෙය ඕලන්ද සහ පෝලන්ත සහෝදරවරුන්ගේ විශේෂ අයහපත් මනෝමූල ගුණයන් නිසා නොවේ. එහෙත් ඔවුන්ගේ රටවල විශිෂ්ට වාස්තවික තත්ත්වයන් නිසාය. මේ රටවල් දෙකම: 1) මහා බලවතුන්ගේ අද්‍යතන පද්ධතිය යටතේ කුඩාවීම සහ ආධාර රහිතවීමය. 2) මේ රටවල් දෙකම, එකිනෙකාට විරුද්ධව තියුණු තරඟයක යෙදී සිටින ඉමහත් බලසම්පන්න අධිරාජ්‍යවාදී කොල්ල කරුවන් (බ්‍රිතාන්‍ය සහ ජර්මනිය; ජර්මනිය සහ රුසියාව) අතර භෞමික වශයෙන් පිහිටා තිබීමය. 3) මේ රටවල් දෙකෙහිම ඔවුන් "මහා බලවතුන්ව" සිටි කාලය පිළිබඳ මතකයක් හා සම්ප්‍රදායයන් බලවත්ව තිබීම: ඕලන්දය කලෙක බ්‍රිතාන්‍යයට වඩා විශාල යටත් විජිත හිමි රටක්වැ තිබිණි. පෝලන්තය රුසියාව සහ ප්‍රුසියාවට වඩා වැඩි සංස්කෘතියකින් සහ ශක්තිමත් මහා බලයක්ව තිබිණි. 4) අද දක්වාත් මේ රටවල් දෙකම වෙනත් ජනතාවන් පීඩනය කිරීම පිළිබඳව සිය වරප්‍රසාද රැකගෙන සිටිති: ඕලන්ද ධනපති පංතියට ඉතා ධනවත් ඕලන්ද නැගෙනහිර ඉන්දියාව අයත්ය; පෝලන්ත ඉඩම් හිමියෝ උක්රයින හා බෙලොරුසියානු "ගොවීන්ට" පීඩා කරති; පෝලන්ත ධනපති පංතිය යුදෙව්වන් ආදීන්ට පීඩා කරයි.

මේ කරුණු හතරේ සංයෝජනයෙන් යුක්තවූ විශේෂතාවය අයර්ලන්තයේ, පෘතුගාලයේ (මෙරට එක් කලෙක ස්පාඤ්ඤයට ඈඳී තිබිණි), අල්සාස්, නෝර්වේ, පින්ලන්තයේ, උක්රයිනයේ, ලත්වියන් සහ



බෙලොරුසියානු භූමිවල හෝ වෙනත් රටවල හෝ දක්නට නොමැත. කාරණයේ සැබෑ හරය වී තිබෙන්නේ මෙන්න මේ විශේෂතාවයයි! ඕලන්ද සහ පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ස්වයං නිර්ණයනයට විරුද්ධව, පොදු තර්ක පාවිච්චි කරමින්, එනම් පොදුවේ අධිරාජ්‍යවාදයට පොදුවේ සමාජවාදයට, පොදුවේ ප්‍රජාතන්ත්‍රවාදයට, පොදුවේ ජාතික පීඩනයට බලපාන තර්ක පාවිච්චි කරමින් නිගමනය කරන විට, ඔවුන් වැරදි පිට වැරදි කරන බව අපට සැබවින්ම කිව හැකිය. එහෙත් කෙනෙක් පොදු තර්ක නැමැති සාවද්‍ය පිට කටුවෙන් ඉවත් වී ඕලන්දයේ සහ පෝලන්තයේ විශිෂ්ට තත්ත්වයන්ගේ ස්ථාවරයෙහි පිහිටා ප්‍රශ්නයේ හරය දෙස බලන්නේ නම්, ඔවුන්ගේ විශේෂ තත්ත්වය කොතරම් අවබෝධාකාරීද එමෙන්ම කොතරම් නීත්‍යානුකූලද යන්න පෙනීයනු ඇත. විරුද්ධාභාසයකට ඇද වැටෙතියි යන බියෙන් තොරව කිව හැකි දෙයක් නම්, ඕලන්ද සහ පෝලන්ත මාක්ස් වාදීන් ස්වයං නිර්ණයනයට විරුද්ධව සටන් කරන විට, ඔවුන් අදහස් කරන දේ සම්පූර්ණයෙන් නොකියන බවය, නැතිනම් අන්දමකට එය මෙසේය, ඔවුන් කියන දේ අදහස් නො කරන බවය*.

අපේ තීසිසයෙන්** අපි දැනටමත් එක් නිදසුනක් දී ඇත්තෙමු. ගොර්ටර් තමාගේ රටට ස්වයං නිර්ණයනය දීමට විරුද්ධ අතර "ඔහුගේ" ජාතිය විසින් පීඩනය කරන ඕලන්ද නැගෙනහිර ඉන්දියාවට ස්වයං නිර්ණයනය දීමට පක්ෂය! ස්වයං නිර්ණයනය වාචික ලෙසත්, කුහක ලෙසත් පිළිගන්නා ජර්මනියේ කෞට්ස්කිට සහ රුසියාවේ ට්‍රොට්ස්කිට සහ මාර්තව්ට වඩා ඔහු අවංක ජාත්‍යන්තර වාදියකු සහ අපට වඩාත් සමීප චින්තක සගයකු ලෙස අප පිළිගැනීම පුදුමයක් ද? "තමන්නේම" ජාතිය විසින් පාගනු ලබන ජාතීන්ගේ ඉවත්වීමේ අයිතිය සඳහා සටන් කිරීමේ යුතුකම මාක්ස්වාදයේ පොදු සහ මූලික ප්‍රතිපත්ති විසින් නිසැක ලෙස ඇඟවෙයි. විශිෂ්ට වශයෙන්ම, පටු, කපටි, ස්වාර්ථකාමී, සහ අස්පීයන හුදකලා බවකින් පෙලෙන ඕලන්දයේ ස්වාධීනත්වය ප්‍රධාන වැදගත් දෙයක් ලෙස කොහෙත්ම නොසලකයි: ඕලන්දය මෙලෙස පවසන්නාක් මෙනි, මුළු මහත් ලෝකයම ගිනි ගත්තාවේ. අපි එහි අයිනකට වී සිටින්නෙමු. අපේ පරණ ගොදුරු වලින් සහ පොහොසත් "නශ්ටාවශේෂයවූ" ඉන්දීය කොදෙව් වලින් "අපි" සතුටු වී සිටිමු. "අපට" අනිත් දේවල් පිළිබඳව කිසිදු වැඩක් නැත!

තවත් නිදසුනක් මෙන්න! පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියකු වන

---

* පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සිය ට්සිමර්වොල්ඩ් ප්‍රකාශනය මගින්, සිය සූත්‍රය යම්තමින් වෙනස් වුවද, පොදුවේ ස්වයං නිර්ණයනය පිළිගන්නා බව මතක් කරමු.

** මේ පොතේ 128 පිටුව බලන්න — සංස්කාරක

කාල් රදෙක් යුද්ධය ආරම්භ වූ ද පටන් ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරය තුළ ජාත්‍යන්තරවාදය සඳහා තීරක අරගලයක් ගෙනයමින් විශේෂ සේවයක් කළ කෙනෙකි. ඔහු, ''ස්වයං නිර්ණයනය පිළිබඳ ජාතීන් සතු අයිතිය'' (Lichtsrahlen)[111] — ප්‍රුසියානු බලධාරියා විසින් තහනම් කරන ලද වාමාංශික රැඩිකල්වාදී සඟරාවක් වූ මෙහි කතුවරයා යූ. බොර්හාඩ්ය — 1915 දෙසැම්බර් 5 ද, තෙවැනි වසර, 3වැනි කලාපය) යන මැයෙන් ලිපියක් ලියමින් ස්වයං නිර්ණයනයට විරුද්ධව දරුණු පහරක් ගැසීය. ඔහු සිය මතය සනාථ කරනු වස් උපුටා දක්වන්නේ ඕලන්ද සහ පෝලන්ත අධිකාරීන් පමණයි. අනිකුත් ඒවා අතර ඔහු මෙවැනි තර්කයක් ඉදිරිපත් කරයි: ''නිදහස සඳහා ගෙනයන සියලු අරගලවලට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ආධාර කිරීම ඔවුන්ගේ යුතුකමය'' යන ඇඟවීමක් පිළිබඳ සංකල්පයක් ස්වයං නිර්ණයනය විසින් ඉදිරිපත් කෙරේ.

පොදු න්‍යායයේ ස්ථාවරය අනුව, මෙම තර්කය කුප්පන සුලුය. මන්දයත් එය පැහැදිලි ලෙස තර්කානුකූල නොවන බැවිනි. ප්‍රථමයෙන්, විශේෂිතය පොදු දෙයට යට නොකරන්නේ නම්, හැම ප්‍රජාතන්ත්‍රික ඉල්ලීමක්ම අත්තෝමතිකත්වය බිහි නො කරන එකද විශේෂිත ඉල්ලීමක්වත් ප්‍රජාතන්ත්‍රවාදයෙන් පරිබාහිරව තිබිය නොහැකිය. ''ඕනෑම'' නිදහස් අරගලයකට හෝ ''ඕනෑම'' සමූහාණ්ඩුවාදී හෝ පූජක විරෝධී අරගලයකට ආධාර දීමට අප බැඳී නැත. දෙවනුව, ජාතික පීඩනයට විරුද්ධව අරගල කිරීමේ එම ''අඩුපාඩුවෙන්ම'' පීඩා නොවිඳි කිසිම සූත්‍රයක් නොතිබීම. රදෙක් විසින්ම "Berner Tagwacht"[112] හි ''පැරණි සහ අළුත් ඈඳා ගැනීම් වලට විරුද්ධව'' යනුවෙන් සූත්‍රයක් ඉදිරිපත් කළේය (1915 කලාපය 253). ඕනෑම පෝලන්ත ජාතික වාදියෙක් මෙම සූත්‍රයෙන් ඖරසික ලෙස මෙලෙස ''නිගමනය'' කරනු ඇත: ''පෝලන්තය ඈඳා ගනු ලැබූ රාජ්‍යයකි, මා ඈඳා ගැනීම්වලට විරුද්ධය, එනම්, මා පෝලන්තයේ නිදහසට පක්ෂපාතය.'' නැතිනම් 1908 දී[113] රෝසා ලුක්සම්බර්ග් ලියූ ලිපියක් මගින් ඉදිරිපත් කළ සූත්‍රයක් මට මතක් වේ: ''ජාතික පීඩනයට විරුද්ධව පමණක්'' සම්පූර්ණයෙන් සෑහේ. පූර්ණ සාධාරණත්වයකින් යුතුව ඕනෑම පෝලන්ත ජාතික වාදියෙක් ඈඳා ගැනීම ජාතික පීඩනයේ එක් ආකාරයකි, ඒ අනුව ආදි වශයෙන්, කියනු ඇත.

කෙසේවුවද, මේ පොදු තර්ක වෙනුවට පෝලන්තයේ විශේෂිත තත්ත්වයන් ගෙන බලමු: අද ඇගේ නිදහස යුද්ධ හෝ විප්ලවවලින් හෝ තොරව ''ලබාගත නොහැකිය''. පෝලන්තය පුනඃ ස්ථාපනයට පත්කරනු වස් සමස්ත යුරෝපීය යුද්ධයකට පක්ෂ වීම ඉතාම අන්ත ජාතිවාදයකි,



එවැනි යුද්ධයකින් පීඩා විඳින කෝටි සංඛ්‍යාත ජනතාවගේ වුවමනාවන් යටකොට කුඩා සංඛ්‍යාවක් පෝලන්ත ජාතිකයින්ගේ වුවමනාවන් ඉදිරියට ඇද දැම්මකි. සත්තකින්ම මෙවැනි පුද්ගලයෝය ''ප්‍රාකිවරු'' (පිපි එස් පක්ෂයේ දක්ෂිණාංශය). මොවුන් වචනයෙන් පමණක් සමාජ-වාදීන්ය. මොවුන් සමග සන්සන්දනය කරන විට, පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු දහස් වාරයක් නිවැරදි යහ. අසල්වැසි අධිරාජ්‍යවාදී බලවතුන්ගේ දැනට පවතින සාපේක්ෂ සම්බන්ධතාවය අනුව, අද පෝලන්තයේ නිදහස පිළිබඳ උද්යෝග පාඨය ඉදිරිපත් කිරීම යනු ඇත්ත වශයෙන්ම මිරිඟුවක් පසුපස දිවීම වැනි දෙයකි, මන්ද බුද්ධික ජාතිකවාදයට ඇද වැටීමක් සහ සමස්ත යුරෝපීය හෝ යටත් පිරිසෙයින් රුසියානු සහ ජර්මන් විප්ලවයකට අවශ්‍ය පූර්වාවයන් අමතක කර දැම්මකි. රුසියාවේ 1908–1914 කාලයේදී ස්වාධීන උද්යෝග පාඨයක් ලෙස සභාග සඳහා නිදහස ඉදිරිපත් කිරීමද එමෙන්ම මිරිඟුවක් පසුපස දිවීම වැනි ක්‍රියාවකි. එමෙන්ම එය වාස්තවික වශයෙන් ස්තලීපින්ගේ කම්කරු පක්ෂයට[114] වාසි ගෙන දීමට ඉඩ තිබිණි (දැන් තිබෙන පොත්රේසව් ග්වස්ද්යොව් පක්ෂය, එයම වන්නේය). එහෙත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ වැඩ පිළිවෙළින් පොදුවේ සභාග සඳහා නිදහස ඉවත් කරලීම පිස්සුවකි!

තෙවනුව එමෙන්ම සමහර විට, ඉතා වටිනා නිදසුන: ස්වාධීන පෝලන්ත සීමාන්තරික රාජ්‍යයක් පිළිබඳ අදහස ''කුඩා බෙලහීන කණ්ඩායම්වල පුහු මනොරාජ්‍යයක්'' බවද ''මෙය ක්‍රියාවට යෙදුවහොත් එක් හෝ තවත් මහා බලවතකුගේ මිලිටරි යටත් විජිතයක් විය හැකි සහ එම මහා බලවතුන්ගේ මිලිටරි හා ආර්ථික වුවමනා වලට සේවය කරන කෙළි බඩුවක් වන පෝලන්ත රාජ්‍යයක ඉතා කුඩා කොටසක් බිහි කිරීමක් වනු ඇත, එය විදේශීය ප්‍රාග්ධනය විසින් සූරාකනු ලබන ප්‍රදේශයක් බවට සහ අනාගත යුද්ධවලට සංග්‍රාම භූමියක් වනු ඇත, යන පදනම මත පිහිටා එයට පෝලන්ත තීසිසය (111 හි දෙවන කොටසේ අග) විරුද්ධ වන සැටි අපි කියවමු. පෝලන්තයේ අද්‍යතන නිදහස පිළිබඳ උද්යෝග පාඨයට විරුද්ධව, තර්කයක් හැටියට මෙය පාවිච්චි කරන විට, මේවා සියල්ල සම්පූර්ණ සත්‍ය වන්නේය. මන්දයත්, පෝලන්තයේ පමණක් විප්ලවයකින් කිසිවක් වෙනස් නොවන අතර එය ප්‍රධාන දෙයින් පෝලන්තයේ බහුජනතාවගේ අවධානය වෙනත් අතකට යොමුකරන බැවිනි. එනම් ඔවුන්ගේ අරගලය හා රුසියන් සහ ජර්මන් නිර්ධන පංතියේ අරගලයත් අතර ඇත සම්බන්ධකමින් ඈත් කර ලන බැවිණි. අද පෝලන්ත නිර්ධන පංතියට, පෝලන්තයේද ඇතුළුව, සමාජවාදයේ සහ නිදහසේ කාර්යයට සේවය කළ හැක්කේ, පටු පෝලන්ත ජාතිවාදීන්ට විරුද්ධව අසල්වැසි රටවල්වල නිර්ධන පංතිය සමග ඒකාබද්ධ අරගලයන් කිරීමෙන්

පමණක්ය යන්න සත්‍යයක් මිස විරුද්ධාභාසයක් නොවේ. ජාතිවාදීන්ට විරුද්ධව ගෙනයන අරගලයේදී පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් විසින් ඉටු කරනලද මහා ඓතිහාසික සේවය කොහෙත්ම අමතක කළ නොහැකිය.

වත්මන් වකවානුවේ පෝලන්තයේ විශේෂිත තත්ත්වයන්ගේ ස්ථාවරයන් අනුව මෙය සත්‍ය වුවද, ඒවා ඉදිරිපත් කර තිබෙන පොදු ආකාරය අනුව, පැහැදිලි ලෙසම සත්‍ය නොවේ. යුද්ධ පවතින තාක් කල්, ජර්මනිය හා රුසියාව අතර යුද්ධවලදී පෝලන්තය හැමදම සංග්‍රාම භූමියක් ලෙස ශේෂවනු ඇත. එහෙත් යුද්ධ අතර කාලවලදී වඩාත් විශාල දේශපාලන නිදහසක් සඳහා (සහ එමෙන්ම දේශපාලන නිදහසට විරුද්ධව) මෙය තර්කයක් නොවේ. විදේශීය ප්‍රාග්ධනය විසින් සූරාකෑම සහ විදේශීය වුවමනාවන්වල කෙළිබඩුවක් ලෙස පෝලන්තය ක්‍රියා කිරීම පිළිබඳ තර්ක ගැනද එයම බලපායි. පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට මේ මොහොතේදී, පෝලන්තයේ නිදහස පිළිබඳ උද්යෝග පාඨය ඉදිරිපත් කළ නොහැකිය. මන්දයත් නිර්ධන පංතික ජාත්‍යන්තරවාදීන් හැටියට පෝලන්තයින්ට, ''ප්‍රාකි වරුන්'' මෙන් අධිරාජ්‍යවාදී රාජාණ්ඩුවලින් එකකට දසභාවයෙන් සේවය කිරීමට නැඹුරු ගොවී, අන් කිසිවක් කළ නොහැකි බැවිනි. එහෙත් පෝලන්තය එය ඈඳා ගැනීමේදී තමන් එහි කොටස් කරුවන් වන්නේද (පෝලන්තය ඈඳාගැනීම යනු රුසියන් සහ ජර්මන් කම්කරුවන්ට සහ ගොවීන්ට අධම නීචත්වයකින් යුත් අධ්‍යාපනයක් දීම සහ වෙනත් ජනතාවන්ගේ මාරයා ලෙස ක්‍රියාකිරීමට ඔවුන් පෙළඹවීමය) නැතිනම් පෝලන්තය නිදහස්ද යන්න ගැන උදාසීන වීමට රුසියන් හා ජර්මන් කම්කරුවන්ට නොහැකිය.

තත්ත්වය ඇත්ත වශයෙන්ම බොහෝ ව්‍යාකූලය. එහෙත් මෙයට සහභාගිවන සියලු දෙනාටම ජාත්‍යන්තරවාදීන් හැටියට සිටීමට තරම් ඉඩකඩ තිබේ: රුසියන් හා ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් කොන්දේසි විරහිතව, පෝලන්තය සතු ''ඉවත්වීමේ නිදහස'' ඉල්ලා සිටීමය; පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් නියමිත වකවානුවකදී හෝ නියමිත කාලපරිච්ඡේදයකදී හෝ පෝලන්තයේ නිදහස පිළිබඳ උද්යෝග පාඨය ඉදිරිපත් නොකර කුඩා සහ ලොකු රටවල නිර්ධන පංතික අරගලය එක්සත් කිරීම සඳහා සටන් කිරීමය.

## 9. එංගල්ස් කෞට්ස්කිට යැවූ ලියුම

එවකට තවමත් මාක්ස්වාදියකුව සිටි කෞට්ස්කි තමා විසින් ලියන ලද සමාජවාදය සහ යටත් විජිත දේශපාලනය (බර්ලින් 1907) පොත්



පිංචෙහි, 1882 සැප්තැම්බර් 12 ද එංගල්ස් ඔහුට යැවූ ලියුමක්ද පළ කැර තිබිණි. සාකච්ඡාවට භාජනය වී ඇති විෂය සම්බන්ධයෙන් මෙය ඉතා විශාල වැදගත් කමක් දරයි. එම ලියුමෙහි ප්‍රධාන කොටස මෙසේය:

''... මගේ මතය අනුව, නියම යටත් විජිත රටවල් එනම්, කැනඩාව, කේප්, (දකුණු අප්‍රිකාව) ඕස්ට්‍රේලියාව වැනි යුරෝපීය ජනයා පදිංචිවී සිටින රටවල් නිදහස් වනු ඇත. අනික් අතට ස්වදේශීය ජනතාව වාසය කරන සම්පූර්ණයෙන් යටත් කරගත් රටවල් එනම් ඉන්දියාව, ඇල්ජීරියාව, ඕලන්ද, පෘතුගීසි, ස්පාඤ්ඤ යටත් විජිත තාවකාලිකව නිර්ධන පංතියට අයත් කැරගෙන හැකිතරම් සීඝ්‍ර ලෙස ඒවා නිදහස වෙත ගෙන ආ යුතුය. මෙම ක්‍රියාවලිය සංවර්ධනය වන්නේ කෙසේද යන්න කීම උගහටය. ඉන්දියාව, සමහර විට, විප්ලවයක් කරනු ඇතැයි සෑහෙන තරම් දුරට බලාපොරොත්තු විය හැකිය. එමෙන්ම ස්වයං විමුක්තිකාමී නිර්ධන පංතියට යටත් විජිතවාදී යුද්ධ කළ නොහැකි බැවින්, එයට සිය මග ගැනීමට ඉඩ දිය යුතුය. එය විවිධ විනාශයන් රහිතව ඇති නොවනු ඇත, සත්තකින්ම මෙවැනි විනාශයන් සියලු විප්ලව වලින් වෙන්කර ගත නොහැකිය. වෙනත් රටවලද එනම් ඇල්ජීරියාවේ සහ ඉජිප්තුවේද මෙවැනි සිදුවීමකට ඉඩකඩ ඇත්තේය. සැකරහිතවම මෙය අපට නම් බලපොරොත්තු විය හැකි ඉතාම හොඳ දෙයය. අපරට තුළ අප විසින් කළ යුතු වැඩ බොහෝය. යුරෝපය සහ උතුරු ඇමෙරිකාව ප්‍රතිසංවිධානය කළ ඉක්බිතිව, එයින් සැපයෙන යෝධමය බලය හා ආදර්ශය කෙසේ වනුදයත්, අර්ධ සභ්‍ය රටවල්, අප පසුපස ඇදීයනු ඇත. ආර්ථික අවශ්‍යතාවයන් මගින් එය ඉටුවනු ඇත. මේ රටවල් සමාජවාදී සංවිධානය කරා පැමිණීමේදී ඒවා කිනම් සමාජ සහ දේශපාලන අවධීන් පසුකළ යුතුද යන්න අරභයා අද අපට අනුමාන කල්පිතයන්ට පමණක් එළැඹිය හැකිය. එක් දෙයක් පමණක් ස්ථිරය: ජයග්‍රාහී නිර්ධන පංතියට ස්වකීය ජයග්‍රහණයට හානි නොකර කිසිදු විදේශීය ජනතාවක් මත කිසිම වර්ගයක වාසනාවක් බලෙන් පැටවිය නොහැකිය. එසේවුවද, නොයෙක් වර්ගවලට අයත් ආරක්ෂක යුද්ධ මින් කොහෙත්ම බැහැර නොකෙරේ...''

හුදෙක් ''ආර්ථිකයෙන්'' පමණක් සියලු දුෂ්කරතාවයන් ඉවත් කළ හැකියි එංගල්ස් කොහෙත්ම අදහස් නොකරයි. ආර්ථික විප්ලවයක් හටගැනීම සමාජවාදය සඳහා සටන් කිරීමට සෑම ජනතාවන්ට උත්තේජනයක් වනු ඇත. එහෙත් ඒ අතරම සමාජවාදයට විරුද්ධවද විප්ලව සහ යුද්ධ ඇතිවීමට ඉඩ තිබේ. දේශපාලනය නොවැළැක්විය හැකි සේ ආර්ථිකයට ගැළපෙන පරිදි සකස් වනු ඇත. එහෙත් එය ක්ෂණික ලෙස හෝ සුමට ලෙස හෝ නොවේ, සරළ ලෙස හෝ ඍජු ලෙසද නොවේ. එංගල්ස් ස්ථිරව එක් ප්‍රතිපත්තියක් සඳහන් කරයි, එය නිරපේක්ෂයෙන්ම

ජාත්‍යන්තරවාදී ප්‍රතිපත්තියකි. යටත් විජිත ජාතීන් සම්බන්ධයෙන් පමණක් නොව, ඔහු සෑම 'විදේශීය ජාතියක්ම' විෂයෙහි ලා එය ගළපයි. එනම් ඒවා මත බලෙන් වාසනාව පැටවීම නිර්ධන පංතියේ ජයග්‍රහණය හානියට භාජනය කිරීම යන්නය.

නිර්ධන පංතිය සමාජවාදී විප්ලවයක් ජයගත් පමණින් එය ශුද්ධත්වයට පත්වන්නේ හෝ එහි සියලු වැරදි හා දුර්වලකම් මුක්තවූ තත්ත්වයකට පත්වන්නේ හෝ නැත. එහෙත්, සමහරවිට එය මෙම සත්‍යය සාක්ෂාත් කර ගැනීමට අනිවාර්ය ලෙස යොමුවන්නේ සිදූ විය හැකි වැරදි (ආත්මාර්ථකාමී වුවමනාවන් — අනුන් පිට බර පැටවීමේ උත්සාහය) තුළින් විය හැකිය.

ට්සිමර්වොල්ඩ් වම්මු වන අපි සියලු දෙන ඉතා නුදුරු අනාගතයේදී සමාජවාදී විප්ලවයක් ඇතිවීමට බොහෝ ඉඩකඩ තිබේය යන වැටහීම, වරක් කෞට්ස්කි පැවසුවාක් මෙන් 'අද නැත්නම් හෙට' යන වැටහීම ඇතිව සිටිමු. කෞට්ස්කි 1914 දී මාක්ස්වාදය අතහැර දමා, ජාත්‍යෝන්මාදවාදය ආරක්ෂා කිරීමට ඉදිරිපත් වීමට පෙර එම මතයම දැරීය. ජාතික වෛරයන් එතරම් පහනොවනු ඇත. පීඩකයා කෙරෙහි පීඩිත ජාතිය දක්වන වෛරය, පූර්ණ සාධාරණ වෛරය, එක්තරා කලකට එලෙසම පවතිනු ඇත. සමාජවාදයේ ජයග්‍රහණයෙන් ඉක්බිතිව, සහ ජාතීන් අතර පූර්ණ ප්‍රජාතන්ත්‍රවාදී සම්බන්ධකම් ස්ථාපිත කරලීමෙන් ඉක්බිතිව, එම වෛරය අවසාන වශයෙන් පහවී යනු ඇත. අප අවංක ලෙසම සමාජවාදයට පක්ෂවීමට කැමති නම්, දැන්වත්, ජනතාවට ජාත්‍යන්තරවාදී ශික්ෂණයක් ලබා දිය යුතුය. පීඩිත ජාතීනට ඉවත්වීමේ නිදහස දිය යුතුයැයි ඉල්ලා නොසිට, පීඩක ජාතීන් තුළ මෙම කාර්යය සපුරාලිය නොහැකිය.

## 10. 1916 අයර්ලන්ත කැරැල්ල

අපේ න්‍යායික මත උරගා බැලීමට සේවය කළ යුතු මෙම කැරල්ල, අපේ තීසිය ආරම්භ වීමට පෙර ලියන ලදී.

අධිරාජ්‍යවාදයෙන් පීඩිත කුඩා ජාතීන්ගේ ජීව ශක්තිය සම්පූර්ණයෙන්ම පිරිහී ඇති බවත්, අධිරාජ්‍යවාදයට විරුද්ධව කිසිම කාර්ය කොටසත් ඉටුකරලීමට ඒවාට නොහැකි බවත්, ඒවායේ හුදු ජාතික අපේක්ෂාවන්ට ආධාර කිරීමෙන් කිසිදු යහපතක් නොවන බවත් ආදිය, ස්වයං නිර්ණයනයට විරුද්ධවාදීන්ගේ මත අනුව නිගමනය කළ හැකියැයි යොමුවී ඇත. 1914–1916 අධිරාජ්‍යවාදී යුද්ධයෙන් එවැනි නිගමනයන් නිෂ්ප්‍රභ කරන සත්‍ය කරුණු මතුවී තිබේ.



යුද්ධය බටහිර යුරෝපීය රටවලටත්, සමස්තයක් වශයෙන් අධිරාජ්‍යවාදයත් අර්බුද සහිත වකවානුවක් විය. සෑම අර්බුදයක්ම සම්මුතිකත්වය බැහැර කරලයි. පිට කවරය ඉරා දමයි, යල්පැන ගිය දේ අතු ගා දමයි. වඩාත් ගැඹුරු උල්පත් හා බලවේග විවෘත කරයි. පීඩිත ජාතීන්ගේ ස්ථාවරයෙන් බලන විට, හෙළි වී තිබෙන්නේ කුමක්ද? යටත් විජිතවල කැරළි ගැසීමේ ප්‍රයත්න සංඛ්‍යාවක්ම ඇති විය. ස්වාභාවික ලෙස, යුද්ධමය පුවත් පාලනය කිරීමේ මුවාවෙන් ඒවා යටපත් කිරීමට පීඩක ජාතීහු තමනට හැකි සියල්ලක්ම කළෝය. එසේ වුවද, බ්‍රිතාන්‍යයින් සිංගප්පූරුවේදී තම ඉන්දියානු සෙබළුන්ගේ කැරැල්ලක් මෘර්ග ලෙස මර්දනය කළ බවක් ප්‍රසිද්ධ විය. ප්‍රංශ ඇනෑමයේද, (නාෂා ස්ලෝව[115] බලන්න) ජර්මන් කැමැරුනයේද (යූනිවුස්ගේ පොත් පිංච බලන්න) කැරළි ගැසීම සඳහා තැත් කර තිබේ. යුරෝපයේ, එක් අතකින්, අයර්ලන්තයේ කැරැල්ලක් ඇති විය. ''නිදහස ප්‍රියකරන'' ඉංග්‍රිසිහු අනිවාර්ය යුද්ධ සේවය අයර්ලන්තය දක්වා ව්‍යාප්ත කිරීමට ඉදිරිපත් නොවූවෝ, කැරලි කරුවන් මරාදැමීමෙන් එය මර්දනය කළෝය. අනිත් අතින් ඔස්ත්‍රියානු ආණ්ඩුව රාජ ද්‍රෝහි චෝදනා එල්ල කරමින් චෙක් සෙයිම් මන්ත්‍රී මණ්ඩලයේ නියෝජිතයින්ට මරණ දඬුවම නියම කිරීම අනුමත කළ අතර ''එම පාවාදීම'' නිසා චෙක් රෙජිමේන්තු මුළුමනින්ම වෙඩිතබා මරා දමන ලදී.

මෙම ලේඛනය කොහෙත්ම හා කිසිසේත්ම සම්පූර්ණ නැති බව කිව යුතු නොවේ. එසේ වුවද, අධිරාජ්‍යවාදයේ අර්බුදය නිසා යටත් විජිතවල හා යුරෝපයේද, ජාතික විප්ලවයේ ගිනි සිළු ඇවිල තිබෙන බවත්, ඉතා දැඩි මර්දන සහ මර්දනකාරි පියවරයන් මැද ජාතික හිතවත්කම් සහ වෛරය කැපී පෙනෙන බවත් එයින් ඔප්පු වේ. එසේ වුවද අධිරාජ්‍යවාදයේ අර්බුදය සිය උච්චස්ථානය දක්වා තවම වර්ධනය වී නැත. අධිරාජ්‍යවාදී ධනපති පංතික බල මහිමය තවම දෙදරුම් කා නැත (මෙය අධික වෙහෙසට පත් කරන යුද්ධයක් මගින් සිදුවිය හැකි නමුදු, මෙතෙක් සිදුවී නැත); අධිරාජ්‍යවාදී රටවල නිර්ධන පංති ව්‍යාපාරද තවම ඉතා දුබලය. යුද්ධය නිසා සම්පූර්ණයෙන්ම ශක්තිය සිඳී ගිය කලෙක නැත්නම් 1905 දී සාර්වාදය මෙන්, නිර්ධන පංතික අරගලයේ ප්‍රහාරය ඉදිරියේ එක් රජයෙක හෝ ධනපති පංතියේ බලය සම්පූර්ණයෙන්ම සෙළවී ගිය විටෙක කුමක් සිදුවේද?

වාමාංශිකයින් සමහර දෙනෙකු ඇතුලත් ට්සිමර්වොල්ඩ් කණ්ඩායමේ නිල පුවත්පත වන "Berner Tagwacht" හි 1916 මැයි 9 ද''ගීතය ගයා අවසානය'' යන මැයෙන් K.R. නැමැති අත්සන සහිතව, අයර්ලන්තය ගැන ලිපියක් පළවිය. අයර්ලන්ත කැරැල්ල කුමන්ත්‍රණකාරී කණ්ඩායමක

''කොල්ලයකට'' වැඩි හෝ අඩු හෝ දෙයක් නොවන බව ඉන් විස්තර කැරිණි. මෙවැනි නිගමනයට හේතු දක්වන කතුවරයා ''අයර්ලන්ත ප්‍රශ්නය කෘෂක ප්‍රශ්නයක්'' බවත්, එය ප්‍රතිසංස්කරණ මගින් ගොවීන් සන්සුන් කර තිබෙන බවත්, ජාතික ව්‍යාපාරය දැන් ''පුදු නාගරික සුළු ධනපති ව්‍යාපාරයක්'' බවට පත් වී තිබෙන බවත්, ඉන් මහා ගාල ගෝට්ටියක් ඇති වූ නමුදු, සමාජයීය වශයෙන් එයට වැඩි ආධාරයක් නොලැබුණු බවත් කියමින් තර්ක ඉදිරිපත් කළේය.

මෙම උග්‍ර න්‍යායවාදී සහ පණ්ඩිතමානී තක්සේරුව, විප්ලවය ''ඔබ්ලින් කොල්ලය'' ලෙස හැඳින්වූ (1916 අප්‍රේල් 15 ද රෙච් අංක 102) රුසියන් ජාතික ලිබරල්වාදී කැඩෙට් පාක්ෂික ඒ. කුලිෂෙර් මහතාගේ තක්සේරුවත් සමග සම්පාතවීම පුදුමයට කරුණක් නොවේ.

''යහපතෙන් තොරවූ නපුරකුත් නැතැයි'' කියන ආප්ත පදය මෙන්, ''ස්වයං නිර්ණයනය'' ප්‍රතික්ෂේප කිරීමෙන්, හා කුඩා ජාතීන්ගේ, ජාතික ව්‍යාපාරවලට අවඥ සහගතව සැලකීමෙන් තමන් ඇද වැටෙන්නේ කිනම් මඩ ගොහොරුවකටදැ යන්න, නොදැන සිටි සහෝදරවරුන්ගේ නෙත් පෑදෙන්නට මෙලෙස සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකු සහ අධිරාජ්‍යවාදී ධනපති පංතියේ නියෝජිතයකු දරන අදහස් ''අහම්බෙන්'' සම්පාතවීම ආධාර වනු ඇතැයි බලාපොරොත්තුවේ!!

''කොල්ලය'' නැමැති වචනය එහි විද්‍යානුකූල අර්ථයෙන් යෙදිය හැක්කේ කැරැළි ගැසීමට දරන ලද ප්‍රයත්නයෙන් කුමන්ත්‍රණ කරුවන් නොහොත් මුග්ධ උන්මාදකාරයින් කල්ලියකට වඩා යමක් හෙළි නොවූවොත්, සහ ඔවුනට පොදු ජනතාවගෙන් කිසිදු අනුකූල තාවයක් නොලැබුණහොත් පමණකි. ශතවර්ෂ කීපයක් තිස්සේ, විවිධ අවධි සහ විවිධ පංති අවශ්‍යතා එකිනෙකට ගලපාලීම ඔස්සේ ගමන් කරමින් පවතින අයර්ලන්ත ජාතික ව්‍යාපාරය අයර්ලන්තයට නිදහස ඉල්ලමින් ඇමෙරිකාවේ පැවැත්වුණු පොදු ජන අයිරිෂ් ජාතික සමුළුව ("Vorwärts"[116] 20. III. 1916) මගින් විශේෂයෙන් ප්‍රසිද්ධ විය. පොදු ජන උද්ඝෝෂණ, පෙළපාලි පුවත්පත් මර්දනය කිරීම ආදිය සහිත දීර්ඝ කාලයකින් අනතුරුව නාගරික සුළු ධනපති පංතියේ කොටසක් සහ කම්කරුවන්ගේ කොටසක් විසින් කරන ලද වීදි සටන් නිසාද එය ප්‍රසිද්ධ විය. එවැනි කැරැල්ලක් ''කොල්ලයක්'' හැටියට යමෙක් හඳුන්වන්නේ නම්, ඔහු එක්කෝ අන්ත ප්‍රතිගාමියෙකි, නැතිනම් සමාජ විප්ලවය ජීවමාන සමාජ ප්‍රපංචයක් ලෙස නුවණින් සලකා බැලිය නොහැකි න්‍යායවාදියෙකි.

යටත් විජිතවල සහ යුරෝපයේ කුඩා ජාතීන්ගේ කැරළි රහිතව, අගතිගාමී සියලු හැඟීම් එලෙස තිබියදීම සුළු ධනපති පංතියේ කොටසකගේ විප්ලවවාදී පිපිරීම් වැනි ප්‍රකාශකිරීම් රහිතවත්, ඉඩම් හිමියන්ගේ



පල්ලියේ සහ රාජාණ්ඩුවේ ආදී පීඩනයට විරුද්ධ වූ, ජාතික පෑගීමට විරුද්ධවූ, දේශපාලන හැඟීම් අතින් නොදියුණු නිර්ධන සහ අර්ධ නිර්ධන පොදු ජනතාවගේ ව්‍යාපාරයකින් තොරවත්, සමාජ විප්ලවයක් ගැන කොහෙත්ම සිතාගැනීම කළ නොහැකි දෙයකි. මේවා රහිතව එම විප්ලවය ගැන පරිකල්පනයක යෙදීම සමාජ විප්ලවය ප්‍රතික්ෂේප කිරීමකි. මෙසේ වූ විට, එක් තැනක එක් යුද්ධ හමුදවක් පෙළ ගැසෙමින්, ''අපි සමාජවාදයට පක්ෂපාත වම්හයි!'' පවසති. වෙනත් තැනෙක වෙනත් යුද්ධ හමුදවක් පෙළ ගැසෙමින් ''අපි අධිරාජ්‍යවාදයට පක්ෂ පාත වම්හයි!'' පවසති. එය සමාජ විප්ලවය වන්නේය! මෙවැනි හාස්‍යජනක පණ්ඩිත මාණියකුට පමණකි, අයර්ලන්ත විප්ලවය ''කොල්ලයක්'' ලෙස හඳුන්වමින් එයට නින්ද කළ හැක්කේ.

යම්කිසිවෙක් ''පිරිසුදු'' සමාජ විප්ලවයක් බලා පොරොත්තු වෙත් නම්, ඔහුට, ඔහුගේ ජීවිත කාලයේදී එවැන්නක් දැකීමට නොහැකි වනු ඇත. ඔහු වාචික විප්ලවවාදියෙක් පමණකි. විප්ලවයේ යථා තත්ත්වය ඔහුට නොවැටහේ.

1905 රුසියානු විප්ලවය ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයක් විය. ජනගහනයේ අසහනයට පත්, සියලුම පංති කණ්ඩායම් හා කොටස් සහභාගිවූ සංග්‍රාමයන් මාලාවකින් එය සමන්විත විය. මෙම කොටස් අතර, ඉතා අපැහැදිලි සහ අති පුදුම සහගත අරමුණු සහිතව ඉතා ගොරහැඩි අගතිගාමී මත සහිත ජන කොටස් ද සටන්වලට සහභාගි වූහ. එමෙන්ම ජපනුන්ගෙන් මුදල් ලබාගත් කොටස්ද, සමපේක්ෂකයෝ සහ විවිධ වෛක්‍රමිකයෝද වූවෝය. එනමුදු වාස්තවික වශයෙන් එම පොදු ජනතා ව්‍යාපාරය සාර්වාදය බිඳලමින් ප්‍රජාතන්ත්‍රවාදයට මඟ සකස් කළ නිසා පංති විඥානය ඇති කම්කරුවෝ එයට නායකත්වය දුන්හ.

යුරෝපයේ සමාජවාදී විප්ලවය පීඩිත සහ අසහනයට පත් සියලු ජන කොටස් වල සටන්වල ප්‍රබල ප්‍රකාශනයක් මිස අන් කිසිවක් විය නොහැකිය. සුළු ධනපති පංතියේ කොටස් සහ නොදියුණු කම්කරු කොටස් එයට නොවැළැක්විය හැකිසේ සහභාගි වනු ඇත්තාහ. එවැනි සහභාගි වීමකින් තොරව පොදු ජන අරගලයක් කොහෙත්ම කළ නොහැකිය. එමෙන්ම ඔවුහු තම අගතිගාමී මත , තම ප්‍රතිගාමී මනස් සෘෂ්ටික අදහස්, තම දුබලතාවයන් සහ වැරදිද නොවැළැක්විය හැකිසේ ව්‍යාපාරය තුළට ගෙන එනු ඇත්තාහ. එහෙත් වාස්තවික වශයෙන් මේ සියලු දෙනම ප්‍රාග්ධනයට පහර ගසති. ඒ අතර විප්ලවයේ පංති හැඟීමෙන් යුත් පෙරමුණු බල ඇණිය වන දියුණු නිර්ධන පංතිය, පොදුජන අරගලයේ වාස්තවික සත්‍යය ප්‍රකාශ කරලමින්, විවිධ පැහැයෙන් හා විවිධ අන්දමේ හඬ නගන,

මිශ්‍ර හා බාහිර වශයෙන් කොටස් වලට වෙන්වූ ස්වභාවයක් පෙන්වන සියලු කොටස් එක්සත් කරමින්, ඒවා නිසි ලෙස මෙහෙයවමින් බලය අල්ලා ගැනීමටත්, බැංකු අල්ලා ගැනීමටත්, හැම දෙනම (විවිධ හේතූන් නිසා වුවද!) වෛර කරන සංගත අල්ලා ගැනීමටත් එමෙන්ම ආඥාදායක පියවරයන් ගැනීමටත් සමත් වනු ඇත. මේ පියවරයන්ගේ සමස්තය විසින් ධනපති පංතිය බලයෙන් පහකර දැමීමත්, සමාජවාදයේ ජයග්‍රහණයත් ලබා දෙනු ඇත. එහෙත් සුළු ධනපති කුණුරොඩු ඉවත්කොට "පවිත්‍රවීම" වහාම කිරීම කොහෙත්ම නොකෙරනු ඇත.

"යුරෝපයේ විප්ලවීය අර්බුදය උග්‍ර කරනු වස්, (කර්තෘගේ අවධාරණය) යුරෝපීය අධිරාජ්‍යවාදයට විරුද්ධව කරන සටනේදී, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය විසින් යටත් විජිතවල යෞවන ධනපති පංතිය ගෙනයන අරගලය ප්‍රයෝජනයට ගත යුතු යැ" යි පෝලන්ත තීසිසවලින් කියැවේ.

මේ සම්බන්ධයෙන් යුරෝපය හා යටත් විජිත පිළිසැසඳීම අන් හැමටම වඩා නුසුදුසු බව පැහැදිලි නොවේද? යුරෝපයේ පීඩිත ජාතීන්ගේ අරගලය පොදුජන නැගිටීමක් සහ විදී සටන් දක්වා වර්ධනය වීමේ හැකියාවක්ද, යුද්ධ හමුදවල අයෝමය විනය සිඳ බිඳ දැමීමේ හැකියාවක්ද සහිතය. ඈත යටත් විජිතයක පැන නගින උසස් මට්ටමකින් වර්ධනය වූ විප්ලවයකට වඩා, එයින් යුරෝපයේ "විප්ලවීය අර්බුදය උග්‍ර වේ" අයර්ලන්තයේ විප්ලවයක් මගින් ඉංග්‍රීසි අධිරාජ්‍යවාදී ධනපති පංතියට ගසන පහරක්, ආසියාවේදී හෝ අප්‍රිකාවේදී හෝ ගසන එවැනි සමාන පහරකට වඩා සිය ගුණයක් දේශපාලන වශයෙන් වැදගත් වන්නේය.

මෑතකදී ප්‍රංශ ජාතෝන්මාදවාදී පුවත්පත් වාර්තා කර ඇති පරිදි, නිදහස් බෙල්ජියම නැමැති නීති විරෝධී සඟරාවක අසූවැනි කලාපය බෙල්ජියමේ පළකර තිබෙන බවකි. ප්‍රංශයේ ජාතෝන්මාදවාදී පුවත්පත් නිතර පාහේ බොරු ප්‍රචාරය කරන බව සත්‍යයකි. එහෙත් මෙම පුවත සත්‍යයකට සමානය. ජාතෝන්මාදවාදී සහ කෞට්ස්කිවාදී ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය, යුද්ධයේ දෙවසරක කාලය තුළදී, යුද්ධ පුවත් පාලනයේ වියගහට යටත් පහත් ලෙස ගෙළ දී සිටින නමුදු, (පුවත් පාලනය තිබියදී කුඩා පොත් සහ ප්‍රකාශන වාමාංශික රැඩිකල් කොටස් විසින් පමණක් පළ කර ඇත්තාහ. එය ඔවුනට ගෞරවයකි) නොවූවිරූ කෲරත්වයක් දක්වන යුද්ධමය මර්දනයට ප්‍රතිචාරයක් දක්වමින්, පීඩිත සභ්‍ය ජාතියක් විප්ලවීය නිර්ධන පංතියේ පුවත් පතක් පටන් ගත්හ. ඉතිහාසයේ දයලෙක්තිකය නම් අධිරාජ්‍යවාදී අරගලයේ ස්වාධීන සාධකයක් ලෙස දුර්වල, කුඩා ජාතීන්, සැබෑ අධිරාජ්‍ය විරෝධී බලවේගය වන සමාජවාදී



නිර්ධන පංතියට කරලියට පිවිසීම පිණිස ආධාර වන කිණ්වයක් ලෙස නැතිනම් බැසිලසයක් ලෙස කාර්ය කොටසක් ඉටු කිරීමය.

වර්තමාන යුද්ධයේ අණදෙන සෙනෙවි මණ්ඩල සතුරු කඳවුරේ (සියලු වර්ගවලට අයත්) ජාතික හා විප්ලවවාදී ව්‍යාපාර ස්වකීය වාසිය සඳහා යොදවාගනු පිණිස හැම ප්‍රයත්නයක්ම දරති. ජර්මන්නු අයර්ලන්ත කැරැල්ලෙන් ප්‍රයෝජන ගනිති, ප්‍රංශුවෝ චෙක් ව්‍යාපාරයෙන් වාසි ලබා ගනිති, මේ ආදි වශයෙනි. ඔවුහු, ඔවු නොවුන්ගේ ස්ථාවරයන් අනුව නිවැරැදි ලෙස ක්‍රියා කරති. සතුරාගේ සෑම කුඩා දුබලකමකින් වුවද ප්‍රයෝජන නොගන්නේ නම්, ඉදිරිපත් වන සෑම අවස්ථාවෙකින්ම නිසි වාසි ලබා නොගන්නේ නම්, බැරෑරුම් යුද්ධයක්, බැරෑරුම් ලෙස නොසැලකීමක් වන්නේය. මෙය වඩාත් වැදගත් වන්නේ, කිනම් වෙඩි බෙහෙත් ගබඩාවක් පුපුරවනු ඇත්තේ කිනම් මොහොතකද, කොතැනදීද, කිනම් වේගයකින්ද යන්න කල් ඇතිව දැන ගැනීමට කිසිදු හැකියාවක් නොමැති මෙවැනි අවස්ථාවකය. නිර්ධන පංතිය සමාජවාදය සඳහා කරන මහා විමුක්තිකාමී යුද්ධයේදී අර්බුදය උත්සන්න කිරීම සහ ව්‍යාප්ත කිරීම පිණිස අධිරාජ්‍යවාදය ඉදිරිපත් කරන සෑම ඉමහත් විපතකටම විරුද්ධව සෑම පොදුජන ව්‍යාපාරයක්ම උපයෝගී කරගන්නේ කෙසේදැයි අපි නොදනිමු, අපි ඉතා නරක විප්ලවවාදීයෝ වම්හ. සෑම ආකාරයකම ජාතික පීඩනයට අපි විරුද්ධ වමුයි එක් අතකින් ප්‍රකාශ කිරීම සහ දහසක් මුවින් එය පුනරුච්චාරණය කිරීම කරන අතර අනිත් අතින්, පීඩිත ජාතියක සමහර පංතිවල ඉතා ගාමක සහ බුද්ධිමත් කොටස, එහි පීඩකයින්ට විරුද්ධව ගසන වීරෝදර කැරැල්ල "කොල්ලයක්" හැටියට විස්තර කරමු නම්, මුග්ධත්වය අතින් අපි කෞට්ස්කිවාදීන්ගේ මට්ටමට ඇද වැටෙමු.

යුරෝපීය නිර්ධන පංතියේ කැරැල්ල මුහුකුරා වැඩීමට පෙර, අයර්ලන්ත ජනතාව අකාලයේ නැගී සිටීම, ඔවුන්ගේ අවාසනාවකි. පසුබැසීම් හා පරාජයන් රහිතව, කැරැල්ලේ විවිධ මූලාශ්‍රයන් ඉබේටම එකට එක්වීමට තරම් සංගතයකින් යුතුව ධනපති ක්‍රමය සැදී නැත. අනිත් අතට, පොදු ව්‍යාපාරයේ ව්‍යාප්තියට හා ගැඹුරට සහතිකයක් වන්නේ විවිධ කාලීනත්වය, විවිධ ප්‍රදේශත්වය, සහ විවිධ වර්ගත්වය නිසාය. 1905 පොදු ප්‍රහාරය යම්, යම් වැඩ වර්ජන, පෙළපාලි, යුද්ධ හමුදාවේ නාගරික සහ ජාතික නැගිටීම්, ගොවි ජනතාවගේ කැරළි ආදියෙන් පිළියෙල වූ පරිදි පොදු ජනතාව අත්දැකීම් ලබාගන්නේත්, ස්වකීය සැබෑ නායකයන් එනම් සමාජවාදී නිර්ධන පංතිකයින් හඳුණාගන්නේත්, පොදු ප්‍රහාරයට මග සූදනම් කරගන්නේත් අකල්, තනි, සහ විරල, මේ හේතුව නිසාම අසාර්ථක විප්ලව තුළිනි.

## 11. සමාප්තිය

පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සාවද්‍ය ගර්විතයට ප්‍රතිපක්ෂව, නිදසුනක් වශයෙන්, ජනතාව සන්නද්ධ කිරීම, පල්ලිය රජයෙන් වෙන්කරලීම, සිවිල් සේවකයින් මහජනතාව විසින් තෝරාපත් කරලීම, සහ අවරසිකයින් විසින් ''මනෝරාජික යැයි'' කියන වෙනත් කරුණු වලටද වඩා වැඩි සේවයක් ජාතීන්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ ඉල්ලීම මගින් අප පක්ෂයේ උද්ඝෝෂණයෙහි සපුරා ඇත. එයට පටහැණිව, 1905 අනතුරුව ජාතික ව්‍යාපාරයන් ශක්තිමත්වීම නිසා අප පක්ෂයට වඩාත් උනන්දු සහගතව උද්ඝෝෂණය ගෙනයාමට ස්වාභාවික ලෙස සිදු විය 1912–1913 කාලයේදී ලිපි කීපයක්ම ලියා පළකිරීමත් සහ 1913 අප පක්ෂයේ යෝජනාව මගින්, මෙම ප්‍රශ්නයේ හරය පිළිබඳව නියත ''කෞට්ස්කි විරෝධී'' (එනම් වාචික ලෙස පිළිගැනීම පමණක් කොහෙත්ම නොඉවසන) අර්ථ නිරූපණයක් දීමද මෙයට ඇතුලත්ය.

නොසලකා හැරීමට නොහැකි සත්‍ය කරුණක් එතරම්ම ඇත කාලය-කදී හෙළි විය. විවිධ ජාතීන්ට අයත් අවස්ථාවාදීහු, උක්රේනියානු යුර්කේවිච්, බුන්ඩවාදී ලිබ්මාන්, පොත්රේසව් සහ සමාගමේ රුසියානු ගැත්තා වූ සෙම්කොව්ස්කි, යන මේ සියලු දෙනාම ස්වයං නිර්ණයනයට විරුද්ධව රෝසා ලුක්සම්බුර්ග්ගේ තර්ක වලට පක්ෂව කතා කළහ. පෝලන්-තයේ ව්‍යාපාරයේ විශේෂිත තත්ත්වයන්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී රෝසා ලුක්සම්බුර්ග් විසින් න්‍යායික වශයෙන් සාමාන්‍ය කරණයට භාජනය කරන විට කරනලද හුදු සාවද්‍යතාවය, එනම් කුඩා රාජ්‍යයක් වෙනුවට මහා රාජ්‍යයක් ලබා ගැනීමේ ද පටු පෝලන්ත පරිමාණය වෙනුවට, ජාත්‍යන්තර පරිමා-ණයක් මත යොදවීමේද තත්වයන් තුළ, වඩාත් විස්තීර්ණ ලෙස සැබවින්ම යොදවන විට, මහා රුසියානු අධිරාජ්‍යවාදයට වාස්තවික අවස්ථාවාදී ආධාරයක් බවට පත්විය. දේශපාලන චින්තනයේ (පුද්ගලයින්ගේ මත වලට වෙනස්ව) උපනතිවල ඉතිහාසය විසින් අපේ වැඩ පිළිවෙළේ නිරවද්‍යතාවය ඔප්පු කරන ලදී.

ලෙන්ච් වැනි විවෘත සමාජ-අධිරාජ්‍යවාදීන් තවමත් ස්වයං නිර්ණය-නයට විරුද්ධවත්, ඈඳා ගැනීම් හෙළාදැකීමට විරුද්ධවත් බෙරිහත් දෙයි. කෞට්ස්කිවාදීයෝ කුහක ලෙස ස්වයං නිර්ණයනය පිළිගනිති. රුසියාවේ ට්‍රොට්ස්කි හා මාර්තව්ද එම මගම යමින් සිටිති. මේ දෙදෙන කෞට්ස්කි මෙන්ම ස්වයං නිර්ණයනයට පක්ෂපාත බව කියති. එහෙත් ක්‍රියාවේදී සිදුවන්නේ මොනවාද? නාෂේ ස්ලොවො පුවත්පතෙහි, ට්‍රොට්ස්කි ලියූ 'ජාතිය හා ආර්ථිකය' නැමැති ලිපිය ගෙන බලමු. ඔහුට සුපුරුදු සාර සංග්‍රහවාදය එහිද ඇත: එක් අතකින් ආර්ථිකය ජාතියක්



එක්සත් කරයි, අනික් අතින් ජාතික පීඩනය එය විභේදනය කරයි. නිගමනය කුමක්ද? බලපාන කුහකත්වය හෙළිදරවූ නොකර එසේම තිබීම එහි නිගමනයය, උද්ඝෝෂණය අප්‍රාණිකය, එය ඉතා වැදගත්, මූලික, වෙසෙස් සහ ව්‍යවහාරය සමග සමීප ලෙස සම්බන්ධ වී තිබෙන දෙය වන — ''තමාගේ'' ජාතිය වෙනත් ජාතියක් පෑගීමේදී තමා දරන ආකල්පය ගැන කිසිවක් සඳහන් නොකරයි. මාර්තව් සහ වෙනත් විදේ-ශගත ලේකම්වරු, තම සගයා සහ සාමාජිකයකු වන සෙම්කොව්ස්කි ස්වයං නිර්ණයනයට විරුද්ධව ගෙනයන අරගලය අමතක කර දැමීමට කැමති වෙති. මෙය ලාභ ගෙන දෙන අමතක කිරීමකි. අධිරාජ්‍යවාදී යුද්ධයකදී එයට සහභාගිවීම අනිවාර්ය නොවේය යන තර්ක විරහිත සත්‍යය ගෙනහැර පාමින් මාර්තව් නීත්‍යානුකූල ග්වස්ද්යොව්වාදී නාෂ් ගෝලස්[117] පුවත්පත මගින් ස්වයං නිර්ණයනයට පක්ෂපාත විය. එහෙත් ඔහු ප්‍රධාන දෙය මග හැරියේය. ඔහු එය නීත්‍යානුකූල නිදහස් පුවත්වලින්ද මඟ හරියි. එය නම් වඩාත් ගොරහැඩි, මධ්‍ය කාලීන, ආර්ථික වශයෙන් නොදියුණු සහ යුද්ධමය නිලධාරිවාදී අධිරාජ්‍යවාදයක් සහිතව, ජාතීන් පීඩනයට හසුකිරීමේදී රුසියාව සාම කාලයේදී පවා ලෝක වාර්තාවක් පිහිටුවාලීමය. සාර්වාදය විසින් පීඩනයට හසු කරන ජාතීන් සතු ඉවත්වීමේ අයිතිය සඳහා සටන් නොකරන ප්ලෙහානව්, පොත්රේසව් සහ සමාගමේ මහත්වරුන් මෙන් ජාතීන් සතු ස්වයං නිර්ණයනය ''පිළිගන්නා'' සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියා ඇත්ත වශයෙන්ම අධිරාජ්‍ය වාදියකු සහ සාර්වාදයේ මෙහෙකරුවකු වන්නේය.

ට්‍රොට්ස්කි සහ මාර්තව්ගේ මනෝමූලික ''යහපත්'' ප්‍රාර්ථනයන් කුමක් වුවද, ඔවුන්ගේ මගහැරීම වාස්තවික වශයෙන්, රුසියන් සමාජ-අධිරාජ්‍යවාදයට ආධාර කිරීමකි. අධිරාජ්‍යවාදී යුගය විසින් සියලු ''මහා'' බලවතුන් ජාතීන් ගණනාවක්ම පීඩා කරන්නන් බවට පත් කරන ලදී. එමෙන්ම අධිරාජ්‍යවාදයේ වර්ධනය නිසා ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍ර-වාදයේද මෙම ප්‍රශ්නය පිළිබඳව ප්‍රවණතාවයන්ගේ වඩාත් නියත බෙදීම්-වලට අනිවාර්ය ලෙසම මග පාදනු ඇත.

1916 ජූලි මාසයේදී ලියන ලදී

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම30, පිටු 17–58

## සංස්කාරකගේ සටහන්

1 ලෙනින් මෙතැනදී අවධානය යොමු කරන්නේ ඔහු විසින් ලියන ලද, 1913 දී සැප්තැම්බර් 23 ද සිට ඔක්තෝබර් 1 ද දක්වා පොරොනින්හි (ක්‍රාකොව් නගරය අසල) පැවැත්වූ රු.ස.ප්‍ර.ක. පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ රැස්වීම විසින් සම්මත කරනු ලැබූ ජාතික ප්‍රශ්නය පිළිබඳ යෝජනාව ගැනය.

2 ස්ටාලින් විසින් 1912 අවසානයේදී — 1913 මුලදී ලියන ලද මාක්ස්වාදය හා ජාතික ප්‍රශ්නය පිළිබඳ ප්‍රශ්න ගැනය. ''ජාතික ප්‍රශ්නය සහ සමාජප්‍රජාතන්ත්‍රවාදය'' යන මැයෙන් මෙම ලිපිය ව්‍යානහි ''ප්‍රස්විශේනිය'' සඟරාවේ 1913 3, 4, 5, කලාපවල පළවිය.

3 ''ආර්ථිකවාදය'' — 19 වැනි සිය වසරේ අග භාගයේදී සහ 20 වැනි සිය වසරේ මුලදී රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ පැන නැගි අවස්ථාවාදී ප්‍රවණතාවයකි. සාර්වාදයට විරුද්ධව දේශපාලන අරගලය ප්‍රධාන වශයෙන් කළ යුත්තේ ධනපති පංතිය විසිනැයිද කම්කරු පංතිය ආර්ථික අරගලයට සීමාවෙමින් තම ශ්‍රම තත්ත්වයන් යහපත් කර ගැනීමට සහ වැටුප් වැඩි කර ගැනීම ආදිය සඳහා ක්‍රියා කළ යුතු යැයිද ''ආර්ථිකවාදීහු'' කල්පනා කළහ. පක්ෂයේ නායකත්වය කම්කරු පංති ව්‍යාපාරයේදී සහ විප්ලවවාදී න්‍යායයේ වැදගත් බව ප්‍රතික්ෂේප කරමින් කම්කරු පංති ව්‍යාපාරයට ඉබේටම දියුණු වීමට ඉඩ හළ යුතුයැයි ආර්ථිකවාදීහු කියා සිටියහ.

4 නීත්‍යානුකූල මාක්ස්වාදියෝ (ස්ත්‍රුවේවාදීන්) — සාර්වාදී ආණ්ඩුව විසින් අවසර දෙන ලද පුවත්පත් හා සඟරා මගින් මාක්ස්වාදය නැමැති නාමය යටතේ තම මත ප්‍රකාශ කළ ධනපති බුද්ධිමතුන් මෙනමින් හැඳින්විණි. මාක්ස්වාදය සහ කම්කරු පංතික ව්‍යාපාරය ධනපති අවශ්‍යතාවයන් සඳහා යොදවා ගැනීමට ඔවුහු ආයාස දැරූහ.

5 මෙන්ෂෙවිකයෝ (අල්පතරයෝ) — රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ අවස්ථාවාදී ප්‍රවණතාවයේ නියෝජිතයින්ය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේ සිට (1903 අගෝස්තු මාසය) ඔවුනට මේ නම ලැබුණේ පක්ෂයේ මධ්‍යම මණ්ඩලවලට නියෝජිතයින් තෝරාපත් කර ගැනීමේදී ඔවුන් අල්පතරයට වැටුණු බැවිනි. ලෙනින්ගේ නායකත්වය යටතේ විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු බහුතරය ලබා ගැනීම නිසා ඔවුන් බහුතරය යන අර්ථය ඇති බොල්ෂෙවිකයින් යන නමින් එතැන් සිට ප්‍රසිද්ධ වූහ. මෙන්ෂෙවික්වරු නිර්ධන පංතිය සහ ධනපති පංතිය අතර සම්මුතියක් ඇති කරලීමට උත්සාහ ගනිමින් කම්කරු පංති ව්‍යාපාරය තුළ අවස්ථාවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළහ.

6 ලික්විඩේටර්වරු — 1905-1907 රුසියානු විප්ලවය පරාජය වීමෙන් අනතුරුව, මෙන්ෂෙවිකයින් අතර (රු. ස. ප්‍ර. ක. පක්ෂයේ අවස්ථාවාදී අංශයේ) ව්‍යාප්ත වුණු ප්‍රවණතාවයක නියෝජිත වරුන්ය.

කම්කරු පංතියේ නීතිවිරෝධී විප්ලවවාදී පක්ෂය විසුරුවා හැරිය යුතු යැයි ලික්විඩේටර්වරු ඉල්ලා සිටියහ. සාර්වාදයට විරුද්ධව විප්ලවවාදී අරගල නවත්වන ලෙස කම්කරුවන්ගෙන් ඉල්ලා සිටි ලික්විඩේටර්වරු අපාක්ෂික ''කම්කරු සමුළුවක්'' කැඳවීමට අදහස් කළහ. එමගින් ඔවුන්ගේ බලාපොරොත්තුව වූයේ, අවස්ථාවාදී ''පුළුල් කම්කරු පක්ෂයක්'' ගොඩනැගීමය. මෙවැනි පක්ෂයක් විප්ලවවාදී සටන් පාඨ ප්‍රතික්ෂේප කොට, නීත්‍යානුකූල එනම් සාර්වාදී ආණ්ඩුව විසින් අවසර දෙන ක්‍රියාකාරීත්වයට පමණක් සීමාවී වැඩ කළ යුතු විය.

7 ඉස්ක්‍රා'' — සමස්ත රුසියානු නීතිවිරෝධී, මාක්ස්වාදී ප්‍රථම පුවත්පතය. මෙය 1900 දෙසැම්බර් මාසයේදී ලෙනින් විසින් ස්ථාපිත කරනු ලැබූ අතර පිටරට සිට රහසේ රුසියාවට ගෙනෙන ලදී. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් දෘෂ්ටිමය වශයෙන් ඒකරාශී කිරීමට සහ නොයෙක් පෙදෙස්වල විසිර සිටි කණ්ඩායම් විප්ලවීය මාක්ස්වාදී පක්ෂයක් තුළට ඒකරාශී කිරීමට ''ඉස්ක්‍රා'' පුවත්පත ඉමහත් සේවයක් කළේය.

මෙය පැරණි ඉස්ක්‍රාව ලෙස හැඳින්වූයේ, 1903 සිට 1905 දක්වා මෙන්ෂෙවික්වරුන්ද ''නව'' ඉස්ක්‍රාවක් පටන්ගත් බැවිනි.

8 බුන්ඩ් — ලිතුවේනියාවේ, පෝලන්තයේ හා රුසියාවේ සමස්ත යුදෙව් කම්කරු සංගමය එනමින් හැඳින්විණි. 1897 සංවිධාන කරන ලද මෙම සංගමය ප්‍රධාන වශයෙන් අර්ධ නිර්ධන පංතික යුදෙව් හස්ත කර්මාන්ත කරුවන්ගේ සංගමයක් විය. බුන්ඩ් රු. ස. ප්‍ර. ක. පක්ෂයට ඇතුළු වූයේ යුදෙව් නිර්ධන පංතිය පිළිබඳ ස්වාධීන තීරණ ගැනීමේ අයිතිය සතු ස්වෛරී සංවිධානයක් ලෙසිනි. යුදෙව් නිර්ධන පංතියේ එකම නියෝජිතයා හැටියට බුන්ඩ් සංවිධානය පිළිගත යුතුයැයි කළ ඉල්ලීම රු. ස. ප්‍ර. ක. පක්ෂයේ (1903) දෙවැනි සමුළුව විසින් ප්‍රතික්ෂේප කළ ඉක්බිතිව, එම සංවිධානය පක්ෂයෙන් ඉවත් විය. (නැවත 1906 දී පක්ෂයට ඇතුළු විය. රු. ස. ප්‍ර. ක. පක්ෂය තුළ බුන්ඩ්වාදියෝ හැමදම අවස්ථාවාදී අංශයට ආධාර කළහ. බුන්ඩ් සංවිධානය කම්කරු පංති ව්‍යාපාරය තුළ ජාතිවාදය හා විභේදනවාදයේ ධාරකයා විය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ ප්‍රාග් සාකච්ඡා සභාව (1912 ජනවාරි) විසින් බුන්ඩ්වරුන් පක්ෂයෙන් නෙරපා දමන ලදී. 1921 මාර්තු මාසයේදී බුන්ඩ් ස්වයං විසිරුවීමකට භාජනය විය.

9 සංස්කෘතික-ජාතික ස්වෛරීත්වය — 1890 ගණන් වලදී ඔස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වන ඕ. බවර් සහ කේ. රේන්නර් විසින් ජාතික ප්‍රශ්නය පිළිබඳව ඉදිරිපත් කරන ලද අවස්ථාවාදී වැඩ පිළිවෙළය. යම්කිසි රටක එකම ජාතියකට අයත් මිනිසුන් ඔවුන් පදිංචි වී සිටින ප්‍රදේශ නොතකා ස්වෛරී ජාතික සංගම් සෑදීමත්, පාසල් පරිපාලනය මේවාට භාරදීමත් (ජාතිය අනුව ළමයින් සඳහා පාසල් වෙන්කිරීම) සහ අධ්‍යාපනයේ හා සංස්කෘතියේ වෙනත් අංශද එලෙසම භාරදීමත් මෙම වැඩ පිළිවෙළේ හරය වන්නේය. මෙම වැඩ පිළිවෙළ ක්‍රියාවට යෙදවිණි නම්, එයින් පූජක පෙළැන්තියේ බලය සහ සෑම ජාතික කණ්ඩායමක් තුළම, ප්‍රතිගාමී ජාතික දෘෂ්ටිය ප්‍රබල වනු ඇත. මෙයින් කම්කරුවන් ජාතිය අනුව වෙන්වන නිසා කම්කරු පංති සංවිධාන ගොඩ නැගීමද අසීරු වනු ඇත.

සංස්කෘතික ජාතික ස්වෛරීත්වය පිළිබඳ උද්යෝග පාඨය ලෙනින් විසින් ඉතා දැඩි විවේචනයට පසු කරන ලදී.

10 කැඩේට්වරු — ව්‍යවස්ථාදයක-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සමාජිකයින් මෙනමින් හැඳින්විණි. එය රුසියාවේ ප්‍රධාන ලිබරල්-රාජාණ්ඩුවාදී ධනපති පක්ෂය විය. කැඩේට් පක්ෂය 1905 ඔක්තෝබර් මාසයේදී සාදන ලදී. එහි සාමාජිකයන් වූයේ ධනපතීන්ගේ, ඉඩම් හිමියන්ගේ සහ ධනපති බුද්ධිමතුන්ගේ නියෝජිතයින්ය. කැඩේට්වරුන් තම පක්ෂය හඳුන්වා ගත්තේ "ජනතා නිදහස් පක්ෂය" නමිනි. ඔවුහු ව්‍යවස්ථාදයක රාජාණ්ඩුවක් සඳහා ඉල්ලීම් ඉදිරිපත් කළා මිස ඉන් ඔබ්බට නොගියෝය.

11 සමාජවාදී-ප්‍රජාතන්ත්‍රවාදියෝ (එස්ආර්වරු) — 1901 අවසාන භාගයේදී සහ 1902 මුලදී ස්ථාපිත කරන ලද සුළු ධනපති ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයකි. ඉඩම් හිමියන්ගේ ඉඩම් අයිතිය අහෝසි කරන ලෙස ඉල්ලා සිටි එස්ආර්වරු සමාන ශ්‍රමය පදනම්කොට ගත් ඉඩම් බුක්තිය නැමැති උද්යෝග පාඨය ඉදිරිපත් කළහ. සාර්ගේ ඒකාධිපති පාලනයට විරුද්ධව ත්‍රස්තවාදී ක්‍රියා එස්ආර්වරු යෙදවූහ. 1905-1907 විප්ලවයෙන් අනතුරුව එස්ආර්වරුන්ගෙන් සැලෙන කොටසක් සහ නායකත්වය ධනපති ලිබරල්වාදී ස්ථාවරයක් අනුගමනය කළහ. 1917 පෙබරවාරි මාසයේදී ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය ඇතිවූ විට, එස්ආර් පක්ෂයේ නායකයෝ ධනපති තාවකාලික ආණ්ඩුවට ඇතුළු වී, ගොවි ව්‍යාපාරය මර්දනය කිරීමේ සහ සමාජවාදී විප්ලවයට සූදානම්වෙමින් සිටි කම්කරු පංතියට විරුද්ධව, ධනපතීන්ට සහ ඉඩම් හිමියන්ට පූර්ණ සහයෝගය දීමේ ප්‍රතිපත්තියක් අනුගමනය කළහ.

ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් අනතුරුව, එස්ආර්වරු, සෝවියට් ජනතාවට විරුද්ධව ධනපති ඉඩම්හිමි ප්‍රතිවිප්ලවීය අවිගත් සටන්වලට සහභාගී වූහ.

12 බර්න්ෂ්ටයින්වාදය — ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය තුළ මාක්ස්වාදයට විරුද්ධව පැන නැගි සතුරු ව්‍යාපාරයකි. 19 වැනි සිය වසර අවසානයේදී පැන නැගි මෙම ප්‍රවණතාවය ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී අවස්ථාවාදියකු වන එදුවාර්ද් බර්න්ෂ්ටයින්ගේ නමින් ප්‍රසිද්ධ විය. ෆ්‍රෙඩ්රික් එංගල්ස්ගේ අභාවයෙන් පසු බර්න්ෂ්ටයින් මාක්ස්ගේ විප්ලවවාදී උගැන්වීම් ධනපති ලිබරල්වාදී ජීව ගුණය අනුව ප්‍රතිසංශෝධනය කිරීම සඳහා විවෘත ලෙස ඉදිරිපත් විය (සමාජවාදයේ ගැටළු යන මැයෙන් ලිපි පෙළක් සහ සමාජවාදයේ පූර්වාවයන් සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ කාර්ය භාරයන් යන මැයෙන් ඔහු ලියූ පොතින්). ඔහු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය, සුළු ධනපති සමාජ-ප්‍රතිසංස්කරණවාදී පක්ෂයක් දක්වා පරිවර්තනය කිරීමට උත්සාහ ගත්තේය.

රුසියාවේ නීත්‍යානුකූල මාක්ස්වාදියෝද ආර්ථිකවාදියෝද, බුන්ඩ්වාදියෝද, මෙන්ෂෙවිකයෝද බර්න්ෂ්ටයින්ගේ අනුගාමිකයින් වූහ.

13 ''නෝවය රබෝචය ගසේත'' (''නව කම්කරු පුවත්පත'') — මෙන්-ෂෙවික්-ලික්විඩේටර්වරුන්ගේ දිනපතා පුවත්පතය. 1913 අගෝස්තු සිට 1914 ජනවාරි දක්වා පිටර්ස්බර්ග්හි පළවිය.

14 කළු ශතකය — විප්ලවවාදී ව්‍යාපාරයට විරුද්ධව සටන් කිරීම සඳහා සාර්ගේ පොලිසිය විසින් සාදන ලද රාජාණ්ඩුවාදී මැරවර කණ්ඩායම්ය. කළු ශතකයේ මැරවරයෝ විප්ලවවාදීන් මරා දැමූහ, ප්‍රගතිශීලී බුද්ධිමතුන්ට පහර දුන්හ, යුදෙව් සංහාරයන් ඇති කළහ.

15 ''සර්යා'' — මාක්ස්වාදී විද්‍යාත්මක දේශපාලන සඟරාවකි ''ඉස්ක්‍රා'' පුවත්පතේ කර්තෘ මණ්ඩලය විසින් ස්ටුට්ගාට්හි 1901-1902 වසරවලදී පළ කරන ලදී. පළවූයේ කලාප හතරක් (ග්‍රන්ථ තුනක්) පමණකි.

16 ප්‍රගතිවාදියෝ — රුසියානු ලිබරල්-රාජාණ්ඩුවාදී ධනපති පංතියේ දේශපාලන කණ්ඩායමකි. රාජ්‍ය දූමා සභාවට පැවැත්වූ මැතිවරණවලදීත්, දූමා සභාව තුළත්, විවිධ ධනපති-ඉඩම්හිමි පක්ෂ හා කණ්ඩායම්වලට අයත් කොටස් අපාක්ෂික ලේබලය යටතේ එක්සත් කිරීමට ප්‍රගතිවාදියෝ උත්සාහ දැරූහ.

1912 නොවැම්බර් මාසයේදී ප්‍රගතිවාදීහු දේශපාලන පක්ෂයක් සාදා මෙවැනි වැඩපිළිවෙළක් ඉදිරි පත් කළහ. මධ්‍යම ප්‍රතිපදාව සහිත පාලන මණ්ඩල දෙකකින් යුත් ප්‍රජාතන්ත්‍ර විරෝධී චන්ද ක්‍රමයක් ඇති ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථාවක්ද, නොවැදගත් ප්‍රතිසංස්කරණද, ආණ්ඩුව දූමා සභාවට වගකීමද, විප්ලවවාදී ව්‍යාපාරය මර්දනය කිරීමද එම වැඩ පිළිවෙළට අයත්විය.

17 ජාතික ප්‍රශ්නය ගැන විවේචනාත්මක සටහන් නැමැති ලිපිය ලෙනින් විසින් 1913 ඔක්තෝබර්-නොවැම්බර් මාසවලදී ලියනලදී. නීත්‍යානුකූල බොල්ෂෙවික් සඟරාව වන ප්‍රොස්විශේනියේහි කලාප 10, 11 සහ 12 එය පළවිය.

මේ ලිපිවලට පෙර, ලෙනින් 1913 ගිම්හානයේදී ස්විට්සර්ලන්තයේ නගර කීපයකම එනම් සූරික්, ජිනීවා, ලොසාන්නා සහ බර්න්හි දේශන කීපයක්ම පැවැත්වීය.

1913 සරත් සමයේදී පොරොනින්හි පවත්වන ලද රු. ස. ප්‍ර. ක. පක්ෂයේ මධ්‍යම කාරක සභා රැස්වීමේදී පක්ෂයේ ප්‍රධාන කාඩර්ස්වරුන් ඉදිරිපිට මේ ප්‍රශ්නය ගැන දීර්ඝ දේශනයක් කළේය. රැස්වීමෙන් අනතුරුව ලෙනින්, ජාතික ප්‍රශ්නය ගැන විවේචනාත්මක සටහන් නැමැති ලිපි ලිවීමට පටන් ගත්තේය.



18 ''සේවෙර්නයා ප්‍රාව්ද'' නීත්‍යානුකූල බොල්ෂෙවික්වාදී පුවත්පත වන ''ප්‍රාව්ද'' හි එක් නමකි. (43 සටහන බලන්න) 1913 අගෝස්තු 1 ද සිට සැප්තැම්බර් 7 ද දක්වා එනමින් පුවත්පත පළවිය.

19 ''ට්සයිට්'' (''කාලය'') — බුන්ඩ් සංවිධානයේ දින පතා පුවත්පතය. 1912 දෙසැම්බර් සිට 1914 මැයි දක්වා පිටර්ස්බර්ග්හි යුදෙව් බසින් මේ පුවත්පත පළවිය.

20 ''ද්ස්වින්'' — (''සන්ටාරය'') මෙන්ෂෙවික්වාදී ජාතික නීත්‍යානුකූල මාසිකයකි. 1913 ජනවාරි සිට 1914 මැද හරිය දක්වා කියෙව් නගරයෙහි උක්රයින බසින් පළවිය.

21 රුස්කොයෙ ස්ලොවො — 1895 සිට 1918 දක්වා මොස්කව්හි පළවුණු දිනපතා පුවත්පතකි. මෙය නාමික වශයෙන් අපාක්ෂික වුවද රුසියානු ධනපති පංතියේ සහ මධ්‍යම ලිබරල්වාදී ස්ථාවරයේ අයිතිය ආරක්ෂා කළේය.

22 සෙම්ස්ත්වො — 1864 සිට ක්‍රියාවට යොදවන ලද, සාර් රුසියාවේ මධ්‍යම ගුබේර්නියාවල ප්‍රභූ පෙළැන්තියේ නායකත්වය යටතේ පැවැති ඊනියා ස්වයං පාලනය මෙනමින් හැඳින්විණි. මේ පාලනය ප්‍රාදේශීය ආර්ථික ප්‍රශ්නවලට පමණක් සීමාවී තිබිණි (රෝහල් තැනීම, මාර්ග සෑදීම, සංඛ්‍යාත එකතු කිරීම, සංරක්ෂණය ආදිය). මෙම ක්‍රියාවන් ආණ්ඩු කාරයින්ගේ සහ ස්වදේශීය අමාත්‍යාංශයේ පාලනය යටතේ කෙරිණි.

23 ජනාවාස සීමාව — යුදෙව්වන්ගේ නීත්‍ය පදිංචිය සඳහා සාර් රුසියාව විසින් වෙන්කළ ප්‍රදේශයක් මෙනමින් හැඳින්විණි.

24 ප්‍රතිශත ප්‍රමිතය — සාර් රුසියාවේ රජයේ සේවයටද, ආණ්ඩුවේ උසස් හා මධ්‍යම අධ්‍යාපන ආයතනවලටද බඳවා ගනු ලබන යුදෙව්වන්ගේ ප්‍රමාණය මෙයින් සීමා කෙරිණි.

25 සෙර්ප් (සමාජවාදී යුදෙව් කම්කරු පක්ෂය) — 1906 දී සංවිධානය කරන ලද සුළු ධනපති ජාතිකවාදී පක්ෂයකි. යුදෙව්වන් සඳහා ස්වෛරී ජාතික පෙදෙසක්ද, රුසියාවේ ජීවත්වන යුදෙව්වන්ගේ දේශපාලන ව්‍යුහය පිළිබඳව තීරණය ගැනීමට බලය ඇති අධි භෞමික යුදෙව් පාර්ලිමේන්තුවක්ද ඉල්ලා සිටීම සෙර්ප් පක්ෂයේ වැඩපිළිවෙළට අයත් විය. සෙර්ප් පක්ෂය එස්ඊර්වරුන්ට සමීප වූ අතර රු. ස. ප්‍ර. ක. පක්ෂයට විරුද්ධව සටන් කළේය.

26 බෙයිලිස් සිද්ධිය — යුදෙව් ජාතික බෙයිලිස්ට විරුද්ධව 1913 දී සාර් ආණ්ඩුව විසින් කීව් නගරයේදී සංවිධානය කරන ලද ප්‍රකෝපකාරී නඩු විභාගය ය. යුදෙව් ආගමික පූද පූජා පැවැත්වීම සඳහා බෙයිලිස් ක්‍රිස්තු භක්තික යුෂින්ස්කි නැමැති පිරිමි ළමයාව මරා දැමී යැයි ඔහුට විරුද්ධව බොරු චෝදනා එල්ල කොට තිබිණි. (එහෙත් ඇත්ත වශයෙන් ඔහු මරා දමන ලද්දේ කළු ශතකය විසිනි). මෙම නඩු විභාගය ස්වකීය වාසියට හරවා ගනිමින් සාර් ආණ්ඩුව, යුදෙව් විරෝධී ව්‍යාපාරය උග්‍ර කොට රට පුරා නැගී එන විප්ලවවාදී ව්‍යාපාරය වෙනත් අතකට හරවා, යුදෙව් සංහාරයක් ඇති කිරීමට කටයුතු කළේය. මෙම නඩු විභාගයට විරුද්ධව රට පුරා විරුද්ධත්වය ප්‍රකාශ කැරිණි. නගර කීපයකම කම්කරුවෝ නඩු විභාගයට විරුද්ධව පෙළපාලි දැක්වූහ. අධිකරණය විසින් බෙයිලිස් නිදහස් කරන ලදී.

27 එස්ආර් — (11 වැනි සටහන් බලන්න.
පි. පි. එස්. — පෝලන්ත සමාජවාදී පක්ෂය (Polska Partia Socjalistyczna) මෙනමින් හැඳින්විණි. ප්‍රතිසංස්කරණවාදී ජාතික පක්ෂයක් වූ මෙය 1892 පිහිටුවන ලද්දකි.

1906 දී මෙම පක්ෂය පි. පි. එස්. වාමාංශය සහ පි. පි. එස්. දක්ෂිණාංශය (ජාත්‍යොන්මාදවාදී හෙවත් ෂෝවින්වාදී) යන කොටස්වලට බෙදිණි.

පළමුවැනි ලෝක මහා යුද්ධයේදී (1914-1918) පි. පි. එස්. පක්ෂයේ වාමාංශිකයින්ගෙන් වැඩි දෙනෙක් ජාත්‍යන්තරවාදී ස්ථාවරයක් ගත්හ. 1918 දී මේ කොටස පෝලන්තයේ රාජධානියට හා ලිතුවේනියාවට අයත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සමග එක් විය. මෙලෙස එක්සත් වුණු පක්ෂය විසින් පෝලන්ත කොමියුනිස්ට් කම්කරු පක්ෂය සැදිණි. (1925 වන තුරු පෝලන්ත කොමියුනිස්ට් පක්ෂය මෙනමින් පෙනී සිටියේය).

පළමුවැනි ලෝක මහා යුද්ධ කාලයේදී පි. පි. එස්. — දක්ෂිණාංශය ජාත්‍යොන්මාදවාදය වැළඳ ගත්තේය.

28 ''ලුච්'' — මෙන්ෂෙවික් හා ලික්විඩේටර්වරුන්ගේ නීත්‍යානුකූල දිනපතා පුවත්පතය. 1912 සැප්තැම්බර් සිට 1913 ජූලි මස දක්වා පීටර්ස්බර්ග්හි පළකැරිණි.

29 12 වැනි සටහන බලන්න.

30 ලෙනින්, ඉ. වි. ස්ටාලින් විසින් ලියන ලද මාක්ස්වාදය හා ජාතික ප්‍රශ්නය යන ලිපියෙන් උපුටා දක්වයි. මේ ලිපිය ජාතික ප්‍රශ්නය හා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය යන මැයෙන් 1913 දී ''ප්‍රස්විශේනිය'' සහරාවෙහි 3, 4, 5 කලාපවල පළවිය. මේ ලිපියේ හතරවැනි පරිච්ඡේදයෙහි ඔස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ බෲයුන් සමුළුවේදී සම්මතවූ ජාතික වැඩ පිළිවෙළේ පාඨය උපුටා ඇත.



31 13 සහ 19 සටහන් බලන්න.

32 10 සටහන බලන්න.

33 Przegląd Socjaldemo[redacted]yczny (සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී විමර්ශනය) — රෝසා ලුක්සම්බුර්ග්ගේ කිට්ටු සහාය ඇතිව ක්‍රාකොව්හි 1902-1904 සහ 1908-1910 කාලවලදී පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් විසින් මුද්‍රණය කරන ලද සහරාවකි.

34 වෙස්ත්නික් යෙව්රෝපි — 1886 සිට 1918 දක්වා පීටර්ස්බර්ග් නගරයේ පළවුණු මාසික සහරාවකි. මෙය රුසියානු ලිබරල් ධනපති පංතියේ මතය ප්‍රකාශ කළේය. 1890 මුල් භාගයේ සිට මාක්ස්වාදයට විරුද්ධව ක්‍රමානුකූල සටනක් ගෙනගියේය.

35 1903 පක්ෂයේ දෙවැනි සමුළුවේදී සම්මත කරගත් රුසියන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ වැඩ පිළිවෙළ ගැනය.

36 "Die Neue Zeit" (නව කාලය) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ න්‍යායික සහරාවය. 1883 සිට 1923 දක්වා ස්ටුට්ගාට්හි පළවිය.

37 ''නවූච්නය මීස්ල්'' — 1908 දී රිගාහි පළවුණු මෙම සහරාව මෙන්ෂෙවික් ප්‍රවණතාවයක් දැරීය.

38 ''රුස්කය මීස්ල්'' — 1880 සිට 1918 දක්වා මොස්කව්හි පළවූ සාහිත්‍ය දේශපාලන මාසික සහරාවකි. 1905 ට පෙර ලිබරල් නරෝද්නික්වාදී ප්‍රවණතාවයක් දැරීය. 1905 විප්ලවයෙන් අනතුරුව කැඩෙට් පක්ෂයේ දක්ෂිණාංශයේ නිල සහරාව බවට පත්විය.

39 එක්සත් කුලීන පැලැන්තියේ මණ්ඩලය ගැනය සඳහන් කරන්නේ. රදළ ප්‍රවේණිදාස ඉඩම් හිමියන්ගේ ප්‍රතිවිප්ලවවාදී සංවිධානයක් වූ මෙය 1906 මැයි මාසයේදී පිහිටුවන ලදී. 1917 ඔක්තෝබර් මාසය වන තෙක් පැවතිණි. ප්‍රධාන අරමුණ වූයේ සාර්ගේ ඒකාධිපති පාලනයත්, විශාල ඉඩම් හිමියන්ගේ සහ රදළ පෙලැන්තියේ වරප්‍රසාදත් ආරක්ෂා කිරීමය.

40 මෙය 1907 ජූනි මස 3(16) ද ඇතිවූ රාජ්‍ය කැරැල්ල ගැනය. ප්‍රතිගාමී කැරැල්ලක් වූ මෙයින් දෙවැනි රාජ්‍ය දූමා සභාව පළවා හැරීම සහ

එම සභාවට මන්ත්‍රීන් තෝරාගැනීමේ නීතිය වෙනස් කිරීම පිණිස ආණ්ඩුව ක්‍රියා කිරීම ප්‍රකාශවිණි. අළුත් මැතිවරණ නීතිය අනුව දූමා සභාවේ ඉඩම් හිමියන්ගේ සහ වාණිජ-කර්මාන්ත ධනපති පංතියේ නියෝජිතත්වය තවත් වැඩි කළ අතර ගොවි සහ කම්කරු නියෝජිතයින්ගේ අල්ප සංඛ්‍යාව තවත් අඩු කලේය. මේ නව නීතිය අනුව ආසියානු රුසියාවේ ජනතාවට එකද නියෝජිතයකුවත් තෝරාපත් කිරීමට බලය නොලැබුණු අතර පෝලන්තයේ හා කොකේසියාවේ නියෝජිත සංඛ්‍යාව දෙගුණයකින් අඩු කලේය. මේ නව නීතිය අනුව 1907 තෝරාපත් කරන ලද තෙවැනි දූමාව කළු ශතක කැඩෙට්-වාදීන්ගෙන් යුක්ත විය.

41 ඔක්තෝබර්වාදියෝ නැතිනම් ඔක්තෝබර් 17 සංගමය — 1905 ඔක්තෝබර් මාසයේදී ස්ථාපිත කරන ලද විශාල ධනපතීන්ගේ රාජාණ්ඩුවාදී පක්ෂය මෙනමින් හැඳින්විණි. 1905 ඔක්තෝබර් 17 ද රුසියාවේ ජනතාවට ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථාවක් මගින් නිදහස ලබා දෙන බවට පොරොන්දු වෙමින් සාර් නිකුත් කළ අධි ප්‍රකාශනයට සහයෝගතාවය දැක්වීම් වස් පක්ෂය මෙනමින් හැඳින්විණි. ඔක්තෝබර්වාදී පක්ෂයේ ක්‍රියා කලාපය ජනතාවට සතුරු විය, මහා ධනවතුන්ගේ සහ ධනවාදී ඉඩම් හිමියන්ගේ ආත්මාර්ථකාමී අයිතිවාසිකම් ආරක්ෂා කිරීම මෙම පක්ෂයේ අරමුණ විය.

42 අංක 10, 16 සටහන් බලන්න.

43 ''ප්‍රාව්ද'' — 1912 අප්‍රෙල් 22 (මැයි 5) ද සිට පළවන බොල්ෂෙවික්වාදී දිනපතා පුවත්පතය. ''ප්‍රාව්ද'' පුවත්පත සාර් පොලීසියේ නිත්‍ය හිංසාවලට ලක්විය. සාර් ආණ්ඩුව විසින් මෙම පුවත්පත අට වරක් තහනම් කරන ලදී. එහෙත් එය නොයෙකුත් නම්වලින් පළවිය: ''රබෝචය ප්‍රාව්ද'', ''සෙවෙර්නය ප්‍රාව්ද'', ''ප්‍රාව්ද ත්‍රුද'', ''ප්‍රොලිතාර්ස්කය ප්‍රාව්ද'' ආදී වශයෙනි. ඔක්තෝබර් සමාජවාදී මහා විප්ලවයට පසු, 1917 ඔක්තෝබර් 27 (නොවැම්බර් 9) ද සිට, පක්ෂයේ මධ්‍යම පුවත්පත සිය පැරණි නමින්, ''ප්‍රාව්ද'' හැටියට පළවීමට පටන්ගති.

44 ''රේච්'' — 1906 සිට 1917 දක්වා පිටර්ස්බර්ග්හි පිටවුණු කැඩෙට් පක්ෂයේ මධ්‍යම දිනපතා පුවත්පත මෙනමින් හැඳින්විණි.

45 1913 ජූනි 19-22 (ජූලි 2-5) දිනයන්හි ල්වොව් නගරයේ පවත්වන ලද ශිෂ්‍යයින්ගේ සමස්ත උක්රයින දෙවැනි සමුළුව ගැනය. උක්රයිනයේ ගත්කරුවකු, විද්‍යාඥයකු සහ සමාජ සේවක ඉවාන් ෆ්‍රන්කෝගේ ජයන්තිය නිමිත්තෙන් මෙම සමුළුව පැවැත්විණි. මෙහිදී කතාකළ උක්රයින සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දන්ත්සොව් උක්රයිනයට ස්වාධීනත්වය ඉල්ලීමේ උද්යෝග පාඨය ඉදිරිපත් කළේය.

46 ශ්ල්‍යාහි (පුතී) — උක්රයින ශිෂ්‍ය සංගමයේ සඟරාවය. ජාතිකවාදී ප්‍රවණතාවයක් දැරූ මෙය 1913 අප්‍රෙල් සිට 1914 මාර්තු දක්වා ල්වොව්හි පළකැරිණි.

47 ''නෝවයේ ව්රේමියා'' — 1868-1917 දක්වා පිටර්ස්බර්ග්හි පළවූ දිනපතා පුවත්පතකි. එය මුලදී මධ්‍යම ලිබරල්වාදී විය. 1876 සිට ප්‍රතිගාමී රදළ පෙලැන්තියේ සහ නිලධාරී කවයන්ගේ පුවත්පත බවට පත්විය.

සෙම්ෂින — කළු ශතකයේ දිනපතා පුවත්පතය. එමෙන්ම රාජ්‍ය දූමා සභාවේ දක්ෂිණාංශයේ මධ්‍යම පුවත්පතය. 1909 ජූනි මාසයේ සිට 1917 පෙබ්‍රවාරි දක්වා පිටර්ස්බර්ග්හි පළවිය.

48 පොලීසියේ අපරාධ විස්තර කැරෙන ප්‍රකාශයකි. රුසියානු ගත්කරු ග්ලෙබ් උස්පෙන්ස්කිගේ ''බුද්කා'' නව කතාවෙන් උපුටාගත්තකි.

49 ''කීයෙව්ස්කය මීස්ල්'' — 1906 සිට 1918 දක්වා කීයෙව්හි මුද්‍රණය කරන ලද ධනපති ලිබරල්වාදී දිනපතා පුවත්පතකි.

50 ලෙනින් මෙහිදී උපුටා දක්වන්නේ රුසියානු ගත්කරු ඒ. එස්. ග්‍රිබයේදව්ගේ බුද්ධියෙන් වන විපත නැමැති නාට්‍යයේ ප්‍රකාශිතයකි.

51 1905-1907 රුසියාවේ ඇතිවූ ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය ගැනය.

52 ''නප්ෂූඩ්'' „Naprzód„ (පෙරටුව) — ගලීසියාවේ හා සිලේසියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ මධ්‍යම පුවත්පතය. 1892 සිට ක්‍රාකොව්හි පළවිය. සුළු ධනවාදී සහ ජාතිකවාදී අදහස් මෙම පුවත්පත ප්‍රකාශ කළේය.

53 මෙම සඳහන 1896 පවත්වන ලද දෙවැනි ජාත්‍යන්තරයේ සාකච්ඡා සම්මේලනය ගැනය. දෙවැනි ජාත්‍යන්තරය — සමාජවාදී පක්ෂවල ජාත්‍යන්තර සංගමය. මෙය 1889 දී පිහිටුවන ලද්දකි. 1914-1918 ලෝක අධිරාජ්‍යවාදී යුද්ධය පටන් ගත් විට, දෙවැනි ජාත්‍යන්තරයේ නායකයෝ සමාජවාදය පාවාදී, තම තමන්ගේ අධිරාජ්‍යවාදී ආණ්ඩුවල පැත්ත ගත්හ. ඒ නිසා දෙවැනි ජාත්‍යන්තරය බිඳ වැටිණි. දෙවැනි ජාත්‍යන්තරයට සම්බන්ධව සිටි වාමාංශික පක්ෂ සහ කණ්ඩායම්

1919 දී, මොස්කව්හිදී පිහිටුවන ලද කොමියුනිස්ට් (තෙවැනි) ජාත්‍යන්තරයට බැඳුණහ. 1919 දී ස්විට්සර්ලන්තයේ බර්න්හි දෙවැනි ජාත්‍යන්තරය යළි ආරම්භ කරනලදී. සමාජවාදී ව්‍යාපාරයේ දක්ෂිණාංශ, අවස්ථාවාදී අංශය නියෝජනය කළ පක්ෂ මෙයට බැඳුණහ.

54 1861 දී රුසියාවේ ප්‍රවේණිදාස ක්‍රමය අහෝසි කිරීම ගැනය.

55 මාක්ස් අරහයා වි. ලීබ්ක්නෙෂ්ට්ගේ මතක සටහන් ගැනය ලෙනින් සඳහන් කරන්නේ.

56 චාටිස්ට්වාදය — 1830-1840 ගණන්වලදී එංගලන්ත කම්කරු පංතියේ ඉතිහාසයේ පළමුවැනි වරට පැන නැගි පොදුජන ව්‍යාපාරය මෙනමින් හැඳින්විණි. ජනතා ප්‍රඥප්තිය (Charter නැමැති වචනයෙන් චාටිස්ට් වචනය බිඳිණි) ප්‍රසිද්ධ කළ මෙම ව්‍යාපාරය සර්වජන චන්දය සඳහාත්, පාර්ලිමේන්තු මන්ත්‍රී වරයකුට තිබිය යුතු ඉඩම් අයිතිය අහෝසි කරන ලෙසත්, ඉල්ලමින් සටන් කළේය. මේ ව්‍යාපාරය වසර කීපයක් තිස්සේ රැස්වීම් සහ පෙළපාලි පැවැත්වීය. මේවාට දස ලක්ෂ සංඛ්‍යාත කම්කරුවෝ සහ හස්ත කර්මාන්තකරුවෝ සහභාගි වූහ.

එංගලන්ත පාර්ලිමේන්තුව ජනතා ප්‍රඥප්තිය නීතිගත කිරීම සහ සියලු පෙත්සම් ඉවත ලෑවේය. ආණ්ඩුව චාටිස්ට් ව්‍යාපාරයට පහර දෙමින් එහි නායකයින් සිරභාරයට ගත්තේය. එහෙත් ඉන් අනතුරුව ජාත්‍යන්තර කම්කරු පංතික ව්‍යාපාරයේ වර්ධනය සඳහා චාටිස්ට් ව්‍යාපාරය විශාල වශයෙන් බලපෑවේය.

57 පළමුවැනි ජාත්‍යන්තරය — (ජාත්‍යන්තර කම්කරු සහෝදරත්වය) 1864 දී ලන්ඩන්හි පවත්වන ලද ජාත්‍යන්තර කම්කරු රැස්වීමේදී කාල් මාක්ස් විසින් ස්ථාපිත කරන ලද ජාත්‍යන්තර නිර්ධන පංතික ප්‍රථම සංවිධානය මෙනමින් හැඳින්විණි. මෙය කැඳවන ලද්දේ ඉංග්‍රීසි හා ප්‍රංශ කම්කරුවන් විසිනි. පළමුවැනි ජාත්‍යන්තරයේ මධ්‍යම නායක සංවිධානය ජාත්‍යන්තර කම්කරු සංවිධානයේ ප්‍රධාන මණ්ඩලය නමින් ප්‍රකට විය. මාක්ස් මෙහි යාව ජීව සාමාජිකයකු විය.

පළමුවැනි ජාත්‍යන්තරය විවිධ රටවල කම්කරුවන්ගේ ආර්ථික සහ දේශපාලන සටන් මෙහෙයවමින් ඔවුන්ගේ ජාත්‍යන්තර සහයෝගතාවය ශක්තිමත් කළේය. මාක්ස්වාදය පතුරුවා හැරීමේදීත් කම්කරු පංති ව්‍යාපාරය සමග සමාජවාදය එක් කිරීමේදීත් පළමුවැනි ජාත්‍යන්තරය විශාල සේවයක් ඉටු කළේය.



58 ''ටයිම්ස්'' "The Times" (''කාලය'') — 1785 දී ලන්ඩන්හි ආරම්භ කළ දිනපතා පුවත්පතකි. මෙය බ්‍රිතාන්‍ය ධනපති පංතියේ කොන්සර්වේටිව්වාදී ප්‍රධාන පුවත්පතකි.

59 ෆේනීදයන්වාදය — අයර්ලන්තයේ බ්‍රිතාන්‍ය පාලනය පෙරළා දැමීම පිණිස 1867 දී කැරළි ගැසූ විප්ලවවාදී රහස් සංවිධානයේ සාමාජිකයින් ෆේනියන් නැමති නමින් හැඳින්විණි. කැරැල්ල මර්දනය කළ බ්‍රිතාන්‍ය ආණ්ඩුව එහි බොහෝ නායකයින් සිරභාරයට ගෙන අධිකරණය ඉදිරියට පමුණුවාලීය.

60 එංගලන්ත පාර්ලිමේන්තුව 1782 දී මහජන බලපෑම යටතේ, අයර්ලන්තයට බලපාන පනත් පිළිගැනීමේ අයිතිය එංගලන්ත පාර්ලිමේන්තුවෙන් ඉවත්කොට, එය අයර්ලන්ත පාර්ලිමේන්තුවට පැවරීය. මෙම පනත 1783 දී යළිත් වරක් එංගලන්ත පාර්ලිමේන්තුව විසින් සම්මත කරන ලදී. මේ අනුව ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථා පැනවීමේ ක්ෂේත්‍රයේ ස්වෛරීත්වයක් අයර්ලන්තයට ලබාදීමක් විය. එහෙත් 1798 දී අයර්ලන්ත ජාතික විමුක්ති කැරැල්ල පාගාදැමීමෙන් අනතුරුව, එංගලන්ත ආණ්ඩුව එම අයිතිය නිෂ්ප්‍රභ කොට, අයර්ලන්තයට ඇන්ග්ලෝ-අයර්ලන්ත සංගමයක් පැනවීය. මෙම සංගමය 1801 ජනවාරි 1 ද සිට ක්‍රියාවේ යෙදිණි. මෙයින් අයර්ලන්ත ස්වෛරීත්වයේ අවසාන පා සටහන් මැකී ගිය අතර අයර්ලන්ත පාර්ලිමේන්තුවද විසුරුවා හරින ලදී.

61 1869 ගිම්හානයේදී සහ සරත් සමයේදී ෆේනින් වරුන්ට සමාව ලබා දීම සඳහා පුළුල් ව්‍යාපාරයක් ආරම්භ විය. විශාල රැස්වීම්වලදී අයර්ලන්ත විප්ලවවාදීන්ට නිදහස දෙන ලෙස ඉල්ලා සිටින පෙත්සම් ව්‍යාපාරයක් ආරම්භ විය. අයර්ලන්ත අගමැති ග්ලැඩ්ස්ටන් අයර්ලන්ත ජනතාවගේ ඉල්ලීම ප්‍රතික්ෂේප කළේය. මේ නිසා ලන්ඩන් නගරයේ පෙළපාලි ඇති විය.

1869 නොවැම්බර් 9 ද පළමුවැනි ජාත්‍යන්තරයේ ප්‍රධාන මණ්ඩලය මාක්ස්ගේ යෝජනාවක් අනුව අයර්ලන්ත සිරකරුවන් කෙරෙහි බ්‍රිතාන්‍ය ආණ්ඩුව දක්වන ආකල්පය ගැනත්, අයර්ලන්ත ප්‍රශ්නය ගැන ඉංග්‍රිසි කම්කරු පංතියේ ආකල්පය ගැනත්, සාකච්ඡාවක් ඇතිකිරීමට තීරණය කළේය. මෙම සාකච්ඡාවේ ප්‍රතිඵලයක් වශයෙන් මාක්ස් විසින් ඉදිරිපත් කරන ලද යෝජනාව සම්මත විය.

62 ඕල්ස්ටර් — අධිකතර ඉංග්‍රිසි ජනගහනයක් වාසය කරන අයර්ලන්තයේ ඊසාන දිග කොටසකි.

63 15 වැනි සටහන බලන්න.

64 1902 දී ''ඊස්ක්‍රා'', අංක 4 කලාපයේ පළවුණු ප්ලෙහානව්ගේ ලිපිය වන රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ කෙටුම්පත් වැඩ පිළිවෙළ, ලෙනින් උපුටා දක්වයි.

65 ''බර්බා'' — 1914 පෙබ්‍රවාරි සිට ජූලි මස දක්වා පිටර්ස්බර්ග්හි මුද්‍රණය කරන ලද ට්‍රොට්ස්කිගේ සඟරාවය. ''කවටි නොගැසීම'' නැමැති කඩතුරාවට මුවා වෙමින් ට්‍රොට්ස්කි සඟරාව මගින් ලෙනින්ට සහ බොල්ෂෙවික් පක්ෂයට විරුද්ධ සටනක් ගෙන ගියේය.

66 රුසියානු ගත්කරු එම්. ඉ. සල්තිකොව්-ෂෙද්‍රින්ගේ සාහිත්‍ය කෘතියක් වන පිටරට නැමැති ලිපිවලින් උපුටාගත් බස් වරහකි.

67 බුර්සාක්වරු — බුර්සාක් නමින් හැඳින්වුණු පූජක නේවාසිකාගාරවල වාසය කළ පූජක ශිෂ්‍යයින් මෙනමින් හැඳින්විණි. ඔවුන්ගේ ජීවන පරිචය එන්. එන්. පමියලොව්ස්කිගේ ''සෙමනැරි සටහන්'' නැමැති පොතේ සඳහන් වෙයි.

68 ක්‍රිමියාවේ යුද්ධ සමයේදී 1855 අගෝස්තු 4 ද චෝර්නය නදියේ සංග්‍රාමය අරභයා සෙවස්තෝපල් සෙබළුන් ගැයූ ගීතයක වචන ලෙනින් උපුටා දක්වයි. මේ ගීතයේ කතුවරයා රුසියානු මහා ගත්කරු ලෙව් තොල්ස්තොයි ය.

69 දූමා — රාජ්‍ය දූමා සභාව — 1905-1907 වසරවල විප්ලවයේ ප්‍රතිඵලයක් වශයෙන් සාර් රුසියාවේ ඇතිවුණු නියෝජිත මන්ත්‍රණ සභාවය. රූපික වශයෙන් එය ව්‍යවස්ථාදායක මන්ත්‍රණ සභාවක් වුවද, ඇත්ත වශයෙන් එයට කිසිම දේශපාලන බලයක් නොමැති විය. දූමා මන්ත්‍රණ සභාවට නියෝජිතයින් තෝරා පත් කරන ලද්දේ ඍජු, සමාන, පූර්ණ සර්වජන ඡන්දය අනුව නොවේ. වැඩකරන ජනතාවගේ සහ රුසියානු නොවන ජාතීන්ගේ ඡන්ද බලය විශාල වශයෙන් කපා හරින ලදී. කම්කරුවන්ගේ හා ගොවීන්ගේ අති විශාල සංඛ්‍යාවකට ඡන්ද බලයක් කොහෙත්ම නොතිබිණි.

70 ජනතා සමාජවාදීන් (එන්එස්වරු) — සමාජවාදී විප්ලවවාදීන්ගේ පක්ෂයෙන් 1906 දී වෙන්වුණු දක්ෂිණාංශික සුළු ධනපති; ශ්‍රම ජනතා-සමාජවාදී පක්ෂය මෙනමින් හැඳින්විණි. මොවුහු කැඩෙට්වරුන් සමග සමගිවීම සඳහා ක්‍රියා කළහ.

71 ''රුස්කය බගාත්ස්ත්වො'' — මාසික සඟරාවකි. 1876 සිට 1918 මැද හරිය දක්වා පිටර්ස්බර්ග් නගරයෙහි පළවිය. 1890 ගණන් වල මුල සිට මෙය ලිබරල් නරෝද්නික්වාදීන්ගේ නිල සඟරාව විය. 1906 සිට මෙම සඟරාව අර්ධ කැඩෙට්වාදී ජනතා සමාජවාදීන්ගේ නිල සඟරාව බවට පත්විය.

72 39 සටහන බලන්න.

73 දෙසැම්බර්වාදියෝ — සාර්ගේ ඒකාධිපති පාලනයට හා ප්‍රවේණිදාස ක්‍රමයට විරුද්ධව සටන් කළ රුසියන් වංශක්කාර විප්ලවවාදීන්ය. 1825 දෙසැම්බර් 14 ද ඔවුහු අවිගත් නැගිටීමක් ඇති කළහ.

74 විවිධ නියෝජිතවරු — වංශක්කාරයින් හැරුණු විට, මැද පන්තියේ, පූජකයින්ගේ වෙළෙන්දන්ගේ සහ ගොවීන්ගේ නියෝජිතවරුන්ගෙන් සැදුණු නියෝජිත සභාව මෙලෙස හැඳින්විණි.

75 එන්. ජී. චෙර්නිෂෙව්ස්කිගේ ''ප්‍රලෝග්'' නැමැති නව කතාවේ වගන්තියක් ලෙනින් උපුටා දක්වයි.

76 කාල් මාක්ස්ගේ රහස් ප්‍රකාශනයත්, ෆ්‍රෙඩ්රික් එංගල්ස්ගේ විදේශගත සාහිත්‍යයත්, පළමුවැනි පෝලන්ත ප්‍රකාශනයත් බලන්න.

77 මාක්ස් හා එංගල්ස්, සුළු ධනපති සමාජවාදී ලසාල්ගේ අනුගාමිකයින් රාජකීය ප්‍රුසියානු සමාජවාදීන් හැටියට හැඳින්වූහ. ලසාල්ගේ අනුගාමිකයින් ප්‍රුසියාවේ රාජකීය ආණ්ඩුවේ ආධාරය ඇතිව, ප්‍රුසියාවේ සමාජවාදය ගොඩ නැගීමට ඉදිරිපත්වීම මෙම නාමය පටබැඳීමට හේතු විය. සමහර ප්‍රතිසංස්කරණ කරන බවට, ප්‍රුසියාවේ චාන්ස්ලර් තැන්පත් බිස්මර්ක් දුන් බොරු පෙරොන්දුව නිසා රැවටුණු ලසාල්වාදියෝ, ප්‍රුසියානු රාජාණ්ඩුවට හා ඉඩම්හිමි වංශක්කාර පෙළැන්තියට විරුද්ධව සටන් කිරීම අත් හළහ. කම්කරු පංති ව්‍යාපාරය පාවාදීම නිසා ලසාල්වාදීන් මාක්ස්ගේ හා එංගල්ස්ගේ විවේචනයට භාජනය විය.

78 යුන්කර්වරු — ප්‍රුසියාවේ ඉඩම්හිමි වංශක්කාර පෙළැන්තිය මෙනමින් හැඳින්විණි.

79 1871 දක්වා ජර්මනිය කුඩා රාජ්‍යයන් කීපයකට බෙදී වෙන්වී තිබිණි. ප්‍රුසියාවේ චාන්ස්ලර් බිස්මර්ක් ප්‍රුසියාවේ නායකත්වය යටතේ හිංසනය හා යුද්ධ මගින් එක්සත් රාජධානියක් බවට පත්කිරීමට ඉදිරිපත් විය (1864 දී ෂ්ලෙස්විග්-හොල්ස්ටයින් ප්‍රදේශය සඳහා ප්‍රුසියාව ඩෙන්මාර්කයට විරුද්ධව යුද්ධ කළේය. 1866 දී ඔස්ත්‍රෝ-

හංගේරියානු යුද්ධය ඇතිවිය). 1870-1871 වසරවලදී ප්‍රාන්කො-ප්‍රුසියානු යුද්ධයේදී ප්‍රුසියාව ජයගත් ඉක්බිතිව, ජර්මන් රාජ්‍යයන් 25 ක් ප්‍රුසියාවේ පළමුවැනි විල්හෙල්ම් රජු යටතේ ජර්මන් අධිරාජ්‍යයක් ලෙස එක්සත් වූහ.

80 කම්කරු මුදල් (ශ්‍රම මුදල්) — ඉංග්‍රීසි ජාතික මනෝරාජික සමාජවාදීන් වන රොබට් ඕවන් ජෙ. ග්‍රෙ සහ ප්‍රංශයේ ප්‍රුදොං හා අනිකුත් එවැන්නන් විසින් 19 වැනි සියවසරේ මුල් භාගයේදී ඉදිරිපත් කළ මනෝරාජික මතයකි. ධනපති නිෂ්පාදන ක්‍රමය ආරක්ෂා කරමින්, හුවමාරු ක්‍රමය වෙනස් කිරීමෙන් සහ ලෝහ කාසි විනාශ කිරීමෙන් ධනපති ක්‍රමයේ සමාජයික විපත් අහෝසි කළ හැකි යැයි ඔවුහු සිතූහ. නිදසුනක් වශයෙන් කම්කරු මුදල් නිකුත් කරන ජාතික බැංකුවක් පිහිටුවාලීමට (එක් එක් භාණ්ඩයක් නිපදවීම සඳහා ගතවූ ශ්‍රම කාලය සටහන් කරන විශේෂ මුදල් නෝට්ටු නිකුත් කිරීමට) සහ ඕනෑම භාණ්ඩයක් ඒවායේ වටිනාකම අනුව කම්කරු මුදල්වලට හා කම්කරු මුදල් භාණ්ඩවලට නිදහස් ලෙස හුවමාරු කිරීමට ග්‍රෙ යෝජනා කළේය.

පෞද්ගලික අයිතිය සහ නිෂ්පාදනයේ අරාජික ස්වභාවය ආරක්ෂා කරමින් භාණ්ඩ නිෂ්පාදනය සැලැස්මානුකූලව සංවිධාන කිරීමට ප්‍රයත්න දැරීම කම්කරු මුදල් පිළිබඳ සංකල්පයේ මූලික විෂමතාවය විය.

81 ඩ්රෙ යිෆුස් සිද්ධිය — ප්‍රංශ අණදෙන නිලධාරි මණ්ඩලයේ යුදෙව් ජාතික ෙ යිෆුස් චරපුරුෂයකු සහ රාජ්‍ය ද්‍රෝහියෙකු ලෙස හංවඩු ගසා ව්‍යාජ චෝදනා ඉදිරිපත් කරමින් 1894 දී ප්‍රංශයේ ප්‍රතිගාමී රාජාණ්ඩුවාදී යුද්ධ නිලධාරීන් සංවිධානය කළ ප්‍රකෝපකාරී නඩු විභාගය ගැනය. යුද්ධාධිකරණය ඩ්රෙ යිෆුස් ජීවිතාන්තය දක්වා සිරගෙට නියම කළේය. කම්කරු පංතිය සහ ප්‍රගතිවාදී බුද්ධිමතුන් ඩ්රෙ යිෆුස්ට ව්‍යාපාරයක් ආරම්භ කිරීම නිසා 1899 ඔහු මුදහරින ලදී. 1906 දී ඔහු පුනරුත්ථාපනය කරන ලදී.

82 ටසබෙර්න්ස්ක් සිද්ධිය — 1913 එල්සාස්හි ටසබෙර්න් නගරයේ ඇතිවූ සිද්ධියකි. එල්සාස්වරුන් ප්‍රුසියානු නිලධාරියකු විසින් දැඩි ලෙස අවඥාවට ලක් කිරීම මෙයට හේතුවිය. මේ නිසා නගර වාසීන්, විශේෂයෙන්ම ප්‍රංශ ජනතාව අතර ප්‍රුසියානු යුද්ධ නිලධාරීන්ට විරුද්ධව අති විශාල කෝපයක් ඇති විය.

83 1867 දී මාක්ස් විසින් එංගල්ස් වෙත යවන ලද ලියුම ගැනය.



84 9 වැනි සටහන බලන්න. රෙන්නර් සහ බවර් විසින් ඉදිරිපත් කරන ලද සංස්කෘතික-ජාතික ස්වෛරීත්වය පිළිබඳ ප්‍රතිගාමී මතය විවේචනයට ලක් කිරීමය. ජාතික ප්‍රශ්නය පිළිබඳ විවේචනාත්මක සටහන් නැමති ලෙනින්ගේ කෘතිය බලන්න. (මේ පොතේ පිටු 00-00).

85 අංක 76 සටහන බලන්න.

86 1867 නොවැම්බර් 2 ද මාක්ස් එංගල්ස් වෙත යැවූ ලියුමය.

87 "Die Glocke" (''ඝණ්ටාරය'') — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ, සමාජ-ජාතෝන්මාදවාදී පර්වුස් (ගෙල්ෆාන්ද්) විසින් 1915-1925 දක්වා පළමුවසමියුනික්හිදීද අනතුරුව බර්ලින්හිදීද පළකළ සඟරාවකි.

88 එංගල්ස්ගේ ප්‍රජාතන්ත්‍රවාදී සමස්ත ස්ලාව්වාදය ගැනය. ලෙනින් "Aus dem literarischen Nachlaß von Karl Marx, Freidrich Engels und Ferdinand Lassalle (hrsg. von Franz Mehring, Stuttgart, 1902, Bd. II පොතින් ප්‍රයෝජන ගත්තේය. ලිපියේ කතුවරයාගේ නම මෙහි සඳහන් නොවිය.

89 ෆේබියන්වරු — 1884 වසරේ ස්ථාපිත කරනලද බ්‍රිතාන්‍ය ප්‍රතිසංස්කරණවාදී සංවිධානය වන ෆේබියන් සමාගමේ සාමාජිකයින් මෙනමින් හැඳින්විණි. 1900 දී ෆේබියන් සමාගම බ්‍රිතාන්‍ය ලේබර් පක්ෂයට ඇතුළු විය.

90 ලෙනින් විසින් ලියන ලදුව, පෝලන්තයේ ක්‍රාකොව් නගරය අසල පොරොනින්හි 1913 සැප්තැම්බර් 23 සිට ඔක්තෝබර් 1 ද දක්වා පවත්වන ලද රු. ස. ප්‍ර. ක. පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ සහ පක්ෂයේ කාඩර්ස්වරුන්ගේ රැස්වීමේදී සම්මත කැරුගත් ජාතික ප්‍රශ්නය පිළිබඳ යෝජනාව ගැනය ලෙනින් සඳහන් කරන්නේ.

91 ''නාෂ දේලො'' — මෙන්ෂෙවික් ලික්විඩේටර්වරුන්ගේ මාසිකය වූ මෙය රුසියාවේ සමාජ-ජාතෝන්මාදවාදීන්ගේ ප්‍රධාන සඟරාව විය. 1915 ජනවාරි මස සිට පළවූයේ කලාප 6 ක් පමණකි.

92 1915 සැප්තැම්බර් 5 — 8 දක්වා ටසිමර්වොල්ඩ්හි පවත්වන ලද ජාත්‍යන්තර සමාජවාදී සාකච්ඡාව ගැනය.

ලෝක යුද්ධය ආරම්භ කළ අධිරාජ්‍යවාදී රටවල් හෙළාදකිමින්, එතරම් තදින් නොවූවද සමාජ-ජාතෝන්මාදවාදීන්ද දෝශ දර්ශනයට භාජනය කරමින් මෙම සාකච්ඡා වාරය ප්‍රකාශනයක් සම්මත කළාය.

මෙම ප්‍රකාශනය පදනම් කැරගෙන ට්සිමර්වොල්ඩ් සමගියක් ගොඩ-නගන ලදී.

ට්සිමර්වොල්ඩ්හි වී. අයි. ලෙනින්ගේ නායකත්වයෙන් යුත් ට්සිම්මර්වොල්ඩ් වාමාංශික ක සාකච්ඡාවේදී මධ්‍යවාද-යට නැඹුරුවූ බහුත ය විවේචන පනය කළේය.

93 53 වැනි සටහන බලන්න.

94 ''සොට්සල්-දෙමොක්‍රාත්'' — රු. ස . පක්ෂයේ, නීති විරෝධී මධ්‍යම පුවත්පතය. 1908 පෙබ්‍රවා යේ සිට 1917 ජනවාරි දක්වා පළවිය.

95 "Vorbote" (''පුරෝගාමියා'') — 1916 දී බර්න් නගරයේ පළකළ, ට්සිම්මර්වොල්ඩ් වාමාංශයේ න්‍යායික සඟරාවය. පළවූයේ කලාප දෙකකි.

96 ලෙනින් විසින් ලියන ලද සමාජවාදී විප්ලවය සහ ස්වයං නිර්ණයනය පිළිබඳ ජාතීන් සතු අයිතිය සහ අධිරාජ්‍යවාදය සහ ජාතික පීඩනය පිළිබඳ න්‍යාය සංග්‍රහයන් ගැනය. ''ගසෙත රබෝත්නිචෙයි'' හි (1911-1916 වසරවලදී වෝසෝ කමිටුවට විරුද්ධ පක්ෂය විසින් ක්‍රාකොව්හි මුද්‍රණය කරන ලදී).මේ න්‍යායයන් දෙකම"Vorbote"සඟරා-වේ මුද්‍රණය කරන ලදී. එමෙන්ම ඒවා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියකුගේ ලිපි එකතුව නමින් (අංක 1, 1916, ඔක්තෝබර්) පළවිය. එහිම ලෙනින්ගේ ස්වයං නිර්ණයනය පිළිබඳ සාකච්ඡාවේ ප්‍රතිඵලද මුද්‍රණය කැරිණි.

97 පෝලන්තයේ ජාතික නිදහස පිළිබඳ ප්‍රශ්නයේ දෘෂ්ටි කෝණ තුන අරභයා වූ තක්සේරුව සඳහා ලෙනින්ගේ ජාතීන් සතු ස්වයං නිර්ණ-යනය නැමැති ලිපිය බලන්න.

98 1903-1913 වසරවල සාකච්ඡා පිළිබඳ මේ පොතේ පිටු 101-109 බලන්න.

99 යුද්ධ කාලයේදී ජාතික ප්‍රශ්නය අරභයා ''අප පක්ෂයේ සාමාජික-යින්ගේ සංකල්පවල අස්ථිර භාවය'' ගැන කියන විට, ලෙනින් අදහස් කළේ, 1915 වසන්තයේදී බර්න්හි පැවැති රු. ස. ප්‍ර. ක. පක්ෂයේ විදේශගතවූවන්ගේ අංශයේ සාකච්ඡාවේදී එන්. අයි. බුහා-රින් කළ කතාව ගැනය. බුහාරින්, ජී. එල්. පියතකොව්, ඊ. බී. බොෂ් ''ස්වයං නිර්ණයනය පිළිබඳ ජාතීන් සතු අයිතිය පිළිබඳ'' උද්යෝග පාඨය (1915 වසන්තය) යන මැයෙන් හවුල් තීසිසයක් ඉදිරිපත් කළහ. ස්වයං නිර්ණ[illegible] පිළිබඳ ජාතීන් සතු අයිතිය පක්ෂයේ වැඩ පිළිවෙළ මගින් ඉල්[illegible] මෙම හවුල් තීසිසය මගින් ප්‍රතික්ෂේප කැරිණි.



100 ග්වොස්දෙව්වරු — මෙන්ෂෙවිකයකු වන කේ. ඒ. ග්වොස්දෙව්ගේ අනුගාමිකයින් මෙනමින් හැඳින්විණි. මොවුන් අධිරාජ්‍යවාදී ධනපති පංතිය සමග සහයෝ[illegible]තාවයක් අනුගමනය කළ මෙන්ෂෙවික සමාජ-ජාත්‍යොන්ම[illegible].

101 අංක 3 සටහන කියවන්න.

102 අංක 80 සටහන කියවන්න.

103 "Berner Tagwacht" (''බර්න් මුරකරුවා'') — ස්විට්සර්ලන්තයේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ නිල පුවත්පතය. 1893 බර්න්හි ආරම්භ කරන ලදී. 1909-1918 වසරවලදී මෙම පුවත්පතේ කර්තෘ ධුරය ආර්. ග්‍රිම් විසින් උසුලන ලදී.

104 අංක 96 සටහන කියවන්න.

105 අංක 92 සටහන කයවන්න.

106 ජාත්‍යන්තර කණ්ඩායම ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ වාමාංශික-යේ නායකයින් වන කාල් ලීබ්ක්නෙෂ්ට්, රෝසා ලුක්සම්බර්ග්, ෆ්‍රාන්ට්ස් මෙරිනිග්,ක්ලාරා සෙට්කින් සහ අනිකුත් අය විසින් ලෝක මහා යුද්ධය ආරම්භයේදී ගොඩනගන ලද සංවිධානය මෙනමින් හැඳින්විණි.

මෙම ජාත්‍යන්තර කණ්ඩායම පොදු ජනතාව අතර අධිරාජ්‍යවාදී යුද්ධයට විරුද්ධ විප්ලවීය ප්‍රචාරයන් ගෙනගියේය, ජර්මන් අධිරාජ්‍ය-වාදයේ මංකොල්ලකාරී ප්‍රතිපත්තියද, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නායක-යින්ගේ පාවාදීමද හෙළි කළේය. එහෙත් සමහර න්‍යායික සහ දේශ-පාලන ප්‍රශ්නවලදී මෙම කණ්ඩායමේ රෝසා ලුක්සම්බුර්ග් සහ අනිකුත් සාමාජිකයෝ සාවද්‍ය ස්ථාවරයක් ඉසුලූහ. ''යුනියුස්ගේ පොත් පිංච'' ''අධිරාජ්‍යවාදී ආර්ථිකවාදය පිළිබඳව සහ මාක්ස්වාදය ගැන කාටූන් චිත්‍රය'' සහ වෙනත් ලිපි මගින් ලෙනින් ඔවුන්ගේ වැරදි විවේචනය කළේය. 1916 ජනවාරි මාසයේ සිට මෙම කණ්ඩා-යම ස්පාටකස් (ස්පර්තාක්) නමින් පෙනී සිටියේය. පසුකලෙක ස්පාටකස් සංගමය නමින් හැඳින්විණි. 1918 දෙසැම්බර් මාසයේදී ස්පාටකස්වරු ජර්මන් කොමියුනිස්ට් පක්ෂය ආරම්භ කළහ.

107 ෆ්‍රෙඩ්රික් එංගල්ස් විසින් ලියන ලද ප්‍රජාතන්ත්‍රික සමස්ත ස්ලාව්වාදය නැමැති පොතිනි.

108 85 වැනි සටහන බලන්න.

109 පෝලන්තය පිළිබඳව කම්කරු පංතියට ඇත්තේ කිනම් කාර්යයක්ද? යන මැයෙන් ෆ්‍රෙඩ්රික් එංගල්ස් ලියූ ලිපිය ගැනය.

110 3 වැනි සටහන බලන්න.

111 "Lichtststrahlen" (ආලෝක ධාරා ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ වාමාංශික කණ්ඩායමේ මාසික සඟරාවය. සංස්කාරක යු. බොර්හාර්ද් ය. 1913-1921 වසරවලදී කලින් කල මෙම සඟරාව මුද්‍රණය කරන ලදී.

112 103 වැනි සටහන බලන්න.

113 වී. අයි. ලෙනින් අදහස් කරන්නේ, රෝසා ලුක්සම්බුර්ග් විසින් ලියන ලද ජාතික ප්‍රශ්නය සහ ස්වෛරීත්වය නැමැති ලිපිය ගැනය.

114 ස්තලිපින් කම්කරු පක්ෂය ලෙස හඳුන්වන්නේ මෙන්ෂෙවික-ලික්විඩේටර්වරුන්ය. 1905-1907 විප්ලවයේ පරාජයෙන් අනතුරුව ස්තලිපින් ප්‍රතිගාමීත්වය විසින් ඇති කළ රජයට ඔවුහු ආධාර දුන්හ. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ වැඩ පිළිවෙළ සහ උපක්‍රම ප්‍රතික්ෂේප කරන ලෙස ඉල්ලා සිටි ඔවුහු විවෘත නීත්‍යානුකූල රීතියා "කම්කරු" පක්ෂයක් සෑදීම සඳහා සාර් රජයෙන් අවසර ඉල්ලූහ. (6 වැනි සටහනද බලන්න).

115 "නාෂා ස්ලෝව" — 1915 ජනවාරි සිට 1916 ඔක්තෝබර් දක්වා පැරිසියේ පළවූ මෙන්ෂෙවිකවාදී සඟරාවකි. ට්‍රොට්ස්කි මෙහි එක් කතුවරයකු විය.

116 "Vorwärts" ("පෙරටුව") — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ මධ්‍යම දිනපතා පුවත්පතය. 1891 සිට 1933 දක්වා බර්ලින්හි පළවිය.

117 "නාෂ් ගෝලස්" — නීත්‍යානුකූල මෙන්ෂෙවික පුවත්පතකි. 1915-1916 වසරවලදී පළවිය. සමාජ-ජාතෝයාන්මාදවාදී ස්ථාවරයක් දැරිය. ග්වස්ද්යොව්වරු — 100 වැනි සටහන බලන්න.

අක්සල්රොද්, පාවෙල් බරීසවිච් (1850-1928) — රුසියන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. මෙන්ෂෙවික්වාදයේ නායකයෙකි. — පිටු 136

අවුස්තර්ලිට්ස් (Austerlitz) ප්‍රිඩ්රිෂ් (1862-1931) — ඕස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නායකයෙකි. "Arbeiter Zeitung" නැමැති පුවත්පතේ කතුවරයෙකි. එය පක්ෂයේ ප්‍රධාන පුවත්පතය. මහජන මන්ත්‍රීවරයෙකි පළමුවැනි ලෝක මහා යුද්ධ කාලයේදී අන්ත ජාතෝයාන්මාදවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළේය. — පිටු 135

එල්ලෙන්බෝගෙන්, (Ellenbogen) විල්හෙල්ම් (උපත 1863)—ඕස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ සංශෝධනවාදී නායකයෙකි. පළමුවැනි ලෝක මහා යුද්ධ සමයේදී සමාජ-ජාතෝයාන්මාදවාදියෙකි. ජාතික ප්‍රශ්නයේදී සංස්කෘතික ජාතික ස්වෛරීත්වය සඳහා ක්‍රියා කළේය. — පිටු 7,34

එංගල්ස් (Engels) ෆ්‍රෙඩ්රික් (1820-1895) — විද්‍යාත්මක කොමියුනිස්ට් ව්‍යාපාරයේ මූලාරම්භක නායකයින් දෙදෙනාගෙන් එක් කෙනෙකි. ජාත්‍යන්තර නිර්ධන පංතික ව්‍යාපාරයේ නායකයාය. — පිටු 56, 92, 93, 96, 99, 160, 170, 171

කසොව්ස්කි, වී. (ලෙවින්සන්) (1870-1941) — බුන්ඩ් සංවිධානයේ නායකයෙකි, මෙන්ෂෙවික්වාදියෙකි; මෙන්ෂෙවික් ලික්විඩේටර් "නාෂා සර්යා" සඟරාව සමඟද, "ලුච්" පුවත්පත සමඟද සහයෝගිව කටයුතු කළේය. පළමුවැනි ලෝක මහා යුද්ධ සමයේදී සාමජ-ජාතෝයාන්මාදවාදියෙකි. — පිටු 113

කස්ත්‍රොව් (ජොර්දනියා, නොයි නිකලායවිච්) (1870-1935) — සමාජ-

# LIBERATIONBASE
# ඩිජිටල් පුස්තකාලය

ඩිජිටල් පුස්තකාලය සහ ලේඛණ සංරක්ෂණ ව්‍යාපෘතිය
ආරම්භය (***NMSG Library*** ලෙස): 2010
***LIBERATIONBASE*** ලෙස නැවත නාමකරණය: 2013

සූචිකරණ දත්ත

- කෘතිය: ජාතික ප්‍රතිපත්තිය සහ නිර්ධන පංතික ජාත්‍යන්තරවාදය
- කතෘ/පරිවර්තක: වී.අයි. ලෙනින්/දැදිගම. වී. රුද්‍රිගු
- ප්‍රකාශක: ප්‍රගති ප්‍රකාශක මන්දිරය, මොස්කව්
- පළමු ඩිජිටල් පළ කිරීම: 2019 මැයි 30
- ඩිජිටල් සංස්කරණයන්: V1:2019-05-30
- පිටු ගණන: 216
- භාෂා මාධ්‍ය: සිංහල
- ගොනු ආකෘතිය: PDF

Web: https://liberationbase.wordpress.com
Email: slradical@ymail.com